129. මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික නෙවසඤ්ඤීනාසඤ්ඤීවාද ඇත්තෝ මරණින් මත්තෙහි සංඥීත් නො ම වූ අසංඥීත් නො ම වූ ආත්මයක් කරුණු අටෙකින් පණවත් ද, එයට කරුණු වූ දෘෂ්ටිවේදනාව ද ස්පර්ශප්‍රත්‍යයයෙන් වේ

130 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උච්ඡේදවාද ඇත්තෝ විද්‍යමාන සත්ත්වයාගේ උච්ඡේදය, විනාශය, භවවිගමය කරුණු සතෙකින් පණවත් ද, එයට කරුණු වූ දෘෂ්ටිවේදනාව ද ස්පර්ශ-ප්‍රත්‍යයයෙන් වේ

131. මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් දෘෂ්ටධර්මනිර්වාණවාද ඇත්තෝ විද්‍යමාන සත්ත්වයාගේ පරමදෘෂ්ටධර්මනිර්වාණය පස් කරුණෙකින් පණවත් ද, එයට කරුණු වූ දෘෂ්ටිවේදනාව ද ස්පර්ශප්‍රත්‍යයයෙන් වේ

132. මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් අපරාන්තකල්පික වූවෝ, අපරාන්තානුදෘෂ්ටික වූවෝ අපරාන්තය (අනාගත ස්කන්ධ පරම්පරා කොටස) ඇරබැ කරුණු සූසාළිසෙකින් අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියා පාත් ද, එයට කාරණ වූ දෘෂ්ටිවේදනාව ද ස්පර්ශ ප්‍රත්‍යයයෙන් වේ.

133. මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් පූර්වාන්තකල්පික ද අපරාන්තකල්පික ද පූර්වාන්තාපරාන්තකල්පික ද වූවෝ, පූර්වාන්ත අපරාන්ත අනුවැ පවත්නා කළ දෘෂ්ටි ඇත්තෝ අතීත ස්කන්ධ පරම්පරා කොටසත් අනාගත ස්කන්ධ පරම්පරා කොටසත් අරමුණු කොට දෙසැටක් කරුණුවලින් අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියත් ද, එයට කරුණු වූ දෘෂ්ටිවේදනාව ද ස්පර්ශප්‍රත්‍යයයෙන් වේ

134 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් ශාශ්වතදෘෂ්ටික වූවෝ කරුණු සතරෙකින් ආත්මයත් ලොකයත් ශාශ්වත කොට පණවත් ද, ඔහු වූ කලී ඒ දෘෂ්ට්‍යාස්වාදය ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කරුණ විද්‍යමාන නො වේ

135 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් එකත්‍යශාශ්වතික එකත්‍යඅශාශ්වතික වූවෝ සතර කරුණෙකින් ආත්මයත් ලෝකයත් කොටසක් ශාශ්වතත් කොටසක් අශාශ්වතත් කොට පණවත් නම්, ඔහු කලී ස්පර්ශයෙන් තොර වැ ඒ දෘෂ්ට්‍යාස්වාදය විඳින්නාහ යන මේ කාරණය විද්‍යමාන නො වේ.

136 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් අන්තානන්තික වාද ඇත්තෝ කරුණු සතරෙකින් ලෝකය පිළිබඳ සසීම අසීම බව පණවත් ද, ඔහු කලී ස්පර්ශයෙන් තොර වැ ඒ දෘෂ්ටිවේදනාව විඳින්නාහ යන මේ කාරණය විද්‍යමාන නො වේ

137. මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් අමරාවික්ෂේපක වූවෝ ඒ ඒ විෂයයෙහි ප්‍රශ්න විචාරන ලදුවෝ ම සතර කරුණෙකින් වාග්වික්ෂේපයට අමරාවික්ෂේපයට පැමිණෙත් ද, ඔහු කලී ස්පර්ශයෙන් තොර වැ ඒ දෘෂ්ටිවේදනාව විඳින්නාහ යන මේ කාරණය නැත්තේ ය.

138 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා අධිච්චසමුප්පන්නිකා අධිච්චසමුප්පන්නං අත්තානඤ්ච ලොකඤ්ච පඤ්ඤපෙන්ති ද්වීහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

139 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා පුබ්බන්තකප්පිකා පුබ්බන්තානුදිට්ඨිනො පුබ්බන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති අට්ඨාරසහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

140 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා සඤ්ඤීවාදා උද්ධමාඝාතනා සඤ්ඤිං අත්තානං පඤ්ඤපෙන්ති සොළසහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

141 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා අසඤ්ඤීවාදා උද්ධමාඝාතනා අසඤ්ඤිං අත්තානං පඤ්ඤපෙන්ති අට්ඨහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

142 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා නෙවසඤ්ඤීනාසඤ්ඤීවාදා උද්ධමාඝාතනා නෙවසඤ්ඤිං නාසඤ්ඤිං අත්තානං පඤ්ඤපෙන්ති අට්ඨහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

143 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා උච්ඡෙදවාදා සතො සත්තස්ස උච්ඡෙදං විනාසං විභවං පඤ්ඤපෙන්ති සත්තහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

144 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා දිට්ඨධම්මනිබ්බානවාදා සතො සත්තස්ස පරමදිට්ඨධම්මනිබ්බානං පඤ්ඤපෙන්ති පඤ්චහි වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

145 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා අපරන්තකප්පිකා අපරන්තානුදිට්ඨිනො අපරන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති චතුචත්තාරීසාය වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

146 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා පුබ්බන්තකප්පිකා ච අපරන්තකප්පිකා ච පුබ්බන්තාපරන්තකප්පිකා ච පුබ්බන්තාපරන්තානුදිට්ඨිනො පුබ්බන්තාපරන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති ද්වාසට්ඨියා වත්ථූහි, තෙ වත අඤ්ඤත්‍ර ඵස්සා පටිසංවෙදිස්සන්තීති නෙතං ඨානං විජ්ජති.

138 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් අධිච්චසමුප්පන්න වාද ඇත්තෝ, කරුණු දෙකෙකින් ආත්මයත් ලෝකයත් ඉබේ උපන්නැයි පණවත් ද, ඔහු කලී ඒ දෘෂ්ටිවේදනාව ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන කාරණය නැත්තේ ය

139 මහණෙනි, යම් මහණබමුණු කෙනෙක් පූර්වාන්තකල්පික වූවෝ, පූර්වාන්තය අනුවැ පහළ කැරගත් දෘෂ්ටි ඇත්තෝ, කරුණු අටොළොසෙකින් පූර්ව ස්කන්ධපරම්පරා කොටස ඇරැබැ අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියා පාත් ද ඔහු ස්පර්ශයෙන් තොර වැ ඒ දෘෂ්ටිරසාස්වාදය විඳින්නාහ යන මේ කරුණ නො මැත්තේ ය

140 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික සඤ්ඤීවාද ඇත්තෝ, මරණින් මතු සංඥ ඇති ආත්මයක් සොළොස් කරුණෙකින් පණවත් ද, ඔහු කලි ස්පර්ශයෙන් තොර වැ ඒ දෘෂ්ට්‍යාස්වාදය විඳින්නාහ යන මේ කරුණ නො මැත්තේ ය

141 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික අසඤ්ඤීවාද ඇත්තෝ, මරණින් මතු සංඥ නැති ආත්මයක් කරුණු අටෙකින් පණවත් ද, ඔහු කලී එයට කරුණු වූ දෘෂ්ටිවේදනාව ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කාරණය නැත්තේ ය

142 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික නෙවසඤ්ඤීනාසඤ්ඤීවාද ඇත්තෝ, මරණින් මත්තෙහි සංඥී නො ම වූත් අසංඥී නො ම වූත් ආත්මයක් පණවත් ද, එයට කාරණ වූ දෘෂ්ටිවේදනාව ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කාරණය නැත්තේ ය

143 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් උච්ඡේදවාදී වූවෝ විද්‍යමාන සත්ත්වයාගේ උච්ඡේදය, විනාශය, භවවිගමය කරුණු සතෙකින් පණවත් ද, ඔහු කලී එයට කාරණ වූ දෘෂ්ටිවේදනාව ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කරුණ නැත්තේ ය

144 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් දෘෂ්ටධර්මනිර්වාණ වාද ඇත්තෝ, විද්‍යමාන සත්ත්වයා පිළිබඳ පරමදෘෂ්ටධර්මනිර්වාණය කරුණු පසෙකින් පණවත් ද, ඔහු කලී එයට කරුණු වූ දෘෂ්ට්‍යාස්වාදය ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කාරණය විද්‍යමාන නො වේ

145 මහණෙනි, එහි යම් මහණබමුණු කෙනෙක් අපරාන්තකල්පික වූවෝ අපරාන්තය අනුවැ පහළ කැරගත් දෘෂ්ටි ඇත්තෝ කරුණු සුසාළිසෙකින් අපරාන්තය ඇරැබැ අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියා පාත් ද, ඔහු කලී එයට කාරණ වූ දෘෂ්ටිවේදනාව ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කාරණය විද්‍යමාන නො වේ

146 මහණෙනි, යම් මහණබමුණු කෙනෙක් පූර්වාන්තකල්පිකත් වූවෝ, අපරාන්තකල්පිකත් වූවෝ, පූර්වාන්තාපරාන්තකල්පිකත් වූවෝ, පූර්වාන්ත-අපරාන්තයත් ඇරැබැ පහළ කැරගත් දෘෂ්ටි ඇත්තෝ, කරුණු දෙසැටෙකින් පූර්වාන්ත අපරාන්ත දෙක අරමුණු කොට අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියත් ද, ඔහු කලී එසේ දෘෂ්ටි ගැන්මට කාරණ වූ දෘෂ්ට්‍යාස්වාදය ස්පර්ශයෙන් තොර වැ විඳින්නාහ යන මේ කාරණය විද්‍යමාන නො වේ

147 තත්‍ර භික්ඛවෙ යෙ තෙ සමණබ්‍රාහ්මණා සස්සතවාදා සස්සතං අත්තානඤ්ච ලොකඤ්ච පඤ්ඤපෙන්ති චතූහි වත්ථූහි, යෙ'පි තෙ සමණබ්‍රාහ්මණා එකච්චසස්සතිකා එකච්චඅසස්සතිකා, යෙ'පි තෙ සමණබ්‍රාහ්මණා අන්තානන්තිකා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා අමරාවික්ඛෙපිකා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා අධිච්චසමුප්පන්නිකා, යෙ'පි තෙ සමණබ්‍රාහ්මණා පුබ්බන්තකප්පිකා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා සඤ්ඤීවාදා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා අසඤ්ඤීවාදා, යෙ'පි තෙ සමණබ්‍රාහ්මණා උද්ධමාඝාතනිකා නෙවසඤ්ඤීනාසඤ්ඤීවාදා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා උච්ඡෙදවාදා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා දිට්ඨධම්මනිබ්බානවාදා, යෙ 'පි තෙ සමණබ්‍රාහ්මණා අපරන්තකප්පිකා, යෙ'පි තෙ සමණබ්‍රාහ්මණා පුබ්බන්තකප්පිකා ච අපරන්තකප්පිකා ච පුබ්බන්තාපරන්තකප්පිකා ච, පුබ්බන්තාපරන්තානුදිට්ඨිනො පුබ්බන්තාපරන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති ද්වාසට්ඨියා වත්ථූහි, සබ්බෙ තෙ ඡහි ඵස්සායතනෙහි ඵුස්ස ඵුස්ස පටිසංවෙදෙන්ති තෙසං වෙදනාපච්චයා තණ්හා, තණ්හාපච්චයා උපාදානං, උපාදානපච්චයා භවො, භවපච්චයා ජාති, ජාතිපච්චයා ජරාමරණං සොකපරිදෙවදුක්ඛදොමනස්සුපායාසා සම්භවන්ති. යතො ඛො භික්ඛවෙ භික්ඛු ඡන්නං ඵස්සායතනානං සමුදයං ච අත්ථගමං ච අස්සාදං ච ආදීනවං ච නිස්සරණං ච යථාභූතං පජානාති, අයං ඉමෙහි සබ්බෙහෙව උත්තරිතරං පජානාති

148 යෙ හි කෙචි භික්ඛවෙ සමණා වා බ්‍රාහ්මණා වා පුබ්බන්තකප්පිකා වා අපරන්තකප්පිකා වා පුබ්බන්තාපරන්තකප්පිකා වා පුබ්බන්තාපරන්තානුදිට්ඨිනො පුබ්බන්තාපරන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති, සබ්බෙ තෙ ඉමෙහෙව ද්වාසට්ඨියා වත්ථූහි අන්තොජාලීකතා එත්ථ සිතා 'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති ] එත්ථ පරියාපන්නා අන්තොජාලීකතා 'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති ]* සෙය්‍යථාපි භික්ඛවෙ දක්ඛො කෙවට්ටො වා කෙවට්ටන්තෙවාසී වා සුඛුමච්ඡිකෙන ජාලෙන පරිත්තං උදකදහං ඔත්ථරෙය්‍ය, තස්ස එවමස්ස "යෙ ඛො කෙචි ඉමස්මිං උදකදහෙ ඔළාරිකා පාණා, සබ්බෙ තෙ අන්තොජාලීකතා එත්ථ සිතා'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති] එත්ථ පරියාපන්නා අන්තොජාලීකතා 'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති"ති ]* එවමෙව ඛො භික්ඛවෙ යෙ හි කෙචි සමණා වා බ්‍රාහ්මණා වා පුබ්බන්තකප්පිකා වා අපරන්තකප්පිකා වා පුබ්බන්තාපරන්තකප්පිකා වා පුබ්බන්තාපරන්තානුදිට්ඨිනො පුබ්බන්තාපරන්තං ආරබ්භ අනෙකවිහිතානි අධිවුත්තිපදානි අභිවදන්ති, සබ්බෙ තෙ ඉමෙහෙව ද්වාසට්ඨියා වත්ථූහි අන්තොජාලීකතා එත්ථ සිතා'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති ]* එත්ථ පරියාපන්නා අන්තොජාලීකතා'ව උම්මුජ්ජමානා උම්මුජ්ජන්ති, [නිමුජ්ජමානා නිමුජ්ජන්ති ]*

---

* [ ] වණ්ණනකාරිත පදානි පොත්ථකෙසු න දිස්සන්ති

147 මහණෙනි, එහි යම් මහණ බමුණුකෙනෙක් ශාශ්වතදෘෂ්ටි ගත්තෝ සතර කරුණකින් ආත්මයත් ලොකයත් ශාශ්වත කොට පණවත් ද, යම් මහණ බමුණු කෙනෙක් ඒකත්‍යශාශ්වතිකත් ඒකත්‍යඅශාශ්වතිකත් වූවෝ ද, යම් මහණබමුණු කෙනෙක් අන්තානන්තික වාද ඇත්තෝ ද, යම් මහණ බමුණුකෙනෙක් අමරාවික්ෂෙපක වාද ඇත්තෝ ද, යම් මහණ බමුණුකෙනෙක් අධිච්චසමුප්පන්නික වාද ඇත්තෝ ද, යම් මහණ බමුණු කෙනෙක් පූර්වාන්තකල්පික ද, යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික සඤ්ඤීවාද ඇත්තෝ ද, යම් මහණබමුණු කෙනෙක් උද්ධමාඝාතනික අසඤ්ඤී වාද ඇත්තෝ ද, යම් මහණ බමුණු කෙනෙක් උද්ධමාඝාතනික නෙවසඤ්ඤීනාසඤ්ඤීවාද ඇත්තෝ ද, යම් මහණබමුණු කෙනෙක් උච්ඡෙදවාද ඇත්තෝ ද, යම් මහණ බමුණු කෙනෙක් දෘෂ්ටධර්මනිර්වාණවාද ඇත්තෝ ද, යම් මහණබමුණු කෙනෙක් අපරාන්තකල්පික ද, යම් මහණ බමුණු කෙනෙක් පූර්වාන්තකල්පිකත් අපරාන්තකල්පිකත් පූර්වාන්ත-අපරාන්තකල්පිකත් වූවෝ පූර්වාන්තාපරාන්තානුදෘෂ්ටික වැ දෙසැටක් කරුණුවලින් අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියත් ද, ඒ සියල්ලෝ ෂඩායතන සයින් උපන් ස්පර්ශයෙන් රූපාදි අරමුණු ස්පර්ශ කොට දෘෂ්ට්‍යාස්වාදය විඳින් ඔවුන්ගේ දෘෂ්ටිවේදනාප්‍රත්‍යයෙන් තෘෂ්ණාව වේ තෘෂ්ණාප්‍රත්‍යයෙන් උපාදානය වේ උපාදානප්‍රත්‍යයෙන් භවය වේ භවප්‍රත්‍යයෙන් ජාතිය වේ ජාතිප්‍රත්‍යයෙන් ජරා මරණ ශෝක පරිදේව දුඃඛ දෞර්මනස්‍ය උපායාසයෝ යන මොහු පහළ වෙත් මහණෙනි, යම් කලෙක වනාහි මහණ තෙම ස්පර්ශායතන සදෙනාගේ හේතුව ද නිරෝධය ද ආස්වාදය ද ආදීනවය ද ප්‍රහාණය ද තතු වූ පරිදි දැන ගනී ද, මේ තෙමේ මෙ කී හැම දෘෂ්ටිගතයනට වැඩියක් ම (ශීලසමාධිප්‍රඥා ප්‍රඥාවිමුක්ති යන මේ සියල්ල ම) දැනැ ගනී

148 මහණෙනි, පූර්වාන්තකල්පික වූ හෝ අපරාන්තකල්පික වූ හෝ පූර්වාන්තාපරාන්තකල්පික වූ හෝ යම් මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් හෝ පූර්වාන්ත අපරාන්ත අරමුණු කොට පහළ කැරැ ගත් දෘෂ්ටි ඇත්තෝ, අතීතානාගත ස්කන්ධ පරම්පරා කොටස් අරමුණු කොට, අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියා පාත්තෝ ද, ඒ සියල්ලෝ මේ දෙසැට කරුණින් ම (මගේ මේ) දේසනාදැල තුළට හසු කරන ලදුවෝ, මේ දේසනාදැලෙහි බැඳුණෝ ම, මෙහි තුළ ම ඉපිලෙන්නාහු ඉපිලෙත් ගැලෙන්නාහු ගැලෙත්. මෙයට ඇතුළත් වූහු ම ඉපිලෙන්නාහු, ඉපිලෙත්. ගැලෙන්නාහු ගැලෙත් මහණෙනි, යම් සේ දක්ෂ වූ කෙවුලෙක් හෝ කෙවුලකුගේ අතැවැසියෙක් හෝ සියුම් ඇස් ඇති දැලින් මඳ දිය ඇති දියවලක් කිබිසිනි කොටැ අතුරන්නේ ද, "මේ දියවලෙහි යම් කිසි මහත් ප්‍රාණි කෙනෙක් වෙත් නම්, ඒ සියල්ලෝ ම මේ දැලට හසු කරැ ගන්නා ලද්දෝ ම මතු වන්නෝ මතු වෙත්. ගැලෙන්නාහු ගැලෙත් මෙහි ඇතුළත් වූවෝ දැල තුළට හසු වූවෝ ම මතු වන්නෝ මතු වෙත් ගැලෙන්නෝ ගැලෙත් යැ" යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ ද, මහණෙනි, එ පරිදෙන් ම පූර්වාන්ත කල්පික වූ හෝ අපරාන්තකල්පික වූ හෝ පූර්වාන්තාපරාන්තකල්පික වූ හෝ පූර්වාන්ත අපරාන්ත දෙක අනුවැ පහළ කරගත් දෘෂ්ටි ඇති යම් මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් හෝ දෙසැටක් කරුණින් පූර්වාන්ත අපරාන්ත දෙක අරමුණු කොට අනේකවිධ දෘෂ්ටිප්‍රකාශක වචන කියා පාත් ද, ඒ සියල්ලෝ මේ දෙසැට කරුණින් ම (මගේ) දේසනාදැලට හසු වූවෝ ම, මේ දෙසනාදැලෙහි බැඳුණෝ, මෙහි ම මතු වන්නෝ මතු වෙති ගැලෙන්නෝ ගැලෙති මෙහි ම ඇතුළත් වූවෝ මේ දේසනා දැල තුළට හසු වූවෝ ම, මතු වන්නෝ මතු වෙති ගැලෙන්නෝ ගැලෙති

149 උච්ඡින්නභවනෙත්තිකො භික්ඛවෙ තථාගතස්ස කායො තිට්ඨති යාවස්ස කායො ඨස්සති, තාව නං දක්ඛින්ති දෙවමනුස්සා කායස්ස භෙදා උද්ධං ජීවිතපරියාදානා න නං දක්ඛින්ති දෙවමනුස්සා

සෙය්‍යථාපි භික්ඛවෙ අම්බපිණ්ඩියා වණ්ටච්ඡින්නාය යානි කානිචි අම්බානි වණ්ටපටිබද්ධානි, සබ්බානි තානි තදන්වයානි භවන්ති, එවමෙව ඛො භික්ඛවෙ උච්ඡින්නභවනෙත්තිකො තථාගතස්ස කායො තිට්ඨති යාවස්ස කායො ඨස්සති, තාව නං දක්ඛින්ති දෙවමනුස්සා කායස්ස භෙදා උද්ධං ජීවිතපරියාදානා න නං දක්ඛින්ති දෙවමනුස්සා'ති

150 එවං වුත්තෙ ආයස්මා ආනන්දො භගවන්තං එතදවොච 'අච්ඡරියං භන්තෙ, අබ්භුතං භන්තෙ, කො නාමායං භන්තෙ ධම්මපරියායො ?'ති

''තස්මාතිහ ත්වං ආනන්ද ඉමං ධම්මපරියායං අත්ථජාලන්ති'පි නං ධාරෙහි ධම්මජාලන්ති'පි නං ධාරෙහි බ්‍රහ්මජාලන්ති'පි නං ධාරෙහි දිට්ඨිජාලන්ති'පි නං ධාරෙහි අනුත්තරො සඞ්ගාමවිජයො'ති'පි නං ධාරෙහී''ති.

ඉදමවොච භගවා අත්තමනා තෙ භික්ඛූ භගවතො භාසිතං අභිනන්දුන්ති

ඉමස්මිං ච පන වෙය්‍යාකරණස්මිං භඤ්ඤමානෙ දසසහස්සී ලොකධාතු අකම්පිත්ථාති

බ්‍රහ්මජාලසුත්තං නිට්ඨිතං පඨමං

149 මහණෙනි, තථාගත බුදුහුගේ ශරීරය මුලින් සිඳිනා ලද භව තෘෂ්ණා ඇත්තේ සිටී යම් තාක් කල් ඔහුගේ කය සිටින්නේ ද ඒ තාක් දෙව්මිනිස්සු ඔහු දක්නාහ කය බිඳීමෙන් ජීවිතයාගේ පරික්ෂීණ වීමෙන් මත්තෙහි දෙව්මිනිස්සු ඒ බුදුහු නො දක්නාහ මහණෙනි, යම් සේ අඹකැන නටුවෙන් ගිලිහුණු කල්හි, නටුව හා බැඳුණු යම් අඹ පල කෙනෙක් වූහු නම්, ඔහු හැම එය අනුව යත්තෝ වෙත් ද, එ පරිද්දෙන් ම තථාගත බුදුහුගේ කය මුල් සුන් වූ භවතෘෂ්ණා ඇත්තේ සිටී. යම් තාක් කල් ඒ බුදුහුගේ කය සිටුනේ ද, ඒ තාක් දෙව්මිනිස්සු ඔහු දක්නාහ කය බිඳීමෙන් ජීවිතය පරික්ෂීණ වීමෙන් මත්තෙහි දෙව්මිනිස්සු ඔහු නො දක්නාහ

150 භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ කල්හි ආයුෂ්මත් ආනන්ද ස්ථවිර තෙමේ "වහන්ස, ආශ්චර්ය ය! වහන්ස, අද්භූත ය! වහන්ස, මේ ධර්මක්‍රමය කිනම් වේ ද?" යි මෙය භාග්‍යවතුන් වහන්සේට සැල කෙළේය. එවිට භාග්‍යවතුන් වහන්සේ වදාරන සේක්, "ආනන්දය, එසේ නම්, මෙහි ලා මේ ධර්මපර්යාය අර්ථජාල නමැයි ද සලකා ගනුව ධර්මජාල නමැයි ද සලකා ගනුව බ්‍රහ්මජාල නමැයි ද සලකා ගනුව දෘෂ්ටිජාල නමැයි ද සලකා ගනුව නිරුත්තරසංග්‍රාමවිජය යැයි ද සලකා ගනුව" යි වදාළ සේක

භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක ආරාධිත සිත් ඇති ඒ භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේගේ වචන සතුටින් පිළිගත්හ.

මේ නිර්ගාථක සූත්‍රය වදාරනු ලබන කල්හි දසදහසක් ලෝ ද කම්පිත වී ය

පළමුවන බ්‍රහ්මජාල සූත්‍රය නිමියේ ය

# 2

# ශ්‍රාමණ්‍යඵලසූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදි එක් සමයෙක භාග්‍යවතුන් වහන්සේ එක්දහස් දෙසියපණසක් පමණ වූ මහත් භික්ෂුසඞ්ඝයා සමග රජගහ නුවර සමීපයේ කෝමාරභච්ච ජීවකයාගේ අඹවෙනෙහි වසන සේක එ සමයෙහි වනාහි මගධ රටට අතිපති වූ, වෛදේහිපුත්‍ර වූ අජාසත් රජ තෙමේ එ දවසට පැමිණි පුණු පොහෝ දිනයෙහි සිවූ මසක්හුගේ අවසන්හි වූ සුපිපි කුමුදු ඇති පුරා සඳ කැල්මෙන් බබලන රැයෙහි (ඉල්මස පසොලොස්වක් දා රැයෙහි) රජපහයෙහි මතු මහල්තලයට නැඟුණේ, රජ ඇමැතියන් විසින් පිරිවැරුණේ (එසැවුණු සේසත් ඇති මහඟු කසුන් අස්නෙහි) හුන්නේ වෙයි ඉක්බිති වෛදේහිපුත්‍ර වූ මගධාධිපති අජාසත් රජ ඒ පුණුපොහෝ දිනැ මෙසේ උදන් ඇතී ය

“භවත්නි, ආශ්චර්ය සි! රාත්‍රිය සඳ රැසින් සිත්කළු වෙයි (අභ්‍රමහිකාදි දෝෂයන්ගෙන් පහ වූ රාත්‍රිය රමණීය ය)! භවත්නි, රාත්‍රිය සඳරැසින් විශෙෂයෙන් ශෝභන ය! භවත්නි, රාත්‍රිය සඳරැසින් දැකුම් කළු ය! භවත්නි, රාත්‍රිය සඳරැසින් ප්‍රසාදජනක ය! භවත්නි, රාත්‍රිය සඳ රැස කරණ කොට ගෙන ලක්ෂණීය ය! යමක්හු ඇසුරු කරන අපගේ සිත පහදනේ නම් එසේ වූ කවර නම් මහණකු බමුණකු අද ඇපි එළැඹ ඇසුරු කරන්න මෝ ද!” යනු යි

2 රජහු මෙසේ කී කල්හි, එක්තරා රජ ඇමතියෙක් වෛදේහි-පුත්‍ර වූ මගධාධිපති අජාසත් රජහට “දේවයන් වහන්ස, මේ කාශ්‍යප-ගෝත්‍රික පූරණයෝ පැවිදි මුළුවක් ඇත්තෝ ද, පැවිදි ගණයා ඇත්තෝ ද වෙති ගණාචාර්ය ද වෙති ප්‍රකටයශ කීර්තිමත්හ බොහෝ දෙනා විසින් සත්පුරුෂයෙකැ යි සම්මත වූ තීර්ථංකර කෙනෙක චිරරාත්‍රඥ හ පැවිදි වූ බෝහෝ කල් ඇත්තෝ ය දෙතුන් රජ පරපුරක් තරම් කල් ඉක්මවා සිටියෝ ය මහළු වියට පැමිණියෝ ය දේවයන් වහන්සේ ඒ කාශ්‍යපගෝත්‍රික පූරණයන් වෙත එළැඹ ඇසුරු කරන සේක් වා. කාශ්‍යපීය පූරණයන් වෙත එළැඹ ඇසුරු කරන දේවයන් වහන්සේගේ සිත පහදනේ නම් ඉතා යෙහෙකැ” යි මේ වචන කී ය මෙසේ කී කල්හි වෛදේහිපුත්‍ර මගධෙශ්වර අජාතශත්‍රු රජ තෙමේ තූෂ්ණීම්භූත විය

3 අන් කිසි රජ ඇමැත්තෙක් ද වෛදේහිපුත්‍ර මගධෙශ්වර අජාතශත්‍රු රජුහට “දේවයන් වහන්ස, මේ ගෝසාල මක්ඛලිහු පැවිදි පිරිසක් ඇත්තෝ ද, පැවිදි ගණයා ඇත්තෝ ද, ගණාචාර්ය ද වෙති ප්‍රකට යශ කීර්ති-මත් හ තීර්ථංකර කෙනෙක බෝහෝ දෙනා විසින් සාධු යැ යි සම්මත හ රාත්‍රඥ හ පැවිදිවූ බොහෝ කල් ඇත්තෝ ය රජපරපුර දෙක තුනක් ඉක්මැ යන තරම් දික් කලක් හෙවූවෝ ය පැසිම් වයසට පැමිණියෝ ය දේවයන් වහන්සේ ඒ ගෝසාල මක්ඛලීන් ඇසුරු කරන සේක් වා ගෝසාල මක්ඛලීන් වෙත එළැඹ ඇසුරුකරන දේවයන් වහන්සේගේ සිත පහදනේ නම්, ඒ ඉතා යෙහෙකැ” යි මෙ බස් කී ය මෙසේ කී කල්හි වෛදේහිපුත්‍ර මගධෙශ්වර අජාතශත්‍රු රජ තෙමේ තූෂ්ණීම්භූත විය

4 අඤ්ඤතරො 'පි ඛො රාජාමච්චො රාජානං මාගධං අජාතසත්තුං වෙදෙහිපුත්තං එතදවොච 'අයං දෙව අජිතො කෙසකම්බලො සඞ්ඝී චෙව ගණී ච ගණාචරියො ච ඤාතො යසස්සී තිත්ථංකරො සාධුසම්මතො බහුජනස්ස රත්තඤ්ඤූ චිරපබ්බජිතො අද්ධගතො වයො අනුප්පත්තො තං දෙවො අජිතං කෙසකම්බලං පයිරුපාසතු අප්පෙවනාම දෙවස්ස අජිතං කෙසකම්බලං පයිරුපාසතො චිත්තං පසීදෙය්‍යා'ති එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො තුණ්හී අහොසි

5 අඤ්ඤතරො 'පි ඛො රාජාමච්චො රාජානං මාගධං අජාතසත්තුං වෙදෙහිපුත්තං එතදවොච 'අයං දෙව පකුධො කච්චායනො[1] සඞ්ඝී චෙව ගණී ච ගණාචරියො ච ඤාතො යසස්සී තිත්ථංකරො සාධුසම්මතො බහුජනස්ස රත්තඤ්ඤූ චිරපබ්බජිතො අද්ධගතො වයො අනුප්පත්තො තං දෙවො පකුධං කච්චායනං පයිරුපාසතු අප්පෙවනාම දෙවස්ස පකුධං කච්චායනං පයිරුපාසතො චිත්තං පසීදෙය්‍යා'ති එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො තුණ්හී අහොසි

6 අඤ්ඤතරො 'පි ඛො රාජාමච්චො රාජානං මාගධං අජාතසත්තුං වෙදෙහිපුත්තං එතදවොච 'අයං දෙව සඤ්ජයො බෙලට්ඨපුත්තො සඞ්ඝී චෙව ගණී ච ගණාචරියො ච ඤාතො යසස්සී තිත්ථංකරො සාධුසම්මතො බහුජනස්ස රත්තඤ්ඤූ චිරපබ්බජිතො අද්ධගතො වයො අනුප්පත්තො තං දෙවො සඤ්ජයං බෙලට්ඨපුත්තං පයිරුපාසතු අප්පෙවනාම දෙවස්ස සඤ්ජයං බෙලට්ඨපුත්තං පයිරුපාසතො චිත්තං පසීදෙය්‍යා'ති එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො තුණ්හී අහොසි

7 අඤ්ඤතරො'පි ඛො රාජාමච්චො රාජානං මාගධං අජාතසත්තුං වෙදෙහිපුත්තං එතදවොච 'අයං දෙව නිගණ්ඨො නාතපුත්තො සඞ්ඝී චෙව ගණී ච ගණාචරියො ච ඤාතො යසස්සී තිත්ථංකරො සාධුසම්මතො බහුජනස්ස රත්තඤ්ඤූ චිරපබ්බජිතො අද්ධගතො වයො අනුප්පත්තො තං දෙවො නිගණ්ඨං නාතපුත්තං පයිරුපාසතු අප්පෙවනාම දෙවස්ස නිගණ්ඨං නාතපුත්තං පයිරුපාසතො චිත්තං පසීදෙය්‍යා'ති එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො තුණ්හී අහොසි

8 තෙන ඛො පන සමයෙන ජීවකො කොමාරභච්චො රඤ්ඤො මාගධස්ස අජාතසත්තුස්ස වෙදෙහිපුත්තස්ස අවිදූරෙ තුණ්හීභූතො නිසින්නො හොති අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො ජීවකං කොමාරභච්චං එතදවොච 'ත්වං පන සම්ම ජීවක කිං තුණ්හී'"ති

---

1 කච්චානො, කාම්

4 අත් එක්තරා රජඇමැත්තෙක් ද වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජුට "දේවයන් වහන්ස, මේ කේශකම්බල අජිතයෝ සංඝී ද ගණී ද ගණාචාර්‍ය්‍ය ද වෙති ප්‍රකට වූ, කීර්තිමත් වූ, බොහෝ දෙනා විසින් සාධුසම්මත වූ, රාත්‍රඥ වූ, දික්වයස් ගිය, මහළු විය පැමිණි තීර්ථංකර කෙනෙක දේවයන් වහන්සේ ඒ කේශකම්බල අජිතයන් ඇසුරු කරන සේක් වා කේශකම්බල අජිතයන් වෙත එළැඹ ඇසුරු කරන දේවයන් වහන්සේගේ සිත පහදින්නේ නම් ඉතා යෙහෙකැ" යි මෙ බස් කී ය මෙසේ කී කලැ වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජ මුවෙන් කිසිත් නො බැණ හුන්නේ ය

5 අත් එක් රජඇමැතියෙක් ද වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජුට "දේවයන්වහන්ස, කාත්‍යායනගෝත්‍රික මේ පකුධයෝ සංඝී ද ගණී ද ගණාචාර්‍ය්‍ය ද වෙති ප්‍රකට වූ, කීර්තිමත් වූ, බොහෝ දෙනා විසින් සාධුසම්මත වූ, රාත්‍රඥ වූ, පැවිදි වූ බොහෝ කල් ඇති, දික්වයස් ගිය, මහළු වියට පැමිණි තීර්ථංකර කෙනෙක දේවයන්වහන්සේ ඒ කාත්‍යායන පකුධයන් වෙත එළැඹ ඇසුරු කරන සේක් වා කාත්‍යායන පකුධයන් ඇසුරු කරන දේවයන් වහන්සේගේ සිත පහදනේ නම් ඉතා යෙහෙකැ " යි මෙ බස් කී ය මෙසේ කී කල්හි වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජ තෙමේ කිසිත් නො බැණ හුන්නේ ය.

6· අත් රජඇමැත්තෙක් ද වෛදේහී පුත්‍ර මගධාධිපති අජාතශත්‍රැ රජුට "දේවයන් වහන්ස, මේ වෛරාටීපුත්‍ර සංජයයෝ සංඝී ද ගණී ද ගණාචාර්‍ය්‍ය ද වෙති බොහෝ දෙනා විසින් සාධු සම්මත වූ, රාත්‍රඥ වූ, පැවිදි වූ බොහෝ කල් ඇති, දික් වයස් ගිය, පැසිම් වයසට පැමිණි, ප්‍රකට වූ, කීර්තිමත් තීර්ථංකර කෙනෙක දේවයන් වහන්සේ ඒ වෛරාටීපුත්‍ර සංජයයන් ඇසුරු කරන සේක් වා වෛරාටීපුත්‍ර සංජයයන් ඇසුරු කරන දේවයන් වහන්සේගේ සිත පැහැදෙන්නේ නම් ඒ ඉතා යෙහෙකැ " යි මෙ බස් කී ය මෙසේ කී කල්හි වෛදේහීපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජ තෙමේ කිසිත් නො බැණ හුන්නේ ය

7 අත් රජඇමැත්තෙක් ද වෛදේහීපුත්‍ර වූ මගධාධිපති අජාතශත්‍රැ රජුට "දෙවයන් වහන්ස, මේ ඥාතපුත්‍ර නිර්ග්‍රන්ථයෝ සංඝී ද ගණී ද ගණාචාර්‍ය්‍ය ද වෙති බොහෝ දෙනා විසින් සාධුසම්මත වූ, රාත්‍රඥ වූ, පැවිදි වූ බොහෝ කල් ඇති, දික් කලක් ගත කළ, මහළු විය පත්, ප්‍රකට වූ, කීර්තිමත් තීර්ථංකර කෙනෙකි දේවයන් වහන්සේ ඒ ඥාතපුත්‍ර නිර්ග්‍රන්ථයන් ඇසුරු කරන සේක් වා ඥාතපුත්‍ර නිර්ග්‍රන්ථයන් ඇසුරු කරන දේවයන් වහන්සේගේ සිත පහදින්නේ නම් ඒ ඉතා යෙහෙකැ"යි කී ය මෙසේ කී කල්හි වෛදේහීපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රැ රජ තෙමේ කිසිත් නො බැණ හුන්නේ ය

8. එ වේලෙහි වනාහි කෝමාරභච්ච ජීවක තෙමේ වෛදේහී පුත්‍ර මගධාධිපති අජාතශත්‍රැ රජුට නොදුරෙහි නිහඬ වැ හුන්නේ වෙයි ඉක්බිත්තෙන් වෛදේහීපුත්‍ර මගධාධිපති අජාතශත්‍රැ රජ තෙමේ කෝමාරභච්ච ජීවකයා අමතා, "යහළු ජීවකය, සුමනා වූ කලී කවර හෙයින් කිසිත් නො බැණ ඉන්නෙහි ද ?"යි කී ය

“අයං දෙව භගවා අරහං සම්මාසම්බුද්ධො අම්හාකං අම්බවනෙ විහරති මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං අඩ්ඪතෙළසෙහි භික්ඛුසතෙහි තං ඛො පන භගවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො· ‘ඉති පි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථී සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා’ති තං දෙවො භගවන්තං පයිරුපාසතු අප්පෙවනාම දෙවස්ස භගවන්තං පයිරුපාසතො චිත්තං පසීදෙය්‍යා”ති.

“තෙන හි සම්ම ජීවක හත්ථියානානි කප්පාපෙහී”ති

9. ‘එවං දෙවා’ති ඛො ජීවකො කොමාරභච්චො රඤ්ඤො මාගධස්ස අජාතසත්තුස්ස වෙදෙහිපුත්තස්ස පටිස්සුත්වා[1] පඤ්චමත්තානි හත්ථිනිකාසතානි[2] කප්පාපෙත්වා රඤ්ඤො ච ආරොහණීයං නාගං, රඤ්ඤො මාගධස්ස අජාතසත්තුස්ස වෙදෙහිපුත්තස්ස පටිවෙදෙසි ‘කප්පිතානි ඛො තෙ දෙව හත්ථියානානි යස්ස දානි කාලං මඤ්ඤසී’ති.

අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො පඤ්චසු හත්ථිනිකාසතෙසු පච්චෙකා ඉත්ථියො ආරොපෙත්වා ආරොහණීයං නාගං අභිරුහිත්වා උක්කාසු ධාරියමානාසු රාජගහම්හා නිය්‍යාසි මහච්ච රාජානුභාවෙන යෙන ජීවකස්ස කොමාරභච්චස්ස අම්බවනං තෙන පායාසි

10 අථ ඛො රඤ්ඤො මාගධස්ස අජාතසත්තුස්ස වෙදෙහිපුත්තස්ස අවිදූරෙ අම්බවනස්ස අහුදෙව භයං අහු ජම්භිතත්තං අහු ලොමහංසො අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භීතො සංවිග්ගො ලොමහට්ඨජාතො ජීවකං කොමාරභච්චං එතදවොච ‘කච්චි මං සම්ම ජීවක න වඤ්චෙසි? කච්චි මං සම්ම ජීවක න පලම්භෙසි? කච්චි මං සම්ම ජීවක න පච්චත්ථිකානං දෙසි? කථං හි නාම තාව මහතො භික්ඛුසඞ්ඝස්ස අඩ්ඪතෙළසානං භික්ඛුසතානං නෙව ඛිපිතසද්දො භවිස්සති න උක්කාසිතසද්දො න නිග්ඝොසො’”ති.

“මා භායි මහාරාජ[3] න තං දෙව වඤ්චෙමි. න තං දෙව පලම්භෙමි න තං දෙව පච්චත්ථිකානං දෙමි අභික්කම මහාරාජ, අභික්කම මහාරාජ. එතෙ මණ්ඩලමාළෙ[4] දීපා ඣායන්තී”ති.

---

1 පටිස්සුණිත්වා, මජසං 2 හත්ථිකා, සී හත්ථිනියො, කත්ථචි
3. මා භායි මහාරාජ මා භායි මහාරාජ, සිත්‍රි. 4 මණ්ඩලසාලෙ, මජසං

එ විට කෝමාරභච්ච ජීවක කියනුයේ, "දේවයන් වහන්ස, මේ භාග්‍යවත් අර්හත් සම්‍යක්සම්බුද්ධයන් වහන්සේ එක්දහස් දෙසිය පණසක් පමණ භික්ෂූන් ඇති මහත් භික්ෂුසමූහයක් හා අපේ අඹවෙනෙහි වැඩ වසන සේක 'ඒ භාග්‍යවතුන් වහන්සේ මේ මේ කරුණින් අර්හත් ය, සම්‍යක්සම්බුද්ධ ය, විද්‍යාචරණසම්පන්න ය, සුගත ය, ලෝකවිත් ය, නිරුත්තර පුරුෂදම්‍යසාරථි ය, දෙව්මිනිස්නට ශාස්තෘ ය, බුද්ධ ය, භාග්‍යවත් යැ' සි ඒ භාග්‍යවත් ගෞතමයන් වහන්සේ පිළිබඳ වැ මෙසේ කල්‍යාණ වූ කීර්තිශබ්දයෙක් උස් වැ නැංගේ ය. මහරජ තෙමේ ඒ භාගව්‍යතුන් වහන්සේ වෙත එළැඹ ඇසුරු කෙරේ වා ඒ භාග්‍යවතුන් වහන්සේ ඇසුරු කරත මහරජහුගේ සිත පැහැදෙන්නේ නම් ඒ ඉතා යෙහෙකි"සි කියේ ය

"යහළු, ජීවකය, එසේ නම් හස්තියානයන් සරසව"සී රජ කී ය.

9 'දේවසිනි, එසේ යැ'සි කියා, කෝමාරභච්ච ජීවක තෙමේ වෛදේහී-පුත්‍ර වූ මගධේශ්වර අජාතශත්‍රු රජුට පිළිවදන් දී (පිරිවර ස්ත්‍රීන් සඳහා) පන්සියක් පමණ ඇතින්නන් සරසවා, රජුට ද නැගීමට සුදුසු ඇතකු සදවා, වෛදේහීපුත්‍ර වූ මගධේශ්වර අජාතශත්‍රු රජුට "දේවසිනි, ඔබට හස්තියාන සරසවන ලදී යම් ගමනකට දූත් කලැ සි ඔබ සිතත් නම් එය කරන්නැ"සි දැන්වී ය

එ විට වෛදේහීපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රු රජ පන්සියක් ඇතින්නන් මතැ එක් එක් ස්ත්‍රිය බැගින් නංවා, තෙමේ තමාට නැගීමට සුදුසු ඇතු පිට නැග, දඹුමැට පහන් දරනු ලබත කල්හි, මහත් රාජර්ද්ධියෙන් රජගහ නුවරින් නික්මුණේ ය නික්මැ කෝමාරභච්ච ජීවකයාගේ අඹවනය කරා ගියේ ය

10 ඉක්බිත්තෙන් අඹවනයට නොදුරෙහිදී වෛදේහීපුත්‍ර වූ මගධාධි-පති අජාතශත්‍රු රජුට බියෙක් වූයේ ම ය, ඇඟ වෙවුලුමෙක් වූයේ ම ය, ලොමුදහ ගැන්මෙක් වූයේ ම ය එ විට .අජාතශත්‍රු රජතෙමේ බිය ගත්තේ, තැතිගත්තේ, හටගත් ලොමුදහ ගැනුම් ඇත්තේ, කෝමාරභච්ච ජීවකයා අමතා "කිමෙක් ද ? යහළු ජීවකය, මට වංචා නො කෙරෙහි ද, කිමෙක් ද යහළු ජීවකය, මා නො රවටහි ද ? කිමෙක් ද, යහළු ජීවකය, මා සතුරනට පාවා නො දෙහි ද ? භික්ෂූන් එක්දහස් දෙසිය පණසක් පමණ වූ ඒ සා මහත් භික්ෂුසමූහයකගේ කිවිසුම් හඬෙක් කෙසේ නම් නො වන්නේ ද? උකැසි හඬෙක් හෝ කෙසේ නම් නො වන්නේ ද ? කථහඬෙක් හෝ කෙසේ නම් නො වන්නේ ද ?"සි ඇසී ය.

එ විට "මහ රජාණනි, බිය නො ගන්නැ දේවයිනි, ඔබට වංචා නො කරමි. දේවයිනි, ඔබ නො රවටමි දේවයිනි, ඔබ සතුරනට පාවා නො දෙමි මහරජාණනි, ඉදිරියට වඩින්නැ මහරජාණනි, ඉදිරියට වඩින්නැ. තෙල, මණ්ඩලමාළයෙහි (වට හලෙහි නෙවත් හිඳුනා හලෙහි) පහන් දල්වේ" යැ සි කෝමාරභච්ච ජීවක කී ය

11. අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො යාවතිකා නාගස්ස භූමි නාගෙන ගන්ත්වා නාගා පච්චොරොහිත්වා පත්තිකො ව යෙන මණ්ඩලමාළස්ස ද්වාරං තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා ජීවකං කොමාරභච්චං එතදවොච කහං පන සම්ම ජීවක භගවා'ති

"එසො මහාරාජ භගවා එසො මහාරාජ භගවා මජ්ඣිමං ථම්භං නිස්සාය පුරත්ථාභිමුඛො නිසින්නො පුරක්ඛතො භික්ඛුසඞ්ඝස්සා"ති.

12. අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා එකමන්තං අට්ඨාසි එකමන්තං ඨිතො ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො තුණ්හීභූතං තුණ්හීභූතං භික්ඛුසඞ්ඝං අනුවිලොකෙත්වා රහදමිව විප්පසන්නං, උදානං උදානෙසි· 'ඉමිනා මෙ උපසමෙන උදයිභද්දො[1] කුමාරො සමන්නාගතො හොතු යෙනෙතරහි උපසමෙන භික්ඛුසඞ්ඝො සමන්නාගතො'ති

"අගමා ඛො ත්වං මහාරාජ යථාපෙමං"ති ?

"පියො මෙ භන්තෙ උදයිභද්දො[1] කුමාරො ඉමිනා මෙ භන්තෙ උපසමෙන උදයිභද්දො[1] කුමාරො සමන්නාගතො හොතු යෙනෙතරහි උපසමෙන භික්ඛුසඞ්ඝො සමන්නාගතො"ති

13 අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භගවන්තං අභිවාදෙත්වා භික්ඛුසඞ්ඝස්ස අඤ්ජලිම්පණාමෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භගවන්තං එතදවොච "පුච්ඡෙය්‍යාමහං භන්තෙ භගවන්තං කිඤ්චිදෙව දෙසං, සචෙ මෙ භගවා ඔකාසං කරොති පඤ්හස්ස වෙය්‍යාකරණායා"ති

"පුච්ඡ මහාරාජ යදාකඞ්ඛසී"ති.

14 "යථා නු ඛො ඉමානි භන්තෙ පුථුසිප්පායතනානි සෙය්‍යථීදං[2]· හත්ථාරොහා අස්සාරොහා රථිකා ධනුග්ගහා[3] චෙලකා චලකා පිණ්ඩදායකා[4] උග්ගා රාජපුත්තා පක්ඛන්දිනො මහානාගා සූරා චම්මයොධිනො දාසක-පුත්තා[5] ආළාරිකා[6] කප්පකා නහාපකා[7] සූදා[8] මාලාකාරා[9] රජකා පෙසකාරා නළකාරා[10] කුම්භකාරා ගණකා මුද්දිකා, යානි වා පනඤ්ඤානි'පි එවංගතිකානි[11] පුථුසිප්පායතනානි, තෙ දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සිප්පඵලං උපජීවන්ති තෙ තෙන අත්තානං සුඛෙන්ති පීණෙන්ති[12] මාතාපිතරො සුඛෙන්ති පීණෙන්ති පුත්තදාරං සුඛෙන්ති පීණෙන්ති මිත්තාමච්චෙ සුඛෙන්ති පීණෙන්ති. සමණෙසු බ්‍රාහ්මණෙසු[13] උද්ධග්ගිකං දක්ඛිණං පතිට්ඨාපෙන්ති[14] සොවග්ගිකං සුඛවිපාකං සග්ගසංවත්තනිකං. සක්කා නු ඛො භන්තෙ එවමෙව[15] දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤාපෙතුන්ති"[16]

---

1 උදයභද්දො, සොසුවි 2 සෙය්‍යථිදං, මජසං 3 ධනුග්ගාහා, සිත්‍රි
4 °දායිකා, සිත්‍රි දසක PTS 5 දසිකා, මජසං
6 ආළාරිකා, සිත්‍රි 7 නහාපකා, මජසං නහාපිකා, සක
8 සූරා, මජසං 9 මාල, මජසං 10 නාල, සක
11 ගතානි, සී I 12 පීනෙන්ති, මජසං පීණෙන්ති, සක (සබ්බත්)
13 සමණබ්‍රාහ්මණෙසු, සී I සිත්‍රි 14 පතිට්ඨෙ, සී I 15 එවමෙව, (කත්ථචි)
16 පඤ්ඤපෙතුන්ති, සී I

11 එක්බිති වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රු රජ ඇතුපිටින් යා හැකි තෙක් දුර ඇතු පිටින් ගොස්, ඇතුගෙන් බැස, පාගමන් ඇතියේ ම (පයින් ම) මණ්ඩලමාලද්වාරය (වට හල් දොර) කරා එළැඹියේ ය එළැඹ, කෝමාරභච්ච ජීවකයාගෙන් 'යහළු ජීවකය, භාග්‍යවත් තෙමේ කොහි දු ?' සි ඇසී ය.

"මහ රජාණනි, තෙල භාග්‍යවතුන් වහන්සේ ය මැදුම් ටැඹ නිසා (මැද කණුවට පිටු දී) පෙර දිගට මුහුන ලා, භික්ෂුසමූහයා විසින් පෙරටු කරන ලදු වැ තෙල වැඩ ඉන්නෝ භාග්‍යවතුන් වහනසේ යැ"සි කොමාර-භච්ච ජීවක කී ය

12. එ විට වෛදේහිපුත්‍ර වූ මගධේශ්වර අජාතශත්‍රු රජ භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියේ ය එළැඹ පසෙක සිටියේ ය එසේ සිටි රජ තෙමේ වෙසෙසින් පහන් වූ, කැළැඹුම් නැති විලක් සේ බැලූ බැලූ පැත්තෙහි තුෂ්ණිම්භූත වැ හුන් භික්ෂුසඞ්ඝයා දෙස නැවත නැවත බලා, "දැන් මේ භික්ෂුසඞ්ඝ යම් සංහුන්බවෙකින් යුක්ත ද මගේ උදයිභද්‍ර කුමාර තෙමේ ද මෙ බඳු වූ ම සංහුන්බැවින් සමන්විත වේ වා"සි උදන් ඇනී ය

එ විට, භාග්‍යවතුන් වහන්සේ "මහරජ, තොප සිත ප්‍රේමය ඇති දෙසට ගියේ වේ දැ"සි වදාළ සේක.

"වහන්ස, උදයිභද්‍ර කුමාර තෙමේ මට ප්‍රිය ය වහන්ස, භික්ෂුසංඝයා දැන් යම් බඳු සංසිඳීමෙකින් සමන්විත ද, මගේ උදයිභද්‍ර කුමාර තෙමේ මෙ බඳු වූ සංසිඳීමෙන් සමන්විත වේ වා"සි රජ කී ය

13. එක්බිති වෛදේහිපුත්‍ර මගධාධිපති අජාතශත්‍රු රජ භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් වැඳ, භික්ෂුසංඝයා ද ඇඳිලි බැඳ වැඳ, පසෙක ඉඳ ගත්තේ ය පසෙක හිඳගත් රජ තෙමේ "වහන්ස, ඉදින් භාග්‍යවතුන් වහන්සේ පැණයක් විසඳන්නට කිසි ලේශමාත්‍ර අවකාශයක් ගන්නා සේක් නම්, මම විචාරන්නෙමි"සි භාග්‍යවතුන් වහන්සේට කී ය

"මහරජ, ඉදින් කැමැත්තෙහි නම් විචාරන්නැ"සි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක

14 "වහන්ස, යම්සේ ඇතරුවෝ ය, අසරුවෝ ය, රියරුවෝ ය, දුනුවාවෝ ය, දියදද දරනුවෝ ය, සෙන් විදහනුවෝ ය, සැහැසි මහ සෙබළෝ ය, යුද වදිනා උසස් රජපුත්තු ය, යුද මැදට පැනවදනා යෝධයෝ ය, ඇතුන් බඳු මහ සෙබළෝ ය, හුදෙකලා වැ යුද වදිනා සෙබළෝ ය, සම්සැට්ටයෙන් වැසී හෝ පලිහන් දරා යුද කරන්නෝ ය, ගෙහි ම වූ ගෘහදාස යෝධයෝ ය, මේ වඩන්නෝ ය, ඇම්බැට්ටයෝ ය, නාවන්නෝ ය, සූපකාරයෝ ය, මාලාකාරයෝ ය, රජකයෝ ය, පෙහෙරු ය, කුලුපොත්තෝ ය, කුඹල්ලු ය, අච්ඡිද්‍ර ගණකයෝ ය, හස්තමුද්‍රා ගණකයෝ ය යන මොවුන් පුරුදු පුහුණු කරන ශිල්ප කෙනෙක් වෙත් ද, මෙබඳු වූ යම් අන්‍ය බොහෝ ශිල්පයෝ හෝ වෙත් ද, ඔහු හැම මෙ අත්බවිහි ම තමන් විසින් ම අත් දැක්කැ හැකි ඵල ඇති ශිල්ප නිසා දිවි රකිත්. ඔහු එයින් තමන් සුවපත් කෙරෙත්, පිනවත් මාපියන් සුවපත් කෙරෙත්, පිනවත්. අඹුදරුවන් සුවපත් කෙරෙත්, පිනවත් මිත්‍රාමාත්‍යයන් (සගයහළුවන්) සුවපත් කෙරෙත්, පිනවත් මත්තෙහි ඵල දෙන සග සැපතට සුදුසු සුඛවිපාක ඇති සවගිය පිණිස පවත්නා දන් මහණ-බමුණන් කෙරෙහි පිහිටුවත් වහන්ස, මෙසේ ම මහණ දමෙහි සාන්දෘෂ්ටික (මෙහි ම අත්දැක්කැ හැකි) ඵලවිපාකයක් පණවන්නට (දක්වන්නට) හැකි දැ ?" සි රජ විචාළේ ය.

15. "අභිජානාසි නො ත්වං මහාරාජ ඉමං පඤ්හං අඤ්ඤෙ සමණබ්‍රාහ්මණෙ පුච්ඡිතා"ති

"අභිජානාමහං භන්තෙ ඉමං පඤ්හං අඤ්ඤෙ සමණබ්‍රාහ්මණෙ පුච්ඡිතා"ති.

"යථාකථං පන තෙ මහාරාජ බ්‍යාකරිංසු, සචෙ තෙ අගරු භාසස්සූ"ති

"න ඛො මෙ භන්තෙ ගරු යත්ථස්ස භගවා වා නිසින්නො භගවන්තරූපො වා" ති "තෙන හි මහාරාජ භාසස්සූ"ති.

16. "එකමිදාහං භන්තෙ සමයං යෙන පූරණො කස්සපො තෙනුපසඞ්කමිං උපසඞ්කමිත්වා පූරණෙන කස්සපෙන සද්ධිං සම්මොදිං සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං. එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ පූරණං කස්සපං එතදවොචං· යථා නු ඛො ඉමානි භො කස්සප පුථුසිප්පායතනානි සෙය්‍යථීදං හත්ථාරොහා -පෙ- යානි වා පනඤ්ඤානි'පි එවංගතිකානි පුථුසිප්පායතනානි තෙ දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සිප්පඵලං උපජීවන්ති. තෙ තෙන අත්තානං සුඛෙන්ති පීණෙන්ති මාතාපිතරො සුඛෙන්ති පීණෙන්ති පුත්තදාරං සුඛෙන්ති පීණෙන්ති මිත්තාමච්චෙ සුඛෙන්ති පීණෙන්ති සමණෙසු බ්‍රාහ්මණෙසු උද්ධග්ගිකං දක්ඛිණං පතිට්ඨාපෙන්ති සොවග්ගිකං සුඛවිපාකං සග්ගසංවත්තනිකං සක්කා නු ඛො භො කස්සප එවමෙව දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතුන්ති.

17 එවං වුත්තෙ භන්තෙ පූරණො කස්සපො මං එතදවොච. කරොතො ඛො මහාරාජ කාරයතො ඡින්දතො ඡෙදාපයතො පචතො පාචයතො සොචයතො සොචාපයතො කිලමයතො[1] කිලමාපයතො ඵන්දයතො ඵන්දාපයතො පාණමතිපාතයතො අදින්නං ආදියතො සන්ධිං ඡින්දතො නිල්ලොපං හරතො එකාගාරිකං කරොතො පරිපන්ථෙ තිට්ඨතො පරදාරං ගච්ඡතො මුසා භණතො කරොතො න කරියති පාපං ඛුරපරියන්තෙන චෙ'පි චක්කෙන යො ඉමිස්සා පඨවියා[2] පාණෙ එකමංසඛලං එකමංසපුඤ්ජං කරෙය්‍ය, නත්ථි තතොනිදානං පාපං, නත්ථිපාපස්ස ආගමො දක්ඛිණඤ්චෙ'පි ගඞ්ගාය[3] තීරං ගච්ඡෙය්‍ය හනන්තො ඝාතෙන්තො ඡින්දන්තො ඡෙදාපෙන්තො පචන්තො පාචෙන්තො, නත්ථි තතො නිදානං පාපං, නත්ථි පාපස්ස ආගමො. උත්තරඤ්චෙ'පි ගඞ්ගාය[3] තීරං ගච්ඡෙය්‍ය දදන්තො දාපෙන්තො යජන්තො යජාපෙන්තො, නත්ථි තතො නිදානං පුඤ්ඤං, නත්ථි පුඤ්ඤස්ස ආගමො දානෙන දමෙන සංයමෙන සච්චවජ්ජෙන නත්ථි පුඤ්ඤං නත්ථි පුඤ්ඤස්ස ආගමො'ති.

---

1 කිලමෙතො, සෙහුවි 2 කරතො ඵන්දතො, PTS.
3 ගංගාතීරං, PTS.

15 "මහරජ, ඔබ මේ පැණය අන් මහණබමුණන් අතින් විචාළා දත්තෝ ද (මතක ඇද්ද) ?'සි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"වහන්ස, මේ පැණය අන් මහණබමුණන් අතින් විචාළා දනිමි (මතක ඇත)"සි රජ කී ය

"මහරජ, කෙසේ නම් ඔබට ඔහු මෙය විසැඳුවෝ ද ? ඉඳින් ඔබට බරෙක් නො වේ නම් එය කියන්නැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක

"වහන්ස, භාග්‍යවතුන් වහන්සේ හෝ භාග්‍යවතුන් වහන්සේ වැන්නකු හෝ ඉන්නා තැනෙක එය කීම මට බරෙක් නො වේ 'යැ යි රජ කී ය

"මහරජ, එසේ නම් කියන්නැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

16. (එ විට රජ මෙසේ කී ය ) "වහන්ස, මම් එක් වරෙක කාශ්‍යප පූරණයන් කරා එළැඹියෙමි. එළැඹ ඔහු හා සතුටු වීමි සතුට උපදවන, සිහි රැඳැවියැ හුතු කතාබස් අවසන් කොට පසෙක ඉඳ ගතිමි වහන්ස, එසේ පසෙක ඉඳැගත් මම් කාශ්‍යප පූරණයන් අමතා, 'භවත් කාශ්‍යපයිනි, යම් සේ ඇතරුවෝ ය, අසරුවෝ ය, .. යන මොහු හැම මෙ අත්බව්හි ම තමන් විසින් අත් දක්කැ හැකි පල ඇති ශිල්ප නිසා දිවි රකිත් ද, ඔහු එයින් තමන් .. මා පියන් . අඹුදරුවන් මිත්‍රාමාත්‍යයන් සුවපත් කෙරෙත් ද පිනවත් ද, මහණබමුණන් කෙරෙහි .. දන් පිහිටුවත් ද, භවත් කාශ්‍යපයිනි, එසේ ම මහණදමෙහි මෙහි ම අත් දක්කැ හැකි ඵල විපාකයක් දක්වන්නට හැකි දැ ?'යි මෙය විචාළෙමි.

17. 'වහන්ස, මෙසේ කී කල්හි කාශ්‍යප පූරණයෝ මට මෙය කීහ.

"මහරජ, තමා ම කරන්නහුට ද අනුන් ලවා කරවන්නහුට ද, අනුන්ගේ අත් ආදිය සිඳින්නහුට ද සිඳුවන්නහුට ද, අනුන් දඬු ආදියෙන් පෙළන්නහුට ද පෙළවන්නහුට ද, පරා සතු දෑ පැහැරැ ගැනුම් ආදියෙන් මෙරමා තවන්නහුට ද අනුන් ලවා තවවන්නහුට ද, අහර වැළැක්වීම් ආදියෙන් අනුන් වෙහෙසන්නහුට ද මෙරමා ලවා වෙහෙසවන්නහුට ද, මෙරමා කම්පිත කරන්නහුට ද අනුන් ලවා කම්පිත කරවන්නහුට ද, පණ නසන්නහුට ද නස්වන්නහුට ද, නොදුන් දෑ ගන්නහුට ද ගන්වන්නහුට ද, ගෙවල් බිඳින්නහුට ද බිඳුවන්නහුට ද, කිසිත් නො ඉතිරි කොට සියල්ල පැහැරැ ගන්නහුට ද පැහැරැ ගන්වන්නහුට ද, එක් ගෙයක් වටා සිට එහි ඇති බඩුමුට්ටු පැහැරැ ගන්නහුට ද ගන්වන්නහුට ද, මඟැ රැක සිට එහි යනෙනුවන්ගේ බඩු පැහැරැ ගන්නහුට ද, පරඹුවන් කරා යන්නහුට ද, මුසවා තෙපලන්නහුට ද, පවක් කරමි යි සිතා කරන්නහුට ද පවෙක් නො කැරෙයි යමෙක් කරකැත්තක් සේ තියුණු නිම් වලල්ලක් ඇති චක්‍රයකින් මේ පොළොවෙහි සතුන් මරා එක් මස්ගොඩක් එක් මස්රැසක් කරන්නේ නම්, ඒ හේතුයෙන් වත පවෙක් නැත, පාපයාගේ පැමිණීමෙක් නැත. සතුන් මරමින් මරවමින්, සිඳිමින් සිඳුවමින්, පෙළමින් පෙළවමින්, ගංගා නදියේ දකුණු තෙරට නමුදු යන්නේ නම්, ඒ හේතුයෙන් පවෙක් නැත, පවේ පැමිණීමෙක් නැත දෙමින් දෙවමින්, යාග කරමින් කරවමින්, ගංගා නදියේ උතුරු තෙරට නුමුදු යන්නේ නම් ඒ හේතුයෙන් පිනෙක් නැත, පින් පැමිණීමෙක් නැත දීමෙන්, ඉඳුරන් දැමීමෙන් (හෝ පෙහෙවස් විසීමෙන්) ශීලසංයමයෙන්, සබවස් රැකීමෙන් පිනෙක් නැත, පින් පැමිණීමෙක් නැත'' යනු යි.

ඉත්ථං ඛො මෙ භන්තෙ පූරණො[1] කස්සපො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො අකිරියං බ්‍යාකාසි [2]

සෙය්‍යථාපි භන්තෙ අම්බං වා පුට්ඨො ලබුජං බ්‍යාකරෙය්‍ය[2] ලබුජං වා පුට්ඨො අම්බං බ්‍යාකරෙය්‍ය[2], එවමෙව ඛො මෙ භන්තෙ පූරණො[1] කස්සපො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො අකිරියං බ්‍යාකාසි.[2]

තස්ස මය්හං භන්තෙ එතදහොසි 'කථං හි නාම මාදිසො සමණං වා බ්‍රාහ්මණං වා විජිතෙ වසන්තං අපසාදෙතබ්බං මඤ්ඤෙය්‍යා'ති. සො ඛො අහං භන්තෙ පූරණස්ස කස්සපස්ස භාසිතං නෙව අභිනන්දිං නපටික්කොසිං.[3] අනභිනන්දිත්වා අප්පටික්කොසිත්වා අනත්තමනො අනත්තමනවාචං අනිච්ඡාරෙත්වා තමෙව වාචං අනුග්ගණ්හන්තො[4] අනික්කුජ්ජෙන්තො[5] උට්ඨායාසනා පක්කාමිං [6]

18. එකමිදාහං භන්තෙ සමයං යෙන මක්ඛලී ගොසාලො තෙනුප-සංකමිං උපසංකමිත්වා මක්ඛලිනා ගොසාලෙන[7] සද්ධිං සම්මොදිං. සම්මොදනීයං කථං සාරාණීයං[8] වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ මක්ඛලිං ගොසාලං[9] එතදවොචං [10] 'යථා නු ඛො ඉමානි භො ගොසාල පුථුසිප්පායතනානි සෙය්‍යථීදං හත්ථාරොහා -පෙ- සක්කා නු ඛො භො ගොසාල එවමෙව දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතුන්ති

19 එවං වුත්තෙ භන්තෙ මක්ඛලි ගොසාලො මං එතදවොච 'නත්ථි මහාරාජ හෙතු නත්ථි පච්චයො සත්තානං සංකිලෙසාය අහෙතු අප්පච්චයා සත්තා සංකිලිස්සන්ති නත්ථි හෙතු නත්ථි පච්චයො සත්තානං විසුද්ධියා අහෙතු අප්පච්චයා සත්තා විසුජ්ඣන්ති නත්ථි අත්තකාරෙ නත්ථි පරකාරෙ නත්ථි පුරිසකාරෙ නත්ථි බලං නත්ථි විරියං නත්ථි පුරිසථාමො නත්ථි පුරිසපරක්කමො සබ්බෙ සත්තා සබ්බෙ පාණා සබ්බෙ භූතා සබ්බෙ ජීවා අවසා අබලා අවිරියා නියතිසඞ්ගතිභාවපරිණතා ඡසෙවාභිජාතිසු සුඛදුක්ඛං පටිසංවෙදෙන්ති

චුද්දස ඛො පනිමානි යොනිප්පමුඛසතසහස්සානි සට්ඨි ච සතානි ඡ ච සතානි, පඤ්ච ච කම්මුනො සතානි, පඤ්ච ච කම්මානි, තීණි ච කම්මානි, කම්මෙ ච අඩ්ඪකම්මෙ ච

---

1 පූරාණො, මජසං 2 වා, PTS 3 නපටික්කොසිං, PTS
4 අනුග්ගණ්හන්තො, PTS 5 අනික්කුජ්ජන්තො, මජසං සකා
6 පක්කාමිං, මජසං 7 මක්ඛලිගොසාලෙන, PTS 8 සාරණීයං, මජසං
9 මක්ඛලිගොසාලං, PTS 10 එතදවොච, PTS
11 පඤ්ඤපෙතුන්ති PTS

වහන්ස, මෙසේ කාශ්‍යප පූරණයෝ මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලය විචාරන ලදුවෝ ම අක්‍රියාවාදය දක්වූහ වහන්ස, අඹ කෙබඳු දැ ? යි විචාරන ලදුයේ දෙල් මෙබඳු යැ යි කියන්නේත් දෙල් විචාරන ලදු වැ අඹ මෙබඳු යැ යි කියන්නේත් යම්සේ ද, එසේ ම වහන්ස, කාශ්‍යප පූරණයෝ මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය විචාරන ලදුවෝ ම අක්‍රියාවාදය පැවැසූහ.

වහන්ස, ඒ මට 'මා වැන්නෙක් සිය රටෙහි වසන මහණකු හෝ බමුණකු පෙළියැ යුතු කොට කෙසේ නම් සිතනු හැක්කේ ද ?' යි මේ සිත විය වහන්ස, ඒ මම් කාශ්‍යප පූරණයන්ගේ වචනය නො පැසැසීමි. විරුද්ධ බසකුදු නො කීමි නො පසසා විරුදු බසක් ද නො කියා, නො සතුටු සිතැත්තෙමි, නොසතුටු බසක් නො නික්මවා, ඔවුන් බස සාර වශයෙන් නො ගන්නෙමි, සාර වශයෙන් සිතැ නො තබන්නෙමි, උනස්නෙන් නැඟී නික්මිණිමි

18 වහන්ස, අන් එක් වරෙක මම් ගෝසාල මක්ඛලීන් වෙත එළැඹියෙමි එළැඹ ඔවුන් හා සතුටු වීමි සතුටට කරුණු වූ සිතැ රැඳැවියැ යුතු වූ කතා බස් කොට අවසනැ පසෙක ඉඳ ගතිමි පසෙක ඉඳ ගන්නෙමි, වහන්ස, මම් ගෝසාල මක්ඛලීහු අමතා, 'භවත් ගෝසාලයිනි, යම් සේ ඇතරුවෝ ය අසරුවෝ ය යන මොහු හැම මෙ අත්බව්හි ම තමන් විසින් දක්නැ හැකි ඵල විපාක ඇති ශිල්ප නිසා දිවි රකිත් ද, ඔහු එයින් තමන් මාපියන් අඹුදරුවන් හා යහළුවන් සුවපත් කෙරෙත් ද, පිනවත් ද, මහණබමුණන් විෂයයෙහි දන් පිහිටුවත් ද, භවත් ගෝසාලයිනි, මෙසේ ම මහණදමෙහි මෙහි ම අත් දක්නැ හැකි ඵලවිපාක-යක් දක්වන්නට හැකි ද ?'යි මෙය විචාළෙමි

19. වහන්ස, මෙසේ විචාළ කල්හි ගෝසාල මක්ඛලීහු මට මෙය කීහ "මහරජ, සත්ත්වයන්ගේ කෙලෙසීමට හේතුවෙක් ප්‍රත්‍යය-යෙක් නැත හේතුවක් නැති වැ ප්‍රත්‍යයයක් නැති වැ (ඉබේ ම) සත්ත්වයෝ කෙලෙසෙත් සත්ත්වයන්ගේ පිරිසිදු වීමට ද හේතුවෙක් නැත, ප්‍රත්‍යයයෙක් නැත හේතු නැති වැ ප්‍රත්‍යය නැති වැ සත්ත්වයෝ පිරිසිදු වෙත් තමාගේ යහපත සඳහා තමා විසින් කළ යුතු කම්යෙක් නැත අනුන්ගේ යහපත සඳහා කළයුතු අවවාදානුශාසනාදි කමීයෙක් ද නැත කරන්නහු සැපතට පමුණුවන පුරුෂ කාරීයෙක් ද නැත සැපත් ලබනුවට ඉවහල් වන බලය කියා එකෙක් නැත විරිය කියා එකෙක් නැත පුරුෂශක්තිය කියා එකෙක් නැත පුරුෂ පරාක්‍රමය කියා එකෙක් නැත හැම සත්තු හැම ප්‍රාණීහු හැම භූතයෝ හැම ජීවයෝ තමන්ගේ ශක්තියක් බලයක් විරියක් නැත්තෝ ම නියමය, සංගතිය (තම තමා අයත් වගයට පැමිණීම), ස්වභාවය යන මේ තුනින් පරිණාමයට පැමිණියෝ අභිජාති සයෙක්හි ම සැප දුක් විඳිත්

මේ ප්‍රමුඛ යෝනීහු තුදුස් ලක්ෂ සදහස් සයියෙකි කම් පන්සියෙකි (අත් සැටියෙකින්) කම් පසෙක් ද කම් තුනෙක් ද වෙත්. (කායවාක්-කම් වූ) පුණ් කම් ද, (මනඃකම් වූ) අඩ කම් ද වේ

ඡළාසීති පටිපදා, ඡළාසීතන්තරකප්පා, ඡළභිජාතියො, අට්ඨ පුරිස-භූමියො, එකූනපඤ්ඤාස ආජීවකසතෙ, එකූනපඤ්ඤාස පරිබ්බාජකසතෙ, එකූනපඤ්ඤාස නාගාවාසසතෙ, වීසෙ ඉන්ද්‍රියසතෙ, තිංස නිරයසතෙ, ඡත්තිංස රජොධාතුයො, සත්ත සඤ්ඤීගබ්භා, සත්ත අසඤ්ඤීගබ්භා, සත්ත නිගණ්ඨිගබ්භා, සත්ත දෙවා, සත්ත මානුසා, සත්ත පෙසාචා, සත්ත සරා, සත්ත පවුටා, සත්ත පවුටසතානි, සත්ත පපාතා, සත්ත පපාතසතානි, සත්ත සුපිනා, සත්ත සුපිනසතානි, චුල්ලාසීති මහාකප්පුනො සතසහස්සානි යානි බාලෙ ච පණ්ඩිතෙ ච සන්ධාවිත්වා සංසරිත්වා දුක්ඛස්සන්තං කරිස්සන්ති

තත්ථ නත්ථි ඉමිනාහං සීලෙන වා වතෙන වා තපෙන වා බ්‍රහ්මචරියෙන වා අපරිපක්කං වා කම්මං පරිපාචෙස්සාමීති පරිපක්කං වා කම්මං ඵුස්ස ඵුස්ස බ්‍යන්තී කරිස්සාමීති හෙවං නත්ථි දොණමිතෙ සුඛදුක්ඛෙ පරියන්තකතෙ සංසාරෙ නත්ථි හායනවඩ්ඪනෙ, නත්ථි උක්කංසාවකංසෙ සෙය්‍යථාපි නාම සුත්තගුළෙ ඛිත්තෙ නිබ්බෙඨියමානමෙව පලෙති, එවමෙව බාලෙ ච පණ්ඩිතෙ ච සන්ධාවිත්වා සංසරිත්වා දුක්ඛස්සන්තං කරිස්සන්තීති

ඉත්ථං ඛො මෙ භන්තෙ මක්ඛලී ගොසාලො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො සංසාරසුද්ධිං බ්‍යාකාසි සෙය්‍යථාපි භන්තෙ අම්බං වා පුට්ඨො ලබුජං බ්‍යාකරෙය්‍ය, ලබුජං වා පුට්ඨො අම්බං බ්‍යාකරෙය්‍ය, එවමෙව ඛො මෙ භන්තෙ මක්ඛලී ගොසාලො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො සංසාරසුද්ධිං බ්‍යාකාසි තස්ස මය්හං භන්තෙ එතදහොසි කථං හි නාම මාදිසො සමණං වා බ්‍රාහ්මණං වා විජිතෙ වසන්තං අපසා-දෙතබ්බං මඤ්ඤෙය්‍යාති සො ඛො අහං භන්තෙ මක්ඛලිස්ස ගොසාලස්ස භාසිතං නෙව අභිනන්දිං නප්පටික්කොසිං අනභිනන්දිත්වා අප්පටික්කොසිත්වා අනත්තමනො අනත්තමනවාචං අනිච්ඡාරෙත්වා තමෙව වාචං අනුග්ගණ්හ-න්තො අනික්කුජ්ජන්තො උට්ඨායාසනා පක්කාමිං

20 එකමිදාහං භන්තෙ සමයං යෙන අජිතො කෙසකම්බලො[1] තෙනුපසඞ්කමිං උපසඞ්කමිත්වා අජිතෙන කෙසකම්බලෙන[2] සද්ධිං සම්මොදිං සම්මොදනීයං කථං සාරාණීයං[3] වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ අජිතං කෙසකම්බලං[4] එතදවොචං[5] ‘යථා නු ඛො ඉමානි භො අජිත පුථුසිප්පායතනානි සෙය්‍යථීදං[6] හත්ථාරොහා -පෙ- සක්කා නු ඛො භො අජිත[7] එවමෙව දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතුන්ති ’’[8]

---

1 කෙසකම්බලී, සාළුවි
2 කෙසකම්බලිනා, සාළුවි
3 සාරණීයං මජසං
4 කෙසකම්බලිං, සාළුවි
5 එතදවොච, සාළුවි
6 සෙය්‍යථිදං, මජසං
7 ඛො අජිත, සාළුවි
8. පඤ්ඤපෙන්ති, මජසං

ප්‍රතිපත්ති දෙසැටෙකි, අන්තඃකල්ප දෙසැටෙකි අභිජාති සයෙකි. පුරුෂභූමි අටෙකි ජීවිකාවෘත්ති සාරදහස් නවසියෙකි පරිව්‍රාජකයන් පිළිබඳ ප්‍රව්‍රජ්‍යා සාරදහස් නවසියෙකි නාගමණ්ඩල සාරදහස් නවසියෙකි ඉන්ද්‍රියයෝ දෙදහසෙකි නිරයයෝ තුන්දහසෙකි අත්පිටු පාපිටු ආදී ධූලි තැවැරෙන තැන් සතිසෙකි. සංඥීගර්භ සතෙකි අසංඥී ගර්භ සතෙකි. නිර්ග්‍රන්ථගර්භ සතෙකි (පුරුකින් පැළ වෙන උක් හුණ ආදී ගර්භ සතෙකි.) දෙව වර්ග සතෙකි මනුෂ්‍යවර්ග සතෙකි පිශාච ජාති සතෙකි මහවිල් සතෙකි මහාපරිවර්ත සතෙකි කුඩා පරිවර්ත සත්සියෙකි මහාප්‍රපාත සතෙකි කුඩා ප්‍රපාත සත්සියෙකි මහාස්වප්න සතෙකි කුඩා ස්වප්න සත්සියෙකි අනුවණයනුත් නුවණැත්තනුත් සසරැ දිවැ හැවිද දුක් කෙළවර කිරීමට ගෙවියැ යුතු කල්ප අසූසාර ලක්‍ෂයෙකි

එහි මේ ශීලයෙන් හෝ ව්‍රතයෙන් හෝ තපසින් හෝ බඹසරින් හෝ නොමුහු කළ කර්මය මුහුකුරුවන්නෙමි යි කියා කළ යුත්තෙක් නැත මුහුකළ කර්මය විඳ විඳ ක්‍ෂීණ කරන්නෙමි යි කියා හෝ මෙසේ කළ යුතු දෑයෙක් නැත. ද්‍රෝණයෙන් මැන ප්‍රමාණවත් කරන ලද්දක් සේ සුව දුක් දෙක (කියනලද කාල සීමාව ගෙවුණු කල්හි) කෙළවර කැරුණේ වෙයි. සසර ගමනෙහි අඩු වීමෙක් වැඩි වීමෙක් නැත නැඟීමෙක් බැසීමෙක් නැත යම්සේ දමාලූ හුවටෙක් ලිහෙමින් දිග ඇති තෙක් ම යේ ද, එයින් මතු නො යේ ද, එ පරිදි ම අනුවණයෝත් නුවණැත්තෝත් (සසරැ) දිව හැවිද දුක් කෙළවර කරන්නාහ' යනු යි

වහන්ස, මෙසේ ගෝසාල මක්ඛලීහු මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය විචාරන ලදුවෝ ම සංසාරශුද්ධිවාදය පැවැසූ හ වහන්ස, අඹ කෙබඳු දැ යි විචාතර ලදුයේ දෙල් මෙබඳු යැ යි කියන්නේත් දෙල් කෙබඳු දැ යි විචාරන ලදුයේ අඹ මෙබඳු යැ යි කියන්නේත් යම්සේ ද, එ සේ ම ගෝසාල මක්ඛලීහු මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය විචාරන ලදුවෝ ම සංසාර ශුද්ධිය පැවැසූහ.

වහන්ස, ඒ මට 'මා වැන්නෙක් සිය රටැ වසන මහණකු හෝ බමුණකු පෙළියැ යුතු කොට කෙසේ නම් සිතියැ හැකි දැ'යි මේ සිත විය. වහන්ස, ඒ මම් ගෝසාල මක්ඛලීන්ගේ වචනය නො පැසැසීම්, එයට විරුද්ධ බසකුත් නො කීම් මෙසේ නො පසසා, නො ද විරුද්ධ බසක් කියා, නො සතුටු සිතැත්තෙම් නුමුදූ, නො සතුටු බසක් නො නික්මවා, එ ම බස සාර වශයෙන් නො ගන්නෙම්, සාර වශයෙන් සිතැ ද නො තබන්නෙම්, හුනස්නෙන් නැඟී නික්මිණිම්

20 වහන්ස, මම් එක් විටෙක කේශකම්බල අජිතයන් කරා එළැඹියෙම්. එළැඹ ඔහු හා සතුටු වීම් සතුටට කරුණු වූ සිතැ රැඳැවියැ යුතු වූ කතා බස් නිමවා එක් පසෙක හිඳැ ගතිම්. එසේ හිඳැ ගත්තෙම්, ඔහු අමතා 'භවත් අජිතයෙනි, යම්සේ ඇතරුවෝ ය අසරුවෝ ය .. යන මොහු හැම මේ අත්බව්හි ම තමන් විසින් දක්කැ හැකි ඵල ඇති ශිල්ප නිසා ජීවත් වෙත් ද, ඔහු එයින් තමන් තම මාපියන්... අඹුදරුවන් මිත්‍රාමාත්‍යයන් සුව පත් කෙරෙත් ද, පිනවත් ද, මහණබමුණන් විෂයයෙහි දන් පිහිටුවත් ද, භවත් අජිතයෙනි, මෙසේ ම මහණදමෙහිත් මේ අත්බව්හි මැ දක්කැ හැකි ඵල විපාකයක් දක්වන්නට හැකි දැ ?'යි මෙය විචාළෙම්.

එවං වුත්තෙ භන්තෙ අජිතො කෙසකම්බලො[1] මං එතදවොච "නත්ථි මහාරාජ දින්නං නත්ථි යිට්ඨං නත්ථි හුතං නත්ථි සුකතදුක්කටානං කම්මානං ඵලං විපාකො නත්ථි අයං ලොකො නත්ථි පරො[2] ලොකො නත්ථි මාතා නත්ථි පිතා නත්ථි සත්තා ඔපපාතිකා නත්ථි ලොකෙ සමණබ්‍රාහ්මණා සම්මග්ගතා[3] සම්මාපටිපන්නා යෙ ඉමඤ්ච ලොකං පරඤ්ච ලොකං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙන්ති චාතුම්මහාභූතිකො අයං පුරිසො යදා කාලං කරොති, පඨවී පඨවිකායං අනුපෙති අනුපගච්ඡති ආපො ආපොකායං අනුපෙති අනුපගච්ඡති තෙජො තෙජොකායං අනුපෙති අනුපගච්ඡති. වායො වායොකායං අනුපෙති අනුපගච්ඡති ආකාසං ඉන්ද්‍රියානි සංකමන්ති ආසන්දිපඤ්චමා පුරිසා මතං ආදාය ගච්ඡන්ති යාව ආළාහනා පදානි පඤ්ඤායන්ති කාපොතකානි අට්ඨීනි භවන්ති භස්මන්තා ආහුතියො දත්තුපඤ්ඤත්තං යදිදං දානං. තෙසං තුච්ඡං මුසා විලාපො යෙ කෙචි අත්ථිකවාදං වදන්ති බාලෙ ච පණ්ඩිතෙ ච කායස්ස භෙදා උච්ඡිජ්ජන්ති විනස්සන්ති න හොන්ති පරම්මරණා"ති

ඉත්ථං ඛො මෙ භන්තෙ අජිතො කෙසකම්බලො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො උච්ඡෙදං බ්‍යාකාසි සෙය්‍යථාපි භන්තෙ අම්බං වා පුට්ඨො ලබුජං බ්‍යාකරෙය්‍ය, ලබුජං වා පුට්ඨො අම්බං බ්‍යාකරෙය්‍ය, එවමෙව ඛො භන්තෙ අජිතො කෙසකම්බලො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො උච්ඡෙදං බ්‍යාකාසි

තස්ස මය්හං භන්තෙ එතදහොසි 'කථං හි නාම මාදිසො සමණං වා බ්‍රාහ්මණං වා විජිතෙ වසන්තං අපසාදෙතබ්බං මඤ්ඤෙය්‍යා' ති සො ඛො අහං භන්තෙ අජිතස්ස කෙසකම්බලස්ස භාසිතං නෙව අභිනන්දිං නප්පටික්කොසිං අනභිනන්දිත්වා අප්පටික්කොසිත්වා අනත්තමනො අනත්තමනවාචං අනිච්ඡාරෙත්වා තමෙව වාචං අනුග්ගණ්හන්තො අනික්කුජ්ජන්තො උට්ඨායාසනා පක්කාමිං

1 කෙසකම්බලී, PTS 2 පරලොකො, සාන්චි
3 සව්ගගතා, සව්ගගගතා, මජසං

වහන්ස, මෙසේ මා විචාළ කල්හි, කේශකම්බල අජිතයෝ මට මෙය කීහ "මහරජ, දුන් දෑයෙහි පල නැත කළ මහායාගයෙහි පල නැත කුශලාකුශල කර්මයන්ගේ ඵලයෙක් විපාකයෙක් නැත. පරලොවැ සිටියහට මෙ ලොව නැත, මෙලොව සිටියාහට පරලොවෙක් නැත මවට උපකාර අපකාර කිරීමෙහි ඵල විපාක නැත පියාට උපකාර අපකාර කිරීමෙහි ඵල විපාක නැත උපපාතික (මෙසින් සැව නැවත උපදනා) සත්ත්වයෝ නැත සම්‍යග්ගත (නිවැරැදි මඟින් ගිය) සම්‍යක්ප්‍රතිපන්න (නිසි මඟ පිළිපන්), මෙ ලොවත් පරලොවත් තුමූ ම විශේෂයෙන් දැන පසක් කොට (ලොවට) හෙළි කරන මහණබමුණු කෙනෙක් නැත. සතර මහාභූතයන්ගෙන් නිපන් මේ පුරුෂ තෙමේ යම් විටෙක කළුරිය කෙරේ නම්, එ විටැ (මොහුගේ කයෙහි වූ) පෘථිවීධාතුව බාහිර පෘථිවීධාතු රැස කරා යෙයි, එය අනුගමනය කරයි ආපෝධාතුව බාහිර ආපෝධාතු රැස කරා යෙයි, එය අනුගමනය කරයි තේජෝධාතුව බාහිර තේජෝධාතු රැස කරා යෙයි, එය අනුගමනය කරයි වායුධාතුව බාහිර වායුධාතුව කරා යෙයි, එය අනුගමනය කරයි. ඇස් ආදී ඉන්ද්‍රියයෝ අහසට පැන යෙත් වැද හොත් ඇඳ පස්වනු කොටැති පුරුෂයෝ මළ සිරුර ගෙන යෙත් සොහොන තෙක් පමණක් පදයෝ (ගුණාගුණ වචනයෝ) පැණෙත් ඇට පරෙවි-වන් වේ ආගන්තුකසත්කාරාදි වශයෙන් දුන් දන් මළ සිරිරෙහි අළු කිස නිමහම් තෙක් ම වේ (එයින් පසු එහි කිසිත් ඉතිරි නො වේ ) දන යනු අඥයන් විසින් පණවන ලද්දෙකි යම් කෙනෙක් ආස්තික වාදය (පරලොවක් ඇතැයි කර්ම විපාක ඇතැයි යන ආදි වූ වාදය) කියත් නම්, එය ඔවුන්ගේ හිස් බොරුවෙකි, ප්‍රලාපයෙකි අනුවණයෝ ද නුවණැත්-තෝ ද යන හැම කය බිඳීමෙන් මුල් සුන් වෙත්, වැනැසෙත්, මරණින් මතු ඇති නො වෙත්" යනු යි

වහන්ස, මෙසේ කේශකම්බල අජිතයෝ මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය විචාරන ලදුවෝ ම උච්ඡේදවාදය පැවැසූහ වහන්ස, යම්සේ අඹ විචාරන ලද්දේ දෙල් කියන්නේ ද, දෙල් හෝ විචාරන ලද්දේ අඹ හෝ කියන්නේ ද, එසේ ම, වහන්ස, කේශකම්බල අජිතයෝ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය විචාරන ලදුවෝ ම උච්ඡේදවාදය පැවැසූහ

වහන්ස, ඒ මට 'මා වැන්නෙක් සිය රටෙහි වසන මහණකු හෝ බමුණකු වෙහෙසිය යුතු කොට කෙසේ නම් සිතියැ හෙන්නේ ද ?'යි මේ සිත විය වහන්ස, ඒ මම් කේශකම්බල අජිතයන්ගේ බස නො ම පැසැසීම්, එයට විරුද්ධ බසක් ද නො කීම් එය නො ම පසසා, විරුද්ධ බසකුත් නො කියා, නො සතුටු සිතැත්තෙම්, නො සතුට හඟවන බසකුත් නො නික්මවා, ඔවුන්ගේ ඒ වචන සාර වශයෙන් නො ගන්නෙම්, සාර වශයෙන් සිතැ නො පිහිටුවන්නෙම්, හුනස්නෙන් නැඟී නික්මිණිම්.

21 එකමිදාහං භන්තෙ සමයං යෙන පකුධො කච්චායනො තෙනුපසඞ්කමිං උපසඞ්කමිත්වා පකුධෙන කච්චායනෙන සද්ධිං සම්මොදිං සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං. එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ පකුධං කච්චායනං එතදවොචං: යථා නු ඛො ඉමානි භො කච්චායන පුථුසිප්පායතනානි, සෙය්‍යථීදං. හත්ථාරොහා -පෙ- සක්කා නු ඛො භො කච්චායන එවමෙව දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතු ?න්ති

එවං වුත්තෙ භන්තෙ පකුධො කච්චායනො මං එතදවොච "සත්තිමෙ මහාරාජ කායා අකටා අකටවිධා අනිම්මිතා අනිම්මාතා වඤ්ඣා කූටට්ඨා එසිකට්ඨායිට්ඨිතා තෙ න ඉඤ්ජන්ති, න විපරිණමන්ති, න අඤ්ඤමඤ්ඤං ව්‍යාබාධෙන්ති, නාලං අඤ්ඤමඤ්ඤස්ස සුඛාය වා දුක්ඛාය වා සුඛදුක්ඛාය වා කතමෙ සත්ත ? පඨවිකායො ආපොකායො තෙජොකායො වායොකායො සුඛෙ දුක්ඛෙ ජීවෙ සත්තමෙ ඉමෙ සත්ත කායා අකටා අකටවිධා අනිම්මිතා අනිම්මාතා වඤ්ඣා කූටට්ඨා එසිකට්ඨායිට්ඨිතා තෙ න ඉඤ්ජන්ති, න විපරිණමන්ති, න අඤ්ඤමඤ්ඤං ව්‍යාබාධෙන්ති, නාලං අඤ්ඤමඤ්ඤස්ස සුඛාය වා දුක්ඛාය වා සුඛදුක්ඛාය වා. තත්ථ නත්ථි හන්තා වා ඝාතෙතා වා සොතා වා සාවෙතා වා විඤ්ඤාතා වා විඤ්ඤාපෙතා වා යො'පි තිණ්හෙන සත්ථෙන සීසං ඡින්දති, න කොචි කඤ්චි ජීවිතා වොරොපෙති. සත්තන්නං යෙව කායානමන්තරෙන සත්ථං විවරමනුපතතී"ති

ඉත්ථං ඛො මෙ භන්තෙ පකුධො කච්චායනො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො අඤ්ඤෙන අඤ්ඤං බ්‍යාකාසි සෙය්‍යථාපි භන්තෙ අම්බං වා පුට්ඨො ලබුජං බ්‍යාකරෙය්‍ය, ලබුජං වා පුට්ඨො අම්බං බ්‍යාකරෙය්‍ය, එවමෙව ඛො මෙ භන්තෙ පකුධො කච්චායනො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො අඤ්ඤෙන අඤ්ඤං බ්‍යාකාසි.

තස්ස මය්හං භන්තෙ එතදහොසි කථං හි නාම මාදිසො සමණං වා බ්‍රාහ්මණං වා විජිතෙ වසන්තං අපසාදෙතබ්බං මඤ්ඤෙය්‍යා ?'ති. සො ඛො අහං භන්තෙ පකුධස්ස කච්චායනස්ස භාසිතං නෙව අභිනන්දිං නප්පටි-ක්කොසිං අනභිනන්දිත්වා අප්පටික්කොසිත්වා අනත්තමනො අනත්තමනවාචං අනිච්ඡාරෙත්වා තමෙව වාචං අනුග්ගණ්හන්තො අනික්කුජ්ජන්තො උට්ඨා-යාසනා පක්කාමිං

22. එකමිදාහං භන්තෙ සමයං යෙන නිගණ්ඨො නාතපුත්තො තෙනුපසඞ්කමිං උපසඞ්කමිත්වා නිගණ්ඨෙන නාතපුත්තෙන සද්ධිං සම්මොදිං සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ නිගණ්ඨං නාතපුත්තං එතදවොචං

21 වහන්ස, අන් එක්වරෙක මම් කාත්‍යායනගෝත්‍රික පකුධයන් වෙත ගියෙමි ගොස් ඔවුන් හා සතුටු වීම් සතුටට කරුණු වූ සිහි රැඳැවියැ යුතු වූ කතාබස් නිමවා පසෙක ඉඳගතිමි එසේ ඉඳගත් මම් කාත්‍යායන පකුධයන් අමතා "භවත් කාත්‍යායනයිනි, යම් සේ ඇතරුවෝ ය, අසරුවෝ ය යන මොහු හැම මේ අත්බව්හි ම තමන් විසින් දක්ක හැකි ඵල ඇති ශිල්ප නිසා ජීවත් වෙත්ද, ඔහු එයින් තමන් තම මා පියන් . අඹුදරුවන් මිතුරන් කම්කරුවන් සුවපත් කෙරෙත් ද, පිණවත් ද, මහණබමුණනට . දන් දෙත් ද, භවත් කාත්‍යායනයෙනි, මෙසේ ම මහණ-දමෙහිත් මෙ අත්බව්හි ම දක්කැ හැකි ඵලයක් දක්වන්නට හැකි ද ?"යි මෙය විචාළෙමි

වහන්ස, මෙසේ මා විචාළ කල්හි කාත්‍යායන පකුධයෝ මට මෙය කීහ

"මහරජ, කිසිවකු විසින් නො කරන ලද, නො කළ විධාන ඇති, ඉදු බෙලෙනුදු නො මවන ලද, අන් කිසිදු ලෙසෙකින් නො ම මවනලද, වඳ වූ (කිසිවක් නො උපදවන), පවුකුළක් සේ ස්ථිර (හෙවත් පරිණාම රහිත), ඉන්ද්‍රකීලයක් සේ තර වැ සිටිනුයෙන් නාගවුරු වූ, කාය (සමූහ) සතෙක් වෙත් කවර සතෙක් ද ? යත් පඨවිකාය, ආපොකාය, තෙජොකාය, වායොකාය, සුඛ, දුකඛ, සත්වන ජීවය ද වෙත් ඔහු නො සැලෙත් නො පෙරළෙත් උනුනට බාධක නො වෙත් උනුනට සුවය හෝ දුක හෝ සුව දුක් දෙක ම හෝ දීමට සමත් නො වෙත් ඒ කාය සතෙහි නසන්නෙක් හෝ නස්වන්නෙක් හෝ, අසන්නෙක් හෝ අස්වන්නෙක් හෝ, දැන ගන්නෙක් හෝ දන්වන්නෙක් හෝ නැත. යමෙක් තියුණු සැතෙකින් හිස සිඳින්නේ නම්, එහි කිසිවෙක් කිසිවකු දිවියෙන් තොර නො කරයි. වැලි, සප්තකායයන් අතරින් ආයුධය විවරයට වැද ගනී" යනු යි

වහන්ස, මෙසේ මා විසින් සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵල විචාරන ලද කාත්‍යායන පකුධයෝ අනෙකකින් අනෙකක් (ඉදුරා ම එයට විරුද්ධ දැයක්) පැවැසූහ වහන්ස, අඹ විචාරන ලද්දේ දෙල් ගැන කරුණු කියන්නේත් දෙල් විචාරන ලද්දේ අඹ ගැන කරුණු කියන්නේත් යම්සේ ද, එසේ ම, වහන්ස, කාත්‍යායන පකුධයෝ මා විසින් සාන්-දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵල විචාරන ලදුවෝ ම අනෙකෙන් අනෙකක් (ඉදුරා ම වෙනස් දැයක්) පැවැසී ය

වහන්ස, ඒ මට "සිය රටෙහි වසන මහණකු හෝ බමුණකු වෙහෙසිය යුතු කොට මා වැන්නෙක් කෙසේ නම් සිතන්නේ ද ?"යි මේ සිත විය වහන්ස, ඒ මම් කාත්‍යායන පකුධයන්ගේ වචනය නො පැස-සීම් නො ද විරුද්ධ බසක් කීම් නො පසසා, විරුද්ධ බසක් ද නො කියා, නො සතුටු සිතැත්තෙමි, නො සතුට හඟවන බසක් නො කියා, ඒ ඔවුන් ගේ බස සාරවශයෙන් නො ගත්තෙමි, සාරවශයෙන් සිතැ නො තබා ගන්නෙමි, හුනස්නෙන් නැඟී නික්මිණිමි

22 වහන්ස, තවත් එක් විටෙක මම් ඥාතපුත්‍රනිර්ග්‍රන්ථයන් කරා එළැඹුණෙමි එළැඹ ඔවුන් හා සතුටු වීම් සතුටට කරුණු වූ සිහි රැඳැවියැ යුතු වූ කතාබස් නිමවා එක් පසෙක හුන්නෙමි වහන්ස, පසෙක හුන් මම් ඔවුන් අමතා-

“යථා නු ඛො ඉමානි භො අග්ගිවෙස්සන පුථුසිප්පායතනානි, සෙය්‍යථීදං හත්ථාරොහා -පෙ- සක්කා නු ඛො භො අග්ගිවෙස්සන එවමෙවං දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතු” ?න්ති

එවං වුත්තෙ භන්තෙ නිගණ්ඨො නාතපුත්තො මං එතදවොච “ඉධ මහාරාජ නිගණ්ඨො චාතුයාමසංවරසංවුතො හොති කථඤ්ච මහාරාජ නිගණ්ඨො චාතුයාමසංවරසංවුතො හොති? ඉධ මහාරාජ නිගණ්ඨො සබ්බවාරිවාරිතො ච හොති, සබ්බවාරියුතො ච, සබ්බවාරිධුතො ච, සබ්බවාරිඵුටො[1] ච එවං ඛො මහාරාජ නිගණ්ඨො චාතුයාමසංවරසංවුතො හොති යතො ඛො මහාරාජ නිගණ්ඨො එවං චාතුයාමසංවරසංවුතො හොති, අයං වුච්චති මහාරාජ නිගණ්ඨො ගතත්තො ච යතත්තො ච ඨිතත්තො චා” ති

ඉත්ථං ඛො මෙ භන්තෙ නිගණ්ඨො නාතපුත්තො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො චාතුයාමසංවරං බ්‍යාකාසි. සෙය්‍යථාපි භන්තෙ අම්බං වා පුට්ඨො ලබුජං බ්‍යාකරෙය්‍ය, ලබුජං වා පුට්ඨො අම්බං බ්‍යාකරෙය්‍ය, එවමෙව ඛො භන්තෙ නිගණ්ඨො නාතපුත්තො සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුට්ඨො සමානො චාතුයාමසංවරං බ්‍යාකාසි

තස්ස මය්හං භන්තෙ එතදහොසි කථං හි නාම මාදිසො සමණං වා බ්‍රාහ්මණං වා විජිතෙ වසන්තං අපසාදෙතබ්බං මඤ්ඤෙය්‍යා ?'ති. සො ඛො අහං භන්තෙ නිගණ්ඨස්ස නාතපුත්තස්ස භාසිතං නෙව අභිනන්දිං. නප්පටික්කොසිං අනභිනන්දිත්වා අප්පටික්කොසිත්වා අනත්තමනො අනත්තමනවාචං අනිච්ඡාරෙත්වා තමෙව වාචං අනුග්ගණ්හන්තො අනික්කුජ්ජන්තො උට්ඨායාසනා පක්කාමිං.

23 එකමිදාහං භන්තෙ සමයං යෙන සඤ්ජයො බෙලට්ඨිපුත්තො[2] තෙනුපසඞ්කමිං උපසඞ්කමිත්වා සඤ්ජයෙන බෙලට්ඨිපුත්තෙන සද්ධිං සම්මොදිං. සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිං. එකමන්තං නිසින්නො ඛො අහං භන්තෙ සඤ්ජයං බෙලට්ඨිපුත්තං එතදවොචං “යථා නු ඛො ඉමානි භො සඤ්ජය පුථුසිප්පායතනානි, සෙය්‍යථීදං – හත්ථාරොහා -පෙ- සක්කා නු ඛො භො සඤ්ජය එවමෙව දිට්ඨෙව ධම්මෙ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පඤ්ඤපෙතු” ?න්ති

1 ඵුටො, PTS ඵුඨො (ජෙනමාගධී)

2 බෙලට්ඨපුත්තො, කත්ථචි

50 මහරජාණෙනි, මහණ තෙමේ කෙසේ නම් ස්මෘතිසම්ප්‍රජානනයෙන් (සිහි නුවණින්) සමන්විත වේ ද? යත්

මහරජාණෙනි, මෙ සස්නෙහි මහණ තෙමේ ඉදිරියට යෑමෙහි පෙරළා ඒමෙහි (ආපස හැරීමෙහි) මනා නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි ඉදිරි බැලීමෙහි, අනුදික් බැලීමෙහි (වට පිට බැලීමෙහි) මනා නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි අත් පා ආදිය හැකිලීමෙහි, දිගු කිරීමෙහි නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි සඟළසිවුර ද පාත්‍රය ද සෙසු සිවුරු ද දැරීමෙහි නුවණින් දැන ම කරන්නේ වෙයි ආහාර ගැනීමෙහි, පැන් පීමෙහි, පිටි කැවිලි ආදිය කෑමෙහි, මී ආදිය රස විඳීමෙහි, නුවණින් දැන ම කරනුයේ වෙයි මල මූ පහ කිරීමෙහි නුවණින් දැන ම කරනුයේ වෙයි ගමනෙහි සිටීමෙහි හිඳීමෙහි නිදීමෙහි කථා කිරීමෙහි, නො බිණීමෙහි නුවණින් දැන කරනුයේ වෙයි මහරජාණෙනි, මෙසේ වනාහි මහණ තෙමේ සිහි නුවණින් සමන්විත වෙයි

15 මහරජාණෙනි, කෙසේ නම් මහණ තෙමේ ලද පමණෙහි සතුටු වේ ද? යත්:

මහරජාණෙනි, මෙ සස්නෙහි මහණ තෙමේ කායපරිහරණයට ප්‍රමාණ වූ සිවුරින් ද කුක්ෂිපරිහරණයට ප්‍රමාණ වූ ආහාරයෙන් ද සතුටු වෙයි හේ යම් යම් තැනකට නික්මේ ද, අට පිරිකර පමණක් ගෙන ම නික්මෙයි මහරජාණෙනි (පියා හඹනුවට තරම්) අන්නවූ ඇති කුරුළු තෙමේ යම් යම් තැනක පියා හඹා යේ නම්, පියාපත්බර සහිත ව ම යම් සේ පියාහඹා ද, එසේ ම, මහරජාණෙනි, ඒ මහණ තෙමේ කායපරිහරණයට ප්‍රමාණ වූ සිවුරින් ද කුක්ෂිපරිහරණයට ප්‍රමාණ වූ ආහාරයෙන් ද සතුටු වෙයි හේ යම් යම් තැනකට යේ ද පා සිවුරු (ආදි අට පිරිකර පමණක්) රැගෙන ම යෙයි මහරජාණෙනි, මෙසේ වනාහි මහණ තෙමේ ලද පසයෙහි සතුටු වේ

52 මහරජාණෙනි, ඒ මහණ තෙමේ මේ ආයි ශීලස්කන්ධයෙන් ද සමන්විත වූයේ, මේ ආයී ඉන්ද්‍රියසංවරයෙන් ද සමන්විත වූයේ, මේ ආයි ස්මෘතිසම්ප්‍රජානනයෙන් ද සමන්විත වූයේ, මේ ආයි සන්තුෂ්ටියෙන් ද සමන්විත වූයේ, අරණ්‍ය වෘක්ෂමූල පර්වත කඳුරැලි ගිරිගුහා සොහොන් වනපෙත් (වනප්‍රස්ථ) අභ්‍යවකාශ (එළිමහන්) පිදුරුලෙන් යන මෙ කී ජනශූන්‍ය කිසි සෙනසුනක් භජනය කෙරෙයි හේ පිඬු සිඟීමෙන් පෙරළා ආයේ, පසුබත් සෙමෙහි, පලක් බැඳ උඩු කය කෙළින් පිහිටුවා, කම්ටහනට අභිමුඛ කොට සිහිය එළවා හිඳී

53 හේ ලොවැ (පඤ්ච උපාදානස්කන්ධය කෙරෙහි) ඇල්ම හැර, විෂ්කම්භණප්‍රහාණයෙන් (යට පත් කිරීමෙන්) පහ වූ අභිධ්‍යායෙන් ශූන්‍ය සිතින් වෙසෙසි අභිධ්‍යාව කෙරෙන් සිත පිරිසිදු කෙරෙසි. ව්‍යාපාද ප්‍රද්වේෂය (ක්‍රෝධය) හැර, ව්‍යාපාද රහිත සිතැත්තේ, සියලු පණ ඇති සතුන් කෙරේ හිතානුකම්පා ඇති වැ වෙසෙසි ක්‍රෝධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි ස්ත්‍යානමිද්ධය හැර, පහ වූ ස්ත්‍යානමිද්ධය ඇත්තේ, රාත්‍රිය දෙක්හි ම දුටු එළිය හඳුනනු හැකි පිරිසිදු සංඥාව ඇත්තේ, සිහියෙනුත් නුවණිනුත් යුක්ත වූයේ වෙසෙසි ස්ත්‍යානමිද්ධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි. උද්ධච්ච (සිත නොසංසුන් බවත්) කුක්කුච්ච (කළ නො කළ දෑයෙහි පසුතැවිල්ලත්) සිතින් දුරු ලා, අනුද්ධත වැ (නොසංසුන් බැවින් තොර වැ), සංසිඳුණු සවකීය චිත්තසන්තානය ඇත්තේ, උද්ධච්ච කුක්කුච්ච දෙක කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි සැකය දුරු ලා, පහ වූ සැක ඇත්තේ, කුසල් දහම්හි සැක නො කරනුයේ, සැකය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි

54 සෙය්‍යථාපි මහාරාජ පුරිසො ඉණං ආදාය කම්මන්තෙ පයො-
ජෙය්‍ය, තස්ස තෙ කම්මන්තා සමිජ්ඣෙය්‍යුං, සො යානි ච පොරාණානි
ඉණමූලානි තානි ච ව්‍යන්තීකරෙය්‍ය, සියා චස්ස උත්තරිං අවසිට්ඨං
දාරභරණාය, තස්ස එවමස්ස· "අහං ඛො පුබ්බෙ ඉණං ආදාය කම්මන්තෙ
පයොජෙසිං තස්ස මෙ තෙ කම්මන්තා සමිජ්ඣිංසු සො'හං යානි ච
පොරාණානි ඉණමූලානි තානි ච ව්‍යන්තී අකාසිං අත්ථි ච මෙ උත්තරිං
අවසිට්ඨං දාරභරණායා"ති. සො තතොනිදානං ලභෙථ පාමොජ්ජං, අධි-
ගච්ඡෙය්‍ය සොමනස්සං–

55. සෙය්‍යථාපි මහාරාජ පුරිසො ආබාධිකො අස්ස දුක්ඛිතො
බාළ්හගිලානො, භත්තං චස්ස නච්ඡාදෙය්‍ය, න චස්ස කායෙ බලමත්තා,
සො අපරෙන සමයෙන තම්හා ආබාධා මුච්චෙය්‍ය, භත්තඤ්චස්ස ඡාදෙය්‍ය,
සියා චස්ස කායෙ බලමත්තා, තස්ස එවමස්ස· "අහං ඛො පුබ්බෙ ආබාධිකො
අහොසිං දුක්ඛිතො බාළ්හගිලානො භත්තං ච මෙ නච්ඡාදෙසි. නචස්ස
මෙ ආසි කායෙ බලමත්තා සො'මහි එතරහි තම්හා ආබාධා මුත්තො
භත්තඤ්ච මෙ ඡාදෙති අත්ථි ච මෙ කායෙ බලමත්තා"ති සො තතොනිදානං
ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

56 සෙය්‍යථාපි මහාරාජ පුරිසො බන්ධනාගාරෙ බද්ධො අස්ස, සො
අපරෙන සමයෙන තම්හා බන්ධනාගාරා මුච්චෙය්‍ය සොත්ථිනා අබ්බයෙන[1],
න චස්ස කිඤ්චි භොගානං වයො, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ
බන්ධනාගාරෙ බද්ධො අහොසිං සො'මහි එතරහි තම්හා බන්ධනාගාරා මුත්තො
සොත්ථිනා අබ්බයෙන නත්ථි ච මෙ කිඤ්චි භොගානං වයො"ති. සො
තතොනිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

57 සෙය්‍යථාපි මහාරාජ පුරිසො දාසො අස්ස අනත්තාධීනො
පරාධීනො න යෙනකාමංගමො, සො අපරෙන සමයෙන තම්හා දාසබ්‍යා
මුච්චෙය්‍ය අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමංගමො, තස්ස
එවමස්ස "අහං ඛො පුබ්බෙ දාසො අහොසිං අනත්තාධීනො පරාධීනො
න යෙනකාමංගමො, සො'මහි එතරහි තම්හා දාසබ්‍යා මුත්තො අත්තාධීනො
අපරාධීනො භුජිස්සො යෙනකාමංගමො"ති සො තතොනිදානං ලභෙථ
පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

---

1 අව්‍යයෙන, PTS

54 මහරජාණනි, යම් සේ පුරුෂයෙක් (පොලියට) ණය මුදලක් ගෙන කර්මාන්ත කරන්නේ ද, ඔහුගේ ඒ කර්මාන්ත සමෘද්ධ වන්නේ නම්, හේ යම් පරණ ණය මුදල් වී නම්, ඒ සියල්ල ගෙවා අවසන් කරන්නේ ද, මන්තෙහි ඉතිරි වූ යමක් ඇත් නම් එය අඹුදරුවන් රක්නා පිණිස වන්නේ ද, එසේ වූ ඔහුට "මම් පළමුයෙන් ණයට මුදල් ගෙන කර්මාන්ත කෙළෙමි, ඒ මගේ කර්මාන්ත සමෘද්ධ විය ඒ මම් යම් පරණ ණය මුදල් වී නම් එය ගෙවා අවසන් කෙළෙමි, අඹුදරුවන් රක්නට වැඩිපුර ඉතිරි වූ මුදලෙක් ද මට ඇතැ"යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ ණයනැතිබව කරණ කොට ගෙන සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද –

55 මහරජාණනි, යම් සේ පුරුෂයෙක් රෝගී වූයේ, දුකට පැමිණියේ, දැඩි ලෙස ගිලන් වන්නේ ද, ඔහුට බතුත් නො රිසියෙන්නේ ද, ඔහුගේ ඇඟ පත ශක්ති පමණකුත් නො වන්නේ ද, හේ මෑත කාලයෙහි ඒ ආබාධයෙන් මිදෙන්නේ නම්, ඔහුට බතුත් රිසියෙන්නේ නම්, ඔහු ඇඟ පත ශක්තිය ද වන්නේ නම්, "මම් වූ කලී පෙර දුකට පත්, දැඩි ගිලන් බව් ඇති ලෙඩෙක් වීමි. මට අහර ද රිසි නො වි ය මා ඇඟ පත ශක්තිය ද නො වි ය ඒ මම් දැන් ඒ ලෙඩින් මිදුණෙම් වෙමි ඒ මට අහර ද රිසියෙයි මා ඇඟ පත ශක්තිය ද ඇතැ"යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ නම්, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද –

56 මහරජාණනි, යම් සේ පුරුෂයෙක් හිර ගෙහි බැඳුණේ වන්නේ ද, හේ පසු කලෙක ධනය වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදෙන්නේ ද, (ඒ හේතුයෙන්) ඔහුගේ කිසි භොග විනාශයෙක් නො වන්නේ ද, "මම් වූ කලී පෙර හිර ගෙහි බැඳුණෙම් වීමි ඒ මම් දැන් ධන වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදුණෙම් වෙමි මගේ භොගයනට කිසි විනාශයෙක් ද නැතැ"යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද –

57 මහරජාණනි, යම්සේ තමා අයත් පැවැතුම් නැති, අනුන් අයත් පැවතුම් ඇති, කැමැති අතෙක යන්නට අවසර නැති දස පුරුෂයෙක් වන්නේ ද, හේ මෑත භාගයෙහි තමා අයත් පැවතුම් ඇතියේ, පරා අයත් පැවැතුම් නැත්තේ, නිදහස් වූයේ, කැමැති අතෙක යා හැකි වූයේ ඒ දසභාවයෙන් මිදෙන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලී පෙර තමා අයත් පැවැතුම් නැති, පරා අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යා නො හැකි දසයෙක් වීමි ඒ මම් දැන් ඒ දසභාවයෙන් මිදුණෙම්, තමා අයත් පැවැතුම් ඇතියෙම්, පරා අයත් පැවැතුම් නැතියෙම්, නිදහස් වූයෙම් කැමැති අතෙක යා හැකියෙම් වෙමි"යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද–

59 සෙය්‍යථාපි මහාරාජ පුරිසො සධනො සභොගො කන්තාරද්ධාන-මග්ගං පටිපජ්ජෙය්‍ය දුබ්භික්ඛං සප්පටිභයං සො අපරෙන සමයෙන තං කන්තාරං නිත්ථරෙය්‍ය, සොත්ථිනා ගාමන්තං අනුපාපුණෙය්‍ය ඛෙමං අප්පටිභයං, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ සධනො සභොගො කන්තාරද්ධානමග්ගං පටිපජ්ජිං දුබ්භික්ඛං සප්පටිභයං සො'ම්හි එතරහි තං කන්තාරං තිණ්ණො සොත්ථිනා ගාමන්තං අනුප්පත්තො ඛෙමං අප්පටි-භය"න්ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං -

60. එවමෙව ඛො මහාරාජ භික්ඛු යථා ඉණං යථා රොගං යථා බන්ධනාගාරං යථා දසබ්‍යං යථා කන්තාරද්ධානමග්ගං එවං ඉමෙ පඤ්ච නීවරණෙ අප්පහීණෙ අත්තනි සමනුපස්සති සෙය්‍යථාපි මහාරාජ ආණණ්‍යං යථා ආරොග්‍යං යථා බන්ධනා මොක්ඛං යථා භුජිස්සං යථා ඛෙමන්තභූමිං එවමෙව ඛො මහාරාජ භික්ඛු ඉමෙ පඤ්ච නීවරණෙ පහීණෙ අත්තනි සමනුපස්සති

61 තස්සිමෙ පඤ්ච නීවරණෙ පහීණෙ අත්තනි සමනුපස්සතො පාමොජ්ජං ජායති පමුදිතස්ස පීති ජායති පීතිමනස්ස කායො පස්ස-ම්භති පස්සද්ධකායො සුඛං වෙදෙති සුඛිනො චිත්තං සමාධියති

62 සො විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි සවිතක්කං සවිචාරං විවෙකජං පීතිසුඛං පඨමං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති[1] පරිසන්දෙති[2] පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

63 සෙය්‍යථාපි මහාරාජ දක්ඛො න්හාපකො වා න්හාපකන්තෙවාසී වා කංසථාලෙ න්හානීයචුණ්ණානි ආකිරිත්වා උදකෙන පරිප්ඵොසකං පරිප්ඵොසකං සන්නෙය්‍ය[3] සායං න්හානීයපිණ්ඩි සෙනෙහානුගතා සෙනෙහපරෙතා සන්තරබාහිරා ඵුටා සෙනෙහෙන න ච පග්ඝරිණී -

එවමෙව ඛො මහාරාජ භික්ඛු ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

---

1 අභිසන්දෙති සීමු, මජසං 2 පරියන්දෙති සීමු, මජස
3 සන්නෙය්‍ය සීමු, මජස

58 මහරජාණෙනි, යම්සේ ධනවත් වූ භෝගසම්පත් ඇති පුරුෂයෙක් දුර්ලභ ආහාර ඇති, උවදුරු ඇති, දිය නැති දික් මඟකට බස්නේ ද, හේ පසු කලෙක සුවසේ ඒ නිරුදක පෙදෙස ඉක්මැ යන්නේ ද, උවදුරු නැති විපත් නැති ගම්මානයකට බස්නේ ද, එසේ වූ ඔහුට "මම වූ කලී පෙර ධන ඇතියෙමි, භෝග සම්පත් ඇතියෙමි, දිය නැති, ආහාරදුර්ලභ, ප්‍රතිභය සහිත දික් මඟකට බටුයෙමි ඒ මම් දැන් සුවසේ ඒ කාන්තාරය තරණය කෙළෙම් නිරුපද්‍රැත භය රහිත ගමකට පැමිණියෙම් වෙමි"යි සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද-

59. මහරජාණෙනි, එසේ ම මහණ තෙමේ ණයක් මෙන් ලෙඩක් මෙන් හිරගෙයක් මෙන් වහල්බවක් මෙන් දිය නැති දික් මඟක් මෙන් (පිළිවෙළින්) මේ පහ නොවූ නීවරණ පස තමා කෙරෙහි දකී මහරජ ණය නැති බව යම්සේ ද, ලෙඩ නැති බව යම්සේ ද, හිරගෙන් මිදුණුබව යම්සේ ද, නිවහල්බව යම්සේ ද, උවදුරු නැති බිම යම්සේ ද, එසේ ම (පිළිවෙළින්) මේ පහ වූ නීවරණ පස (හෙවත් නීවරණ පසේ දුරු වීම) තමා කෙරෙහි දකී

60 තමා කෙරෙහි පහ වූ මේ නීවරණ පස දක්නා ඔහුට සතුට උපදී සතුටු වූවහුට ප්‍රීතිය උපදී. සිතැ ප්‍රීතිය ඇත්තහුගේ නාම කය සංසිඳේ සංහුන් නාම කය ඇත්තේ සුව විඳී සුවැතියහු සිත සමාහි-ගත වේ (එකඟ වේ)

61 හේ කාමයන්ගෙන් වෙන් ව ම, සෙසු අකුසල් දහමුන් ගෙන් ද වෙන් ව ම, විතර්කසහිත, විචාරසහිත, විවේකයෙන් (නීවරණ පහ වීමෙන්) උපන් ප්‍රීතියත් සුවයත් ඇති පළමු ධ්‍යානය ලැබ වෙසේ හේ මේ කරජ කය ම විවේකයෙන් උපන් ප්‍රීති සුඛයෙන් තෙමයි, මුළුල්ල ම තෙමයි, පුරා ලයි, මුළුල්ල ම ස්පර්ශ කෙරෙයි සියලු අඟ පසඟ ඇති ඔහුගේ මුළු කයෙහි ඒ විවේකයෙන් උපන් ප්‍රීතිසුඛයෙන් පැතිර වැද නොගත් (නොපහස්නා ලද) කිසි ද තැනෙක් නො වෙයි

62 මහරජාණෙනි, යම් සේ නහවන්නෙක් (කිළිගෙක්) හෝ නහවන්නකුගේ (කිළිගකුගේ) අතැවැස්සෙක් හෝ ලෝහොතලියෙක නාන සුණු බහා දිය ඉස ඉස පිඩු කරන්නේ ද, ඒ නාන සුණු පිඩ කාවැදුණු දිය ඇත්තේ, හැම තැන ම දියෙන් යුක්ත වූයේ, ඇතුළත පිටත මුළුල්ල ම දියෙන් පැතිරැ ගියේ දිය නො වගුරුවන්නේත් වේ ද -

63 මහරජාණෙනි, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම විවේක-යෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි මුළුල්ල ම තෙමයි පුරා ලයි මුළුල්ල ම ස්පර්ශ කෙරෙයි ඔහුගේ සියලු අඟ පසඟ ඇති මුළු කයෙහි විවේකජ ප්‍රීති සුඛයෙන් පැතිර වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි මහරජ, මේ ද පළමු දැක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයනට වඩා මනෝඥ වූ ද වඩා උතුම් වූ ද සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයෙකි.

64. පුන ච පරං මහාරාජ භික්ඛු විතක්කවිචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං චෙතසො එකොදිභාවං අවිතක්කං අවිචාරං සමාධිජං පීතිසුඛං දුතියං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

65 සෙය්‍යථාපි මහාරාජ උදකරහදො උබ්භිදොදකො, තස්ස නෙවස්ස පුරත්ථිමාය දිසාය උදකස්ස ආයමුඛං, න දක්ඛිණාය දිසාය උදකස්ස ආයමුඛං, න පච්ඡිමාය දිසාය උදකස්ස ආයමුඛං, න උත්තරාය දිසාය උදකස්ස ආයමුඛං, දෙවො ච න කාලෙන කාලං සම්මා ධාරං අනුප්පවෙච්ඡෙය්‍ය, අථ ඛො තම්හා ච උදකරහදා සීතා වාරිධාරා උබ්භිජ්ජිත්වා තමෙව උදකරහදං සීතෙන වාරිනා අභිසන්දෙය්‍ය පරිසන්දෙය්‍ය පරිපූරෙය්‍ය පරිප්ඵරෙය්‍ය, නාස්ස කිඤ්චි සබ්බාවතො උදකරහදස්ස වාරිනා සීතෙන අප්ඵුටං අස්ස-

එවමෙව ඛො මහාරාජ භික්ඛු ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

66 පුන ච පරං මහාරාජ භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො සම්පජානො සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති යන්තං අරියා ආචික්ඛන්ති උපෙක්ඛකො සතිමා සුඛවිහාරීති තතියං ඣානං උපසම්පජ්ජ විහරති

සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති, පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

67 සෙය්‍යථාපි මහාරාජ උප්පලිනියං වා පදුමිනියං වා පුණ්ඩරී-කිනියං වා අප්පෙකච්චානි උප්පලානි වා පදුමානි වා පුණ්ඩරීකානි වා උදකෙ ජාතානි උදකෙ සංවඩ්ඪානි උදකානුග්ගතානි අන්තොනිමුග්ග-පොසීනි[1] තානි යාව චග්ගා යාව ච මූලා සීතෙන වාරිනා අභිසන්නානි[2] පරිසන්නානි[3] පරිපූරානි, පරිප්ඵුටානි නාස්ස[1] කිඤ්චි සබ්බාවතං උප්පලානං වා පදුමානං වා පුණ්ඩරීකානං වා සීතෙන වාරිනා අප්ඵුටං අස්ස

1 අන්තො නිමුග්ග පොසීනි, [illegible] ස ස    2 අභිසන්නානි, [illegible] ස ස
3 පරිසන්නානි, [illegible] ස ස    4 නාස්ස, [illegible]

64 මහරජාණනි, තැවැත ද (අනෙකක් කියමි) මහණ තෙමේ විතර්ක විචාරයන්ගේ සංසිඳීමෙන්, සිය සතන්හි උපන්, සිය සතන් පහදවන, (ශ්‍රද්ධාව හා එක් වැ යෙදුණු) සිතැ එකඟ බව ඇති, විතර්කය නැති, විචාරය නැති, සමාධියෙන් උපන්, ප්‍රීතියත් සුවයත් ඇති, දෙවෙනි ධ්‍යානයට පැමිණ වෙසෙසි හේ මේ කරජ කය ම සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි. මුළුල්ල ම තෙත් කෙරෙයි, පුරා ලයි, හැම තැන ම ස්පර්ශ කෙරෙයි.ඔහුගේ මුළු කයේ විවේකයෙන් උපන් පිති සුවයෙන් පැතිර නොගත් කිසි ද තැනෙක් නො වෙයි

65 මහරජ, යම්සේ යටැ උල්පතින් මතු වන දිය ඇති ගැඹුරු විලෙක් වේ ද, එයට පෙරදිගින් දිය ඇතුළු වන මගෙක් නො වන්නේ ද, දකුණු දෙසින් ද දිය ඇතුළු වන මගෙක් නොවන්නේ ද, පැසිම් දිගින් ද දිය ඇතුළු වන මගෙක් නොවන්නේ ද, උතුරු දෙසින් ද දිය වැද ගන්නා මගෙක් නො වන්නේ ද, වැස්ස ද කලින් කලැ සුදුසු පරිදි නො වසින්නේ ද, එතෙකුදු වුවත් ඒ විලෙන් සිහිල් දියදහර මතු වී ඒ විල ම සිහිල් දියෙන් තෙමන්නේ ද, හැම පරිදි තෙමන්නේ ද, පුරා ලන්නේ ද, හැම තැන ම වැද ගෙන පැතිර සිටින්නේ ද, ඒ මුළු විලෙහි සිසිල් දිය පැතිර වැද නොගත් කිසි ද තැනෙක් නො මැත් ද–

මහරජ, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම සමාධියෙන් උපන් පීති සුවයෙන් තෙමයි, හැම තැන ම තෙත් කෙරෙයි, පුරා ලයි, හැම තැන ම පැතිර වැද ගනී ඔහුගේ ඒ සියලු කයේ සමාධියෙන් උපන් පීති සුවය පැතිර වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

මහරජ, මේ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය ද පළමු දක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයනට වඩා මනෝඥ ද වඩා උතුම් ද වේ

66 තැවත ද (අනෙකක් කියමි) මහරජ, මහණ තෙමේ ප්‍රීතිය ගේ ද විරාගයෙන් (පහවීමෙන්, සංසිඳීමෙන්), උපේක්ෂායෙන් ද යුක්ත වැ, සිහියෙන් හා නුවණින් හා යුක්ත වැ වෙසෙසි සුවය ද කයින් විඳී ආර්‍යයෝ යම් ධ්‍යානයක් හේතු කොට ගෙන ධ්‍යානලාභියා ඇරැබැ ‘උපේක්ෂාව ඇත්තේ ය, සිහි ඇත්තේ ය, සුඛවිහරණ ඇත්තේ යැ’යි කියත් ද, හේ (එසේ වූ) ඒ තෙවෙනි ධ්‍යානයට පැමිණ වෙසේ

හේ මේ කය ම නිෂ්ප්‍රීතික සුවයෙන් තෙමයි, හැම පරිදි තෙත් කෙරෙයි, පුරා ලයි, හැම තැන ම පැතිර වැද ගනී ඔහුගේ කයෙහි ඒ නිෂ්ප්‍රීතික සුඛයත් පැතිර නොගත් කිසි ද තැනෙක් නො වෙයි

67 මහරජ, යම්සේ උපුල් විලෙක හෝ පියුම් විලෙක හෝ පඬෙර විලෙක හෝ ඇතැම් උපුල් හෝ පියුම් හෝ පඬෙර හෝ දියෙහි උපන්නේ දියෙහි වැඩුණේ, දියෙන් නොනැගුණේ, දිය තුළැ ම ගිලී වැඩෙනුයේ ද, ඒ හැම අග දක්වාත් මුල් දක්වාත් සිසිල් දියෙන් තෙමුණේ, හැමපරිදි තෙත් වූයේ, පිරී ගියේ, හැම තැන් ම පැතිර වැද ගත්තේ වේ ද, ඒ විලෙහි සියලු උපුල්වලැ හෝ පියුම්වලැ හෝ පඬෙරවලැ හෝ සිසිල් දිය පැතිර නො ගත් තැනෙක් නො වන්නේ ද–

එවමෙව ඛො මහාරාජ භික්ඛු ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

68 පුන ච පරං මහාරාජ භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛා-සතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති

සෙය්‍යථාපි මහාරාජ පුරිසො ඔදාතෙන වත්ථෙන සසීසං පාරුපිත්වා නිසින්නො අස්ස, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස ඔදාතෙන වත්ථෙන අප්ඵුටං අස්ස, එවමෙව ඛො මහාරාජ භික්ඛු ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

69 පුන ච පරං මහාරාජ සො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති· "අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දන-භෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධ"න්ති

70 සෙය්‍යථාපි මහාරාජ මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො, තත්‍ර'ස්ස සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා, පණ්ඩුසුත්තං වා තමෙනං චක්ඛුමා පුරිසො හත්ථෙ කරිත්වා පච්චවෙක්ඛෙය්‍ය "අයං ඛො මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො, අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො තත්‍රිදං සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං වා' ති

මහරජ, එසේ ම මහණ තෙමේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි, හාත්පසින් තෙමයි, පුරා ලයි, හැමපරිද්දෙන් පැතිරැ වැද ගනී ඔහුගේ සියලු කයෙහි නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි

මහරජ, මේ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය ද පළමු කී සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයනට වඩා මනෝඥ වූත් වඩා ප්‍රණීත වූත් එකෙකි

68 මහරජ, නැවත ද (අනෙකක් කියමි.) මහණ තෙමේ සුඛ වේදනාව ද දුරු ලීමෙන්, දුඃඛ වේදනාව ද දුරු ලීමෙන්, පළමු කොට ම සොම්නස් දොම්නස් දෙදනාගේ පහ වීමෙන් දුක් ද නොවූ, සුව ද නොවූ, උපේක්ෂා සමෘති යන මොවුන්ගේ පිරිසිදු බව් ඇති සතර වන ධ්‍යානය ලැබ වෙසෙයි හේ මේ කය ම පිරිසිදු වූ ප්‍රභාස්වර වූ සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි ඔහුගේ සියලු කයෙහි පිරිසිදු වූ ප්‍රභාස්වර වූ සිතින් පැතිරැ වැද නො ගෙන සිටි කිසි ද තැනෙක් නො වෙයි

මහරජ, යම්සේ පුරුෂයෙක් සුදු වතින් හිසින් වටා පෙරෙව හුන්නේ වේ නම්, ඔහුගේ කයෙහි සුදු වතින් වැද නොගත් (නො වැසුණ) කිසි ද තැනෙක් නො වන්නේ ද, මහරජ, එසේ ම මහණ තෙම මේ කය ම පිරිසිදු වූ ප්‍රභාස්වර වූ සිතින් පැහැරැ වැද ගෙන නොසිටි කිසි ද තැනෙක් නො වෙයි

මහරජ, මේ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලය ද පළමු දක්වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයනට වඩා මනෝඥ වූ වඩා ප්‍රණීත වූ එකෙක

69 තව ද (අනෙකක් කියමි) මහරජ, ඒ මහණ තෙමේ මෙසේ එකඟ වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කිලිටි නැති වූ කල්හි, පහ වූ චිත්තෝපක්ලේශ ඇති කල්හි, මෘදු වූ කල්හි, විදර්ශනා භාවනාවට යෝග්‍ය වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනාඥානය පිණිස, (පරිකර්ම) සිත එයට අභිමුඛ කෙරෙයි, ඒ අතට නමා හරියි හේ “මගේ මේ කය වූ කලී රූපවත් ය, සතර මහාභූතයන් ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍රශෝණිතයෙන් උපන්නේ ය, බත් කොමු ආදී අහරින් වැඩුණේ ය, අනිස බව ද දුගඳ හරනුවට සුවඳ විලවුන් ඉලියැ යුත් බව ද, ලෙඩ දුරුලනුවට පිරිමැදුම් ඈ කල යුතු බව ද, එසේ කල ද බිඳෙන බව ද, විසිරෙන බව ද යන මේ දෑ සවභාව කොටැත්තේ ය මගේ මේ සිත ද මෙහි ලැග්ගේ ය, මෙහි බැඳුණේ යැ’ යි මෙසේ දත ගනී

70 මහරජ, යම්සේ සොඳුරු වූ, පිරිසිදු ආකරයෙක පහළ වූ අටැස් වූ මොනොවට පිරියම් කළ, සිහුම් වූ වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, ධෝවනාදි සියලු ආකාරයෙන් යුත් වෙරළුමිණෙක් වන්නේ ද, එහි නිල් වූ හෝ රන්වන් වූ හෝ රත්වන් හෝ සුදුවන් හෝ පඬුවන් හෝ හුයෙක් අමුනන ලද්දේ වන්නේ ද, එය ඇස් ඇති පුරුෂයෙක් අතෙහි කොට, “මේ වූ කලී සොඳුරු වූ, පිරිසිදු ආකරයෙහි උපන්, අටැස් වූ මොනොවට පිරියම් කැරුණු, සිහුම් වූ, වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, සියලු ධෝවනාදි ආකාරයෙන් සම්පූර්ණ වූ වෙරළු මිණෙක මෙහි නිල් වූ හෝ රත්වන් වූ හෝ රත්වන් වූ හෝ සුදුවන් වූ හෝ යම් හුයෙක් අමුනන ලදුයේ වේ යැ”යි සලකා බලන්නේ ද–

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දනභෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

71 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනනාය[1] චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං,

සෙය්‍යථාපි මහාරාජ පුරිසො මුඤ්ජම්හා ඉසිකං[2] පවාහෙය්‍ය[3] තස්ස එවමස්ස· අයං මුඤ්ජො අයං ඉසිකා අඤ්ඤො මුඤ්ජො අඤ්ඤා ඉසිකා මුඤ්ජම්හාත්වෙව ඉසිකා පවාළ්හාති[4]

සෙය්‍යථාපි වා පන මහාරාජ පුරිසො අසිං කොසියා පවාහෙය්‍ය තස්ස එවමස්ස "අයං අසි අයං කොසි, අඤ්ඤො අසි අඤ්ඤා කොසි, කොසියාත්වෙව අසි පවාළ්හො"ති.

සෙය්‍යථාපි වා පන මහාරාජ පුරිසො අහිං කරණ්ඩා උද්ධරෙය්‍ය තස්ස එවමස්ස: "අයං අහි අයං කරණ්ඩො, අඤ්ඤො අහි අඤ්ඤො කරණ්ඩො, කරණ්ඩාත්වෙව අහි උබ්භතො"ති[5]

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

---

1 අභිනිම්මිනාය බො:සස
2 ඊසිකං බො:සස
3 පබ්බාහෙය්‍ය බො:සස
4 පබ්බාළ්හා බො:සස
5 උද්ධරිතො සතා

මහරජ, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිගත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් යටපත් වූ කල්හි, උපක්ලේශයන් පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනාඥානය පිණිස සිත අභිමුඛ කෙරෙයි, එය අතට නමා හරියි හෙ තෙම "මගේ මේ කය වූ කලී රූපී ය, සතර මහාභූතයන්ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍ර ශෝණිතයෙන් නිපන්නේ ය, බත් කොමු ආදි අහරින් වැඩුණේ ය, අනිත්‍ය බව ද දුගඳ හරනට සුවඳ විලෙවුන් ඉලිය යුතු බව ද ලෙඩ දුරුලනුවට පිරිමැදුම් ඈ කල යුතු බව ද ඒ කලත් බිඳෙන බව ද විසිරෙන බව ද යන මේ ද ස්වභාව කොටැත්තේ ය. මගේ මේ සිත ද මෙහි ලැග ගත්තේ ය, මෙහි බැඳුණේ යැ"යි මෙසේ දැන ගනී.

මහරජ, මේ ද පලමු දක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයනට වඩා මනෝඥ වූ වඩා උතුම් ද වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි.

71. හේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් කල්හි, කෙලෙස් නොමැති වූ කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ (සෘද්ධි ඉපැදවීමට යෝග්‍ය වූ) කල්හි,සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, මනෝමය ශරීරයක් මවා පානු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ මේ සිරුරෙන් රූපී වූ, සියලු අඟපසඟින් යුත්, විකල නොවූ ඉඳුරන් ඇති මනෝමය ශරීරයක් මවා පායි

මහරජ, යම්සේ පුරුෂයෙක් මුදුතණ ගසෙකින් තණකූර (=තණ බඩය) ඇද මැත් කරන්නේ ද, ඔහුට "මේ මුදුතණගස ය, මේ එහි තණ බඩ ය, තණ ගස එකෙකි, එහි බඩය අනෙකෙකි මුදුතණ ගස කෙරෙන් ම එහි කූර (බඩය) මැත් කරන ලද්දේ යැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

මහරජ, යම්සේ හෝ පුරුෂයෙක් කඩුවක් කොපුවෙන් ඇද මැත් කරන්නේ ද, ඔහුට "මේ කඩුවය, මේ කොපුව ය, කඩුව එකෙක, කොපුව අනෙකෙක කොපුයෙන් ම කඩුව ඇද මැත් කරන ලද්දේ යැ' යි මෙසේ සිතෙක් වන්නේ ද,

මහරජ, යම්සේ වනාහි පුරුෂයෙක් නයකු සැවයෙන් ඇද වෙන් කරන්නේ ද, ඔහුට "මේ නයා ය, මේ සැවය ය නයා එකෙක, සැවය අනෙකෙක සැවය කෙරෙන් ම නයා ඇද වෙන් කරන ලද්දේ යැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

මහරජ, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිගත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පත් කල්හි, මනෝමය ශරීරයක් මවා පානු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ මේ ශරීරයෙන් රූපී වූ මනෝමය වූ සියලු අඟපසඟින් යුක්ත වූ අවිකල ඉඳුරන් ඇති අන් සිරුරක් මවා පායි මහරජ, මෙය ද පලමු දක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයනට වඩා කාන්ත වූ ද . . සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි.

72 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති. එකො'පි හුත්වා බහුධා හොති බහුධාපි හුත්වා එකො හොති, ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ, පඨවියා'පි උම්මුජ්ජනිමුජ්ජං කරොති සෙය්‍යථාපි උදකෙ, උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථාපි පඨවියං, ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථා'පි පක්ඛී සකුණො ඉමෙ'පි චන්දිමසුරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරාමසති පරිමජ්ජති යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති

73 සෙය්‍යථාපි මහාරාජ දක්ඛො කුම්භකාරො වා කුම්භකාරන්තෙවාසී වා සුපරිකම්මකතාය මත්තිකාය යං යදෙව භාජනවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

සෙය්‍යථාපි වා පන මහාරාජ දක්ඛො දන්තකාරො වා දන්තකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං දන්තස්මිං යං යදෙව දන්තවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

සෙය්‍යථා වා පන මහාරාජ දක්ඛො සුවණ්ණකාරො වා සුවණ්ණකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං සුවණ්ණස්මිං යං යදෙව සුවණ්ණවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති එකො'පි හුත්වා බහුධා හොති බහුධා'පි හුත්වා එකො හොති ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ පඨවියා'පි උම්මුජ්ජනිමුජ්ජං කරොති සෙය්‍යථාපි උදකෙ උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථාපි පඨවියං ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො ඉමෙ'පි චන්දිමසුරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරාමසති පරිමජ්ජති යාව බ්‍රහ්මලොකා'පි කායෙන වසං වත්තෙති

72. හේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ (=සෘද්ධියට යොග්‍ය වූ) කල්හි, සිටි කල්හි, නිශ්චලත්වයට පැමිණි කල්හි. සෘද්ධිවිධඥානය පිණිස (අභිඥාපාදක) පරිකම් සිත මෙහෙයයි, නැඹුරු කෙරෙයි. හේ අනේකවිධ වූ සෘද්ධිවිධය (සෘද්ධි කොට්ඨාසය) නැවත නැවත අනුභව කෙරෙයි (හෙවත් නාම කයින් ස්පර්ශ කෙරෙයි. ප්‍රත්‍යක්ෂ කෙරෙයි, ලබයි). පිරිසෙවියෙන් එකෙක් වැ සිටැ ද (සෘද්ධි බලයෙන්) බහු ප්‍රකාර ද වී යළිදු එකෙක් වෙයි. තමාගේ ප්‍රකට බව කෙරෙයි (=පෙනී සිටියි) අප්‍රකට බව කෙරෙයි (=නොපෙනී සිටියි) බිත්තියෙන් පිටතට, පවුරෙන් පිටතට, පර්වතයෙන් පිටතට අහසෙහි මෙන් කිසිවක නො ගැටෙනුයේ මැදින් විනිවිද ගෙන යෙයි. දියෙහි මෙන් පොළොවෙහි ද යටට බැසීම (=කිමිදී) උඩට නැගීම (=මතු වීම) කෙරෙයි. නො බිඳෙන (=යට නො බස්නා) දියෙහි පොළොවෙහි සේ යෙයි. පක්ෂ ඇති සකුණයකු මෙන් අහසෙහි ද පළඟින් (=ඌරුබද්ධාසනයෙන්) යෙයි. මේ සා මහර්ද්ධි ඇති මහත් අනුභාව ඇති මේ සඳ හිරු දෙදෙනා ද, අතින් පරාමර්ශන කෙරෙයි (=අල්ලයි), (මාමෙමාච අත ගවා) පිරිමදී යි. බඹ ලොව තෙක් ද (සියල්ල) කයින් වශයෙහි පවත්වයි.

73. මහරජ, යම්සේ දක්ෂ කුම්භලෙක් හෝ කුම්භලක්හුගේ අතැවැස්-සෙක් හෝ මොනොවට පිරියම් කළ (=සකස් කළ) මැටියෙන් යම් යම් භාජන විශේෂයක් කැමැත්තේ නම්, ඒ ඒ දෑය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද-

මහරජ, යම්සේ දක්ෂ දන්තකාරයෙක් (ඇත්දත් ආදියෙන් විසිතුරු-කම් කරන්නෙක්) හෝ දන්තකාරයකුගේ අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ (=දෙස් ඉවත් කොට මොනොවට සකස් කළ) දතෙහි යම් යම් දන්තවිකෘතියක් (=දතෙහි කළ විසිතුරු රූපාදියක්) කැමැති වන්නේ නම්. ඒ ඒ දෑය ම කරන්නේ ද, වෙසෙසින් නිපදවන්නේ ද,

මහරජ, යම්සේ හෝ දක්ෂ රන්කරුවෙක් හෝ රන්කරුවකුගේ අතැවැස්සෙක් හෝ මොනොවට සකස් කළ රනෙහි යම් යම් ස්වර්ණ-විකෘතියක් (ආභරණ ආදියක්) කැමැත්තේ නම් ඒ ඒ දෑය ම කරන්නේ ද-නිපදවන්නේ ද.

මහරජ, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි. කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි. මෘදු වූ කල්හි කර්මණ්‍ය වූ කල්හි. සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, සෘද්ධිවිධඥානය පිණිස සිත මෙහෙයයි නැඹුරු කෙරෙයි හේ අනේකවිධ වූ සෘද්ධි කොට්ඨාසය නැවත නැවත විඳී. පිරිසෙවියෙන් එකෙක් වැ සිටැ බොහෝ දෙනෙක් වෙයි, බොහෝ දෙනෙක් වැ එකෙක් වෙයි තෙමේ පෙනී සිටී, නො පෙනී ද සිටී බිත්තියෙන් පිටතට. පර්වතයෙන් පිටතට. පවුරෙන් පිටතට විනිවිද අහසෙහි මෙන් කිසිවෙකැ නො ලැගී යෙයි දියෙහි මෙන් පොළොවෙහිත් ගිලීම ද මතුවීම ද කෙරෙයි. පොළොව මතු පිටැ සේ නො බිඳෙන දියෙහි යෙයි. පක්ෂියකු සේ පළඟින් අහසෙහි යෙයි මේ සා මහර්ද්ධිමත් මහත් අනුභාව ඇති සඳ හිරු දෙදෙනා පවා අල්ලයි. පිරිමදියි බඹලොව තෙක් ද කයින් තම වශයෙහි පවත්වයි

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

74 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච

75 සෙය්‍යථාපි මහාරාජ පුරිසො අද්ධානමග්ගපටිපන්නො සො සුණෙය්‍ය භෙරිසද්දම්පි මුදිඞ්ගසද්දම්පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දම්පි, තස්ස එවමස්ස භෙරිසද්දො ඉති'පි මුදිඞ්ගසද්දො ඉති'පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දො ඉති'පි එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච.

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච.

76. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති ''සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති සඞ්ඛිත්තං වා චිත්තං සඞ්ඛිත්තං චිත්තන්ති පජානාති වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති. අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

77 සෙය්‍යථාපි මහාරාජ ඉත්ථී වා පුරිසො වා දහරො වා යුවා මණ්ඩනකජාතිකො ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදකපත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය, අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය-

මහරජ, මෙය ද පළමු දැක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයකට වඩා මනෝඥ වූ වඩා උතුම් වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි

74 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍ය ශ්‍රෝත්‍රධාතුව පිණිස (=දිව්‍යකන් නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි, හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණෝපචාරය ඉක්මවා සිටි දිව කනින් දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුර වූ ද ළං වූ ද යන ද්විවිධ ශබ්ද ම අසයි

75 මහරජ, යම්සේ මිනිසෙක් දික් මඟකට පිළිපන්නේ ද, හේ බෙරහඬත් මිහිඟුබෙර හඬත් පණාබෙර හඬත් ගැටබෙර හඬත් යම් සේ අසන්නේ ද, ඒ අසන ඔහුට 'මේ බෙර හඬැයි කියාත් මේ මිහිඟුබෙර හඬැ යි කියාත් මේ සක් පණාබෙර ගැටබෙර හඬැ'යි කියාත් මෙසේ සිතෙක් වන්නේ ද, මහරජ එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය (කර්මක්ෂම) වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍ය ශ්‍රෝත්‍රධාතුව පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණෝපචාරය ඉක්මැ වූ දිව කන් නුවණින් දිව්‍ය වූත් මානුෂක වූත් දුර වූත් ළඟ වූත් ද්විවිධ ශබ්ද අසයි

මහරජ, මේ ද පළමු කී සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයකට වඩා මනෝඥ වූ වඩා උතුම් වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි.

76. හේ තෙමේ මෙසේ එකඟ වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, චේතස්පර්‍ය්‍යායඥානය පිණිස (=අනුන්ගේ සිත් පිරිසිඳ දන්නා නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සත්ත්වයන්ගේ අන් පුද්ගලයන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනියි රාග සහිත සිත රාග සහිත සිතැ යි ද දනියි රාග රහිත සිත රාග රහිත සිතැ යි ද දනියි ද්වේෂ සහිත සිත ද්වේෂ සහිත සිතැ යි ද දනියි ද්වේෂ රහිත සිත ද්වේෂ රහිත සිතැ යි ද දනී. මෝහ සහිත සිත මෝහ සහිත සිතැ යි ද දනී මෝහ රහිත සිත මෝහ රහිත සිතැ යි ද දනී සංක්ෂිප්ත (=හැකුළුණු) සිත හැකුළුණු සිතැ යි ද දනී වික්ෂිප්ත (=විසුරුණු) සිත විසුරුණු සිතැ යි ද දනී. මහද්ගත සිත මහද්ගත සිතැ යි ද දනී අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද දනී සෝත්තර සිත සෝත්තර සිතැ යි ද දනී. අනුත්තර සිත අනුත්තර සිතැ යි ද දනී. සමාහිත සිත සමාහිත සිතැ යි ද දනී අසමාහිත සිත අසමාහිත සිතැ යි ද දනී. විමුක්ත (=මිදුණු) සිත විමුක්ත සිතැ යි ද දනි අවිමුක්ත (නොමිදුණු) සිත අවිමුක්ත සිතැ යි ද දනී

77 මහරජ, යම්සේ සැරසෙන සුලු ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ළදරුවෙක් හෝ තරුණයෙක් හෝ පිරිසිදු දීප්තිමත් කැඩපතෙක හෝ පහන් දිය බඳුනෙක හෝ සිය මුව සටහන පිරික්සා බලන්නේ කල-කැලැල් ආදී දොස් ඇති තැන් සදොස් තැනැ යි දන්නේ ද, එ කී දොස් නැති තැන දොස් නැතැ යි දන්නේ ද–

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති

සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති සඞ්ඛිත්තං වා චිත්තං -පෙ- වික්ඛිත්තං වා චිත්තං -පෙ- මහග්ගතං වා චිත්තං -පෙ- අමහග්ගතං වා චිත්තං -පෙ- සඋත්තරං වා චිත්තං -පෙ- අනුත්තරං වා චිත්තං -පෙ- සමාහිතං වා චිත්තං -පෙ- අසමාහිතං වා චිත්තං -පෙ- විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

ඉදම්පි ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච

78 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්ච'පි ජාතියො දස'පි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවං සුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො අමුත්‍ර උදපාදිං තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවං සුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො'ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති

79 සෙය්‍යථාපි මහාරාජ පුරිසො සකම්හා ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය තම්හා'පි ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය සො තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගච්ඡෙය්‍ය තස්ස එවමස්ස 'අහං ඛො සකම්හා ගාමා අමුං ගාමං අගච්ඡිං තත්‍ර එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං තම්හාපි ගාමා අමුං ගාමං අගච්ඡිං තත්‍රාපි එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං සො'ම්හි තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගතො'ති

මහරජ, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පරසිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි

හේ අන් සතුන්ගේ, අන් පුඟුලන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනී. සරාග සිත සරාග සිතැ යි ද දනී වීතරාග සිත වීතරාග සිතැ යි ද දනී සද්වේෂ සිත සද්වේෂ සිතැ යි ද දනී, වීතද්වේෂ සිත වීතද්වේෂ සිතැ යි ද දනී සමෝහ සිත සමෝහ සිතැ යි ද දනී, වීතමෝහ සිත වීතමෝහ සිතැ යි ද දනී සංක්ෂිප්ත සිත සංක්ෂිප්ත සිතැ යි ද දනී වික්ෂිප්ත සිත වික්ෂිප්ත සිතැ යි ද දනී මහද්ගත සිත මහද්ගත සිතැ යි ද අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද සෝත්තර සිත සෝත්තර සිතැ යි ද අනුත්තර සිත අනුත්තර සිතැ යි ද සමාහිත සිත සමාහිත සිතැ යි ද අසමාහිත සිත අසමාහිත සිතැ යි ද විමුක්ත සිත විමුක්ත සිතැ යි ද අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි ද දනී

මහරජ, මේ ද පළමු දැක්වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයන්ට වඩා මනෝඥ, වඩා උතුම්, සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි

78 හෙ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, සිටි කල්හි, නිශ්චල බවට පත් කල්හි, පූර්වේනිවාසානුස්මෘති ඥානය (=පෙර විසූ කඳ පිළිවෙල දක්නා නුවණ) ලබනු පිණිස සිත යොමු කෙරෙයි හේ එක් ජාතියක් ද ජාති දෙකක් ද ජාති තුනක් ද ජාති සතරක් ද ජාති පසක් ද ජාති දසයක් ද ජාති විස්සක් ද ජාති තිසක් ද ජාති සතළිසක් ද ජාති පනසක් ද ජාති සියක් ද ජාති දහසක් ද ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද, බොහෝ විවර්ත කල්ප ද, බොහෝ සංවර්ත විවර්ත කල්ප ද, "අසෝ තන්හි මේ නම් ඇතියෙම් වීමි මේ ගොත් ඇතියෙම් වීමි මෙ බඳු පැහැ ඇතියෙම් වීමි මෙ බඳු ආහාර ඇතියෙම් වීමි මෙ බඳු සුව දුක් විඳින්නෙම් වීමි මෙ බඳු (මෙතෙක්) ආයු කෙළවර කොටැතියෙම් වීමි ඒ මම එයින් චැවැ අසෝ තැන උපනිම් එහි ද මේ නම් ඇතියෙම් වීමි මෙ ගොත් ඇතියෙම් වීමි මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීමි මෙ බඳු ආහාර ඇතියෙම් වීමි මෙ බඳු සුවදුක් විඳින්නෙම් වීමි මෙතෙක් ආයු සීමාවක් ඇතියෙම් වීමි ඒ මම එයින් සැව මෙහි උපනිම්"යි මෙසේ අනේකවිධ වූ පෙර විසූ කඳ පිළිවෙල සිහි කෙරෙයි මෙසේ වර්ණාදි වශයෙන් ආකාර සහිත වූ නම් ගොත් විසින් උද්දේශ සහිත වූ බහුවිධ වූ පූර්වේනිවාසය සිහි කෙරෙයි

79 මහරජ, යම්සේ පුරුෂයෙක් සිය ගමින් අන් ගමකට යන්නේ ද, ඒ ගමිනුත් අන් ගමකට යන්නේ ද, (නැවත) හේ ඒ ගමින් සිය ගමට ම පෙරළා එන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි සිය ගමින් අසෝ ගමට ගියෙමි එහි මෙසේ සිටියෙමි, මෙසේ උන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ ගමිනුත් අසෝ ගමට ගියෙමි එහි ද මෙසේ සිටියෙමි, මෙසේ උන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ මම ඒ ගමින් සිය ගමට ම පෙරළා ආයෙම් වෙමි"යි ඔහුට මෙ බඳු සිතෙක් වන්නේ ද–

81. සෙය්‍යථාපි මහාරජ මජ්ඣෙ සිංඝාටකෙ පාසාදො තත්ථ චක්ඛුමා පුරිසො ඨිතො පස්සෙය්‍ය මනුස්සෙ ගෙහං පවිසන්තෙ'පි රථියා වීථිසඤ්චරන්තෙ'පි මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නෙ'පි, තස්ස එවමස්ස· එතෙ මනුස්සා ගෙහං පවිසන්ති. එතෙ නික්ඛමන්ති එතෙ රථියා වීථිසඤ්චරන්ති එතෙ මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නා'ති

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති 'ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති.

ඉදම්පි ඛො මහාරජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච.

82. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධගාමිනීපටිපදා'ති යථාභූතං පජානාති ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසවසමුදයො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති. අයං ආසවනිරොධගාමිනීපටිපදා'ති යථාභූතං පජානාති තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවාපි චිත්තං විමුච්චති භවාසවාපි චිත්තං විමුච්චති අවිජ්ජාසවාපි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති ඛීණා ජාති වුසිතං බ්‍රහ්මචරියං කතං කරණීයං නාපරං ඉත්ථත්තායාති පජානාති

81 මහරජ, යම්සේ සතර මං හන්දියෙක මහල් සහිත ගෙයෙක් වන්නේ ද, එහි උඩු මහලෙහි ඇස් ඇති පුරුෂයෙක් සිටියේ ගෙට පිවිසෙනවුනුත් ගෙන් නික්මෙනවුනුත් වීථියෙහි ඇත මෑත යන එනවුනුත්, සිව්මං හන්දිය මැද හුන්නවුනුත් දක්නේ ද, ඒ දක්නා ඔහුට “මේ මිනිස්සු ගෙට පිවිසෙත්, මේ මිනිස්සු ගෙන් නික්මෙත්, මේ මිනිස්සු වීදියෙහි ඇත මෑත යෙත්, මොහු සිව්මංහන්දිය මැද උන්නෝ වෙත් යැ”යි මෙසේ සිතෙක් වන්නේ ද–

මහරජ, එපරිදි ම මහණ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දීප්තිමත් වැ කෙලෙස් නැති වැ උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්ෂම වැ ස්ථිත වැ නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උප්පත්ති දක්නා නුවණ ලබනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ මානුෂක විෂයය ඉක්මූ වූ පිරිසිදු වූ දිවැසින් “අහෝ මේ භවත් සත්හු කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනෝදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්යයනට උපවාද කළහ, මිසදිටුවහ, මිසදිටු වශයෙන් ගත් ව්‍රත ඇතියහ. ඒ මොහු කා බිඳී මරණින් මතු, සැපයෙන් පහ වූ, දුෂට කර්මයෙන් උපන් ගතිය වූ, තමනට තමන් අවශග වැ වැටෙන තැන වූ, නිරයට වන්හ එහෙත් මේ භවත් සත්ත්වයෝ වූ කලී කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃසුචරිතයෙන් සමන්විතයහ, ආර්යයනට උපවාද නො කළහ, සම්දිටු ගත්තහ, සම්දිටු විසින් ගත් ශීලාදිය ඇත්තාහ මොහු කා බිඳී මරණින් මතු, ශෝභන ගති ඇති සග ලොවට වන්නාහ”යි මෙසේ මරණාසන්න වූ ද, එකෙණෙහි පිළිසිඳ ගත්තන් වූ ද, පහත් වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නොමනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියන් වූ ද, කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගිය සත්ත්වයන් දකී මෙසේ පිරිසිදු වූ, මානුෂක විෂයය ඉක්මැ පැවැති දිවැසින්, හීන ප්‍රණීත, සුවර්ණ, දුර්වර්ණ සුගත දුර්ගත සත්ත්වයන් දකී කම් වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකී

මහරජ, මේ ද පළමු දැක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍යඵලයනට වඩා මනෝඥ වූ, වඩා උතුම් වූ, සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි.

82 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්ෂම වැ ස්ථිත වැ නිශ්චල බවට පැමිණි කල්හි, ආස්‍රවයන්ගේ ක්ෂයය (විනාශය) පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි (එසේ වූ) හෙ තෙමේ ‘මේ දුකැ’ යි ඇති සැටි ලෙස දනී ‘මේ දුක් ඉපැත්මට කාරණයැ’ යි ඇති සැටි ලෙස දනී ‘මේ දුක් වැනැස්මැ’ යි (=දුක් නැස්මට අරමුණු වන නිවනැ’යි) ඇති සැටි ලෙස දනී, ‘මේ දුක් වැනැස්මට පමුණුවන පිළිවෙතැ’යි ඇති සැටි ලෙස දනී ‘මොහු ආස්‍රවයෝ යැ’යි ඇති සැටියෙන් දනී. මේ ආස්‍රවයන් ඉපැද්මට කරුණැ’යි ඇති සැටියෙන් දනී ‘මේ ආස්‍රවනිරෝධ යැ’ යි (=ආස්‍රවයන් වැනැස්මට ප්‍රත්‍යය වන නිවනැ’යි) ඇති සැටියෙන් දනී ‘මේ ආස්‍රවනිරෝධගාමිනී ප්‍රතිපත්ති යැ’ යි ඇති සැටියෙන් දනී මෙසේ දන්නා මෙසේ දක්නා ඔහුගේ සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ ඔහු සිත භවාස්‍රවය කෙරෙන් ද මිදේ (ඔහු) සිත අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ (එසේ සිත මිදුණු කල්හි ‘මා සිත ආස්‍රව කෙරෙන්) මිදුණේ යැ’ යි (ප්‍රත්‍යවෙක්ෂණ) ඥානය වේ භවෝත්පත්තිය ක්ෂීණ විය (හෙවත් නැවැත භවයෙහි නොඋපදනා ස්වභාවයට පැමිණියෙමි), ‘මග බඹසර වැස නිමැවිණි. (සිව් සස්හි සතර මගින් කළ යුතු සොළොස් වැදෑරුම්) කිස කොටැ නිමැවිණි මේ බව පිණිස (=මේ කෙලෙසක්ෂයය පිණිස) යළි දු කටයුතු දෑයෙක් නැතැ’යි හේ දනී

83. සෙය්‍යථාපි මහාරාජ පබ්බතසඞ්ඛෙපෙ උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො තත්ථ චක්ඛුමා පුරිසො තීරෙ ඨිතො පස්සෙය්‍ය සිප්පිසම්බුකම්පි සක්ඛරකඨලම්පි මච්ඡගුම්බම්පි චරන්තම්පි තිට්ඨන්තම්පි තස්ස එවමස්ස අයං ඛො උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො තත්‍රිමෙ සිප්පිසම්බුකා'පි සක්ඛරකඨලා'පි මච්ඡගුම්බා'පි චරන්තිපි තිට්ඨන්තිපීති

එවමෙව ඛො මහාරාජ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛ-නිරොධගාමිනීපටිපදා'ති යථාභූතං පජානාති ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති අයං ආසව-නිරොධගාමිනීපටිපදා'ති යථාභූතං පජානාති

තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති, භවාසවා'පි චිත්තං විමුච්චති, අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං නාපරං ඉත්ථත්තායාති පජානාති

ඉදං ඛො මහාරාජ සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං පුරිමෙහි සන්දිට්ඨිකෙහි සාමඤ්ඤඵලෙහි අභික්කන්තතරඤ්ච පණීතතරඤ්ච ඉමස්මා ච පන මහාරාජ සන්දිට්ඨිකා සාමඤ්ඤඵලා අඤ්ඤං සන්දිට්ඨිකං සාමඤ්ඤඵලං උත්තරිතරං වා පණීතතරං වා නත්ථීති

84 එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භගවන්තං එතදවොච. 'අභික්කන්තං භන්තෙ, අභික්කන්තං භන්තෙ සෙය්‍යථාපි භන්තෙ නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛුමන්තො රූපානි දක්ඛින්තීති, එවමෙව භන්තෙ භගවතා අනෙකපරියායෙන ධම්මො පකාසිතො එසාහං භන්තෙ භගවන්තං සරණං ගච්ඡාමි, ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච උපාසකං මං භගවා ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතං අච්චයො මං භන්තෙ අච්චගමා යථාබාලං යථාමූළ්හං යථාඅකුසලං යො'හං පිතරං ධම්මිකං ධම්මරාජානං ඉස්සරියස්ස කාරණා ජීවිතා වොරොපෙසිං. තස්ස මෙ භන්තෙ භගවා අච්චයං අච්චයතො පටිග්ගණ්හාතු ආයතිං සංවරායා'ති

83. මහරජ, යම්සේ කඳු මුදුනෙකැ වූ පහන් වූ, වෙසෙසින් පහන් වූ, නොකැලැඹුණු (=බොර නො වූ ) දිය විලෙක් වන්නේ ද, එහි ඉවුරෙහි ඇස් ඇති මිනිසෙක් සිටියේ, එහි තුළැ හැසිරෙන්නා වූත් සිටුනා වූත් සිප්පිබෙල්ලනුත් සක්බෙල්ලනුත් කැටකැබිලිතිත් මත්ස්‍යසමූහයාත් දක්නේ ද, (එසේ දක්නා) ඔහුට "මේ දියවිල පහන් ය, වෙසෙසින් පහන් ය, නොකැලැඹුණේ ය මෙහි මේ සිප්පිහුත් සක්බෙල්ලෝත් කැට කැබිලිතිත් මත්ස්‍ය සමූහයෝත් හැසිරෙන්නෝත් සිටින්නෝත් වෙති" යි මෙසේ සිතෙක් වන්නේ ද,

මහරජ, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දීප්තිම ත් වැ, නිකෙලෙස් වැ, උපක්ලෙශ පහ වැ, මෘදු වැ, කර්මණ්‍ය වැ, ස්ථිත වැ නිශ්චලතාවට පැමිණි කල්හි ආස්‍රවක්ෂයඥානය පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ 'මේ දුඃඛ'යි ඇති සැටියෙන් දනී, 'මේ දුකට කරුණැ'යි ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මැ'යි ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මට පමුණුවන පිළිවෙතැ'යි ඇති සැටියෙන් දනී 'මොහු ආස්‍රවයහ'යි ඇති සැටියෙන් දනී මේ ආස්‍රව-සමුදය යැ (ඉපැදීමට කරුණැ)'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රව-නිරෝධයැ'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවනිරෝධයට පැමිණෙන පිළිවෙතැ'යි අති සැටියෙන් දනී

මෙසේ දන්නා, මෙසේ දක්නා, ඔහුගේ සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ, භවාස්‍රවය කෙරෙන් ද මිදේ, අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ, මිදුණු කල්හි 'මිදුණේ යැ'යි දැනීම වේ භවෝත්පත්තිය ක්ෂීණ විය, මාර්ගබ්‍රහ්ම-චර්‍ය්‍යය වැස නිමවන ලද්දේ ය, (සිවු සස්හි සිවු මගින්) කළයුතු (සොළොස් වැදෑරුම්) කෘත්‍යය කොටැ නිමැවිණ මෙබව පිණිස (=මේ ක්ලෙශක්ෂයය පිණිස) කල යුතු අන් කිසිත් නැතැ'යි හේ දනී

මහරජ, මේ වූ කලි පළමුවෙන් දක්වුණු සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය-ඵලයනට වඩා මනෝඥ වූ, වඩා උතුම් වූ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙකි "මහරජ, මේ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙන් අන්‍ය වූ, මෙයට වඩා මනෝඥ වූ හෝ මෙයට වඩා උතුම් වූ හෝ සාන්දෘෂ්ටික ශ්‍රාමණ්‍ය ඵලයෙක් නැතැ" (යි වදාළ සේක)

84 මෙසේ වදාළ කල්හි මගධෙශ්වර වෛදේහීපුත්‍ර අජාතශත්‍රැ රජ තෙම, "වහන්ස, ධර්ම දේශනාව අභික්‍රාන්ත ය. (අතිමනෝඥ ය.) වහන්ස, ධර්ම දේශනාව අභික්‍රාන්ත ය වහන්ස, යම්සේ යැටිකුරැ කොට තැබූ (මුහුණින් තැබූ) බඳුනක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු දැයක් වැසුම් හැර දක්වන්නේ හෝ වේ ද, මං මුළා වූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියෝ රූප දකිතැ'යි අඳුරෙහි තෙල් පහනක් දල්වන්නේ හෝ වේ ද, වහන්ස, එපරිද්දෙන් ම භාග්‍යවතුන් වහන්සේ විසින් මට නොයෙක් අයුරින් ධර්මය පැවැසිණ වහන්ස, ඒ මම් භාග්‍ය-වතුන් වහන්සේ ද ධර්මය ද භික්ෂු සංඝයා ද සරණ යෙමි වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මා අද පටන් දිවි හිමි කොට සරණ ගිය උපාසකයකු කොට දන්නා සේක් වා වහන්ස, යම් බඳු මම් සිය පිය වූ දැහැමි දැමිටු රජහු ඉසුරු කරුණින් දිවියෙන් තොර කෙළෙම් වේ ද, වහන්ස, ඒ අපරාධය බාලබවට ගැළපෙනසේ මූඪබවට අනුරූපසේ අදක්ෂ බවට නිසිසේ මා මැඩගෙන ගියේ ය වහන්ස, මත්තෙහි මා මෙබඳු වරද නො කරනු පිණිස භාග්‍යවතුන් වහන්සේ මගේ වරද වරද වශයෙන් පිළිගන්නා සේක් වා"යි භාග්‍යවතුන් වහන්සේට මෙබස් පැවැසී ය

85 තග්ඝ ත්වං මහාරාජ අච්චයො අච්චගමා යථාබාලං යථාමූළ්හං යථාඅකුසලං යො ත්වං පිතරං ධම්මිකං ධම්මරාජානං ජීවිතා වොරොපෙසි. යතො ච ඛො ත්වං මහාරාජ අච්චයං අච්චයතො දිස්වා යථාධම්මං පටිකරොසි තං තෙ මයං පටිග්ගණ්හාම වුද්ධි හෙසා මහාරාජ අරියස්ස විනයෙ යො අච්චයං අච්චයතො දිස්වා යථාධම්මං පටිකරොති ආයතිං සංවරං ආපජ්ජතීති

86 එවං වුත්තෙ රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භගවන්තං එතදවොච හන්ද ච දානි මයං භන්තෙ ගච්ඡාම බහුකිච්චා මයං බහුකරණීයා'ති

"යස්ස 'දානි ත්වං මහාරාජ කාලං මඤ්ඤසී''ති

අථ ඛො රාජා මාගධො අජාතසත්තු වෙදෙහිපුත්තො භගවතො භාසිතං අභිනන්දිත්වා අනුමොදිත්වා උට්ඨායාසනා භගවන්තං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා පක්කාමි

87 අථ ඛො භගවා අචිරපක්කන්තස්ස රඤ්ඤො මාගධස්ස අජාතසත්තුස්ස වෙදෙහිපුත්තස්ස භික්ඛූ ආමන්තෙසි ඛතායං භික්ඛවෙ රාජා, උපහතායං භික්ඛවෙ රාජා සචායං භික්ඛවෙ රාජා පිතරං ධම්මිකං ධම්මරාජානං ජීවිතා න වොරොපෙස්සථ ඉමස්මිං යෙව ආසනෙ විරජං වීතමලං ධම්මචක්ඛුං උප්පජ්ජිස්සථාති

ඉදමවොච භගවා අත්තමනා තෙ භික්ඛූ භගවතො භාසිතං අභිනන්දුන්ති

සාමඤ්ඤඵලසුත්තං නිට්ඨිතං දුතියං.

85. (එවිට භාග්‍යවතුන් වහන්සේ වදාරන සේක්)
"මහරජ, යම්බඳු තෝ පිය වූ දැහැමි දැහැමි රජහු දිවියෙන් තොර කෙළෙහි වෙයි ද, එකාන්තයෙන් ඒ වරද බාලබවට අනුරිවින් මූඪබවට අනුරිවින් අකුසලට අනුරිවින් තා ඉක්මැ ගියේ යැ (මැඩැ ගෙන පැවැත්තේ ය) මහරජ, යම් හෙයකින් තුඹමත් තෙමේ වරද වරද වශයෙන් දැක ධර්මය වූ පරිදි පිළියම් කෙරෙහි නම්, තුඹමත්හුගේ ඒ වරද අපි පිළිගනුම්හ (=ඉවසමු) මහරජ, යමෙක් වරද වරද විසින් දැක දහම් වූ පරිදි පිළියම් කරන්නේ නම්, මත්තෙහි එ වැන්නක් නොකරනුවට සංවරයට පැමිණෙන්නේ නම් (=ආයතිසංවරයෙහි පිහිටන්නේ නම්) මෙය ආර්‍ය්‍යවිනයයෙහි (බුදු සස්නෙහි) වෘද්ධිය (=වැඩීම) නම් වේ" යැ යි වදාළ සේක

86 මෙසේ වදාළ කල්හි වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රු රජ තෙම භාග්‍යවතුන් වහන්සේට "වහන්ස, දැන් අපි යම්හ අපි බොහෝ කෘත්‍ය ඇත්තමෝ බොහෝ කටයුතු ඇත්තමෝ වම්හ"යි කී ය

"මහරජ, තුඹමත් තෙමේ යම් ගමනකට කල් දනිහි ද එයට තුඹමත් ම කල් දැන ගන්නැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක

ඉක්බිත්තෙන් වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රු රජ තෙම භාග්‍යවතුන් වහන්සේගේ වචනය පිළිගෙන අනුමෝදන් වැ උනස්නෙන් නැගිට පැදකුණු කොට නික්මැ ගියේ ය

87 ඉක් පසු භාග්‍යවතුන් වහන්සේ වෛදේහිපුත්‍ර මගධේශ්වර අජාතශත්‍රු රජ නික්මැ ගිය නොබෝ වේලායෙහි භික්ෂූන් අමතා, "මහණෙනි, මේ රජ සිය පියා නැසීමෙන් කළ කර්මාපරාධයෙන් උදුරාලූ උපනිඃශ්‍රය සම්පත් නැමැති මුල් ඇත්තේ ඉදුරුණේ වෙයි එහෙයින් ම (නටුවා වූ ප්‍රතිෂ්ඨා ඇත්තෙන්) නටුයේ වෙයි මහණෙනි, ඉදින් මේ රජ දැහැමි වූ, දැහැමෙන් රජ බවට පැමිණි පියා ජීවිතයෙන් තොර නො කෙළේ වී නම්, මෙ අස්නෙහි ම (මෙතන්හි දී ම) රාගාදි කෙලෙස් රජස් රහිත, පහ වූ කෙලෙස් මල ඇති දහම් ඇස (සෝවාන්මඟනැණ) මොහුට පහළ වූයේ වනැ"යි වදාළ සේක

භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක එ මහණහු සතුටු සිතැත්තෝ උන්වහන්සේගේ වචනය පිළිගත්හ

**දෙවෙනි වූ ශ්‍රාමණ්‍යඵල සූත්‍රය නිමියේ ය.**

# 3

## අම්බට්ඨසුත්තං

1\. එවං මෙ[1] සුතං එකං සමයං භගවා කොසලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි යෙන ඉච්ඡානඞ්ගලං[2] නාම කොසලානං බ්‍රාහ්මණගාමො තදවසරි තත්‍ර සුදං භගවා ඉච්ඡානඞ්ගලෙ[3] විහරති ඉච්ඡානඞ්ගලවනසණ්ඩෙ.

2\. තෙන ඛො පන සමයෙන බ්‍රාහ්මණො පොක්ඛරසාති[4] උක්කට්ඨං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා පසෙනදිනා[5] කොසලෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං අස්සොසි ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාති

"සමණො ඛලු භො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො කොසලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි ඉච්ඡානඞ්ගලං අනුප්පත්තො ඉච්ඡානඞ්ගලෙ විහරති ඉච්ඡානඞ්ගලවනසණ්ඩෙ තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො "ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි[6] සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා [7] සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්‍ථං සබ්‍යඤ්ජනං[8] කෙවල-පරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොතී"ති

3\. තෙන ඛො පන සමයෙන බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස අම්බට්ඨො නාම මාණවො[9] අන්තෙවාසී හොති අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාස-පඤ්චමානං පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො අනුඤ්ඤාතපටිඤ්ඤාතො සකෙ ආචරියකෙ තෙවිජ්ජකෙ පාවචනෙ යමහං ජානාමි තං ත්වං ජානාසි, යං ත්වං ජානාසි තමහං ජානාමීති.

---

1 එවම්මෙ, PTS 2 නඞ්කල, PTS. ඉච්ඡානඞ්කලන්තිපි පාඨො, අ
3 ඉච්ඡානඞ්කලෙ, PTS සබ්බත්ථ 4 සාදී, සබ්බත්ථ පොක්ඛරසාතීතිපි වුච්චති, අ
5 පසෙනදී, PTS පසෙනදිනා, සීමු 6 සාරථි, සීමු සතා
7 භගවාති, මජ්සං සතා 8 සව්‍යඤ්ජනං, PTS.
9 අම්බට්ඨො මාණවො, PTS. මානවො, PTS-n.

# 3

# අම්බට්ඨ සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන් පන්සියයක් පමණ වූ මහත් භික්සඝන හා කොසොල් රටැ සැරි සරන සේක්, කොසොල් රැටියන්ගේ ඉච්ඡානඞ්ගල නම් බමුණු ගමට වැඩි සේක එහි භාග්‍යවතුන් වහන්සේ ඉච්ඡානඞ්ගල ගමට නොදුරෙහි වූ ඉච්ඡානඞ්ගල වනලැහැබෙහි වසන සේක

2 එ සමයෙහි වනාහි පොක්ඛරසාති නම් බමුණු තෙමේ බහුජනාකීර්ණ වූ, තණ දඬු දිය සහ මෙසින් යුක්ත වූ, බොහෝ ධාන්‍ය ඇති, රජවු කෙරෙන් ලත් තමාගේ පරිභොග වාස්තුව වූ, රජහුගේ දැයාද්‍යක (දනය) වූ බ්‍රහ්මදේයය වූ, (රාජසවරූපයෙන් පරිභෝග කටයුතු වූ), පසේනදි කොසොල් රජහු දුන් ශ්‍රෙෂ්ඨ ත්‍යාගය වූ උක්කට්ඨා නුවරැ වෙසෙයි ය තෙමේ (රටෙහි පැතිරැ ගිය) මිතු දක්වෙන කථාව ඇසී ය

"භවත්නි, ශාක්‍යපුත්‍ර වූ, ශාක්‍යකුලයෙන් නික්මැ පැවිදි වූ ශ්‍රමණ ගෞතමයන් වහන්සේ වනාහි භික්ෂූන් පන්සියයක් පමණ වූ මහභික්සඝන හා කොසොල් රටැ සැරි සරන සේක්, කොසොල්රැටියන්ගේ ඉච්ඡානඞ්ගල නම් ගමට වැඩි සේක්, එයට නොදුරෙහි වූ ඉච්ඡානඞ්ගල වනලැහැබෙහි වසන සේක ඒ භාග්‍යවතුන් වහන්සේ මේ මේ කරුණින් අර්හත්හ, සම්‍යක්සම්බුද්ධයහ, විද්‍යාචරණසම්පන්නයහ, සුගත නමිහ, ලොකවිත් (ලොව දන්නා) හ, නිරුත්තර පුරුෂදම්‍යසාරථිහ, දෙව්මිනිස්නට ශාස්තෘහ, බුද්ධයහ, භගවත්හ උන්වහන්සේ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත මේ ලෝකය, මහණ බමුණන් සහිත දෙව්මිනිසුන් සහිත මේ සත්ත්වවර්ගයා, තමින් ම සිය විශිෂ්ට නුවණින් දැන පසක් කොට, දක්වන සේක 'උන් වහන්සේ ආදිකල්‍යාණ මධ්‍යකල්‍යාණ පර්යවසාන-කල්‍යාණ වූ, (සතිපට්ඨානාදි) මිනා අර් ඇති, මිනා (සම්පූර්ණ) ව්‍යඤ්ජන ඇති, සර්වාකාර පරිපූර්ණ, පිරිසිදු ධර්මය දෙසන සේක එසේ දෙසන්නෝ ද (අඛිල අඛිච්ඡින්න අපිප්‍රඥ සත ත්‍රිශික්ෂායෙන් සංගෘහිත වූ) සකල ශාසන බ්‍රහ්මචර්යය පවසන සේක එබඳු රහතුන් දක්ම වූ කලී හිත වැඩ ගෙනැ දෙන්නෙකැ'යි ඒ භගවත් ගෞතමයන් වහන්සේ පිළිබඳ මෙසේ වූ භද්‍ර වූ කීර්තිශබ්දයෙක් උස් වැ නැංගේ වේ' යනු යි

3 එසමයෙහි වූ කලි පොක්ඛරසාති බමුණාට වෙද හදාරන, වේදයන් මුඛපාඨයෙන් දරන, නිඝණ්ඩු කෙටුභශාස්ත්‍ර සහිත අක්ෂර-ප්‍රභෙද (ශික්ෂා හා නිරුක්ති) සහිත, ඉතිහාසය පස්වනු කොට ඇති ත්‍රිවෙදයන්ගේ පරතෙර පත්, පදපාඨ දන්නා, සඳනා සියලු ව්‍යාකරණ ද දන්නා, ලෝකායත ශාස්ත්‍රයෙහිත් මහාපුරුෂලක්ෂණශාස්ත්‍රයෙහිත් නිපුණ වූ, ඇදුරන් විසින් උගන්වන ලද ත්‍රිවිද්‍යා ය එකාන්ත [illegible], 'මා දන්නා සියල්ල තෝ දනිහි' යි ගුරුහු විසින් අනුදන්නා ලද, 'තා දන්නා සියල්ල මා දනිමි' යි තමා විසින් පවරන ලද ප්‍රතිඥා ඇති අම්බට්ඨ නම් මාණවකයෙක් අතැවැසි වෙයි

4. අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාති අම්බට්ඨං මාණවං ආමන්තෙසි "අයං තාත අම්බට්ඨ සමණො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුල පබ්බජිතො කොසලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි ඉච්ඡානඞ්ගලං අනුප්පත්තො, ඉච්ඡානඞ්ගලෙ විහරති ඉච්ඡානඞ්ගලවනසණ්ඩෙ.

තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො: "ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො -පෙ- බ්‍රහ්මචරියං පකාසෙති, සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොතී"ති

එහි ත්වං තාත අම්බට්ඨ යෙන සමණො ගොතමො තෙනුපසඞ්කම උපසඞ්කමිත්වා සමණං ගොතමං ජානාහි යදි වා තං භවන්තං ගොතමං තථාසන්තංයෙව සද්දො අබ්භුග්ගතො, යදි වා නො තථා, යදි වා සො භවං ගොතමො තාදිසො, යදිවා න තාදිසො, තථා මයං තං භවන්තං ගොතමං වෙදිස්සාමාති

5. "යථා කථං පනාහං භො තං භවන්තං ගොතමං ජානිස්සාමි යදි වා තං භවන්තං ගොතමං තථාසන්තංයෙව සද්දො අබ්භුග්ගතො, යදි වා නො තථා, යදි වා සො භවං ගොතමො තාදිසො යදි වා න තාදිසො "ති.

6. "ආගතානි ඛො තාත අම්බට්ඨ අම්හාකං මන්තෙසු ද්වත්තිංස-මහාපුරිසලක්ඛණානි යෙහි සමන්නාගතස්ස මහාපුරිසස්ස ද්වෙව ගතියො භවන්ති අනඤ්ඤා: සචෙ අගාරං අජ්ඣාවසති රාජා හොති චක්කවත්ති ධම්මිකො ධම්මරාජා චාතුරන්තො විජිතාවී ජනපදත්ථා-වරියප්පත්තො සත්තරතනසමන්නාගතො තස්සිමානි සත්තරතනානි භවන්ති. සෙය්‍යථීදං: චක්කරතනං හත්ථිරතනං අස්සරතනං මණිරතනං ඉත්ථිරතනං ගහපතිරතනං පරිණායකරතනමෙව සත්තමං. පරොසහස්සං ඛො පනස්ස පුත්තා භවන්ති සූරා වීරඞ්ගරූපා පරසෙනප්පමද්දනා සො ඉමං පථවිං සාගරපරියන්තං අදණ්ඩෙන අසත්ථෙන ධම්මෙන අභිවිජිය අජ්ඣාවසති.

සචෙ ඛො පන අගාරස්මා අනගාරියං පබ්බජති අරහං හොති සම්මාසම්බුද්ධො ලොකෙ විවත්තච්ඡදෙ[1] අහං ඛො පන තාත අම්බට්ඨ මන්තානං දාතා ත්වං මන්තානං පටිග්ගහෙතා"ති

1. විවිත්තච්ඡදො. ඡෙ ස ස. වවට්ටච්ඡදො සහා. විවට්ටච්ඡදො. සීමු.

4. ඉක්බිති පොක්ඛරසාති බමුණු තෙම අම්බට්ඨ මාණවකයා බණවා මෙසේ කී ය. "දරුව අම්බට්ඨය, ශාක්‍යපුත්‍ර වූ ශාක්‍ය කුලයෙන් නික්මැ පැවිදි වූ මේ ශ්‍රමණ ගෞතමයන් වහන්සේ භික්ෂූන් පන්සියක් පමණ වූ මහ බික්සඟන හා කොසොල් රටැ සැරි සරන සේක්, ඉච්ඡානංගලයට පැමිණියෝ එයට නොදුරු වූ ඉච්ඡානංගල වන ලැහැබෙහි වසන සේක.

"මෙසේ මෙසේ ඒ භාග්‍යවතුන් වහන්සේ අර්හත්හ, සම්‍යක්-සම්බුද්ධයහ, බ්‍රහ්මචර්‍ය්‍ය ප්‍රකාශ කරන සේක. මෙබඳු රහතුන් දක්ම හිත වැඩ ගෙනැ දෙන්නෙකැ"යි ඒ භවත් ගෞතමයන් වහන්සේගේ මෙසේ වූ කීර්තිශබ්දයෙක් උස් වැ නැංගේ වේ

දරුව අම්බට්ඨය, එත්නැ ශ්‍රමණ ගෞතමයන් වහන්සේ කරා එළැඹෙන්නැ එළැඹ, "ඒ භවත් ගෞතමයන් වහන්සේගේ එසේ විද්‍යමාන වූ ම ගුණ පිළිබඳ කීර්තිශබ්දයෙක් නැංගේ වේ ද ? නැත හොත් එසේ විද්‍යමාන නොවූ ගුණ පිළිබඳ හඬෙක් නැංගේ වේ ද ? ඒ භවත් ගෞතමයන් වහන්සේ එබඳු ම ද ? නැත හොත් එබඳු නො වෙත් ද ?"යි ඒ ශ්‍රමණ ගෞතමයන් වහන්සේ දැනැ ගන්නැ එසේ අපි ඒ භවත් ගෞතමයන් වහන්සේ දැන ගන්නමු" යනු යි

5. "භවත, ඒ භවත් ගෞතමයන් වහන්සේගේ එසේ විද්‍යමාන වූ ගුණ පිළිබඳ කීර්තිශබ්දයෙක් නැංගේ වේ ද ? නැත හොත් එසේ විද්‍යමාන නොවූ ගුණ පිළිබඳ හඬෙක් නැංගේ වේ ද ? ඒ භවත් ගෞතමයන් වහන්සේ එබඳු ම ද? නැත හොත් එබඳු නො වෙත් ද ?"යි මම කෙසේ නම් දැන ගත හෙන්නෙම් ද ?"යි (අම්බට්ඨ මාණවකයා කී ය )

6 "දරුව අම්බට්ඨය, යමෙකින් සමන්විත මහාපුරුෂයක්හට නිෂ්ඨා දෙකක් ම මිනා එයින් අනෙකෙක් නැත් ද,- ඉදින් ගිහි ගෙහි වසන්නේ නම් දැහැමි වූ, දැහැමෙන් ම රජය ලත්, සිවු මුහුදු හිම් කොට ඇති සතර මහාද්වීපයෙන් සැදුණු මුළු පොළොවට අධිපති, පසමිතුරන් දිනූ, දනවුහි තහවුරු බවට පැමිණි, සත්රුවනින් සමන්විත සක්විති රජෙක් වන්නේ ද, සක්රුවන ය, ඇත්රුවන ය, අස්රුවන ය, මිණිරුවන ය, ඉත්රිරුවන ය, ගැහැවිරුවන ය, සත්වන පිරිනාරුවන ය, යන මේ සත්රුවන් කෙනෙක් යම් ඒ රජක් හට ඇත් ද, දහසකටත් වැඩි ශූර වූ (නොබානා සුලු), දෙව් කුමරුන් වැනි සිරුරු ඇති, සතුරු සෙන් මඩනට සමත් වූ පුත්හු ඇත් ද, යම් ඒ මහපුරිස්ලකුණින් යුත් හේ සයුරු හිම් කොටැති මෙ පොළොව දඬුවමින් සැතින් වෙත් වැ (පන්සිල්) දහමෙන් වෙසෙසින් දිනා එයට අධිපති වැ වෙසේ ද;-

ඉදින් යම් මහපුරිස්ලකුණු කෙනකුන්ගෙන් සමන්විත හේ ගිහි ගෙන් නික්මැ පැවිද්දට වදනේ නම් නැසූ පව් සෙවෙණි ඇති (නොහොත් ත්‍රිවර්ගයෙන් හා තුන් සෙවෙණියෙන් මිදුණු) අර්හත් සම්‍යක්සම්බුද්ධො-ත්තමයෙක් වන්නේ ද, දරුව අම්බට්ඨය, එසේ වූ දෙතිස් මහාපුරුෂ ලක්ෂණයෝ අපගේ වේදයෙහි ආවාහු ම ය දරුව අම්බට්ඨය, මම වනාහි මන්ත්‍ර (වේද) දෙන (=උගන්වන) තැනැත්තෙම් වෙමි තෝ මන්ත්‍ර පිළිගන්නා තැනැත්තෙහි" (යයි පොක්ඛරසාති තෙම කී ය.)

“එවං භො’ති ඛො අම්බට්ඨො මාණවො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස පටිස්සුත්වා උට්ඨායාසනා බ්‍රාහ්මණං පොක්ඛරසාතිං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා වළවාරථමාරුය්හ සම්බහුලෙහි මාණවෙහි[1] සද්ධිං යෙන ඉච්ඡානඞ්ගලවනසණ්ඩො තෙන පායාසි යාවතිකා යානස්ස භූමි යානෙන ගන්ත්වා යානා පච්චොරොහිත්වා පත්තිකො’ව ආරාමං පාවිසි

7. තෙන ඛො පන සමයෙන සම්බහුලා භික්ඛූ අබ්භොකාසෙ චඞ්කමන්ති. අථ ඛො අම්බට්ඨො මාණවො යෙන තෙ භික්ඛූ තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා තෙ භික්ඛූ එතදවොච “කහන්නු ඛො භො එතරහි සො භවං ගොතමො විහරති? තං හි මයං භවන්තං ගොතමං දස්සනාය ඉධූපසඞ්කන්තා”ති.

8 අථ ඛො තෙසං භික්ඛූනං එතදහොසි “අයං ඛො අම්බට්ඨො මාණවො අභිඤ්ඤාතකොලඤ්ඤො චෙව අභිඤ්ඤාතස්ස ච බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස අන්තෙවාසී අගරු ඛො පන භගවතො එවරූපෙහි කුලපුත්තෙහි සද්ධිං කථාසල්ලාපො හොතී”ති තෙ අම්බට්ඨං මාණවං එතදවොචුං “එසො අම්බට්ඨ විහාරො සංවුතද්වාරො තෙන අප්පසද්දො උපසඞ්කමිත්වා අතරමානො ආලින්දං පවිසිත්වා උක්කාසිත්වා අග්ගළං ආකොටෙහි විවරිස්සති තෙ භගවා ද්වාරන්ති”

9. අථ ඛො අම්බට්ඨො මාණවො යෙන සො විහාරො සංවුතද්වාරො තෙන අප්පසද්දො උපසඞ්කමිත්වා අතරමානො ආලින්දං පවිසිත්වා උක්කාසිත්වා අග්ගළං ආකොටෙසි විවරි භගවා ද්වාරං පාවිසි අම්බට්ඨො මාණවො මාණවකා’පි පවිසිත්වා භගවතා සද්ධිං සම්මොදිංසු සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු අම්බට්ඨො පන මාණවො චඞ්කමන්තො’පි නිසින්නෙන භගවතා කඤ්චි කඤ්චි කථං සාරාණීයං වීතිසාරෙති ඨිතො’පි නිසින්නෙන භගවතා කඤ්චි කඤ්චි කථං සාරාණීයං වීතිසාරෙති

10. අථ ඛො භගවා අම්බට්ඨං මාණවං එතදවොච “එවන්නු ඛො තෙ[2] අම්බට්ඨ බ්‍රාහ්මණෙහි වුද්ධෙහි මහල්ලකෙහි ආචරියපාචරියෙහි සද්ධිං කථාසල්ලාපො හොති යථයිදං චරං තිට්ඨං නිසින්නෙන මයා කඤ්චි කඤ්චි කථං සාරාණීයං වීතිසාරෙසී?”ති

“නොහිදං භො ගොතම ගච්ඡන්තො වා හි භො ගොතම ගච්ඡන්තෙන බ්‍රාහ්මණො බ්‍රාහ්මණෙන සද්ධිං සල්ලපිතුමරහති ඨිතො වා හි භො ගොතම ඨිතෙන බ්‍රාහ්මණො බ්‍රාහ්මණෙන සද්ධිං සල්ලපිතුමරහති නිසින්නො වා හි භො ගොතම නිසින්නෙන බ්‍රාහ්මණො බ්‍රාහ්මණෙන සද්ධිං සල්ලපිතුමරහති. සයානො වා හි භො ගොතම සයානෙන බ්‍රාහ්මණො බ්‍රාහ්මණෙන සද්ධිං සල්ලපිතුමරහති යෙ ච ඛො තෙ භො ගොතම මුණ්ඩකා සමණකා ඉබ්භා කණ්හා[2] බන්ධුපාදාපච්චා, තෙහිපි මෙ සද්ධිං එවං කථාසල්ලාපො හොති යථරිව භොතා ගොතමෙනා”ති

1 මාණවකෙහි, සඵව    2 කිණ්හා, මජසං

"භාග්‍යවත්නි, (යමසේ තෙපි කියවු නම්) එසේ කරන්නෙමි"යි අම්බට්ඨ මාණවකයා පොක්ඛරසාති බමුණාට පිළිවදන් දී, හුනස්නෙන් නැගී සිට, ඔහු සකසා වැඳ පැදකුණු කොට වෙළඹුන් යෙදූ රියක් නැග බොහෝ මාණවකයන් හා ඉච්ඡානංගල වනලැහැබ වෙලා නික්මුණේ ය යානයට බිම යම් පමණෙක් ද එතෙක් (යානයෙන් යා හැකි තාක්) යානයෙන් ගොස් එයින් බැස පාගමින් ඇතිසේ ම (පයින් ම) ආරාමයට පිවිසියේ ය

7 එසමයෙහි බොහෝ භික්ෂූහු එළිමහනෙහි සක්මන් කෙරෙත් ඉක්බිති අම්බට්ඨ මාණවක තෙමේ ඒ භික්ෂූන් කරා එළැඹියේ ය එළැඹ, ඒ භික්ෂූන් ගෙන් 'භවත්නි, ඒ භවත් ගෞතමයෝ දැන් කොහි වසන්නෝ ද ? අපි වූ කලි ඒ භවද් ගෞතමයන් දක්නා පිණිස මෙහි එළැඹියම්හ"යි මෙය කී ය

8. එකල්හි ඒ භික්ෂූන්හට "මේ අම්බට්ඨ මාණවකයා වූ කලි ප්‍රකට කුලයෙක උපන්නෙක් ද ප්‍රසිද්ධ පොක්ඛරසාති බමුණාගේ අතැවැස්සෙක් ද වේ මෙබඳු කුලපුත්‍රයන් හා කතාබස් කිරීම භාග්‍යවතුන් වහන්සේට බරෙක් නම් නො වේ ම යැ"යි මේ සිත විය ඔහු අම්බට්ඨ මාණවකයාට "අම්බට්ඨය, මේ වැසූ දොර ඇති යේ විහාරය යි නිශ්ශබ්ද ව එතැනට ගොස්, සෙමෙන් පිලට පිවිස කාරා අගුල ලගා නිය-පිටින් ගසව (එවිට) භාග්‍යවතුන් වහන්සේ දොර හරනා සේකැ"යි කීහ

9 එවිට, අම්බට්ඨ මාණවක තෙම වැසූ දොර ඇති ඒ වෙහෙරට නිශ්ශබ්ද ව එළැඹ සෙමෙන් ගඳකිළි පිලට වැද කාරා අගුල සමීපයට නිය පිටින් ගැසී ය (එවිට) භාග්‍යවතුන් වහන්සේ දොර හළ සේක අම්බට්ඨ මාණවක තෙමේ (විහාරයට) පිවිසියේ ය මාණවකයෝ ද පිවිසැ භාග්‍යවතුන් වහන්සේ හා සතුටු වූහ සතුටට කරුණු වූ සිහි කරනුවට (සිතැරදවනුවට) නිසි වූ කතා බස් අවසන් කොට, එක් පසෙක හිඳැ ගත්හ අම්බට්ඨ මාණවකයා වූ කලි තෙමේ සක්මන් කෙරෙමින් වැඩහුන් භාග්‍යවතුන් වහන්සේ හා යම් යම් කිසි සාරාණීය කථා කෙරෙයි, සිට ගෙනත් වැඩහුන් භාග්‍යවතුන් වහන්සේ හා යම් යම් සාරාණීය කථා කෙරෙයි

10 එකල්හි භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා බණවා, "අම්බට්ඨය, යම්සේ වැඩහුන් සිටිනුවන් තෝ හුන් වූ හා කිසි සමූ සාරාණීය කථා කෙරෙහි නම් තාගේ ආචාර්‍ය ප්‍රාචාර්‍ය වූ, වයස්ගත් වැඩි සිටි, මහලු බමුණන් හා ද එපරිද්දෙන් ම තාගේ කතා බස් කිරීම වේ ද ?"යි ඇසූ සේක

(එවිට, අම්බට්ඨ මාණවක තෙමේ) "භවත් ගෞතමයිනි, එසේ නොවේ ම ය යන බමුණහු යන බමුණන්හු හා සමඟ කතා කරනු වටී සිටි බැමුණහු සිටිනා බමුණන්හු හා සමඟ තෝ කතා කරනු වටී [illegible] හුන් බමුණහු හා සමඟ කතා කරනු යෝ වටී [illegible] නිදන බමුණහු හා සමඟ කතා කරනු යෝ වටී [illegible], [illegible] වූ, කළු වූ, බ්‍රහ්ම පාදයෙන් (උපන් [illegible]) [illegible] නම්, ඔවුන් හා ද [illegible] කතා කරනු පරිද්දෙන් වේ [illegible] (යැ යි කීය)

11 "අපසිකවන්තො ඛො පන තෙ අම්බට්ඨ ඉධාගමිතං අහොසි යස්සෙව ඛො පනත්ථාය ආගච්ඡෙය්‍යාථො තමෙව අත්ථං සාධුකං මනසි කරෙය්‍යාථො[1] අවුසිතවා යෙව ඛො පන භො අයං අම්බට්ඨො මාණවො, වුසිතමානී[2] කිමඤ්ඤත්‍ර අවුසිතත්තා'ති.

12 අථ ඛො අම්බට්ඨො මාණවො භගවතා අවුසිතවාදෙන වුච්චමානො කුපිතො අනත්තමනො භගවන්තංයෙව ඛුංසෙන්තො භගවන්තංයෙව වම්භෙන්තො භගවන්තංයෙව උපවදමානො සමණො ච මෙ භො ගොතමො පාපිතො භවිස්සතීති භගවන්තං එතදවොච "චණ්ඩා භො ගොතම සක්‍යජාති, ඵරුසා භො ගොතම සක්‍යජාති, ලහුසා භො ගොතම සක්‍යජාති, රභසා භො ගොතම සක්‍යජාති ඉබ්භා සන්තා ඉබ්භා සමානා න බ්‍රාහ්මණෙ සක්කරොන්ති න බ්‍රාහ්මණෙ ගරුකරොන්ති න බ්‍රාහ්මණෙ මානෙන්ති න බ්‍රාහ්මණෙ පූජෙන්ති න බ්‍රාහ්මණෙ අපචායන්ති තයිදං භො ගොතම නච්ඡන්නං තයිදං නප්පටිරූපං යදිමෙ සක්‍යා ඉබ්භා සන්තා ඉබ්භා සමානා න බ්‍රාහ්මණෙ සක්කරොන්ති න බ්‍රාහ්මණෙ ගරුකරොන්ති න බ්‍රාහ්මණෙ මානෙන්ති න බ්‍රාහ්මණෙ පූජෙන්ති න බ්‍රාහ්මණෙ අපචායන්තීති.

ඉතිහ අම්බට්ඨො මාණවො ඉදං පඨමං සක්‍යෙසු ඉබ්භවාදං නිපාතෙසි

13 "කිම්පන තෙ අම්බට්ඨ සක්‍යා අපරද්ධුන්ති?"

"එකමිදාහං භො ගොතම සමයං ආචරියස්ස බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස කෙනචිදෙව කරණීයෙන කපිලවත්ථුං අගමාසිං යෙන සක්‍යානං සන්ථාගාරං තෙනුපසඞ්කමිං තෙන ඛො පන සමයෙන සම්බහුලා සක්‍යා චෙව සක්‍යකුමාරා ච සන්ථාගාරෙ උච්චෙසු ආසනෙසු නිසින්නා හොන්ති අඤ්ඤමඤ්ඤං අඞ්ගුලිපතොදකෙහි සඤ්ජග්ඝන්තා සංකීළන්තා අඤ්ඤදත්ථු මමඤ්ඤෙව මඤ්ඤෙ අනුජග්ඝන්තා න මං කොචි ආසනෙනපි නිමන්තෙසි තයිදං භො ගොතම නච්ඡන්නං, තයිදං නප්පටිරූපං, යදිමෙ සක්‍යා ඉබ්භා සන්තා ඉබ්භා සමානා න බ්‍රාහ්මණෙ සක්කරොන්ති න බ්‍රාහ්මණෙ ගරුකරොන්ති න බ්‍රාහ්මණෙ මානෙන්ති න බ්‍රාහ්මණෙ පූජෙන්ති න බ්‍රාහ්මණෙ අපචායන්තී"ති

---

1 කරෙය්‍යාථ, සිමු II

2 වාසිතවාමානී, සිමු II

11 (එවිට, භාග්‍යවතුන් වහන්සේ,) "අම්බට්ඨය, පැමිණ කළ යුතු වැඩක් සඳහා ම තගේ මෙහි පැමිණීම පිය යම් කරුණක් සඳහා ආවහු නම් ඒ කරුණ ම මැනැවින් මෙනෙහි කරව භවත්හි, මේ අම්බට්ඨ මාණවක තෙමේ ඇදුරු කුලෙහි නො හික්මුණේ අල්පශ්‍රැත වූයේ, 'හික්මුණෙමි'යි බහුශ්‍රැතයෙමි'යි යන මාන ඇත්තේ වෙයි මොහු මේ පරොස් බස් දෙඩනුයේ ඇදුරු කුලයෙහි නොහික්මුණු අල්පශ්‍රැතබැවින් ම විනා අන් කරුණෙකින් නො වේ' (යැ යි වදාළ සේක)

12 එකල්හි අම්බට්ඨ මාණවක තෙමේ භාග්‍යවතුන් වහන්සේ විසින් අවුසිතවාදයෙන් (නොහික්මුණෙක, නොඋගතෙක යන කථායෙන්) කියනු ලබනුයේ, කිපුණේ, නොසතුටු සිතැත්තේ භාග්‍යවතුන් වහන්සේට ම ආක්‍රෝශ කරනුයේ, භාග්‍යවතුන් වහන්සේට ම ගර්හා කරනුයේ, භාග්‍යවතුන් වහන්සේට ම දෙස් නගනුයේ, ශ්‍රමණ ගෞතම තෙමේත් චණ්ඩභාවාදි දෝෂයට මා විසින් පමුණුවන ලද්දේ වන්නේ යැ යි සිතා, "භවද් ගෞතමය, ශාක්‍යජාතිය චණ්ඩ ය, භවද් ගෞතමය, ශාක්‍යජාතිය පරුෂ ය භවද්ගෞතමය, ශාක්‍යජාතිය හැල්ලු ය (වහා පෙරළෙන සුලු ය) ශාක්‍ය ජාතිය දෙඩමලු ය තුමූ (බමුණනට මෙහෙකරු විය යුතු) ගෘහපතියෝ ම වන්නෝ තුමූද බමුණනට සත්කාර නො කෙරෙත් බමුණනට ගෞරව නො කෙරෙත් බමුණනට බහුමන් නො කෙරෙත් බමුණන් නො පුදත් බමුණනට යටත් පැවැතුම් නො දක්වත් භවද් ගෞතමය, මේ ශාක්‍යයෝ බමුණනට (මෙහෙකරු විය යුතු) ගැහැවියෝ වන්නෝ ම බමුණනට සත්කාර නො කෙරෙත් ය, බමුණනට ගෞරව නො කෙරෙත් ය, බමුණනට බුහුමන් නො කෙරෙත් ය, බමුණන් නො පුදත් ය, බමුණනට යටත් පැවැතුම් නො දක්වත් ය යන යමක් ඇද්ද, ඒ මේ කරුණ නො සුදුසු ය, ඒ මේ කරුණ නො නිසි යැ"යි භාග්‍යවතුන් වහන්සේට මෙබස් කී ය

මෙසේ අම්බට්ඨ මාණවක තෙමේ ශාක්‍යයන් කෙරෙහි මේ පළමු වන ඉබ්භවාදය (බමුණන් ගේ දාසයෝ ය යන නිග්‍රහ කථාව) හෙළී ය.

13 එ විට භාග්‍යවතුන් වහන්සේ, 'කිමෙක් ද අම්බට්ඨය, ශාක්‍යයෝ තට කිසි වරදක් කළෝ දැ?'යි වදාළ සේක

"එ සේ ය, භවද් ගෞතම ය, මම් එක් කලෙක මා ඇදුරු පොක්ඛරසාති බමුණාණන්ගේ කිසි කටයුත්තෙකින් කිඹුල්වත් නුවරට ගියෙමි එහි ශාක්‍යයන්ගේ සන්ථාගාරය කරා එළැඹුණෙමි එසමයෙහි වූ කලි බොහෝ ශාක්‍යයෝත් ශාක්‍යකුමාරයෝත් උනුනට ඇඟිලිවලින් කෙනිති කරමින් මහත් කොට සිනහ සෙමින්, ඇඟිලි එකට ගැටීම් ආදීන් කෙළි කවට කම් පාමින්, ඒකාන්තයෙන් මට ම සිනා සෙන්නාක් මෙන් කෙරෙමින් සන්ථාගාරයෙහි උස් අසුන්හි හුන්නෝ වෙත් කිසිවෙක් මට අස්නෙකින් නිමැතුම් පමණකුත් නො කෙළේ ය භවද් ගෞතමය, මේ ශාක්‍යයෝ තුමූ ඉබ්භ (බමුණනට දාස වූ ගැහැවියෝ) වන්නෝ ම, බමුණනට සත්කාර ගරුකාර බහුමාන පූජා අපචායන (යටත් පැවැතුම්) නො කරන්නාහ යන මෙය නො සුදුසු ය, නො නිසි යැ'යි අම්බට්ඨ තෙමේ පැවැසී ය

ඉතිහ අම්බට්ඨො මාණවො ඉදං දුතියං සක්‍යෙසු ඉබ්භවාදං නිපාතෙසි

14 "ලටුකිකාපි ඛො අම්බට්ඨ සකුණිකා සකෙ කුලාවකෙ කාමලාපිනී හොති සකං ඛො පනෙතං අම්බට්ඨ සක්‍යානං යදිදං කපිලවත්ථු නාරහතායස්මා අම්බට්ඨො ඉමාය අප්පමත්තාය අභිසජ්ජිතුන්ති"

15 "චත්තාරො'මෙ භො ගොතම වණ්ණා ඛත්තියා බ්‍රාහ්මණා වෙස්සා සුද්දා ඉමෙසං හි භො ගොතම චතුන්නං වණ්ණානං තයො වණ්ණා ඛත්තියා ච වෙස්සා ච සුද්දා ච අඤ්ඤදත්ථු බ්‍රාහ්මණස්සෙව පරිචාරිකා සම්පජ්ජන්ති තයිදං භො ගොතම නච්ඡන්නං තයිදං නප්පතිරූපං යදි මෙ සක්‍යා ඉබ්භා සන්තා ඉබ්භා සමානා න බ්‍රාහ්මණෙ සක්කරොන්ති න බ්‍රාහ්මණෙ ගරුකරොන්ති න බ්‍රාහ්මණෙ මානෙන්ති න බ්‍රාහ්මණෙ පූජෙන්ති න බ්‍රාහ්මණෙ අපචායන්ති" ති

ඉතිහ අම්බට්ඨො මාණවො ඉදං තතියං සක්‍යෙසු ඉබ්භවාදං නිපාතෙසි

16 අථ ඛො භගවතො එතදහොසි අතිබාළ්හං ඛො අයං අම්බට්ඨො මාණවො සක්‍යෙසු ඉබ්භවාදෙන නිම්මානෙති[1] යන්නූනාහං ගොත්තං පුච්ඡෙය්‍යන්ති

අථ ඛො භගවා අම්බට්ඨං මාණවං එතදවොච 'කථං ගොත්තොසි අම්බට්ඨා'ති' "කණ්හායනො'හමස්මි භො ගොතමා"ති

17. "පොරාණං ඛො පන තෙ අම්බට්ඨ මාතාපෙත්තිකං නාමගොත්තං අනුස්සරතො අය්‍යපුත්තා සක්‍යා භවන්ති, දාසිපුත්තො ත්වමසි සක්‍යානං සක්‍යා ඛො පන අම්බට්ඨ රාජානං ඔක්කාකං පිතාමහං දහන්ති

'භූතපුබ්බං අම්බට්ඨ රාජා ඔක්කාකො යා සා මහෙසී පියා මනාපා තස්සා පුත්තස්ස රජ්ජං පරිණාමෙතුකාමො ජෙට්ඨකුමාරෙ රට්ඨස්මා පබ්බාජෙසි ඔක්කාමුඛං[2] කරකණ්ඩං[3] හත්ථිනිකං සිනිපුරං[4] තෙ රට්ඨස්මා පබ්බාජිතා හිමවන්තපස්සෙ පොක්ඛරණියා තීරෙ මහාසාකසණ්ඩො තත්ථ වාසං කප්පෙසුං තෙ ජාතිසම්භෙදභයා සකාහි භගිනීහි සද්ධිං සංවාසං කප්පෙසුං

1 නිම්මාදෙති, කම්බො 2 ඔක්කාමුඛං, කම්බො 3 කරකණ්ඩුං, කම්බො
4 සිනිපුරං බෙ: ස ස සිනිපුරං, PTS

මෙසේ අම්බට්ඨ මාණවක තෙමේ ශාක්‍යයන් කෙරෙහි මේ දෙවෙනි උපවාදය හෙළී ය

14 එ විට භාග්‍යවතුන් වහන්සේ වදාරන සේක්, "අම්බට්ඨය, කැටකිරිල්ල පවා තමා ගේ කැදූල්ලෙහි දී කැමැති සේ හඬනසුලු වේ. අම්බට්ඨය, කිඹුල්වත් පුරය යන යමක් ඇද්ද, මෙය ශාක්‍යයන් සතු ස්වනගරය යි. එබැවින් ආයුෂ්මත් අම්බට්ඨ තෙමේ මේ ස්වල්ප මාත්‍රායෙහි වෛර බඳින්නට නො වටී" යැ යි වදාළ සේක.

15. එකලැ අම්බට්ඨ තෙමේ යළි දු ශාක්‍යයනට දෙස් නාගනුයේ, "භවද් ගෞතමය, ක්‍ෂත්‍රිය බ්‍රාහ්මණ වෛශ්‍ය ශූද්‍ර යැ යි මේ වර්ණ (කුල) සතරෙකි භවද් ගෞතමය, මේ සතර වර්ණයන් අතුරෙන් ක්‍ෂත්‍රිය ද වෛශ්‍ය ද ශූද්‍ර ද යන තුන් කුලයෝ ඒකාන්තයෙන් බ්‍රාහ්මණයාගේ ම මෙහෙකරු වෙත් (එබැවින්) භවත් ගෞතමය, මේ ශාක්‍යයෝ බමුණනට මෙහෙකරු වූ ගැහැවියෝ වන්නෝ ම, බමුණනට සත්කාර ගරුකාර බහුමාන පූජන අපචායන (=යටත් පැවැත්ම) නො කෙරෙත් යන මෙය නොසුදුසු ම ය, නො තිසි ම යැ" යි කී ය.

මෙසේ අම්බට්ඨ මාණවක තෙම ශාක්‍යයන් කෙරෙහි මේ තෙවෙනි ඉබ්භවාදය (=බමුණන්ගේ මෙහෙකරු ගැහැවියෝ ය යන ගැරැහීම) හෙළී ය

16. එවිට "මේ අම්බට්ඨ මාණවක තෙමේ ඉතා දැඩි ලෙස ශාක්‍යයන් කෙරෙහි ඉබ්භවාදයෙන් පිරිහෙළා කථා කෙරෙයි. මා ඔහු අතින් ගෝත්‍රය විචාළොත් යෙහෙකැ"යි භාග්‍යවතුන් වහන්සේට මේ සිත විය

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා අමතා, "අම්බට්ඨය, තෝ කවර ගොත් ඇත්තෙහි දැ?" යි විචාළ සේක

"භවද්ගෞතමය, මම් කෘෂ්ණායනයෙක් (=කෘෂ්ණ නම් සෘෂිහුගේ පෙළපතට අයත්තෙක්) වෙමි"යි අම්බට්ඨ තෙමේ (තෙ වරක් උස් හඬින්) කී ය.

17 (එවිට භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක) "අම්බට්ඨය, ඉකුත් කාලයට අයත් සිය මා පියන් අයත් නම්ගොත් සිහි කරන තාගේ ස්වාමිපුත්‍රයෝ ශාක්‍යයෝ වෙති තෝ ශාක්‍යයන්ගේ දාසියක ගේ පුත්‍ර (පරම්පරාවට අයත්) වෙහි ය. (එබැවින් දාස වූ තා ස්වකීය ස්වාමි වූ ශාක්‍යයන් කරා නො එළැඹෙන්නහු දැක ශාක්‍යයෝ එදා සිනාසුනාහ ) අම්බට්ඨය, ශාක්‍යයෝ වනාහි ඔක්කාක (=ඉක්ෂ්වාකු) රජහු තමන් මීමුත්තණුවන් (=පූර්වපුරුෂයාණන්) කොට තබත් (=පූර්වපුරුෂයා යි කියත්)

"අම්බට්ඨය, තට පෙරැ වූවක් කියමි, (අතීතයෙහි) ඔක්කාක රජ තෙමේ තමහට ප්‍රිය වූ මනාප වූ යම් මෙහෙසියක් වූ නම්, ඇයගේ පුතුට රජය පිරිනමනු කැමැත්තේ උක්කාමුඛ කරකණ්ඩ හත්ථිනික නිපුර යන දෙටු කුමරුන් රටින් පිටත් කෙළේ ය රටින් පිටත් කරණු ලැබූ ඔහු - හිමවත් පෙදෙසැ පොකුණක් අද්දරැ මහ ශාක ගස් ඇති වනයෙක් විය - එහි වාසය කළහ ඔහු ජාතිසම්භේදයට (අන්‍යකුල හා මිශ්‍ර වැ කිලිටි වීමට) බියෙන් සිය නිඟනියන් හා එක් වැ වුසූහ.

අථ ඛො අම්බට්ඨ රාජා ඔක්කාකො අමච්චෙ පාරිසජ්ජෙ ආමන්තෙසි "කහං නු ඛො භො එතරහි කුමාරා සම්මන්තී"ති.

"අත්ථි දෙව හිමවන්තපස්සෙ පොක්ඛරණියා තීරෙ මහාසාකසණ්ඩො තත්ථෙතරහි කුමාරා සම්මන්ති තෙ ජාතිසම්භෙදභයා සකාහි භගිනීහි සද්ධිං සංවාසං කප්පෙන්තී"ති.

අථ ඛො අම්බට්ඨ රාජා ඔක්කාකො උදානං උදානෙසි "සක්‍යා වත භො කුමාරා පරමසක්‍යා වත භො කුමාරා"ති. තදග්ගෙ ඛො පන අම්බට්ඨ සක්‍යා පඤ්ඤායන්ති සො'ච[1] නෙසං පුබ්බපුරිසො.

රඤ්ඤො ච ඛො පන අම්බට්ඨ ඔක්කාකස්ස දිසා නාම දාසී අහොසි සා කණ්හං[2] නාම ජනෙසි. ජාතො කණ්හො පබ්‍යාහාසි "ධොවථ මං අම්ම, නහාපෙථ මං අම්ම, ඉමස්මා මං අම්ම අසුචිස්මා පරිමොචෙථ, අත්ථාය වො භවිස්සාමී'ති

යථා ඛො පන අම්බට්ඨ එතරහි මනුස්සා පිසාචෙ දිස්වා 'පිසාචා'ති සඤ්ජානන්ති. එවමෙව ඛො අම්බට්ඨ තෙන සමයෙන මනුස්සා පිසාචෙ 'කණ්හා'ති සඤ්ජානන්ති තෙ එවමාහංසු 'අයං ජාතො පබ්‍යාහාසි 'කණ්හො ජාතො පිසාචො ජාතො'ති

තදග්ගෙ ඛො පන අම්බට්ඨ කණ්හායනා පඤ්ඤායන්ති සො ච කණ්හායනානං පුබ්බපුරිසො ඉති ඛො තෙ අම්බට්ඨ පොරාණං මාතා-පෙත්තිකං නාමගොත්තං අනුස්සරතො අය්‍යපුත්තා සක්‍යා භවන්ති දාසිපුත්තො ත්වමසි සක්‍යානන්ති

18 එවං වුත්තෙ තෙ මාණවකා භගවන්තං එතදවොචුං "මා භවං ගොතමො අම්බට්ඨං මාණවං අතිබාළ්හං දාසිපුත්තවාදෙන නිම්මාදෙසි සුජාතො ච භො ගොතම අම්බට්ඨො මාණවො කුලපුත්තො ච අම්බට්ඨො මාණවො බහුස්සුතො ච අම්බට්ඨො මාණවො කල්‍යාණවාක්කරණො ච අම්බට්ඨො මාණවො පණ්ඩිතො ච අම්බට්ඨො මාණවො පහොති ච අම්බට්ඨො මාණවො භොතා ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙ-තු"න්ති

1 සොච සිමු I
2 කණං සිමු II

"අම්බට්ඨය, ඉක්බිති ඔක්කාක රජ තෙම මැතිමඬුල්ලට අයත් ඇමැතියන් අමතා "භවත්නි, කුමරුවෝ දැන් කොහි වෙසෙත් ද ?" යි විචාළේ ය.

"දේවයිනි, හිමවත පැත්තෙහි පොකුණු තෙරෙහි මහා ශාක වනයෙක් ඇත. එහි කුමරුවෝ වෙසෙති. ඔහු ජාතිසම්මිශ්‍රණයෙන් වූ බියෙන් සිය බිහිනියන් හා එක් වැ වෙසෙත් යැ" යි ඇමැතියෝ කීහ.

"අම්බට්ඨය, එවිටැ ඔක්කාක රජ 'භවත්නි, පුදුම යි කුමරුවෝ ශක්‍යයෝ ය (සමත්හු ය)! කුමරුවෝ පරම ශක්‍යයෝ යැ (මහත් ම සමත්හු යැ)!' යි උදන් ඇනී ය. අම්බට්ඨය, එතැන් පටන් ඔහු 'ශක්‍යයෝ' යි ('ශාක්‍යයෝ' යි) පැනෙත්. ඒ ඔක්කාක රජ ම ඔවුන්ගේ පූර්ව පුරුෂ විය

"අම්බට්ඨය, තව ද ඔක්කාක රජහුගේ දිශා නම් දාසියක් වූ ය. ඕ කෘෂ්ණ නමැත්තහු වැදූ ය (එසේ උපන් කෘෂ්ණ තෙමේ යකෙක් උපනැ යි බියෙන් දිවැගොස් දොර විසා ගෙන සිටි මවට) 'මෑණියනි, මා නාවන්න, මෑණියනි, මේ අපවිත්‍ර දූසින් මා මුදන්න, ඔබට මම් යහපත පිණිස වන්නෙමි'යි කෑ ගැසී ය.

"අම්බට්ඨය, මෙ කලැ මිනිස්සු පිශාචයන් දැක 'පිශාචයෝ'යි යම්සේ හඳුනත් ද, අම්බට්ඨය, එසේ ම එසමයෙහි මිනිස්සු පිශාචයන් කළු-දැහැත්තෝ යැ යි හඳුනත්. ඔහු 'මෙ තෙම උපන්නේ (=උපන් කෙණෙහි) කථා කෙළේ ය. කෘෂ්ණයෙක් (=කළුවෙක්) උපන, පිශාචයෙක් උපනැ'යි මෙසේ කීහ

"අම්බට්ඨය, එතැන් පටන් කෘෂ්ණායනයෝ (=කෘෂ්ණ පරම්පරාවට අයත් වූවෝ යැ යි ඔහු පරපුරෙහි වූවෝ) පැනෙත්. හේ ද කෘෂ්ණායනයන්ගේ පූර්ව පුරුෂයා ය. අම්බට්ඨය, මෙසේ ම ශාක්‍යයෝ මාපිය පරපුරට අයත් අතීත නම් ගොත් සිහි කරන තාගේ ස්වාමිපුත්‍රයෝ ය, තෝ ශාක්‍යයන්ගේ දාසීපුත්‍රයෙකැ" යි යනු යි.

18 මෙසේ වදාළ කල්හි ඒ මාණවකයෝ කියන්නෝ "භවත්-ගෞතම තෙමේ ඉතා දැඩි ලෙස දාසීපුත්‍රවාදයෙන් අම්බට්ඨ මාණවකයා නො පිරිහෙලා වා. භවද් ගෞතමයිනි, අම්බට්ඨ මාණවක තෙමේ සුජාත ද වේ. අම්බට්ඨ මාණවක තෙම කුලපුත්‍ර (මනා කුලයෙහි උපන්නෙක්) ද වේ. අම්බට්ඨ මාණවක තෙම බහුශ්‍රැත ද වේ. අම්බට්ඨ මාණවක තෙමේ මිහිරි වචන ඇත්තේ ද වේ. අම්බට්ඨ මාණවක තෙමේ පණ්ඩිත ද වේ. අම්බට්ඨ මාණවක තෙමේ මේ වචනයෙහි (=මේ වේදත්‍රය පිළිබඳ කථායෙහි හෝ මේ දාසීපුත්‍ර කථායෙහි) භවද් ගෞතමයන් හා ප්‍රතිමන්ත්‍රණය කරන්නට (=මෙහි ලා උත්තර දෙන්නට) පොහොසත් ද වේ" යැ යි භාග්‍යවතුන් වහන්සේට කීහ.

19. අථ ඛො භගවා තෙ මාණවකෙ එතදවොච "සචෙ ඛො තුම්හාකං මාණවකා එවං හොති 'දුජ්ජාතො ච අම්බට්ඨො මාණවො, අකුලපුත්තො ච අම්බට්ඨො මාණවො, අප්පස්සුතො ච අම්බට්ඨො මාණවො, අකල්‍යාණවාක්කරණො ච අම්බට්ඨො මාණවො, දුප්පඤ්ඤො ච අම්බට්ඨො මාණවො, න ච පහොති අම්බට්ඨො මාණවො සමණෙන ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතුන්ති, තිට්ඨතු අම්බට්ඨො මාණවො, තුම්හෙ මයා සද්ධිං මන්තයව්හො[1] අස්මිං වචනෙ. සචෙ පන තුම්හාකං මාණවකා එවං හොති සුජාතො ච අම්බට්ඨො මාණවො, කුලපුත්තො ච අම්බට්ඨො මාණවො, බහුස්සුතො ච අම්බට්ඨො මාණවො, කල්‍යාණවාක්කරණො ච අම්බට්ඨො මාණවො, පණ්ඩිතො ච අම්බට්ඨො මාණවො, පහොති ච අම්බට්ඨො මාණවො සමණෙන ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතුන්ති, තිට්ඨථ තුම්හෙ, අම්බට්ඨො මාණවො මයා සද්ධිං පටිමන්තෙතූ"ති

20 "සුජාතො ච භො ගොතම අම්බට්ඨො මාණවො, කුලපුත්තො ච අම්බට්ඨො මාණවො, බහුස්සුතො ච අම්බට්ඨො මාණවො, කල්‍යාණවාක්කරණො ච අම්බට්ඨො මාණවො, පණ්ඩිතො ච අම්බට්ඨො මාණවො, පහොති ච අම්බට්ඨො මාණවො භොතා ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතුං. තුණ්හී මයං භවිස්සාම අම්බට්ඨො මාණවො භොතා ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතූ"ති.

21. අථ ඛො භගවා අම්බට්ඨං මාණවං එතදවොච අයං ඛො පන තෙ අම්බට්ඨ සහධම්මිකො පඤ්හො ආගච්ඡති අකාමාපි ව්‍යාකාතබ්බො සචෙ ත්වං න ව්‍යාකරිස්සසි අඤ්ඤෙන වා අඤ්ඤං පටිචරිස්සසි, තුණ්හී වා භවිස්සසි, පක්කමිස්සසි වා, එත්ථෙව තෙ සත්තධා මුද්ධා ඵලිස්සති තං කිං මඤ්ඤසි අම්බට්ඨ ? කින්ති තෙ සුතං බ්‍රාහ්මණානං වුද්ධානං මහල්ලකානං ආචරියපාචරියානං කුතොපභුතිකා කණ්හායනා ? කො ච කණ්හායනානං පුබ්බපුරිසො ?ති

එවං වුත්තෙ අම්බට්ඨො මාණවො තුණ්හී අහොසි. දුතියම්පි ඛො භගවා අම්බට්ඨං මාණවං එතදවොච තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? කින්ති තෙ සුතං බ්‍රාහ්මණානං වුද්ධානං මහල්ලකානං-පෙ-කො ච කණ්හායනානං පුබ්බපුරිසො?ති දුතියම්පි ඛො අම්බට්ඨො මාණවො තුණ්හී අහොසි

අථ ඛො භගවා අම්බට්ඨං මාණවං එතදවොච ව්‍යාකරොහි 'දානි අම්බට්ඨ, න 'දානි තෙ තුණ්හීභාවස්ස කාලො යො ඛො අම්බට්ඨ තථාගතෙන යාවතතියකං සහධම්මිකං පඤ්හං පුට්ඨො න ව්‍යාකරොති එත්ථෙවස්ස සත්තධා මුද්ධා ඵලිස්සති

---

1. මන්තව්හ මජසං

19 එ කල්හි භාග්‍යවතුන් වහන්සේ ඒ මාණවකයන් අමතා, "මාණවකයෙනි, අම්බට්ඨ මාණවකයා දුජ්ජාත ද වේ. අම්බට්ඨ මාණවකයා අකුලපුත්‍ර ද වේ අම්බට්ඨ මාණවකයා අල්පශ්‍රැත ද වේ අම්බට්ඨ මාණවකයා නොමිහිරි වචන ඇත්තේ ද වේ අම්බට්ඨ මාණවකයා අපණ්ඩිත ද වේ ශ්‍රමණ ගෞතමයා හා මේ වචනයෙහි සාකච්ඡා කරන්නට පොහොසත් ද නො වේ යැ යි ඉදින් තොපට මෙසේ සිතෙක් වේ නම්, අම්බට්ඨ මාණවකයා සිටී වා තෙපි මා හා මේ වචනයෙහි සාකච්ඡා කරවු ඉදින් මාණවකයිනි, අම්බට්ඨ මාණවකයා සුජාත ද කුලපුත්‍ර ද බහුශ්‍රැත ද මිහිරි වචන ඇත්තේ ද පණ්ඩිත ද වේ ශ්‍රමණ ගෞතමයා හා මේ වචනයෙහි සාකච්ඡා කරන්නට පොහොසත් ද වේ යැ යි තොපට මෙසේ සිතෙක් වේ නම්, තෙපි සිටිවු අම්බට්ඨ මාණවක තෙමේ මා හා සාකච්ඡා කෙරේ වා"යි වදාළ සේක

20. "භවද් ගෞතමය, අම්බට්ඨ මාණවක තෙමේ සුජාත ද බහුශ්‍රැත ද මිහිරි වචන ඇත්තේ ද පණ්ඩිත ද. භවද් ගෞතමයන් හා මේ වචනයෙහි සාකච්ඡා කරන්නට පොහොසත් ද වේ අපි නිහඬ වන්නමු අම්බට්ඨ මාණවක තෙමේ භවද් ගෞතමයන් හා මේ වචනයෙහි සාකච්ඡා කෙරේ වා (උත්තර ප්‍රත්‍යුත්තර කථා කෙරේ වා)' සි මාණවකයෝ කීහ

21 ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා අමතා, "අම්බට්ඨය. නොකැමැත්තෙන් වුව ද විසැඳිය යුතු වූ කරුණු සහිත පැනයෙක් තා කරා පැමිණෙයි ඉදින් තෝ නො විසඳන්නෙහි නම්, එක් වචනයෙකින් අන් වචනයක් වසා ලන්නෙහි නම්, තුෂ්ණිම්භූත හෝ වන්නෙහි නම්, උත්තර නොදී නැගී පලායන්නෙහි නම්, මෙහි ම තාගේ හිස සත් කඩක් වැ පැළෙන්නේ ය අම්බට්ඨ ය, එය කිමැ යි සිතහි ද? වයසින් වැඩි සිටි, මහලු වූ, (මෙහි ලා) කරුණු කියන ආචාර්‍ය ප්‍රාචාර්‍ය වූ බමුණන්ගේ කථාව තා විසින් කෙසේ අසන ලද ද? (කියව,) කෘෂ්ණායනයෝ කවරක්හු මූලස්ථාන කොට ඇත්තෝ ද? (කවුරුන්ගෙන් ඇති වූවෝ ද?) කෘෂ්ණායනයන්ගේ පූර්වපුරුෂයා කවරෙක් වී ද? යි පුළුවුත් සේක

මෙසේ ඇසූ කල්හි අම්බට්ඨ මාණවක තෙමේ තුෂ්ණිම්භූත විය දෙවෙනි වර ද භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා අමතා "අම්බට්ඨය, කිමැ යි සිතහි ද කෘෂ්ණායනයන් ගේ පූර්වපුරුෂයා කවරෙක් වී ද?"යි වදාළ සේක දෙවැනි වර ද අම්බට්ඨ මාණවක තෙමේ තුෂ්ණිම්භූත විය

එ විට භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයාට වදාරන සේක්, "අම්බට්ඨය, දැන් විසඳව දැන් තට නිහඬ වීමට කල් නො වේ අම්බට්ඨය, යමෙක් වනාහි තථාගතයන් විසින් තෙවෙනි වර තෙක් කරුණු සහිත පැණයක් පිළිවිස්නා ලද්දේ උත්තර නො දේ නම්, මෙහි ම ඔහුගේ හිස සත් කඩක් වැ පැළෙන්නේ යැ"යි වදාළ සේක.

22 තෙන ඛො පන සමයෙන වජිරපාණී යක්ඛො මහන්තං අයොකූටං ආදාය ආදිත්තං සම්පජ්ජලිතං සජොතිභූතං අම්බට්ඨස්ස මාණවස්ස උපරිවෙහාසං ඨිතො හොති සචායං අම්බට්ඨො මාණවො භගවතා යාවතතියකං සහධම්මිකං පඤ්හං පුට්ඨො න ව්‍යාකරිස්සති එත්ථෙවස්ස සත්තධා මුද්ධං ඵාලෙස්සාමීති තං ඛො පන වජිරපාණිං යක්ඛං භගවා චෙව පස්සති අම්බට්ඨො ච මාණවො

23 අථ ඛො අම්බට්ඨො මාණවො භීතො සංවිග්ගො ලොමහට්ඨජාතො භගවන්තංයෙව තාණගවෙසී භගවන්තංයෙව ලෙණගවෙසී භගවන්තංයෙව සරණගවෙසී උපනිසීදිත්වා භගවන්තං එතදවොච "කිං මෙ තං භවං ගොතමො ආහ? පුන භවං ගොතමො බ්‍රවීතූ"ති

"තං කිම්මඤ්ඤසි අම්බට්ඨ? කින්ති තෙ සුතං බ්‍රාහ්මණානං වුද්ධානං මහල්ලකානං ආචරියපාචරියානං භාසමානානං, කුතොපභුතිකා කණ්හා-යනා? කො ච කණ්හායනානං පුබ්බපුරිසො?ති."

"එවමෙව මෙ භො ගොතම සුතං, යථෙව භවං ගොතමො ආහ තතොපපභුතිකා කණ්හායනා සො ච කණ්හායනානං පුබ්බපුරිසො"ති

24 එවං වුත්තෙ තෙ මාණවකා උන්නාදිනො උච්චාසද්දමහාසද්දා අහෙසුං "දුජ්ජාතො කිර භො අම්බට්ඨො මාණවො, අකුලපුත්තො කිර භො අම්බට්ඨො මාණවො, දාසිපුත්තො කිර භො අම්බට්ඨො මාණවො සක්‍යානං, අය්‍යපුත්තා කිර භො අම්බට්ඨස්ස මාණවස්ස සක්‍යා භවන්ති ධම්මවාදිංයෙව කිර මයං සමණං ගොතමං අපසාදෙතබ්බං අමඤ්ඤිම්හා"ති

25 අථ ඛො භගවතො එතදහොසි "අතිබාළ්හං ඛො ඉමෙ මාණවකා අම්බට්ඨං මාණවං දාසිපුත්තවාදෙන නිම්මාදෙන්ති යන්නූනාහං පරිමො-චෙය්‍යන්ති" අථ ඛො භගවා තෙ මාණවකෙ එතදවොච "මා ඛො තුම්හෙ මාණවකා අම්බට්ඨං මාණවං අතිබාළ්හං දාසිපුත්තවාදෙන නිම්මාදෙථ උළාරො සො කණ්හො ඉසි අහොසි සො දක්ඛිණජනපදං ගන්ත්වා බ්‍රහ්මෙ මන්තෙ අධීයිත්වා රාජානං ඔක්කාකං උපසඞ්කමිත්වා මට්ඨරූපිං[1] ධීතරං යාචි තස්ස රාජා ඔක්කාකො 'කො නෙව රෙ අයං මය්හං දාසිපුත්තො සමානො මට්ඨරූපිං ධීතරං යාචතී'ති කුපිතො අනත්තමනො ඛුරප්පං සන්නය්හි සො තං ඛුරප්පං නෙව අසක්ඛි මුඤ්චිතුං, නො පටිසංහරිතුං

1 මද්දරූපිං, මජසං

22 එ වේලෙහි වනාහි වජ්‍රපාණී යක්ෂ තෙමේ ගිනි ගත් දිලියෙන ගිනි දැල් සහිත මහ යකුලක් අතින් ගෙන, ‘ඉදින් මේ අම්බට්ඨ මාණවකයා භාග්‍යවතුන් වහන්සේ විසින් තෙවෙනි වර තෙක් කරුණු සහිත පැනය පුළුවුස්නා ලද්දේ උත්තර නො දෙන්නේ නම්, මෙහි ම මොහු ගේ හිස සත් කඩකට පළන්නෙමි’යි කියා අම්බට්ඨ මාණවකයාට උඩින් අහසෙහි සිටියේ වෙයි ඒ වජ්‍රපාණී යක්ෂයා වනාහි භාග්‍යවතුන් වහන්සේත් දක්නා සේක අම්බට්ඨ මාණවකයාත් දක්නේ ය

23 ඉක්බිති අම්බට්ඨ මාණවක තෙමේ තැති ගත්තේ, බිය පත් වූයේ, හටගත් ලොමුදැහ ගැනුම් ඇත්තේ, භාග්‍යවතුන් වහන්සේ ම ආරක්ෂාස්ථානය කොට සොයනුයේ, භාග්‍යවතුන් වහන්සේ ම තමාට සැඟෙවෙන තැන කොට සොයනුයේ, භාග්‍යවතුන් වහන්සේ ම පිහිට කොට සොයනුයේ, සමීපයෙහි හිඳ ගෙන, ‘භවද් ගෞතම තෙමේ මට ඒ කුමක් කීයේ ද ? යළිත් භවද් ගෞතම තෙමේ කියාවා’’යි කී ය

එ විට භාග්‍යවතුන් වහන්සේ “අම්බට්ඨය, එය කිමැ යි සිතහි ද ? (මෙහි ලා) කරුණු කියන වයසින් වැඩි සිටි, මහලු, ආචාර්‍ය ප්‍රාචාර්‍යයන් ගේ කථාව තා විසින් කෙසේ අසන ලද ද ? කෘෂ්ණායනයෝ කවරක්හු මූලස්ථාන කොට ඇත්තෝ ද ? කෘෂ්ණායනයන් ගේ පූර්වපුරුෂයා කවරෙක් වී ද ?’’ යි වදාළ සේක.

“භවද් ගෞතම තෙමේ යම්සේ ම කියේ ද, එසේ ම මා විසින් අසන ලදි කෘෂ්ණායනයෝ ඒ කෘෂ්ණයා මූලස්ථාන කොට ඇත්තෝ ය හේ ම කෘෂ්ණායනයන් ගේ ප්‍රථම පුරුෂයා වී යැ’’ යි අම්බට්ඨයා කී ය

24 මෙසේ කී කල්හි ඒ මාණවකයෝ “භවත්නි, අම්බට්ඨ මාණවකයා පහත් ජාතියෙක උපන්නෙක් ල! භවත්නි, අම්බට්ඨ මාණවකයා කුල පුත්‍රයෙක් නොවේ ල! භවත්නි, අම්බට්ඨ මාණවකයා ශාක්‍යයන් ගේ දාසිපුත්‍රයෙක් ල! භවත්නි, ශාක්‍යයෝ අම්බට්ඨ මාණවකයා ගේ ස්වාමිපුත්‍රයෝ වෙත් ල! අපි ධර්මවාදී වූ ම ශ්‍රමණ ගෞතමයන් වහන්සේ ගැරැහියැ යුත්තන් කොට සිතුවමු!’’යි හඬ ගා කියන්නෝ උස්හඬ ඇත්තෝ මහ හඬ ඇත්තෝ වූහ

25. එ විටැ “මේ මාණවකයෝ අම්බට්ඨමාණවකයාට ඉතා දැඩි ලෙස දාසිපුත්‍ර වාදයෙන් පිරිහෙළා කියත් මම් ඔහු එයින් මුදා ලන්නෙම් නම් යෙහෙකැ’’යි භාග්‍යවතුන් වහන්සේට මේ සිත විය. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ ඒ මාණවකයනට මෙසේ වදාළ සේක

“මාණවකයෙනි, තෙපි ඉතා දැඩි කොට අම්බට්ඨ මාණවකයාට දාසීපුත්‍රවාදයෙන් නො ගරහවූ ඒ (ඔහු ගේ ආදිපුරුෂ වූ) කෘෂ්ණර්ෂි තෙමේ මහානුභාව ඇත්තෙක් වී ය හේ දක්ෂිණාපථයට ගොස් බ්‍රහ්ම-මන්ත්‍රයන් ඉගෙන ඔක්කාක රජු කරා එළැඹැ, මට්ඨරූපී නම් දියණියන් ඉල්ලී ය ඔක්කාක රජ තෙමේ “එම්බල, මගේ දාසීපුත්‍ර වැ හිඳත් මූ කවරෙක් නම් (=මූ තමා තරම නො දන) මට්ඨරූපී දුව ඉල්ලනුයේ ද!’’යි කිපුණේ නොසතුටු සිතැත්තේ (ඔහු විද මරනු පිණිස) ඊය දුන්නෙහි ඔඳුවී ය. හේ ඒ ඊය දුන්නෙන් මුදන්නට ද (=විදින්නට) ඇද ගන්නට ද නොහැකි විය

අථ ඛො මාණවකා අමච්චා පාරිසජ්ජා කණ්හං ඉසිං උපසඞ්කමිත්වා එතදවොචුං "සොත්ථි භදන්ත හොතු රඤ්ඤො, සොත්ථි භදන්ත හොතු රඤ්ඤො"ති

"සොත්ථි භවිස්සති රඤ්ඤො, අපි ච රාජා යදි අධො ඛුරප්පං මුඤ්චිස්සති යාවතා රඤ්ඤො විජිතං එත්තාවතා පථවී උද්‍රීයිස්සතී"ති.

"සොත්ථි භදන්ත හොතු රඤ්ඤො, සොත්ථි ජනපදස්සා"ති

"සොත්ථි භවිස්සති රඤ්ඤො, සොත්ථි ජනපදස්ස අපි ච රාජා යදි උද්ධං ඛුරප්පං මුඤ්චිස්සති යාවතා රඤ්ඤො විජිතං එත්තාවතා සත්තවස්සානි දෙවො න වස්සිස්සතී"ති

"සොත්ථි භදන්ත හොතු රඤ්ඤො, සොත්ථි ජනපදස්ස, දෙවො ච වස්සතූ"ති

"සොත්ථි භවිස්සති රඤ්ඤො, සොත්ථි ජනපදස්ස, දෙවො ච වස්සිස්සති. අපි ච රාජා ජෙට්ඨකුමාරෙ ඛුරප්පං පතිට්ඨාපෙතු, සොත්ථි කුමාරො, පල්ලොමො භවිස්සතී"ති

අථ ඛො මාණවකා, අමච්චා ඔක්කාකස්ස ආරොචෙසුං "දෙවො ජෙට්ඨකුමාරෙ ඛුරප්පං පතිට්ඨාපෙතු, සොත්ථි කුමාරො පල්ලොමො භවිස්සතී"ති අථ ඛො රාජා ඔක්කාකො ජෙට්ඨකුමාරෙ ඛුරප්පං පතිට්ඨාපෙසි සොත්ථි කුමාරො පල්ලොමො භවි

අථ ඛො තස්ස රාජා ඔක්කාකො භීතො සංවිග්ගො ලොමහට්ඨජාතො බ්‍රහ්මදණ්ඩෙන තජ්ජිතො මද්දරූපිං ධීතරං අදාසි මා ඛො තුම්හෙ මාණවකා, අම්බට්ඨං මාණවං අතිබාළ්හං දාසිපුත්තවාදෙන නිම්මාදෙථ උළාරො සො කණ්හො ඉසි අහොසි

26 අථ ඛො භගවා අම්බට්ඨං මාණවං ආමන්තෙසි "තං කිම්මඤ්ඤසි අම්බට්ඨ? ඉධ ඛත්තියකුමාරො බ්‍රාහ්මණකඤ්ඤාය සද්ධිං සංවාසං කප්පෙය්‍ය, තෙසං සංවාසමන්වාය පුත්තො ජායෙථ, යො සො ඛත්තියකුමාරෙන බ්‍රාහ්මණකඤ්ඤාය පුත්තො උප්පන්නො, අපි නු සො ලභෙථ බ්‍රාහ්මණෙසු ආසනං වා උදකං වා ?"ති,

"ලභෙථ භො ගොතම".

"අපි නු නං බ්‍රාහ්මණා භොජෙය්‍යුං සද්ධෙ වා ථාලිපාකෙ වා යඤ්ඤෙ වා පාහුනෙ වා ?"ති

මාණවකයිනි, එ විටැ මැතිමඬුල්ලට අයත් ඇමැතියෝ බ්‍රාහ්මණර්ෂිහු වෙත එළැඹැ 'පින්වතුන් වහන්ස, රජුට සෙත් වේ වා, පින්වතුන් වහන්ස, රජුට සෙත් වේ වා'යි කීහ.

(එ විටැ බ්‍රාහ්මණ තෙමේ) "රජුට සෙත් වන්නේ ය, එතෙකුදු වුවත්, ඉදින් රජ ඊය යට දෙසට මුදන්නේ නම්, රජුගේ රට යම් තාක් ද ඒ තාක් පොළොව බිඳී විසිරෙන්නේ යැ"යි කී ය.

'පින්වතුන් වහන්ස, රජුට සෙත් වේ වා, රටට සෙත් වේ වා'යි ඇමැතියෝ කීහ.

'රජුට සෙත් වන්නේ ය, රටට සෙත් වන්නේ ය, එතෙකුදු වුවත් ඉදින් රජ ඊය උඩ දෙසට මුදා හලොත් රජුගේ රට යම් තාක් ද එතෙක් පෙදෙසට සත් හවුරුද්දක් වැසි නො වස්නේ යැ'යි බ්‍රාහ්මණයා කී ය

(එ විට ඇමැතියෝ) 'පින්වතුන් වහන්ස, රජුට සෙත් වේ වා රටට ද සෙත් වේ වා, වැසි ද වසී වා' යි කීහ.

(බ්‍රාහ්මණ තෙමේ) 'රජුට සෙත් වන්නේ ය, රටට ද සෙත් වන්නේ ය, වැසි ද වස්නේ ය, එතෙකුදු වුවත් රජ තෙමේ දෙටු කුමරා කෙරෙහි ඊය පිහිටුවා වා (=දෙටු කුමරුට ඊයෙන් විදී වා), කුමර තෙමේ නිරුපද්‍රැත වන්නේ ය, ලොමුදැහ ගැනුම් පමණකුදු නොමැතියේ වන්නේ යැ'යි කී ය

මාණවකයිනි, ඉක්බිති ඇමැතියෝ "රජ තෙමේ දෙටු කුමරා කෙරෙහි ඊය පිහිටුවා වා, කුමර තෙමේ නිරුපද්‍රැත වන්නේ ය, ලොමුදැහ ගැනුම් පමණකු දු නැත්තෙක් වන්නේ යැ' යි ඔක්කාක රජුට කීහ එවිටැ ඔක්කාක රජ දෙටු කුමරා කෙරෙහි ඊය පිහිටුවිය (දෙටු කුමරු දෙසට ඊය මුදා හැරියේ ය) කුමර තෙමේ නිරුපද්‍රැත විය ලොමුදැහ ගැනුම් පමණකුදු ඇත්තේ නො වී ය

ඉක්බිති ඔක්කාක රජ තැති ගත්තේ, බිය ගත්තේ, හට ගත් ලොමුදැහ ගැනුම් ඇත්තේ, බ්‍රහ්මදණ්ඩයෙන් තරවටු කරනු ලැබූයේ, ඔහුට මට්ඨරූපී නම් දියණියත් දුන්නේ ය මාණවකයිනි, තෙපි අම්බට්ඨ මාණවකයාට ඉතා දැඩි කොට දාසිපුත්‍රවාදයෙන් නො ගරහවු ඒ බ්‍රාහ්මණර්ෂි තෙමේ මහානුභාව ඇත්තෙක් වී ය" යනු යි

26 ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා අමතා "අම්බට්ඨය, මෙය කිමැ යි සිතහි ද ? මෙහි ක්‍ෂත්කුමරෙක් බමුණුදැරියක හා එක් වැ වසන්නේ නම්, ඔවුන්ගේ එක් වැ විසීමෙන් පුතෙක් උපදනේ නම්, ඒ ක්‍ෂත් කුමරා නිසා බමුණු දැරියට උපන් පුතා බමුණන් අතුරෙහි අග්‍රාසනය හෝ අග්‍රෝදකය ලබන්නේ ද ? යි ඇසූ සේක

[අම්බට්ඨ ] "ගෞතමයිනි, ලබන්නේ ය"

[භාග්‍යවතුන් වහන්සේ ] "බමුණෝ මළවුන් උදෙසා දෙන බතෙහි හෝ මගුල් බතෙහි හෝ යාග බතෙහි හෝ ආගන්තුක දානයෙහි හෝ ඔහු වළඳවන්නෝ ද? '

"භොජෙය්‍යුං භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා මන්තෙ වාචෙය්‍යුං වා නො වා?"ති

"වාචෙය්‍යුං භො ගොතම"

"අපිනු'ස්ස ඉත්ථීසු ආවටං වා අස්ස අනාවටං වා?"ති

"අනාවටං හි'ස්ස භො ගොතම"

"අපි නු නං ඛත්තියා ඛත්තියාභිසෙකෙන අභිසිඤ්චෙය්‍යුන්ති?"

"නො හිදං භො ගොතම"

"තං කිස්ස හෙතු?"

"මාතිතො හි භො ගොතම අනුපපන්නො"ති

27. "තං කිම්මඤ්ඤසි අම්බට්ඨ? ඉධ බ්‍රාහ්මණකුමාරො ඛත්තියකඤ්ඤාය සද්ධිං සංවාසං කප්පෙය්‍ය, තෙසං සංවාසමන්වාය පුත්තො ජායෙථ, යො සො බ්‍රාහ්මණකුමාරෙන ඛත්තියකඤ්ඤාය පුත්තො උප්පන්නො, අපි නු සො ලභෙථ බ්‍රාහ්මණෙසු ආසනං වා උදකං වා?"ති

"ලභෙථ භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා භොජෙය්‍යුං සද්ධෙ වා ථාලිපාකෙ වා යඤ්ඤෙ වා පාහුනෙ වා?"ති

"භොජෙය්‍යුං භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා මන්තෙ වාචෙය්‍යුං වා නො වා?"ති

"වාචෙය්‍යුං භො ගොතම"

"අපිනු'ස්ස ඉත්ථීසු ආවටං වා අස්ස අනාවටං වා?"ති

"අනාවටං හි'ස්ස භො ගොතම"

"අපි නු නං ඛත්තියා ඛත්තියාභිසෙකෙන අභිසිඤ්චෙය්‍යුන්ති?"

"නො හිදං භො ගොතම"

"තං කිස්ස හෙතු?"

"පිතිතො හි භො ගොතම අනුපපන්නො"ති.

28. "ඉති ඛො අම්බට්ඨ ඉත්ථියා වා ඉත්ථිං කරිත්වා පුරිසෙන වා පුරිසං කරිත්වා ඛත්තියා'ව සෙට්ඨා, හීනා බ්‍රාහ්මණා. තං කිම්මඤ්ඤසි අම්බට්ඨ? ඉධ බ්‍රාහ්මණා බ්‍රාහ්මණං කිස්මිඤ්චිදෙව පකරණෙ ඛුරමුණ්ඩං කරිත්වා අස්සපුටෙන වධිත්වා රට්ඨා වා නගරා වා පබ්බාජෙය්‍යුං, අපි නු සො ලභෙථ බ්‍රාහ්මණෙසු ආසනං වා උදකං වා?"ති

[අම්බට්ඨ] "භවද් ගෞතමයෙනි, ඔහු වළඳවන්නෝ ය."

[භා] "බමුණෝ ඔහුට වේදයන් කියවන්නෝ ද, නොකියවන්නෝ ද ?"

[අම්·] "භවද් ගෞතමයිනි, කියවන්නෝය"

[භා] "ඒ කැත් කුමරුට බමුණු දූරියන් කෙරෙහි ආවරණයෙක් වන්නේ ද, නො වන්නේ ද ? (බමුණු දූරියන් ලබන හැකි වන්නේ ද නො වන්නේ ද ?)"

[අම්·] "භවද් ගෞතමයිනි, ඔහුට බමුණු දූරියන් කෙරෙහි ආවරණයෙක් නැත"

[භා·] "ක්‍ෂත්‍රියයෝ ඔහු ක්‍ෂත්‍රියාභිෂේකයෙන් අභිෂේක කරන්නෝ ද ?"

[අම්] "අභිෂේක නො කරන්නෝ ය, භවද් ගෞතමයිනි."

[භා] "ඒ කවර හෙයින් ද?"

[අම්] "භවද් ගෞතමයිනි, හේ මවු පසින් අසම්පූර්ණ ය (අපිරිසිදු ය) එහෙයිනි"

27 [භා] "අම්බට්ඨය, එය කිමැ යි සිතහි ද ? මෙහි බමුණු කුමරෙක් කැත් දූරියක හා එක් වැ වසන්නේ නම්, ඔවුන් ගේ එක් වැ විසීමෙන් පුතෙක් උපදනේ නම්, ඒ බමුණු කුමරහු නිසා කැත් දූරියට උපන් යම් පුතෙක් වේ නම්, හේ බමුණන් අතුරෙහි අග්‍රාසන හෝ අග්‍රෝදක ලබන්නේ ද ?"

[අම්] "ලබන්නේ ය භවද් ගෞතමයිනි"

[භා] "බමුණෝ මළවුන් උදෙසා දෙන බතෙහි හෝ මගුල් බතෙහි හෝ යාග බතෙහි හෝ අමුතු බතෙහි හෝ ඔහු වළඳවන්නෝ ද ?"

[අම්·] "වළඳවන්නෝ ය, භවද් ගෞතමයිනි"

[භා] "බමුණෝ ඔහුට වේද කියවන්නෝ ද නොකියවන්නෝ ද ?"

[අම්] "කියවන්නෝ ය, භවද් ගෞතමයිනි."

[භා] "ඔහුට බමුණු දූරියන් කෙරෙහි ආවරණයෙක් වන්නේ ද, නො වන්නේ ද ?"

[අම්] "භවද් ගෞතමයිනි, ආවරණයෙක් නො වන්නේ ය."

[භා.] "ක්‍ෂත්‍රියයෝ ක්‍ෂත්‍රියාභිෂේකයෙන් ඔහු අභිෂේක කරන්නෝ ද ?"

[අම්.] "භවද් ගෞතමයිනි, මෙය ඔහු නො කරන්නෝ ය."

[භා.] "ඒ කවර හෙයින් ද ?"

[අම්] "භවද් ගෞතමයිනි, හේ පිය පසින් අසම්පූර්ණ ය (අශුද්ධ ය)"

28. [භා] "අම්බට්ඨය, මෙසේ වනාහි (කැත් බමුණු දෙකුලෙන් එක් කුලෙක) ස්ත්‍රියක හා (අන් කුලෙහි) ස්ත්‍රියක හා සැසැඳූ කල්හි ද, (එක් කුලෙක)පිරිමියකු හා (අන් කුලයෙහි) පිරිමියකු සැසැඳූ කල්හි ද, කැත්හු ම උසස් වෙත්, බමුණෝ පහත් වෙත් අම්බට්ඨය, එය කිමැ යි සිතහි ද ? මෙහි බමුණෝ බමුණකු කිසි නොකටයුත්තෙක්හි කරයෙන් හිස මුඩු කොට, අස්මපුටයෙන් වෙහෙසවා (=හෙවත් හිසැ අළු වගුරුවා) රටින් හෝ නුවරින් නෙරපන්නෝ නම්, හේ බමුණන් අතුරෙහි අග්‍රාසනය හෝ අග්‍රෝදකය ලබන්නේ ද ?"

"නො හිදං භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා භොජෙය්‍යුං සද්ධෙ වා ථාලිපාකෙ වා යඤ්ඤෙ වා පාහුනෙ වා?"ති

"නො හිදං භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා මන්තෙ වාචෙය්‍යුං වා නො වා?"ති.

"නො හිදං භො ගොතම."

"අපි නු'ස්ස ඉත්ථීසු ආවටං වා අස්ස අනාවටං වා?ති"

"ආවටං හි'ස්ස භො ගොතම"

29 "තං කිම්මඤ්ඤසි අම්බට්ඨ? ඉධ ඛත්තියා ඛත්තියං කිස්මිඤ්චිදෙව පකරණෙ ඛුරමුණ්ඩං කරිත්වා අස්සපුටෙන වධිත්වා රට්ඨා වා නගරා වා පබ්බාජෙය්‍යුං, අපි නු සො ලභෙථ බ්‍රාහ්මණෙසු ආසනං වා උදකං වා?"ති"

"ලභෙථ භො ගොතම"

"අපි නු නං බ්‍රාහ්මණා භොජෙය්‍යුං සද්ධෙ වා ථාලිපාකෙ වා යඤ්ඤෙ වා පාහුනෙ වා?ති"

"භොජෙය්‍යුං භො ගොතම."

"අපි නු නං බ්‍රාහ්මණා මන්තෙ වාචෙය්‍යුං වා නො වා?"ති

"වාචෙය්‍යුං භො ගොතම"

"අපි නු'ස්ස ඉත්ථීසු ආවටං වා අස්ස අනාවටං වා?"ති

"අනාවටං හි'ස්ස භො ගොතම"

"එත්තාවතා ඛො අම්බට්ඨ ඛත්තියො පරමනිහීනතං පත්තො හොති, යදෙව නං ඛත්තියා ඛුරමුණ්ඩං කරිත්වා අස්සපුටෙන වධිත්වා රට්ඨා වා නගරා වා පබ්බාජෙන්ති ඉති ඛො අම්බට්ඨ යදා ඛත්තියො පරමනිහීනතං පත්තො හොති, තදාපි ඛත්තියා'ව සෙට්ඨා හීනා බ්‍රාහ්මණා.

30 බ්‍රහ්මුනා'පි අම්බට්ඨ සනඞ්කුමාරෙන ගාථා භාසිතා

'ඛත්තියො සෙට්ඨො ජනෙතස්මිං
යෙ ගොත්තපටිසාරිනො,
විජ්ජාචරණසම්පන්නො
සො සෙට්ඨො දෙවමානුසෙ'ති

සා ඛො පනෙසා අම්බට්ඨ බ්‍රහ්මුනා සනඞ්කුමාරෙන ගාථා සුගීතා නො දුග්ගීතා, සුභාසිතා නො දුබ්භාසිතා, අත්ථසංහිතා නො අනත්ථසංහිතා, අනුමතා මයා. අහම්පි[1] අම්බට්ඨ එවං වදාමි·

'ඛත්තියො සෙට්ඨො ජනෙතස්මිං
යෙ ගොත්තපටිසාරිනො,
විජ්ජාචරණසම්පන්නො
සො සෙට්ඨො දෙවමානුසෙ'ති.

භාණවාරො පඨමො.

1 අහම්පිහි, මජසං

[අම්] 'භවද් ගෞතමයිනි, මෙය, නො වන්නේ යැ"

[භා] "බමුණෝ ශ්‍රාද්ධයෙහි (මතක බතෙහි) හෝ මඟුල් බතෙහි හෝ යාග බතෙහි හෝ අමුතු බතෙහි ඔහු වළඳවන්නෝ ද ?"

[අම්] "නො වළඳවන්නෝ ය, භවද් ගෞතමයිනි"

[භා] "බමුණෝ ඔහුට වේදයන් කියවන්නෝ ද ?"

[අම්] "නො කියවන්නෝ ය, භවද් ගෞතමයිනි"

[භා] 'ඔහුට ස්ත්‍රීන් අතුරෙහි ආවරණයෙක් හෝ අනාවරණයෙක් වන්නේ ද ?"

[අම්] "භවද් ගෞතමයිනි, ආවරණයෙක් ම වන්නේ ය

29 [භා] "අම්බට්ඨය, ඒ කිමැ යි සිතහි ද ? මෙහි ක්ෂත්‍රියයෝ ක්ෂත්‍රියයකු කිසි කරුණෙක්හි කරයෙන් හිස මුඩු කොට හිසැ අළු වගුරුවා රටින් හෝ නුවරින් නෙරපන්නෝ නම්, හේ බමුණන් මැදෑ අග්‍රාසනය හෝ අග්‍රෝදකය හෝ ලබන්නේ ද ?"

[අ] "ලබන්නේ ය, භවද් ගෞතමයිනි"

[භා] "බමුණෝ ශ්‍රාද්ධයෙහි හෝ මඟුල් බතෙහි හෝ යාග බතෙහි හෝ අමුතු බතෙහි හෝ ඔහු වළඳවන්නෝ ද ?"

[අම්] "වළඳවන්නෝ ය, භවද් ගෞතමයිනි"

[භා] "බමුණෝ ඔහුට වේදයන් කියවන්නෝ ද ? නැත හොත් නො කියවන්නෝ ද ?"

[අම්] "කියවන්නෝ ය, භවද් ගෞතමයිනි'

[භා] "ඔහුට බමුණු දූරියන් විෂයෙහි ආවරණයෙක් වන්නේ ද ? නැත හොත් නො වන්නේ ද ?"

[අම්] "ආවරණයෙක් නො වන්නේ ය, භවද් ගෞතමයිනි"

[භා] "අම්බට්ඨය, යම් කලෙක ක්ෂත්‍රියයෝ ක්ෂත්‍රියයකු කරමුඩු කොට (හිසකේ බා දමා) අළු පොදියෙන් ගසා (=හිසැ අළු වගුරුවා) රටින් හෝ නුවරින් හෝ නෙරපන්නෝ නම්, මෙතෙකින් ම ක්ෂත්‍රිය තෙමේ (ක්ෂත්‍රියයන් අතුරෙහි) පහත් ම බවට පැමිණියේ වෙයි (එහෙත් එසේ වූ ක්ෂත්‍රියයා බමුණෝ උසස් කොට පිළිගනිත්) අම්බට්ඨය, මෙසේ යම් විටෙක ක්ෂත්‍රියයා පහත් ම බවට පැමිණියේ නම්, එ කල්හිත් බමුණන් අතුරෙහි ක්ෂත්‍රියයෝ උසස් හ බමුණෝ හීනය හ

30 අම්බට්ඨය, සනත්කුමාර බ්‍රහ්ම විසිනුත් මෙසි ලා මේ ගය ගැයිණ (ගයේ අදහස)

"සිය පරපුර අනු ව පෙරළා අතීතයට ගොස් විමසන ජනයා අතුරෙහි ක්ෂත්‍රියයා ශ්‍රෙෂ්ඨ ය විද්‍යා චරණ දෙකින් යුත් යමෙක් වේ නම් හේ දෙව්මිනිසුන් අතුරෙහි ශ්‍රෙෂ්ඨ ය"

"අම්බට්ඨය, සනත්කුමාර බ්‍රහ්ම විසින් ඒ ගය මැනැවින් ගයන ලද්දේ වේ නොමනා වැ ගයන ලද්දේ නො වේ මැනැවින් කියන ලද්දේ වේ නොමනා වැ කියන ලද්දේ නො වේ ඒ අර්ථ නිඃශ්‍රිත ය, අනර්ථනිඃශ්‍රිත නො වේ මා විසින් අනුදන්නා ලද්දේ ය අම්බට්ඨය, මම ද මෙසේ කියමි

"ගෝත්‍රය ඔස්සේ පෙරළා ගොස් විමසන ජනයා අතුරෙහි ක්ෂත්‍රියයා ශ්‍රෙෂ්ඨ ය විද්‍යා චරණ දෙකින් යුත් යමෙක් වේ නම්, හේ දෙව්මිනිසුන් අතුරෙහි ශ්‍රෙෂ්ඨ ය' යනු යි

පළමු බණවර යි

31 "කතමං පන තං භො ගොතම චරණං, කතමා ච පන සා විජ්ජා ?"ති "න ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ජාතිවාදො වා වුච්චති ගොත්තවාදො වා වුච්චති මානවාදො වා වුච්චති 'අරහසි වා මං ත්වං න වා මං ත්වං අරහසී'ති යත්ථ ඛො අම්බට්ඨ ආවාහො වා හොති, විවාහො වා හොති, ආවාහවිවාහො වා හොති, එත්ථෙතං වුච්චති ජාතිවාදො වා ඉතිපි, ගොත්තවාදො වා ඉතිපි, මානවාදො වා ඉතිපිඃ 'අරහසි වා මං ත්වං න වා මං ත්වං අරහසී'ති. යෙ හි කෙචි අම්බට්ඨ ජාතිවාදවිනිබද්ධා වා ගොත්තවාදවිනිබද්ධා වා මානවාදවිනිබද්ධා වා ආවාහවිවාහවිනිබද්ධා වා, ආරකා තෙ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය පහාය ඛො අම්බට්ඨ ජාතිවාදවිනිබද්ධඤ්ච ගොත්තවාදවිනිබද්ධඤ්ච මානවාද-විනිබද්ධඤ්ච ආවාහවිවාහවිනිබද්ධඤ්ච අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සච්ඡිකිරියා හොතී"ති.

32 "කතමං පන තං භො ගොතම චරණං ? කතමා ච සා විජ්ජා ?"ති "ඉධ අම්බට්ඨ තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති. සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති

33. තං ධම්මං සුණාති ගහපති වා ගහපතිපුත්තො වා අඤ්ඤතරස්මිං වා කුලෙ පච්චාජාතො සො තං ධම්මං සුත්වා තථාගතෙ සද්ධං පටිලභති සො තෙන සද්ධාපටිලාභෙන සමන්නාගතො ඉති පටිසංචික්ඛති "සම්බාධො ඝරාවාසො රජොපථො අබ්භොකාසො පබ්බජ්ජා නයිදං සුකරං අගාරං අජ්ඣාවසතා එකන්තපරිපුණ්ණං එකන්තපරිසුද්ධං සංඛලිඛිතං බ්‍රහ්මචරියං චරිතුං, යන්නූනාහං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජෙය්‍ය''න්ති.

සො අපරෙන සමයෙන අප්පං වා භොගක්ඛන්ධං පහාය මහන්තං වා භොගක්ඛන්ධං පහාය අප්පං වා ඤාතිපරිවට්ටං පහාය මහන්තං වා ඤාතිපරිවට්ටං පහාය කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජති සො එවං පබ්බජිතො සමානො පාතිමොක්ඛසංවරසංවුතො විහරති ආචාරගොචරසම්පන්නො අණුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවී සමාදාය සික්ඛති සික්ඛාපදෙසු කායකම්මවචීකම්මෙන සමන්නාගතො කුසලෙන, පරිසුද්ධාජීවො සීල-සම්පන්නො ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො භොජනෙ මත්තඤ්ඤූ සතිසම්ප-ජඤ්ඤෙන සමන්නාගතො සන්තුට්ඨො.

31. [අම්] "භවද් ගෞතමයිනි, ඒ චරණය කවර ද? ඒ විද්‍යාව කවර ද?"

[භා] "අම්බට්ඨය, නිරුත්තර විද්‍යාචරණසම්පත්හි 'තෝ මට සුදුසු වෙහි යැ'යි කියා හෝ 'තෝ මට නුසුදුසු වෙහි යැ'යි කියා හෝ ජාතිවාදයෙක් කියනු නො ලැබේ ගෝත්‍රවාදයෙක් හෝ කියනු නො ලැබේ මානවාදයෙක් හෝ කියනු නො ලැබේ අම්බට්ඨය, යම් තැනෙක වූ කලි ආවාහයෙක් හෝ වේ ද, විවාහයෙක් හෝ වේ ද, ආවාහවිවාහයෙක් හෝ වේ ද, මෙහි 'තෝ මට තරම් යැ' යි (සුදුස්සෙහි යැ යි) කියා හෝ 'තෝ මට නොතරම් යැ' යි (නොසුදුස්සෙහි යැ යි) කියා හෝ යම් වචනයෙක් ලබ්ධියෙක් වේ ද, මෙය ජාතිවාද යැ යි ද, ගෝත්‍රවාද යැ යි ද, මානවාද යැ යි ද කියනු ලැබේ අම්බට්ඨය, යම් කෙනෙක් තුමූ ජාතිවාදයෙහි බැඳුණෝ හෝ ගෝත්‍රවාදයෙහි බැඳුණෝ හෝ මානවාදයෙහි බැඳුණෝ හෝ ආවාහවිවාහ-යෙහි බැඳුණෝ හෝ වෙත් ද, ඔහු නිරුත්තර විද්‍යාචරණ සම්පත්තියෙන් ඈත්හි වූවෝ ය අම්බට්ඨය, ජාතිවාදයෙන් බැඳීම ද ගෝත්‍රවාදයෙන් බැඳීම ද මානවාදයෙන් බැඳීම ද ආවාහවිවාහයෙන් බැඳීම ද හැරැ දැමීමෙන් ම නිරුත්තර විද්‍යාචරණසම්පත්තියගේ පසක් කිරීම වේ."

32 [අම්.] "භවද් ගෞතමයිනි, ඒ චරණය කවර ද? ඒ විද්‍යාව කවර ද?"

[භා] "අම්බට්ඨය, අර්හත් වූ සම්‍යක්සම්බුද්ධ වූ විද්‍යාචරණ දෙකින් සම්පූර්ණ වූ, මනා ගමන් හා මනා වචන ඇති, ලෝකය දත්තා, නිරුත්තර පුරුෂදම්‍යසාරථි වූ, දෙවිමිනිසුනට ශාස්තෘ වූ, සිවුසස් දත්, භාගවත් වූ තථාගත තෙමේ මෙ ලොව පහළ වෙයි හේ ආදිකල්‍යාණ වූ මධ්‍යකල්‍යාණ වූ, පර්යවසාන කල්‍යාණ වූ, මනා අරුත් ඇති, ව්‍යංජනයෙන් මනා ව සම්පූර්ණ, හැම ලෙසින් ම පිරිපුන් දහම් දෙසයි. පිරිසිදු වූ මාර්ගබ්‍රහ්මචර්යය ප්‍රකාශ කෙරෙයි

33 කිසි යම් කුලයෙක උපන් ගැහැවියෙක් හෝ ගැහැවිපුතෙක් හෝ එක්තරා කුලයෙක උපන්නෙක් හෝ ඒ දහම් අසයි හේ ඒ දහම් අසා, තථාගතයන් කෙරෙහි සැදැහැ ලබයි (පහළ කෙරෙයි) හේ ඒ සැදැහැ ලැබීමෙන් යුක්ත වූයේ, "ගිහිගෙහි විසීම අවහිර ඇති එකෙක. රජස්පථයෙක පැවිද්ද එළිමහනෙක ගිහිගෙහි වසන්නහු විසින් එකැහින් පිරිපුන් කොට, එකැහින් පිරිසිදු කොට, ශංඛලිඛිතයක් සේ කොට මෙ බඹසර කරන්නට පහසු නො වේ මා කෙසෙ රැවුලු බා දමා කසාවත් හැඳ ගිහිගෙන් පැවිද්දට වදිනොත් ඒ යෙහෙකැ"යි මෙසේ සලකයි

හේ පසු කලෙක මඳ වූ හෝ බොහෝ වූ හෝ වස්තුසම්පත් රාශිය හැරැ දමා, මඳ වූ හෝ බොහෝ වූ හෝ නෑ පිරිස හැර දමා, කෙසෙ රැවුලු බා දමා, කසාවත් හැඳ ගිහිගෙන් පැවිද්දට වදී මෙසේ පැවිදි වූ ම හේ ප්‍රාතිමොක්ෂසංවරයෙන් හැඩිරුණේ, ආචාරයෙන් ගෝචරයෙන් සම්පූර්ණ වැ, ස්වල්ප වූ ද වරදෙහි බිය දක්නා සුලු වැ වෙසෙයි සික්පද සමාදන් වැ ගෙන, කුසල් වූ කා විසි කම්හි යුත් වැ, පිරිසිදු දිවෙල ඇති වැ, සිල්වත් වැ, ඉඳුරන්හි වැසූ දොරැති වැ, බොජුන්හි පමණ දන්නේ, සිහිනුවණින් යුත් වැ (සිවු පසයෙහි) ලද පමණින් සතුටු වැ වෙසේ

34 කථඤ්ච අම්බට්ඨ භික්ඛු සීලසම්පන්නො හොති?

ඉධ අම්බට්ඨ භික්ඛු පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතො හොති නිහිතදණ්ඩො නිහිතසත්ථො ලජ්ජී දයාපන්නො සබ්බපාණභූතහිතානුකම්පී විහරති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතො හොති දින්නාදායී දින්නපාටිකඞ්ඛී අථෙනෙන සුචිභූතෙන අත්තනා විහරති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හොති ආරාචාරී විරතො මෙථුනා ගාමධම්මා ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතො හොති සච්චවාදී සච්චසන්ධො ථෙතො පච්චයිකො අවිසංවාදකො ලොකස්ස ඉදම්පි'ස්ස හොති සීලස්මිං

පිසුණං වාචං පහාය පිසුණාය වාචාය පටිවිරතො හොති, ඉතො සුත්වා න අමුත්‍ර අක්ඛාතා ඉමෙසං භෙදාය අමුත්‍ර වා සුත්වා න ඉමෙසං අක්ඛාතා අමූසං භෙදාය ඉති භින්නානං වා සන්ධාතා සංහිතානං වා අනුප්පදාතා සමග්ගාරාමො සමග්ගරතො සමග්ගනන්දී සමග්ගකරණිං වාචං භාසිතා හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

ඵරුසං වාචං පහාය ඵරුසාය වාචාය පටිවිරතො හොති යා සා වාචා නෙලා කණ්ණසුඛා පෙමනීයා හදයඞ්ගමා පොරී බහුජනකන්තා බහුජනමනාපා තථාරූපිං වාචං භාසිතා හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

සම්ඵප්පලාපං පහාය සම්ඵප්පලාපා පටිවිරතො හොති කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී නිධානවතිං වාචං භාසිතා හොති කාලෙන සාපදෙසං පරියන්තවතිං අත්ථසංහිතං ඉදම්පි'ස්ස හොති සීලස්මිං

35 බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති ඒකභත්තිකො හොති රත්තූපරතො පටිවිරතො විකාලභොජනා නච්චගීතවාදිතවිසූකදස්සනා පටිවිරතො හොති මාලාගන්ධවිලෙපනධාරණමණ්ඩනවිභූසනට්ඨානා පටිවිරතො හොති උච්චාසයනමහාසයනා පටිවිරතො හොති ජාතරූපරජතපටිග්ගහණා පටිවිරතො හොති ආමකධඤ්ඤපටිග්ගහණා පටිවිරතො හොති ආමකමංසපටිග්ගහණා පටිවිරතො හොති ඉත්ථිකුමාරිකපටිග්ගහණා පටිවිරතො හොති දාසිදාසපටිග්ගහණා පටිවිරතො හොති අජෙළකපටිග්ගහණා පටිවිරතො හොති කුක්කුටසූකරපටිග්ගහණා පටිවිරතො හොති හත්ථිගවාස්සවළවපටිග්ගහණා පටිවිරතො හොති ඛෙත්තවත්ථුපටිග්ගහණා පටිවිරතො හොති දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති කයවික්කයා පටිවිරතො හොති තුලාකූටකංසකූටමානකූටා පටිවිරතො හොති උක්කොටනවඤ්චනනිකතිසාචියොගා පටිවිරතො හොති ඡෙදනවධබන්ධනවිපරාමොසආලොපසහසාකාරා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

34 අම්බට්ඨය, මහණ තෙමේ කෙසේ නම් සිල්වත් වේ ද?

අම්බට්ඨය, මෙහි මහණ තෙමේ පණිවා හැර පණිවායෙන් තොර වැ බහා තැබූ දඬු ඇත්තේ, බහා තැබූ අවි ඇත්තේ, පවෙහි ලජ්ජා ඇතියේ, කුළුණෙන් යුත් වූයේ, හැම දිවි ඇති සත් වග කෙරෙහි හිතානුකම්පා ඇති වැ වෙසේ මේ ද ඔහු ගේ සිල් වේ

හේ අසිනාදන් හැර අසිනාදනින් තොර වූයේ වේ දුන් දෑය ම ගන්නා සුලු වූයේ, දුන් දෑය ම අපෙක්සනුයේ, නොසොර වූ පිරිසිදු වූ සිතින් වෙසේ මේ ද ඔහු ගේ සිල් වේ

අබ්‍රම්සර හැර ගැමි දහම් වූ මෙවුන්දමින් දුරු වැ හැසිරෙනුයේ, එයින් වැළැක්නෙන්, බඹසර රක්නේ වේ මේ ද ඔහු ගේ සිල් වේ

මුසවා හැර සබවස් ඇත්තේ, ඇත්තෙන් ඇත්ත ගළපා කියනුයේ, තහවුරු බස් ඇත්තේ, හැදෑහියැ යුතු බස් ඇත්තේ, ලොව නොරවටනුයේ, මුසවායෙන් වැළැක්නේ වේ මේ ද ඔහු ගේ සිල් වේ

පිසුණු බස් හැර පිසුණු බසින් වැළැක්නේ වේ මෙ තැනින් අසා ගෙන, මොවුන් ගේ බිඳීම පිණිස එ තන්හි නො කියන්නේ වේ එ තැනින් හෝ අසා ගෙන ඔවුන් ගේ බිඳීම පිණිස මොවුනට කියන්නේ නො වේ මෙසේ බිඳුණවුන් එකට ගළපන, එකට ගැළැපුණවුන් ගේ සමගියට අනුබල දෙන, සමගියෙන් වසනවුන් හා වසනු රිසි, සමගිය ඇතියනට ඇලුණු, සමගිය ඇතියවුනට සතුටු, සමගිය ඇන්තවුන් කරන බස් තෙපලන්නේ වේ මේ ද ඔහු ගේ සිල් වේ

පරොස් බස් හැර පරොස් බසින් වැළැක්නේ වෙයි යම් බසෙක් නිවැරැදි ද, කන්කලු ද, පෙම් කටයුතු ද, සිතැ කාවදනේ ද, නියැරියන් ගේ බස සේ සිලුටු ද, බොහෝ දෙනාට පිය ද, බොහෝ දෙනා මන වඩනේ ද, එ බඳු වූ බස් තෙපලනුයේ වේ මේ ද ඔහු ගේ සිල් වේ

බොල් බස් හැර දමා සුදුසු කල් වේලා බලා ම කතා කරනුයේ, ඇත්ත ම කියනුයේ, වැඩක් ම කියනුයේ, දහමක් ම කියනුයේ, හික්මෙනුවට සුදුසු බසක් ම කියනුයේ, බොල් දෙඩැවිල්ලෙන් වැළැක්නේ වේ සුදුසු කාලයෙහි කරුණු සහිත, ඉමක් කෙළවරක් ඇති, අරුත් සහිත, සිතැ තබා ගත යුතු බස් තෙපලනුයේ වෙයි මේ ද ඔහු ගේ සිල් වේ

35 හේ පැල වන දෑ පැල වුණු දෑ කැඩීමෙන් බිඳීමෙන් වැළැක්නේ වේ රෑ බොජුනෙන් වැළැක්කේ, නොකල්හි අහර ගැන්මෙන් වැළැක්කේ, එක් බත් ඇත්තේ වේ නටනු ගනු වයනු විසුළු දස්නෙන් වැළැක්කේ වේ අඩු තැන් පිරිමටත් සැරැසුමටත් කරුණු වූ මල් ගඳ විලෙවුන් දුරුමෙන් වැළැක්කේ වේ උසසුන් මහසුනෙන් වැළැක්කේ වේ රන් රිදී මසු කහවණු පිළිගැන්මෙන් වැළැක්කේ වේ. අමු ධාන්‍ය පිළිගැන්මෙන් වැළැක්කේ වේ අමුමස් පිළිගැන්මෙන් ස්ත්‍රීන් කුමාරිකාවන් පිළිගැන්මෙන් දැසිදසුන් පිළිගැන්මෙන් එළුවන් තිරෙළුවන් පිළිගැන්මෙන් කුකුළන් හූරන් පිළිගැන්මෙන් ඇතුන් ගෙරින් අසුන් වෙළඹුන් පිළිගැන්මෙන් . කෙත්වත් පිළිගැන්මෙන් ගිහියනට ලොකු කුඩා දූත මෙහෙවර කැරුමෙන් ගනු දෙනු කැරුමෙන් තුලාකූට කංසකූට මානකූටයෙන් . උක්කෝටන' වංචන නිකති සාචියෝග යන මෙසින් ඡේදන වධ බන්ධන විපරාමෝස ආලෝප සහසාකාර යන මෙසින් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ සිල් වේ,

36. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං බීජගාමභූතගාමසමාරම්භං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං මූලබීජං ඛන්ධබීජං ඵළුබීජං අග්ගබීජං බීජබීජමෙව පඤ්චමං ඉති එවරූපා බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

37. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං සන්නිධිකාරපරිභොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං අන්නසන්නිධිං පානසන්නිධිං වත්ථසන්නිධිං යානසන්නිධිං සයනසන්නිධිං ගන්ධසන්නිධිං ආමිසසන්නිධිං ඉති වා ඉති එවරූපා සන්නිධිකාරපරිභොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

38 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විසූකදස්සනං අනුයුත්තා විහරන්ති සෙය්‍යථීදං නච්චං ගීතං වාදිතං පෙක්ඛං අක්ඛානං පාණිස්සරං වෙතාලං කුම්භථූනං සොභනගරකං චණ්ඩාලං වංසං ධොවනං හත්ථියුද්ධං අස්සයුද්ධං මහිසයුද්ධං උසභයුද්ධං අජයුද්ධං මෙණ්ඩයුද්ධං කුක්කුටයුද්ධං වට්ටකයුද්ධං දණ්ඩයුද්ධං මුට්ඨියුද්ධං නිබ්බුද්ධං උය්‍යොධිකං බලග්ගං සෙනාබ්‍යූහං අණීකදස්සනං ඉති වා ඉති එවරූපා විසූකදස්සනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

39 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං ජූතප්පමාදට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති සෙය්‍යථීදං අට්ඨපදං දසපදං ආකාසං පරිහාරපථං සන්තිකං ඛලිකං ඝටිකං සලාකහත්ථං අක්ඛං පඞ්ගචීරං වඞ්කකං මොක්ඛචිකං චිඞ්ගුලකං පත්තාළ්හකං රථකං ධනුකං අක්ඛරිකං මනෙසිකං යථාවජ්ජං ඉති වා ඉති එවරූපා ජූතප්පමාදට්ඨානානුයොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

40 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං උච්චාසයනමහාසයනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං ආසන්දිං පල්ලඞ්කං ගොනකං චිත්තකං පටිකං පටලිකං තූලිකං විකතිකං උද්දලොමිං එකන්තලොමිං කට්ඨිස්සං කොසෙය්‍යං කුත්තකං හත්ථත්ථරං අස්සත්ථරං රථත්ථරං අජිනප්පවෙණිං කාදලිමිගපවරපච්චත්ථරණං සඋත්තරච්ඡදං උභතොලොහිතකූපධානං ඉති වා ඉති එවරූපා උච්චාසයනමහාසයනා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

36 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, මුලින් පැල වන දෑ, කඳින් පැල වන දෑ, පුරුකින් පැල වන දෑ, කොළිසෙන් පැල වන දෑ, පස් වනු ඇටින් පැල වන දෑ යන පැල වන දෑ ද පැල වූණු දෑ ද සිඳුම් බිඳුම්හි යෙදුණෝ වෙසෙත් ද, හේ මෙබඳු පැලවන දෑ ද පැලවූණු දෑ ද කැඩුමෙන් බිඳුමෙන් වැළැක්කෙක් වේ මේ ද ඔහුගේ සිල් වේ.

යම්සේ ම ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා ආහාර රැස් කොට තබා ගැන්ම, බොන දෑ රැස් කොට තබා ගැන්ම, වස්ත්‍ර රැස් කොට තබා ගැන්ම, යාන රැස්කොට තබා ගැන්ම, යහන් රැස් කොට තබා ගැන්ම, සුවඳ රැස් කොට තබා ගැන්ම, ආමිෂ රැස් කොට තබා ගැන්ම යන මේ හෝ මෙබඳු වූ පසය රැස් කොට තබා ගෙන වැළඳීමේ යෙදී වෙසෙත් ද, හේ මේ හෝ මෙ බඳු වූ සන්නිධිකාර පරිභෝගයෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ සිල් වේ

38 යම්සේ ම ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, නැටුම්, ගැයුම්, වැයුම්, නටසමජ්ජා, ආඛ්‍යාන, පාණිස්වර, වේතාල, කුම්භථූන, ශෝභනක, සණදෙවුන් කෙළිය, උණගස් ඔසොවා කරන ක්‍රීඩාව, අස්පිඩාවනය, ඇත් පොර, අස් පොර, මීහරක් පොර, ගොන් පොර, එළු පොර, බැටළු පොර, කුකුළු පොර, වටු පොර, පොලු හරඹ, මිටිහුද, මල්ල පොර, යුද පවත්නා තැන් දක්නට යෑම, බල සෙන් ගණිනා තැන් දක්නට යෑම, බලසෙන් බෙදනා තැනට යෑම, බල ඇණි දක්නට යෑම යන විසුළු දස්නෙහි යෙදී වෙසෙත් ද, හෙ තෙමේ මේ ආදී වූ හෝ මෙ බඳු වූ විසුළු දස්නෙන් වැළැක්කෙක් වෙයි මේ ද ඔහු ගේ සිල් වේ

39 යම්සේ වනාහි සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, අටපාකෙළිය, දසපාකෙළිය, අහස් දූකෙළිය, මඬුලු පැනුම, සන්තිකා ක්‍රීඩාව, දුදු කෙළිය, කල්ලි ගැසුම, සලා අත් කෙළිය, ගුළ කෙළිය, කොළනලා පිඹීම, කෙළි නඟුලින් හෑම, කරණම් ගැසුම, කන්නංගුරුවා කෙළිය, කොළ නැළියෙන් වැලි මැනීම, ක්‍රීඩා රථ පැදවීම, කුඩා දුන්නෙන් විදීම, ඇකිරි කෙළිය, සිතු දෑ කීමේ ක්‍රීඩාව, විකලාංගානුකරණය යන මේ ආදි වූ හෝ මෙබඳු වූ, පමාවට කරුණු වූ දූකෙළියෙහි යෙදී වෙසෙත් ද, හෙ තෙමේ මේ හෝ මෙ බඳු වූ, පමාවට කරුණු වූ දූකෙළියෙහි යෙදීමෙන් වැළැක්කෙක් වෙයි මේ ද ඔහු ගේ සිල් වේ

40 යම්සේ වනාහි ඇතැම් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, දික්සඟලාපුටුව, පළඟය, මහ කොඳුපලසය, වියමනෙන් විසිතුරු කළ එළලොම්මුවා ඇතිරිය, එළලොම්මුවා සුදු ඇතිරිය, ගන මල් යෙදූ සුදු ලොම් ඇතිරිය, තිලිය, සිංහාදිරූපවලින් විසිතුරු කළ එළලොම්මුවා ඇතිරිය, දෙපැත්තේ ම ලොම් ඇති එළලොම්මුවා ඇතිරිය, එක් පැත්තේ පමණක් ලොම් ඇති එළලොම්මුවා ඇතිරිය, රත්කසුකම් කළ පසතුරුණ, කෞශෙය්‍ය හුසින් වියූ ඇතිරිය, අසු පිට එළන ඇතිරිය, රියැ එළන ඇතිරිය, ඇඳට සරි ලන සේ අඳුන්-දිවිසමින් මසා කළ ඇතිරිය, කෙහෙල්මුවසමින් කළ මිහගු පසතුරුණ, ඉස්දෙරළ පාමුලැ රතු කොට්ට තැබූ රතු උඩුවියන් සහිත මහගු යහන යන මේ ආදි හෝ මෙ බඳු වූ උස් යහන් මහ යහන් පරිහරණය කිරීමෙහි යෙදී වෙසෙද්ද, හෙ තෙමේ මේ ආදි වූ හෝ මෙ බඳු වූ උස්යහන් මහ යහන් පරිභෝගයෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ සිල් වේ

41 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං මණ්ඩනවිභූසනට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති සෙය්‍යථිදං: උච්ඡාදනං පරිමද්දනං නහාපනං සම්බාහනං ආදාසං අඤ්ජනං මාලාවිලෙපනං මුඛචුණ්ණකං මුඛාලෙපනං හත්ථබන්ධං සිඛාබන්ධං දණ්ඩකං නාළිකං ඛග්ගං ඡත්තං චිත්‍රූපාහනං උණ්හීසං මණිං වාලවීජනිං ඔදාතානි වත්ථානි දීඝදසානි ඉති වා ඉතිඑවරූපා මණ්ඩනවිභූසනට්ඨානා-නුයොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

42 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං තිරච්ඡානකථං අනුයුත්තා විහරන්ති සෙය්‍යථිදං: රාජකථං චොරකථං මහාමත්තකථං සෙනාකථං භයකථං යුද්ධකථං අන්නකථං පානකථං වත්ථකථං සයනකථං මාලාකථං ගන්ධකථං ඤාතිකථං යානකථං ගාමකථං නිගමකථං නගරකථං ජනපදකථං ඉත්ථිකථං පුරිසකථං කුමාරකථං කුමාරිකථං සූරකථං විසිඛාකථං කුම්භට්ඨානකථං පුබ්බපෙතකථං නානත්තකථං ලොකක්ඛායිකං සමුද්දක්ඛායිකං ඉතිභවා-භවකථං ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

43 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විග්ගාහිකකථං අනුයුත්තා විහරන්ති සෙය්‍යථිදං: න ත්වං ඉමං ධම්මවිනයං ආජානාසි අහං ඉමං ධම්මවිනයං ආජානාමි කිං ත්වං ඉමං ධම්මවිනයං ආජානිස්සසි? මිච්ඡාපටිපන්නො ත්වමසි, අහමස්මි සම්මාපටිපන්නො සහිතමෙම[1] අසහිතන්තෙ පුරෙ වචනීයං පච්ඡා අවච, පච්ඡාවචනීයං පුරෙ අවච ආචිණ්ණං තෙ විපරාවත්තං ආරොපිතො තෙ වාදො නිග්ගහිතො'සි චර වාදප්පමොක්ඛාය නිබ්බෙඨෙහි වා සචෙ පහොසීති ඉති වා ඉතිඑවරූපාය විග්ගාහිකකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

44 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං දූතෙය්‍යපහිණගමනානුයොගමනුයුත්තා විහරන්ති සෙය්‍යථිදං රඤ්ඤං රාජමහාමත්තානං ඛත්තියානං බ්‍රාහ්මණානං ගහපතිකානං කුමාරානං ඉධ ගච්ඡ, අමුත්‍රාගච්ඡ, ඉදං හර, අමුත්‍ර ඉදං ආහරාති ඉති වා ඉතිඑවරූපා දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

---

1 සංහිතමෙම අසංහිතං තෙ සකපුව

අම්බට්ඨය, යම්සේ පුරුෂයෙක් සිය ගමෙන් අන් ගමකට යන්නේ ද, (නැවැත) ඒ ගමෙන් සිය ගමට ම පෙරළා එන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි සිය ගමෙන් අසෝ ගමට ගියෙමි, එහි මෙසේ සිටියෙමි, මෙසේ උන්මි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි, ඒ ගමෙනුත් අසෝ ගමට ගියෙමි, එහි ද මෙසේ සිටියෙමි, මෙසේ උන්මි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ මම් ඒ ගමෙන් සිය ගමට පෙරළා ආයෙම් වෙමි"යි මෙසේ සිතෙක් ඔහුට වන්නේ ද,

අම්බට්ඨය, එසේ ම මහණ තෙමේ මෙ පරිද්දෙන් සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි කර්මක්‍ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිසල බවට පැමිණි කල්හි, පෙර වුසු කඳපිළිවෙළ සිහි කරන නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැමුරු කෙරෙයි එසේ වූ හේ "අසෝ තැන්හි මෙ නම් ඇතියෙම් වීමි, මෙසේ වූ ගොත් ඇතියෙම් මෙබඳු පැහැ ඇතියෙම්. මෙබඳු අහර ඇතියෙම්.. මෙබඳු සුවදුක් විඳින්නෙම් මෙබඳු ආයු සීමා ඇතියෙම් වීමි ඒ මම් එයින් සැව අසෝ තැනැ උපනිමි එහි ද මෙබඳු නම් ගොත් පැහැසටහන් ආහාර ආයුසීමා ඇතියෙම් වීමි ඒ මම් එයින් සැව මෙහි උපනිමි"යි මෙසේ ජාති එකක් ද, දෙකක් ද, තුනක් ද, සතරක් ද, පසක් ද,. දසයක් ද. විස්සක් ද. තිසක් ද සතළිසක් ද, පනසක් ද සියක් ද . දහසක් ද සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද බොහෝ විවර්ත කල්ප ද බොහෝ සංවර්ත විවර්ත කල්ප ද යි මෙසේ නොයෙක්වැදෑරුම් පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙ පරිද්දෙන් ආකාර සහිත උද්දේශ සහිත නොයෙක්වැදෑරුම් පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි අම්බට්ඨය, මේ ද ඒ මහණහුගේ විද්‍යාවෙකි

77 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ විගතෝපක්ලේශ වැ මෘදු වැ කර්මයෝග්‍ය වැ ස්ථිත වැ නිශ්චලබවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැමුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දෘෂ්ටිගෝචරය ඉක්මැ දක්ක හැකි වූ දිවැසින් "අහෝ! මේ භවත් සත්ත්වයෝ කායදුශ්චරිතයෙන් සමන්විත හ, වාග්දුශ්චරිතයෙන් සමන්විත හ, මනෝදුශ්චරිතයෙන් සමන්විත හ, ආර්යෝපවාද කළෝ ය, මිසදිටු ගතුවෝ ය, මිසදිටු විසින් ගත් මිථ්‍යාව්‍රත ඇත්තෝ ය ඔහු කරජ කය බිඳී යැමෙන් මරණින් මතු සැපයෙන් පහ වූ, දුෂ්කර්ම හේතුයෙන් ප්‍රාදුර්භූත ගතිය වූ, (කර්මයට තමන් වශග බැවින්) තමනට අවශග වැ තමන් වැටෙන තැන වූ නිරයට වන්නාහ (එහෙත්) මේ භවත් සත්ත්වයෝ වූ කලි කායසුචරිතයෙන් සමන්විත හ, වාක්සුචරිතයෙන් සමන්විත හ, මනස්සුචරිතයෙන් සමන්විත හ ආර්යයනට උපවාද නො කළෝ ය, සම්දිටු ගතුවෝ ය, සම්දිටු විසින් ගත් සීලාදිය ඇත්තෝ ය, ඔහු කා බුන් මරණින් මතු මනා ගති ඇති සග ලෝ වන්නාහ"යි මිය යන්නා වූ ද, එ කෙණෙහි පිළිසඳ ගන්නා වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නොමනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියන් වූ ද, දුගතියට පැමිණියන් වූ ද, කම් වූ පරිදි ඒ ඒ භවයට ගිය සත්ත්වයන් දකී මෙසේ සේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දක්මෙහි පෙම් දුරු වැ පැමැති දිවැසින් උස් පහත්, මනා පැහැති, නොමනා පැහැති, සුගතියට වන්, දුගතියට වන් සත්ත්වයන් දකී කම් වූ පරිදි ඒ ඒ භවයක් කරා එළඹැ සිටි සතුන් දකී

සෙය්‍යථාපි අම්බට්ඨ මජ්ඣෙ සිංඝාටකෙ පාසාදෙ, තත්‍ථ චක්ඛුමා පුරිසො ඨිතො පස්සෙය්‍ය මනුස්සෙ ගෙහං පවිසන්තෙ'පි නික්ඛමන්තෙ'පි රථියා වීථිසඤ්චරන්තෙ'පි මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නෙ'පි තස්ස එවමස්ස එතෙ මනුස්සා ගෙහං පවිසන්ති එතෙ නික්ඛමන්ති එතෙ රථියා වීථිසඤ්චරන්ති. එතෙ මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නා'ති

එවමෙව ඛො අම්බට්ඨ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා. ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනො-සුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මා-දිට්ඨිකම්මසමාදානා, තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්ත-මානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති ඉදම්පි'ස්ස හොති විජ්ජාය

78. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති

සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති
අයං දුක්ඛසමුදයො 'ති යථාභූතං පජානාති
අයං දුක්ඛනිරොධො 'ති යථාභූතං පජානාති
අයං දුක්ඛනිරොධගාමිනීපටිපදා'ති යථාභූතං පජානාති
ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති
අයං ආසවසමුදයො'ති යථාභූතං පජානාති
අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති
අයං ආසවනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති

තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති, භවාසවා'පි චිත්තං විමුච්චති, අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති

'ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායා'ති පජානාති

අම්බට්ඨය, යම්සේ සිව්මංහන්දියෙහි මහල් ඇති ගෙයක් වන්නේ නම්, එහි උඩුමහලෙහි සිටි ඇස් ඇති මිනිසෙක් ඒ ගෙට පිවිසෙනවුන්ද ගෙන් නික්මෙනවුන්ද වීථියෙහි ඇත මෑත යන එනවුන් සිව්මංහන්දිය මැද හුන්නවුන්ද දක්නේ ද, ඒ දක්නා ඔහුට "මේ මිනිස්සු ගෙට පිවිසෙත්, මේ මිනිස්සු ගෙන් නික්මෙත්, මේ මිනිස්සු වීථියෙහි ඇත මෑත යෙත්, මොහු සිව්මංහන්දිය මැද උන්නෝ වෙත් යැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

එසේ ම අම්බට්ඨය, මහණ තෙමේ උක්ත පරිදි සමාහිත සිත පිරිසිදු, කල්හි, දීප්තිමත් නිකෙලෙස් උපක්ලේශ පහ වූ මෘදු වූ නිසලබවට පත් කල්හි, සත්ත්වයන් ගේ ච්‍යුති උප්පත්ති දක්නා නුවණ ලබනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ මිනිසුන් ගේ දසුන් ඉම ඉක්මැ දක්නට සමත්, පිරිසිදු දිවැසින්, "අහෝ මේ සත්හු කායදුශ්චරිතයෙන් වාග්දුශ්චරිතයෙන් මනෝදුශ්චරිතයෙන් සමන්විත හ ආර්යෝපවාද කළෝ ය මිසදිටු හ, මිසදිටු විසින් ගත් මිථ්‍යා ව්‍රත ඇතියෝ හ, ඒ මොහු කා බිඳී මරණින් මතු, සැපයෙන් පහ වූ, දුෂ්ටකර්මයෙන් උපන් පතිත පූ, නමනට තමන් අවශ වැ වැටෙන තැන වූ නිරයට වන්නෝ ය එහෙත් මේ අන් පින්වත් සත්හු වූ කලී කාය වාක් මනඃසුචරිතයෙන් සමන්විත හ, ආර්යෝපවාද නොකළෝ ය, සම්දිටු විසින් ගත් ශීලාදිය ඇත්තෝ ය, ඒ මොහු කාබුන් මරණින් මතු මනා ගති ඇති සගලෝ වන්නෝ යැ"යි මෙසේ මරණාසන්න වූ ද, එ කෙණෙහි පිළිසඳගන්නන් වූ ද, පහත් වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නොමනා පැහැසටහන් ඇති වූ ද, සුගති පත වූ ද, දුගති පත් වූ ද, කම් වූ පරිදි ඒ ඒ භවයට ගිය සතුන් දකී මෙසේ හේ පිරිසිදු වූ, මිනිසුන් ගේ දසුන් ඉම ඉක්මැ දක්නා හැකි දිවැසින් උස් පහත්, මනා නොමනා පැහැති, සුගති පත් දුගති පත් සතුන් දකී කම් වූ පරිදි ඒ ඒ භවය කර එළැඹැ සිටි සතුන් දකී අම්බට්ඨය, මේ ද ඔහුගේ විද්‍යාවෙකි

78 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ දීප්තිමත් වූ කෙලෙස් රහිත වූ උපක්ලේශ පහ වැ සිටි මෘදු වූ කර්මණ්‍ය වූ ස්ථිත වූ නිසල බවට පත් වූ කල්හි ආශ්‍රවක්ෂයය පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි එසේ වූ හේ 'මේ දුකැ'යි ඇති සැටියෙන් දැන ගනී 'මේ දුක් ඉපැත්මට කරුණැ'යි ඇති සැටියෙන් දැන ගනී 'මේ දුක් වැනැස්මැ' යි ඇති සැටියෙන් දැන ගනී 'මේ දුක් වැනැස්මට පමුණුවන පිළිවෙතැ' යි ඇති සැටියෙන් දැන ගනී 'මොහු ආස්‍රවයෝ යි ඇති සැටියෙන් දැනගනී මේ ආස්‍රව ඉපැත්මට කරුණැ' යි ඇති සැටියෙන් දැන ගනී, 'මේ ආස්‍රවනිරෝධ-යැ' යි ඇති සැටියෙන් දැන ගනී 'මේ ආස්‍රවනිරෝධගාමිනී ප්‍රතිපත්ති යැ' යි ඇති සැටි ලෙස දැන ගනී මෙසේ දන්නා, මෙසේ දක්නා ඔහුගේ සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ ඔහු සිත භවාස්‍රවය කෙරෙන් ද මිදේ ඔහු සිත අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ සිත මිදුණු කල්හි, "මං සිත ආස්‍රව කෙරෙන් මිදුණේ යැ' යි ප්‍රත්‍යවේක්ෂාඥානය වේ භවෝත්පත්තිය ක්ෂීණ වියැ යි, මහබඹසර වැස නිමැවිණැ යි, සිව්මගින් කළ යුතු සොළොස් වැදෑරුම් කිස කොටැ නිමැවිණැ යි, මේ කෙලෙස් වැනැස්ම පිණිස තවත් කළ යුතු දෑයෙක් නැතැයි හේ දනී

සෙය්‍යථාපි අම්බට්ඨ පබ්බතසඞ්ඛෙපෙ උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො, තත්ථ චක්ඛුමා පුරිසො තීරෙ ඨිතො පස්සෙය්‍ය සිප්පිසම්බුකම්පි සක්ඛරකඨලම්පි මච්ඡගුම්බම්පි චරන්තම්පි තිට්ඨන්තම්පි තස්ස එවමස්ස අයං ඛො උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො තත්‍රිමෙ සිප්පිසම්බුකා'පි සක්ඛරකඨලා'පි මච්ඡගුම්බා'පි චරන්ති'පි තිට්ඨන්ති'පීති එවමෙව ඛො අම්බට්ඨ භික්ඛු සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති

සො 'ඉදං දුක්ඛන්ති' යථාභූතං පජානාති 'අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති

'අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති 'අයං දුක්ඛනිරොධගාමිනි පටිපදා'ති යථාභූතං පජානාති

'ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති 'අයං ආසවසමුදයො'ති යථාභූතං පජානාති

'අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති 'අයං ආසවනිරොධගාමිනී-පටිපදා'ති යථාභූතං පජානාති

තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති, භවාසවා'පි චිත්තං විමුච්චති, අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති

'ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායා'ති පජානාති අයං ඛො සා අම්බට්ඨ විජ්ජා.

79 අයං වුච්චති අම්බට්ඨ භික්ඛු විජ්ජාසම්පන්නො ඉතිපි, චරණසම්පන්නො ඉතිපි, විජ්ජාචරණසම්පන්නො ඉතිපි ඉමාය ච අම්බට්ඨ විජ්ජාසම්පදාය චරණසම්පදාය ච අඤ්ඤා විජ්ජාසම්පදා ච චරණසම්පදා ච උත්තරිතරා වා පණීතතරා වා නත්ථි

80. ඉමාය ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය චත්තාරි අපායමුඛානි භවන්ති කතමානි චත්තාරි ? ඉධ අම්බට්ඨ එකච්චො සමණො වා බ්‍රාහ්මණො වා ඉමඤ්ඤෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණ-මානො ඛාරිවිධමාදාය අරඤ්ඤායතනං අජ්ඣොගාහති පවත්තඵලභොජනො භවිස්සාමීති සො අඤ්ඤදත්ථු විජ්ජාචරණසම්පන්නස්සෙව පරිචාරකො සම්පජ්ජති ඉමාය ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ඉදං පඨමං අපායමුඛං භවති

81 පුන ච පරං අම්බට්ඨ ඉධෙකච්චො සමණො වා බ්‍රාහ්මණො වා ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵල-භොජනතඤ්ච අනභිසම්භුණමානො කුදාලපිටකං ආදාය අරඤ්ඤායතන-මජ්ඣොගාහති කන්දමූලඵලභොජනො භවිස්සාමීති සො අඤ්ඤදත්ථු විජ්ජාචරණසම්පන්නස්සෙව පරිචාරකො සම්පජ්ජති ඉමාය ච ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ඉදං දුතියං අපායමුඛං භවති

අම්බට්ඨය, යම්සේ කඳුමුදුනෙක වූ, පහන්, වෙසෙසින් පහන්, බොර නොවූ දිය විලක් වේනම්, එහි ඉවුරෙහි සිටි ඇස් ඇති පුරුෂයෙක් ඒ විල තුළ හැසිරෙන ද සිටුනා ද සිප්පි බෙල්ලනුත් සක් බෙල්ලනුත් කැටකැබැලිතිත් මත්ස්‍යසමූහයනුත් දක්නේ ද, එසේ දක්නා ඔහුට ''මේ දියවිල පහන් ය, වෙසෙසින් පහන් ය, නොබොර ය. මෙහි මේ සිප්පිනුත් කැටකැබැලිතිත් මත්ස්‍යසමූහයෝත් හැසිරෙත්නෝ ද සිටින්නෝ ද වෙති''යි මෙසේ සිතක් වන්නේ ද, එ පරිද්දෙන් ම මහණ තෙමේ සමාහිත වූ සිත පිරිසිදු වූ . දීප්තිමත් වූ . කෙලෙස් රහිත වූ උපක්ලේශ පහ වූ මෘදු වූ කර්මයෝග්‍ය වූ ස්ථිත වූ නිසල බවට පැමිණියා වූ කල්හි ආස්‍රවක්‍ෂයඥානය පිණිස සිත යොමු කෙරෙහි, නැමුරු කෙරෙයි

හේ 'මේ දුකැ' යි 'මේ දුකට කරුණැ' යි 'මේ දුක් වැනැස්මට අරමුණු වන නිවනැ' යි මේ දුක් වැනැස්මට පමුණුවන පිළිවෙතැ' යි ඇති සැටියෙන් දැන ගනී 'මේ ආස්‍රවයෝ යැ'යි 'මේ ආස්‍රවසමුදය යැ'යි . 'මේ ආස්‍රවනිරෝධය යැ' යි මේ ආස්‍රවනිරෝධ ගාමිනී ප්‍රතිපත්තිය යැ' යි ඇති සැටියෙන් දැන ගනී මෙසේ දන්නා, මෙසේ දක්නා ඔහුගේ සිත කාමාස්‍රවයෙනුත් මිදේ ඔහු සිත භවාස්‍රවයෙනුත් මිදේ ඔහු සිත අවිද්‍යාස්‍රවයෙනුත් මිදේ මිදුණු කල්හි, 'මිදුණේ'යැ යි දැනීම වේ හේ ''භවෝත්පත්තිය ක්‍ෂීණ විය, මාර්ගබ්‍රහ්මචර්‍ය්‍යය වැස නිමවන ලද්දේ ය, සිවු සස්හි සිවු මඟින් කළ යුතු සොළොස් වැදෑරුම් කිස කොට නිමැවිණ, මේ සත්‍යාවබෝධය පිණිස කළ යුතු තව කිසිත් නැතැ'' යි දැන ගනී. අම්බට්ඨය, මේ වූ කලි ඒ විද්‍යාව ය

79 අම්බට්ඨය, මේ මහණ තෙමේ විද්‍යායෙන් යුක්ත යැ යි ද, චරණයෙන් යුක්ත යැ යි ද, විද්‍යාචරණයෙන් යුක්ත යැ යි ද කියනු ලැබේ අම්බට්ඨය, තව ද මේ විද්‍යාසම්පත්තිනුත් අන්‍ය වූ මෙයට වඩා උසස් වූ හෝ මනෝඥ වූ හෝ අන් විද්‍යාසම්පත්තෙක් ද චරණසම්පත්තෙක් ද නැත

80 අම්බට්ඨය, මේ නිරුත්තර විද්‍යාචරණසම්පතට විනාශමුඛ සතරෙක් වෙති කවර සතරෙක් ද? යත් අම්බට්ඨය මෙහි එක්තරා මහණෙක් හෝ බමුණෙක් හෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පතට නො පැමිණෙනුයේ, (හෝ වැර වඩා එය ලබන්නට නොසමත් වනුයේ), කඩුස් පිරිකර කද ගෙන 'පවත්තඵලභෝජී වන්නෙමි' (=වැටුන ගෙඩි වළඳා දිවි රකින්නෙක් වන්නෙමි)යි සිතා වන පෙදෙසකට බැස ගනී හෙ තෙමේ ඒකාන්තයෙන් විද්‍යා චරණ දෙකින් යුක්තයක්හුගේ සේවකයෙක් වේ අම්බට්ඨය, මෙ කී නිරුත්තර විද්‍යාචරණසම්පතට මේ පළමු වන විනාශමුඛය වේ

81 අම්බට්ඨය, තව ද මෙහි ඇතැම් මහණෙක් හෝ බමුණෙක් හෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පතටත් නො පැමිණෙනුයේ, පවත්තඵලභෝජී බවටත් නො පැමිණෙනුයේ, උදැල්ලකුත් පැසකුත් ගෙන 'අල මුල් ගෙඩි වළඳන්නෙක් වන්නෙමි' යි සිතා වනපෙදෙසකට බැස ගනී

හේ ඒකාන්තයෙන් විද්‍යා චරණ දෙකින් යුක්තයාගේ සේවකයෙක් ම වේ. අම්බට්ඨය, මෙ කී නිරුත්තර විද්‍යාචරණසම්පන්නහුගේ මේ දෙවෙනි විනාශමුඛය වේ.

82 පුන ච පරං අම්බට්ඨ ඉධෙකච්චො සමණො වා බ්‍රාහ්මණො වා ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො කන්දමූලඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො ගාමසාමන්තං වා නිගමසාමන්තං වා අග්‍යාගාරං කරිත්වා අග්ගිං පරිචරන්තො අච්ඡති සො අඤ්ඤදත්ථු විජ්ජාචරණසම්පන්නස්සෙව පරිචාරකො සම්පජ්ජති ඉමාය ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ඉදං තතියං අපායමුඛං භවති

83 පුන ච පරං අම්බට්ඨ ඉධෙකච්චො සමණො වා බ්‍රාහ්මණො වා ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො කන්දමූලඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො අග්ගිපාරිචරියඤ්ච අනභිසම්භුණමානො චාතුම්මහාපථෙ චතුද්වාරං අගාරං කරිත්වා අච්ඡති යො ඉමාහි චතූහි දිසාහි ආගමිස්සති සමණො වා බ්‍රාහ්මණො වා තමහං යථාසත්ති යථාබලං පටිපූජෙස්සාමීති සො අඤ්ඤදත්ථු විජ්ජාචරණසම්පන්නස්සෙව පරිචාරකො සම්පජ්ජති ඉමාය ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ඉදං චතුත්ථං අපායමුඛං භවති

ඉමාය ඛො අම්බට්ඨ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය ඉමානි චත්තාරි අපායමුඛානි භවන්ති

84 තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? අපි නු ත්වං ඉමාය අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සන්දිස්සසි සාචරියකො ’ති

“නො හිදං භො ගොතම කො චාහං භො ගොතම සාචරියකො ’ කා ච අනුත්තරා විජ්ජාචරණසම්පදා ? ආරකා’හං භො ගොතම අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සාචරියකො”ති

“තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? අපි නු ත්වං ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො ඛාරිවිවිධමාදාය අරඤ්ඤවනමජ්ඣොගාහසි සාචරියකො පවත්තඵලභොජනො භවිස්සාමීති ?”

“නො හිදං භො ගොතම ”

“තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? අපි නු ත්වං ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො කුද්දාලපිටකං ආදාය අරඤ්ඤවනමජ්ඣොගාහසි සාචරියකො කන්දමූලඵලභොජනො භවිස්සාමීති ?”

“නො හිදං භො ගොතම ”

“තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? අපි නු ත්වං ඉමඤ්චෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො කන්දමූලඵලභොජනතඤ්ච අනභිසම්භුණමානො ගාමසාමන්තං වා නිගමසාමන්තං වා අග්‍යාගාරං කරිත්වා අග්ගිං පරිචරන්තො අච්ඡසි සාචරියකො ?”ති

“නො හිදං භො ගොතම.”

82  තව ද අම්බට්ඨය, මෙහි කිසි යම් මහණෙක් හෝ බමුණෙක් හෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පත්තියටද නො පැමිණෙනුයේ, පවත්තඵලභොජනයට ද නො පැමිණෙනුයේ, අල මුල් පල බොජුන් කොට ඇති බවට ද නො පැමිණෙනුයේ, ගමක් සමීපයෙහි හෝ නියම්ගමක් සමීපයෙහි හෝ ගිනි පුදනා ගෙයක් කොට, ගිනි පුදමින් හිඳී නම් හේ ඒකාන්තයෙන් විද්‍යාචරණ දෙකින් යුක්තයන්හුගේ සේවකයෙක් ම වේ. අම්බට්ඨය, මේ නිරුත්තර විද්‍යාචරණසම්පන්නහුගේ තෙවෙනි විනාශමුඛය වේ.

83.  තව ද අම්බට්ඨය, මෙහි ඇතැම් මහණෙක් හෝ බමුණෙක් හෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පතටත් නො පැමිණෙනුයේ, පවත්තඵලභොජී බවටත් නො පැමිණෙනුයේ, අල මුල් පල බොජුන් කොට ඇති බවටත් නොපැමිණෙනුයේ, ගිනි පිදීමට ද නොබස්නේ, 'යම් මහණෙක් හෝ බමුණෙක් හෝ මේ සිවු දිසාවෙන් එන්නේ ද, ඔහු මම් හැකි සේ පිළිවන් සේ පුදන්නෙමි'යි සිවුමංහන්දියෙක දොර සතරක් ඇති (සිවුදිගට දොර ඇති) දන්හලක් කොට හිඳී නම් හේ ඒකාන්තයෙන් විද්‍යාචරණ දෙකින් යුක්තයන්හුගේ සේවකයෙක් ම වේ අම්බට්ඨය, මේ විද්‍යාචරණසම්පන්නහුගේ සතරවන විනාශමුඛය වේ

අම්බට්ඨය, මොහු මේ විද්‍යාචරණසම්පන්නහුගේ සතර විනාශමුඛයෝ වෙත්.

84  ඒ කිමැ යි සිතයි ද අම්බට්ඨය, මේ නිරුත්තර විද්‍යාචරණ-සම්පත්හි තෝ සිය ඇදුරා සහිත වැ දක්නා ලැබෙහි (පෙනෙහි) ද ?

"භවද්ගෞතමයිනි, මෙය නො වේ ම ය භවද් ගෞතමයිනි, ඇදුරා සහිත මම් කවරෙකිම් වෙම් ද ? නිරුත්තර විද්‍යාචරණසම්පත් කවරේ ද ? භවද් ගෞතමයාණනි, ඇදුරා සහිත මම් විද්‍යාචරණ සම්පත කෙරෙන් දුරින් ම සිටියෙම් වෙම්"යි (අම්බට්ඨයා කී ය )

[භාග්‍යවත්හු ] "අම්බට්ඨය, එය කිමැයි සිතයි ද ? තෝ මේ විද්‍යාචරණ සම්පතට නො පැමිණියෙක් වනුයෙහි, තවුස්පිරිකර – කද ගෙන, පවත්තඵලභොජී වන්නෙමි'යි සිය ඇදුරා සහිත වැ වන පෙදෙසකට බට තැනැත්තෙහි වත් වෙහි ද ?"

[අම්බට්ඨ ] "මෙය නො වේ ම ය, භවද්ගෞතමයාණනි "

[භාග්‍යවත්හු ] "අම්බට්ඨය, එය කිමැ යි සිතයි ද ? ඇදුරා සහිත තෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පතටත් නො පැමිණෙනුයෙහි, පවත්තඵල-භොජී බවට ද නො පැමිණෙන්නෙහි, 'අල මුල් පල බොජුන් කොටැත්තෙම් වන්නෙමි' යි උදැල්ලකුත් පැසකුත් ගෙන වන පෙදෙසකට බටුයෙහි හෝ වෙහි ද ?"

[අම්බට්ඨ ]  "භවද් ගෞතමයිනි, මේත් නො වේ ම ය."

[භාග්‍යවත්හු ]  "අම්බට්ඨය, ඒ කිමැ යි සිතයි ද ? ඇදුරා සහිත තෝ මේ නිරුත්තර විද්‍යාචරණ සම්පතටත් නො පැමිණෙනුයෙහි, පවත්තඵල-භොජී බවට ද නො පැමිණෙනුයෙහි, අල මුල් පල බොජුන් කොටැති බවට ද නො පැමිණෙනුයෙහි, ගමක් අසල හෝ නියම්ගමක් අසල හෝ ගිනි පුදනා ගෙයක් කොට ගිනි පුදමින් හෝ ඉඳිනෙහි ද ?"

[අම්බට්ඨ ] "භවද්ගෞතමයිනි, මේත් නො වේ ම ය "

"තං කිම්මඤ්ඤසි අම්බට්ඨ අපි නු ත්වං ඉමංයෙව අනුත්තරං විජ්ජාචරණසම්පදං අනභිසම්භුණමානො පවත්තඵලභොජනතාය අනභිසම්භුණමානො කන්දමූලඵලභොජනතාය අනභිසම්භුණමානො අග්ගිපරිචරියාය අනභිසම්භුණමානො චාතුම්මහාපථෙ චතුද්වාරං අගාරං කරිත්වා අච්ඡසි සාචරියකො, යො ඉමාහි චතූහි දිසාහි ආගමිස්සති සමණො වා බ්‍රාහ්මණො වා තං මයං යථාසත්ති යථාබලං පටිපූජෙස්සාමාති ?"

"නො හිදං භො ගොතම"

85. ඉති ඛො අම්බට්ඨ ඉමාය චෙව ත්වං අනුත්තරාය විජ්ජාචරණසම්පදාය පරිහීනො සාචරියකො යෙ චිමෙ අනුත්තරාය විජ්ජාචරණසම්පදාය චත්තාරි අපායමුඛානි භවන්ති, තතො ච ත්වං පරිහීනො සාචරියකො භාසිතා ඛො පන තෙ එසා අම්බට්ඨ ආචරියෙන බ්‍රාහ්මණෙන පොක්ඛරසාතිනා වාචා "කෙ ච මුණ්ඩකා සමණකා ඉබ්භා කණ්හා බන්ධුපාදාපච්චා, කා ච තෙවිජ්ජානං බ්‍රාහ්මණානං සාකච්ඡා" ති, අත්තනා ආපායිකො'පි අපරිපූරයමානො පස්ස අම්බට්ඨ යාව අපරද්ධඤ්ච තෙ ඉදං ආචරියස්ස බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස

86 බ්‍රාහ්මණො ඛො පන අම්බට්ඨ පොක්ඛරසාතී රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස දත්තිකං භුඤ්ජති තස්ස රාජා පසෙනදී කොසලො සම්මුඛීභාවම්පි න දදාති යදාපි තෙන මන්තෙති තිරොදුස්සෙන මන්තෙති යස්ස ඛො පන අම්බට්ඨ ධම්මිකං පයාතං භික්ඛං පටිග්ගණ්හෙය්‍ය, කථං තස්ස රාජා පසෙනදී කොසලො සම්මුඛීභාවම්පි න දදෙය්‍ය ? පස්ස අම්බට්ඨ යාව අපරද්ධඤ්ච තෙ ඉදං ආචරියස්ස බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස

තං කිම්මඤ්ඤසි අම්බට්ඨ ? රාජා පසෙනදි කොසලො හත්ථිගීවාය වා නිසින්නො අස්සපිට්ඨෙ වා නිසින්නො රථූපත්ථරෙ වා ඨිතො උග්ගෙහි වා රාජඤ්ඤෙහි වා කිඤ්චිදෙව මන්තනං මන්තෙය්‍ය, සො තම්හා පදෙසා අපක්කම්ම එකමන්තං තිට්ඨෙය්‍ය අථ ආගච්ඡෙය්‍ය සුද්දො වා සුද්දදාසො වා, සො තස්මිං පදෙසෙ ඨිතො තදෙව මන්තනං මන්තෙය්‍ය එවම්පි රාජා පසෙනදී කොසලො ආහ එවම්පි රාජා පසෙනදී කොසලො ආහාති අපි නු සො රාජභණිතං වා භණති රාජමන්තනං වා මන්තෙති, එත්තාවතා සො අස්ස රාජා වා රාජමහාමත්තො වාති ?"

"නො හිදං භො ගොතම"

87 එවමෙව ඛො ත්වං අම්බට්ඨ, යෙ තෙ අහෙසුං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො, යෙසමිදං එතරහි බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමිහිතං, තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති, සෙය්‍යථීදං: අට්ඨකො වාමකො වාමදෙවො වෙස්සාමිත්තො යමතග්ගි අඞ්ගීරසො භාරද්වාජො වාසෙට්ඨො කස්සපො භගු, ත්‍යාහං මන්තෙ අධියාමි සාචරියකො'ති තාවතා ත්වං භවිස්සසි ඉසි වා ඉසිත්තාය වා පටිපන්නො'ති නෙතං ඨානං විජ්ජති

[භාග්‍යවත්හු] "අම්බට්ඨය, එය කිමැ යි සිතහි ද? මේ නිරුත්තර විද්‍යාචරණසම්පත්තට ත් නො පැමිණෙන්නෙහි, පවත්තඵලභෝජීත් නො වන්නෙහි, අල මුල් පල බොජුන් කොටැති බවට ද නොපැමිණෙන්නෙහි, ගිනි පිදීම ද නො කරන්නෙහි, සිවුමංහන්දියෙක දොර සතරක් ඇති දන්හලක් කොට මේ සිවු දෙසින් එන තාක් මහණබමුණන් හැකි පරිදි පිළිවන් පරිදි පුදන්නෙමි යි සිතා තෝ ඇදුරා සහිත වැ ඉඳිනෙහි ද?"

[අම්බට්ඨ] "භවද් ගෞතමයිනි, මෙය නැත්තේ ම ය"

85 [භාග්‍යවත්හු] "අම්බට්ඨය, ඇදුරා සහිත තෝ මේ නිරුත්තර විද්‍යාචරණසම්පත්තිනුත් පරිහීණෙහි ය, මේ නිරුත්තර විද්‍යාචරණසම්පත්තට විනාශමුඛ වූ යම් තපශ්චර්‍යා කෙනෙක් වේත් නම් එයිනුත් පිරිහුණෙහි ය එහෙත් අම්බට්ඨය, තගේ ඇදුරු වූ පොක්ඛරසාදී බමුණා විසින් තමා විද්‍යාචරණසම්පත්තට විනාශමුඛ වූ දහම් පමණකුත් නොපුරන්නකු වැ සිඳ, "බමුණනට මෙහෙකරු වූ, කළු වූ, බඹුහුගේ පයින් උපන්, ගර්හිත මුඬු මහණහු කවුරු ද? එවැන්නන් හා ත්‍රෛවිද්‍යක බමුණන්ගේ කවර සාකච්ඡා ද?"යි මේ වචනය කියන ලද්දේ ම ය බලව, අම්බට්ඨය, තගේ ආචාර්‍ය වූ පොක්ඛරසාදී බමුණුහු විසින් කොතරම් මහත් වරදෙක් කරන ලද්දේ ද?

86 අම්බට්ඨය, පොක්ඛරසාදී බමුණු තෙමේ වූ කලී පසේනදී කොසොල් රජ්ජුහු විසින් දුන් දෑ බුත්ති විඳී කොසොල් රජ ඔහුට මුහුන පෑම ද නො කෙරෙයි යම් විටෙක ඔහු හා සාකච්ඡා කෙරේ නම් කඩතුරාවෙකින් මුවහ වී හිඳ කථා කෙරෙයි අම්බට්ඨය, යමකු විසින් තමහට එලැවූ දැහැමි බොජුන් (පොක්ඛරසාදි තෙමේ) පිළිගන්නේ නම්, ඒ පසේනදී කොසොල් රජ ඔහුට තමා මුහුන පෑම පවා කෙසේ නම් නො කරන්නේ ද? අම්බට්ඨය, බලව, මේ තගේ ඇදුරු වූ පොක්ඛරසාදී බමුණා විසින් කොතරම් මහත් වරදෙක් කරන ලද ද?

අම්බට්ඨය, එය කිමැ යි සිතන්නෙහි ද? මෙහි පසේනදී කොසොල් රජ තෙම ඇතු ගෙල මතුයෙහි හෝ හුන්නේ, අසු පිටැ හෝ හුන්නේ, රිය තුළ ඇතිරිය මතැ හෝ සිටියේ, උසස් ඇමැතියන් හෝ අභිෂෙක නොලත් රජදරුවන් හෝ සමග කිසි යම් මන්ත්‍රණයක් කරන්නේ නම්, හේ ඒ රජු සිටි තැනින් ඉවත් වැ එක් පසෙක සිටින්නේ ය එකල්හි ශූද්‍රයෙක් හෝ ශූද්‍රයකුගේ දාසයෙක් හෝ එන්නේ නම්, හේ ඒ පෙදෙසෙහි සිටියේ, 'පසේනදී කොසොල් රජ මෙසේත් කීයේ ය, පසේනදී කොසොල් රජ මෙසේත් කීයේ යැ'යි ඒ මන්ත්‍රණය ම කියන්නේ නම්, හේ රාජවචනය කියන්නේ ද? රාජමන්ත්‍රණය කරන්නේ ද? මෙතෙකින් හේ රජ හෝ රජමහඇමැතියෙක් හෝ වන්නේ ද?

[අම්බට්ඨ] "භවද්ගෞතමයිනි, මෙය නො වේ ම ය"

87 [භාග්‍යවත්හු] "අම්බට්ඨය, එපරිද්දෙන් ම වෙදකර්තෘ වූ වෙද පැවැත්වූ, බ්‍රාහ්මණයන්ගේ පූර්වපුරුෂ වූ අට්ටක (ආත්‍රෙය), වාමක, වාමදෙව, වෙස්සාමිත්ත (විශ්වාමිත්‍ර), යමතග්ගි (ජමදග්නි), අංගිරස, භාරද්වාජ, වාසෙට්ඨ (වාසිෂ්ඨ), කස්සප (කාශ්‍යප), භගු (භෘගු) යන යම් ඍෂි කෙනෙක් වූහු ද, යම් ඍෂීනකුත් විසින් ගයන ලද (=සජ්ඣායනා කරන ලද), කියවන ලද, රැස් කොට තබන ලද මේ මන්ත්‍රපද (වෙදයයි) මෙ කල බමුණෝ ඔවුන් අනුවැ ගයත් ද, කියැවූ දය අනුවැ කියවත් ද 'ඇදුරාණන් සහිත මම ඒ වෙද හදාරමි'යි යන මෙපමණෙකින් තෝ ඍෂිවරයෙක් හෝ ඍෂි බවට පිළිපන්නෙක් හෝ වන්නෙහි ය යන මේ කාරණය විද්‍යමාන නො වේ

88. තං කිං මඤ්ඤසි අම්බට්ඨ කින්ති තෙ සුතං බ්‍රාහ්මණානං වුද්ධානං මහල්ලකානං ආචරියපාචරියානං භාසමානානං "යෙ තෙ අහෙසුං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො, යෙසමිදං එතරහි බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමුහිතං තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති සෙය්‍යථීදං අට්ඨකො, වාමකො, වාමදෙවො, වෙස්සාමිත්තො, යමතග්ගි, අඞ්ගිරසො, භාරද්වාජො, වාසෙට්ඨො, කස්සපො, භගු- එවං සු තෙ සුන්හාතා සුවිලිත්තා කප්පිතකෙසමස්සූ ආමුත්තමණිකුණ්ඩලාභරණා ඔදාතවත්ථවසනා පඤ්චහි කාමගුණෙහි සමප්පිතා සමඞ්ගීභූතා පරිචාරෙන්ති, සෙය්‍යථාපි ත්වං එතරහි සාචරියකො ?"ති

"නො හිදං භො ගොතම"

89 "එවං සු තෙ සාලීනං ඔදනං සුචිමංසූපසෙචනං විචිතකාළකං අනෙකසූපං අනෙකබ්‍යඤ්ජනං පරිභුඤ්ජන්ති, සෙය්‍යථාපි ත්වං එතරහි සාචරියකො ?"ති

"නො හිදං භො ගොතම"

"එවං සු තෙ වෙඨකනතපස්සාහි නාරීහි පරිචාරෙන්ති සෙය්‍යථාපි ත්වං එතරහි සාචරියකො ?"ති

"නො හිදං භො ගොතම

"එවං සු තෙ කුත්තවාලෙහි වළවාරථෙහි දීඝාහි පතොදලට්ඨීහි වාහනෙ විතුදෙන්තා විපරියායන්ති සෙය්‍යථාපි ත්වං එතරහි සාචරියකො ?" ති

"නො හිදං භො ගොතම '

"එවං සු තෙ උක්කිණ්ණපරිඛාසු ඔක්ඛිත්තපලිඝාසු නගරූපකාරිකාසු දීඝාසිබද්ධෙහි පුරිසෙහි රක්ඛාපෙන්ති සෙය්‍යථාපි ත්වං එතරහි සාචරියකො ?"ති

"නො හිදං භො ගොතම"

ඉති ඛො අම්බට්ඨ නෙව ත්වං ඉසි, න ඉසිත්තාය පටිපන්නො සාචරියකො යස්ස ඛො පන අම්බට්ඨ මයි කඞ්ඛා වා විමති වා, සො මං පඤ්හෙන, අහං වෙය්‍යාකරණෙන සොධිස්සාමී"ති

90 අථ ඛො භගවා විහාරා නික්ඛම්ම චඞ්කමං අබ්භුට්ඨාසි අම්බට්ඨොපි මාණවො විහාරා නික්ඛම්ම චඞ්කමං අබ්භුට්ඨාසි අථ ඛො අම්බට්ඨො මාණවො භගවන්තං චඞ්කමන්තං අනුචඞ්කමමානො භගවතො කායෙ ද්වත්තිංස-මහාපුරිසලක්ඛණානි සමන්නෙසි අද්දස ඛො අම්බට්ඨො මාණවො භගවතො කායෙ ද්වත්තිංසමහාපුරිසලක්ඛණානි යෙභුය්‍යෙන ඨපෙත්වා ද්වෙ ද්වීසු මහාපුරිසලක්ඛණෙසු කඞ්ඛති විචිකිච්ඡති නාධිමුච්චති න සම්පසීදති කොසොහිතෙ ච වත්ථගුය්හෙ[1] පහූතජිව්හතාය ච

1 කොසොහිත වත්ථගුය්හෙ (ම.ස.සිං.දීනං ගැටළු)

88 අම්බට්ඨය, ඒ කිමැ යි සිතහි ද? ඒ ඍෂීන් ගැයූ කියන වෘද්ධ වූ මහලු වූ තමාගේ ආචාර්ය ප්‍රාචාර්ය වූ බමුණන්ගේ වචනය තා විසින් කෙසෙ අසන ලද ද? වේද කර්තෘ වූ, වේද පැවැත්වූ, බමුණනගේ පූර්වපුරුෂ වූ, අට්ටක වාමක වාමදේව වෙස්සාමිත්‍ර යමතග්ගි අංගීරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු යන යම් ඍෂි කෙනෙකුන් විසින් ගයන ලද, රැස් කොට තබන ලද, මේ මන්ත්‍රපද දැන් සිටිනා බමුණෝ ඔවුන් අනුව ගයත් නම්, ඔවුන් අනුව කියත් නම්, ඔවුන් කී වචන අනුව කියත් නම්, කියැවූ වචන අනුව කියවත් නම්, මෙ කල්හි වූ ඇදුරා සහිත තා සේ ඒ ඍෂිවරු ත් මොනොවට නා ගත්තෝ වැ, මොනොවට සුවඳ විලෙවුන් ගල්වා ගත්තෝ වැ, දන්දම් තබා කැපූ කෙහෙ රැවුලු ඇත්තෝ වැ, පැලැඳ ගත් මිණිකොඩොල් අබරණ ඇත්තෝ වැ, සුදු වස්ත්‍ර හඳින්නෝ වැ පස් කම් සුවෙන් ඇලී යෙදී එහි ඉඳුරන් මෙහෙයවන්නෝ වූහු ද?'

[අම්බට්ඨ] "භවද්ගෞතමයිනි, මෙය නොවූයෙකි'

89. [භාග්‍යවත්හු] "දැන් ඇදුරා සහිත තා කරන්නා සේ, ඒ ඍෂිහු අවුලා ඉවත් කළ කළු සහල් ඇති, බොහෝ සූප ඇති, බොහෝ ව්‍යංජන ඇති, මසවුළු ඇති, පිරිසිදු හැල් බත් වළඳන්නෝ වූහු ද?

[අම්බට්ඨ] "භවද්ගෞතමයිනි, මෙය නො වී ය."

[භාග්‍යවත්හු] "දැන් ඇදුරා සහිත තා කරන පරිදි ඔහු වෙළුම් පටින් බැඳ සිහින් කළ ඉඟ ඇති ස්ත්‍රීන් ලවා මෙහෙ කරවා ගත්තෝ වූහු ද?"

[අම්බට්ඨ] "මෙ නො වී ය භවද්ගෞතමයිනි"

[භාග්‍යවත්හු] "දැන් ඇදුරා සහිත තා කරන්නා සේ ඔහු සැරැසූ වලග ඇති වෙළෙඹුන් යෙදූ රියවලින්, දික් කැවිටි ලීවලින් එය අදනා සත්තට අතින්නාහු, ඔබ මොබ ගියෝ ද?"

[අම්බට්ඨ] "භවද්ගෞතමයිනි, මෙය නො වී ය"

[භාග්‍යවත්හු] "දැන් ඇදුරා සහිත තා කරන සේ, ඒ ඍෂිහු කැණූ අගල් ඇති, නැඟූ කණුයම් ඇති, උපකාරිකාවන්ගෙන් යුත් නුවරවලැ දික් කඩු ගත් පුරුෂයන් ලවා රකවල් කැරැවූහු ද?"

[අම්බට්ඨ] "මෙය නො වී ය, භවද්ගෞතමයිනි"

[භාග්‍යවත්හු] "අම්බට්ඨය, මෙසේ ඇදුරා සහිත තෝ ඍෂියෙකුත් නො ම වෙහි ය ඍෂි බව සඳහා පිළිපන්නෙකුත් නො ම වෙහි ය අම්බට්ඨය, යමකුට මා කෙරෙහි සැකයෙක් විමතියෙක් වේ නම්, හේ ප්‍රශ්නයෙන් මා විචාරා වා මම් ඔහුගේ ප්‍රශ්න විසැඳීමෙන් ඔහු සැක දුරු ලත්තෙමි"

90 ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ වෙහෙරින් නික්මැ, සක්මන් මළුවට නැංග සේක. අම්බට්ඨ මාණවක ද වෙහෙරින් නික්මැ සක්මන් මළුවට නැංගේ ය ඉන් පසු අම්බට්ඨ මාණවක තෙමේ සක්මන් කරන භාග්‍යවතුන් වහන්සේ අනුවැ සක්මන් කරනුයේ, භාග්‍යවතුන් වහන්සේගේ කයෙහි දෙතිස් මහපුරිස්ලකුණු සෙවි ය අම්බට්ඨ මාණවක තෙමේ භාග්‍යවතුන් වහන්සේගේ කයෙහි බෙහෙවින් දෙකක් හැර දෙතිස් මහපුරිස් ලකුණු දිටි ය හේ කොසොහිත අංගජාතයෙහි ද පුළුල් දිව ඇතිබැව්හි ද යන මහා පුරුෂලක්ෂණ දෙක්හි සැක කෙරෙයි එයින් සනිටුහනකට නො බසී 'මෙ තෙමේ පිරිපුන් මහපුරිස්ලකුණු ඇත්තෙකැ'යි පැහැදීමට නො පැමිණේ

91 අථ ඛො භගවතො එතදහොසි පස්සති ඛො මෙ අයං අම්බට්ඨො මාණවො ද්වත්තිංසමහාපුරිසලක්ඛණානි යෙභුය්‍යෙන ඨපෙත්වා ද්වෙ ද්වීසු මහාපුරිසලක්ඛණෙසු කඞ්ඛති විචිකිච්ඡති නාධිමුච්චති න සම්පසීදති කොසොහිතෙ ච වත්ථගුය්හෙ පහූතජිව්හතාය චාති

අථ ඛො භගවා තථාරූපං ඉද්ධාභිසඞ්ඛාරං අභිසඞ්ඛාසි යථා අද්දස අම්බට්ඨො මාණවො භගවතො කොසොහිතං වත්ථගුය්හං. අථ ඛො භගවා ජිව්හං නින්නාමෙත්වා උභො'පි කණ්ණසොතානි අනුමසි පටිමසි උභො'පි නාසිකාසොතානි අනුමසි පටිමසි කෙවලම්පි නලාටමණ්ඩලං ජිව්හාය ඡාදෙසි.

අථ ඛො අම්බට්ඨස්ස මාණවස්ස එතදහොසි සමන්නාගතො ඛො සමණො ගොතමො ද්වත්තිංසමහාපුරිසලක්ඛණෙහි පරිපුණ්ණෙහි නො අපරිපුණ්ණෙහීති භගවන්තං එතදවොච "හන්ද ච'දානි මයං භො ගොතම ගච්ඡාම. බහුකිච්චා මයං බහුකරණීයා''ති

"යස්ස'දානි ත්වං අම්බට්ඨ කාලං මඤ්ඤසීති"

අථ ඛො අම්බට්ඨො මාණවො වළවාරථමාරුය්හ පක්කාමි.

92 තෙන ඛො පන සමයෙන බ්‍රාහ්මණො පොක්ඛරසාදී උක්කට්ඨාය නික්ඛමිත්වා මහතා බ්‍රාහ්මණගණෙන සද්ධිං සකෙ ආරාමෙ නිසින්නො හොති අම්බට්ඨංයෙව මාණවං පටිමානෙන්තො අථ ඛො අම්බට්ඨො මාණවො යෙන සකො ආරාමො තෙන පායාසි යාවතිකා යානස්ස භූමි යානෙන ගන්ත්වා යානා පච්චොරොහිත්වා පත්තිකො'ව යෙන බ්‍රාහ්මණො පොක්ඛරසාදී තෙනුපසඞ්කමි, උපසඞ්කමිත්වා බ්‍රාහ්මණං පොක්ඛරසාදිං අභිවාදෙත්වා එකමන්තං නිසීදි

93 එකමන්තං නිසින්නං ඛො අම්බට්ඨං මාණවං බ්‍රාහ්මණො පොක්ඛරසාදී එතදවොච කච්චි තාත අම්බට්ඨ අද්දස තං භවන්තං ගොතමන්ති ?

"අද්දසාම ඛො මයං භො තං භවන්තං ගොතමන්ති"

"කච්චි තාත අම්බට්ඨ තං භවන්තං ගොතමං තථා සන්තංයෙව සද්දො අබ්භුග්ගතො නො අඤ්ඤථා ? කච්චි පන භො සො භවං ගොතමො තාදිසො නො අඤ්ඤාදිසො ?''ති

"තථා සන්තංයෙව භො තං භවන්තං ගොතමං සද්දො අබ්භුග්ගතො නො අඤ්ඤථා තාදිසො'ව සො භවං ගොතමො නො අඤ්ඤාදිසො සමන්නාගතො ච භො සො භවං ගොතමො ද්වත්තිංසමහාපුරිසලක්ඛණෙහි පරිපුණ්ණෙහි නො අපරිපුණ්ණෙහී''ති.

91 එ කල්හි "මේ අම්බට්ඨ මාණවක තෙමේ මා සිරුරෙහි බෙහෙවින් දෙකක් හැර දෙතිස් මහපුරිස් ලකුණු දැකී ම ය කොශාවහිත අංගජාතයත් පුළුල් දිවත් යන මහපුරිස් ලකුණු දෙක්හි සැක කෙරෙයි, සනිටුහනට නො බසී නො පැහැදෙයි (එ බැවින් මොහුට ඒ මහපුරිස් ලකුණු දෙක පෙන්වීම් නම් යෙහෙකැ)' යි භාග්‍යවතුන් වහන්සේට මේ සිත වී ය

ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ තමන්ගේ කොශාවහිත අංගජාතය යම්සේ අම්බට්ඨ මාණවකයා දක්නේ ද, එසේ වූ ඍද්ධ්‍යභි-සංස්කාරයක් කළ සේක එයින් පසු දිව නිකුත් කොට දෙ කන් සිදුරු සපශ් කළ සේක දෙනාස්පුඩු පිරිමැද්ද සේක සියලු නළල් මඩල දිවෙන් වැසූ සේක.

එවිට 'ශ්‍රමණ ගෞතම තෙමේ නොඅඩු පිරිපුන් දෙතිස් මහපුරිස් ලකුණින් සමන්විත යැ 'යි අම්බට්ඨ මාණවකයාට මේ සිත වී ය.

ඉක්බිති හේ භාග්‍යවතුන් වහන්සේට, "භවද් ගෞතමයිනි, දැන් අපි යම්හ අපි බොහෝ කෘත්‍ය ඇත්තමෝ, බොහෝ කටයුතු ඇත්තමෝ වම්හ"යි කී ය

"අම්බට්ඨය, යම් ගමනකට තෝ කාලය සිතහි නම්, ඒ ගමන කරන්නැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක

ඉක්බිති අම්බට්ඨ මාණවක තෙමේ වෙළෙඹුන් යෙදූ රියෙක නැඟ නික්මුණේ ය

92 එ සමයෙහි වූ කලි පොක්ඛරසාදී බමුණු තෙමේ උක්කට්ඨා නුවරින් නික්මැ, අම්බට්ඨ මාණවකයා (ගේ ඊම) බලා පොරොත්තු වනුයේ, මහත් බමුණුමුළුවක් හා සිය අරමෙහි හුන්නේ වෙයි එ කල්හි අම්බට්ඨ මාණවක තෙමේ සිය අරම කරා එළැඹියේ ය රියෙන් යැ හැකි තාක් රියෙන් ගොස් එයින් බැස, පා ගමින් ඇත්තේ ම පොක්ඛරසාදී බමුණා වෙත එළැඹියේ ය එළැඹ ඔහු වැඳ පසෙක හිඳ ගත්තේ ය

93 පසෙක හුන් අම්බට්ඨ මාණවකයාගෙන් පොක්ඛරසාදී බමුණු තෙමේ "කිමෙක් ද ? දරුව අම්බට්ඨය, ඒ භවද්ගෞතමයන් දුටු දෑ ? "යි විචාළේ ය

"භවතාණනි, ඒ භවද්ගෞතමයන් අපි දුටුම්හ"යි අම්බට්ඨ කී ය

[පොක්ඛරසාදී] "කිමෙක් ද ? දරුව අම්බට්ඨය, ඒ භවත් ගෞතම-යන්ගේ එසේ ඇත්තාවූ ම ගුණ පිළිබඳ වූ කීර්තිශබ්දයෙක් නැඟුණේ ද ? අන් පරිද්දෙකින් නො වේ ද ' (නැති ගුණ පිළිබඳ ශබ්දක් නො නැඟුණේ ද ?) භවත, ඒ භවද්ගෞතම තෙමේ එබඳුම ද ? අන් සැටි නො වේ ද ?"

[අම්බට්ඨ] "භවතාණනි, ඒ භවද්ගෞතමයන්ගේ එසේ ඇත්තාවූ ම ගුණ පිළිබඳ වූ කීර්තිඝෝෂයෙක් නැඟිණ අන් පරිදි වූ (නැති ගුණ පිළිබඳ වූ ඝෝෂ)යෙක් නො වේ භවතාණනි, ඒ භවද්ගෞතම තෙමේ එබඳු ම ය අන් සැටි නො වේ භවතාණනි, ඒ භවද්ගෞතම තෙමේ අඩු නොවූ පිරිපුන් දෙතිස් මහපුරිස්ලකුණින් යුතු වේ."

“අහු පන තෙ තාත අම්බට්ඨ සමණෙන ගොතමෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො?”ති.

“අහු ඛො යෙව භො සමණෙන ගොතමෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො ?”ති.

“යථාකථං පන තෙ තාත අම්බට්ඨ අහු සමණෙන ගොතමෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො ?”ති

අථ ඛො අම්බට්ඨො මාණවො යාවතකො අහොසි භගවතා සද්ධිං කථාසල්ලාපො තං සබ්බං බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස ආරොචෙසි

94. එවං වුත්තෙ බ්‍රාහ්මණො පොක්ඛරසාදි අම්බට්ඨං මාණවං එතදවොච “අහො වත රෙ, අම්හාකං පණ්ඩිතක! අහො වත රෙ අම්හාකං බහුස්සුතක! අහො වත රෙ, අම්හාකං තෙවිජ්ජක! එවරූපෙන කිර භො පුරිසො අත්ථචරකෙන කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපජ්ජෙය්‍ය යදෙව ඛො ත්වං අම්බට්ඨ තං භවන්තං ගොතමං එවං ආසජ්ජ ආසජ්ජ අවචාසි අථ ඛො භවං ගොතමො අම්හෙ'පි එවං උපනෙය්‍ය උපනෙය්‍ය අවච අහො වත රෙ, අම්හාකං පණ්ඩිතක! අහො වත රෙ, අම්හාකං බහුස්සුතක! අහො වත රෙ, අම්හාකං තෙවිජ්ජක! එවරූපෙන කිර භො පුරිසෙන අත්ථචරකෙන කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපජ්ජෙය්‍යා”ති කුපිතො අනත්තමනො අම්බට්ඨං මාණවං පදසා යෙව පවත්තෙසි. ඉච්ඡති ච තාවදෙව භගවන්තං දස්සනාය උපසඞ්කමිතුං

95 අථ ඛො තෙ බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පොක්ඛරසාදිං එතදවොචුං අතිවිකාලො ඛො භො අජ්ජ සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං ස්වෙදානි භවං පොක්ඛරසාති සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී”ති.

අථ ඛො බ්‍රාහ්මණො සකෙ නිවෙසනෙ පණීතං ඛාදනීයං භොජනීයං පටියාදාපෙත්වා යානෙසු ආරොපෙත්වා උක්කාසු ධාරියමානාසු උක්කට්ඨාය නිය්‍යාසි. යෙන ඉච්ඡානඞ්ගලවනසණ්ඩො තෙන පායාසි යාවතිකා යානස්ස භූමි යානෙන ගන්ත්වා යානා පච්චොරොහිත්වා පත්තිකො'ව යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාදි භගවන්තං එතදවොච “ආගමා නු ඛ්විධ භො ගොතම අම්හාකං අන්තෙවාසී අම්බට්ඨො මාණවො ?”ති.

[පොක්ඛරසාදී] "දරුව, අම්බට්ඨය, ශ්‍රමණ ගෞතමයන් හා තගේ කිසියම් කතාබහෙක් වී ද ?"

[අම්බට්ඨ] "භවතාණනි, ශ්‍රමණ ගෞතමයන් හා මගේ කිසි යම් කතාබහෙක් වී ය "

[පොක්ඛරසාදී] "අම්බට්ඨය, ශ්‍රමණ ගෞතමයන් හා තගේ ඒ සවල්ප කථාසංලාපය කෙසේ වූ එකෙක් ද ?"

ඉක්බිති අම්බට්ඨ මාණවකයා භාග්‍යවතුන් වහන්සේ හා යම් පමණ තමාගේ කථාසංලාපයෙක් වී ද ඒ සියල්ල පොක්ඛරසාදී බමුණාට සැල කෙළේ ය

94 එසේ සැල කල කල්හි, පොක්ඛරසාදී තෙමේ අම්බට්ඨ මාණවකයා අමතා, "යහභා, කොල, අප ඊනියා පණ්ඩිතය! යහභා, කොල, අප ඊනියා මහ උගත! යහභා, කොල, අප ඊනියා ත්‍රිවිද්‍ය දතුව! එම්බල, මෙබඳු තා වැනි ඊනියා වැඩ සලසන්නකු කරණ කොට ගෙන (තා වැන්නකු ඇති කල්හි ඇසුරු කරන) මිනිසා කාබුන් මරණින් මතු සැප නැති දුගීති වූ තමාට අවශග වැ වැටෙන තැන වූ නිරයට පැමිණෙන්නේ ම ය යම් හෙයකින් ම, අම්බට්ඨය, තෝ මෙසේ ඒ භවද් ගෞතමයනට ගට ගටා කියෙහි ද, එ හෙයින් ම භවද් ගෞතමයෝ මෙසේ අපටත් සැහෙවුණු දෑ මතු කොට ශුද්‍රාදි බව තඟා තඟා මෙසේ කිහ යහභා, කොල, අප ඊනියා පණ්ඩිතය! යහභා, කොල, අප ඊනියා මහ උගත! යහභා, කොල, අප තෙවිදු දතුව! භවත්නි, මෙ වැනි වැඩ සලසන්නකු කරණ කොට ගෙන මිනිසා කාබුන් මරණින් මතු සැප නැති, දුගීති වූ, විනිපාතයක් වූ නිරයට පැමිණෙන්නේ ම යැ!" යි මෙ බස් කිය මෙසේ කියා, කිපුණේ, නොසතුටු සිතැත්තේ, පයින් පැහැරැ ඔහු බිමැ පෙරළී ය එ කෙණෙහි ම භාග්‍යවතුන් වහන්සේ දක්නට යනු කැමැති ද වී ය

95. එවිටැ ඒ බමුණෝ පොක්ඛරසාදී බමුණුට "භවත, අද (දැන්) ශ්‍රමණ ගෞතමයන් දක්නට යන්නට ඉතා නොකල් වෙයි භවත් පොක්ඛරසාදී තෙමේ හෙට දිනැ ශ්‍රමණ ගෞතමයන් දක්නට එළැඹියැ හැකි වන්නේ යැ"යි කිහ

ඉක්බිති පොක්ඛරසාදී බමුණු තෙම සිය නිවසෙහි පිහිරි වූ කෑ යුතු බුදිය යුතු දෑ පිළියෙල කරවා, යානයන්හි නංවා දඬුවැට පහන් දරනු ලබන කල්හි උක්කට්ඨා නුවරින් නික්මුණේ ය ඉච්ඡානංගල වන ලැහැබ කරා එළැඹියේ ය යානයෙන් යැ හැකි තාක් දුර යානයෙන් ගොස්, එයින් බැස, පයින් ම භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියේ ය එළැඹැ භාග්‍යවතුන් වහන්සේ හා සතුටු විය සතුටට කරුණු වූ සිහි රුදවියැ යුතු වූ (සිහි කටයුතු වූ) කථාව නිමවා පසෙක හිඳ ගත්තේ ය, පසෙක හුන්නේ ම පොක්ඛරසාදී බමුණු තෙමේ "භවද්ගෞතමයිනි, අප අතැවැසි අම්බට්ඨ මාණවකයා මෙහි ආයේ දෑ ?"යි භාග්‍යවතුන් වහන්සේනෙන් ඇසී ය

"ආගමා ඛො තෙ බ්‍රාහ්මණ අන්තෙවාසී අම්බට්ඨො මාණවො''ති

"අහු පන තෙ භො ගොතම අම්බට්ඨෙන මාණවෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො ?''ති.

"අහු ඛො මෙ බ්‍රාහ්මණ අම්බට්ඨෙන මාණවෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො''ති.

"යථාකථං පන තෙ භො ගොතම අහු අම්බට්ඨෙන මාණවෙන සද්ධිං කොචිදෙව කථාසල්ලාපො ?''ති

අථ ඛො භගවා යාවතිකො අහොසි අම්බට්ඨෙන මාණවෙන සද්ධිං කථාසල්ලාපො, තං සබ්බං බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස ආරොචෙසි

"එවං වුත්තෙ බ්‍රාහ්මණො පොක්ඛරසාදී භගවන්තං එතදවොච· බාලො භො ගොතම අම්බට්ඨො මාණවො ඛමතු භවං ගොතමො අම්බට්ඨස්ස මාණවස්සා''ති

"සුඛී හොතු බ්‍රාහ්මණ අම්බට්ඨො මාණවො''ති

96 අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාදී භගවතො කායෙ ද්වත්තිංස-මහාපුරිසලක්ඛණානි සමන්නෙසි අද්දසා ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාදී භගවතො කායෙ ද්වත්තිංසමහාපුරිසලක්ඛණානි යෙභුය්‍යෙන ඨපෙත්වා ද්වෙ ද්වීසු මහාපුරිසලක්ඛණෙසු කඞ්ඛති විචිකිච්ඡති නාධිමුච්චති න සම්පසීදති කොසොහිතෙ ච වත්ථගුය්හෙ පහූතජිව්හතාය ච.

97 අථ ඛො භගවතො එතදහොසි පස්සති ඛො මෙ අයං බ්‍රාහ්මණො පොක්ඛරසාදී ද්වත්තිංසමහාපුරිසලක්ඛණානි යෙභුය්‍යෙන ඨපෙත්වා ද්වෙ ද්වීසු මහාපුරිසලක්ඛණෙසු කඞ්ඛති විචිකිච්ඡති නාධිමුච්චති න සම්පසීදති කොසොහිතෙ ච වත්ථගුය්හෙ පහූතජිව්හතාය චාති

අථ ඛො භගවා තථාරූපං ඉද්ධාභිසඞ්ඛාරං අභිසඞ්ඛාසි යථා අද්දස බ්‍රාහ්මණො පොක්ඛරසාදී භගවතො කොසොහිතං වත්ථගුය්හං අථ ඛො භගවා ජිව්හං නින්නාමෙත්වා උභො'පි කණ්ණසොතානි අනුමසි, පටිමසි, උභො'පි නාසිකාසොතානි අනුමසි, පටිමසි කෙවලම්පි නලාටමණ්ඩලං ජිව්හාය ඡාදෙසි

98. අථ ඛො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස එතදහොසි "සමන්නාගතො ඛො සමණො ගොතමො ද්වත්තිංසමහාපුරිසලක්ඛණෙහි පරිපුණ්ණෙහි නො අපරිපුණ්ණෙහී''ති භගවන්තං එතදවොච අධිවාසෙතු මෙ භවං ගොතමො අජ්ජතනාය භත්තං සද්ධිං භික්ඛුසඞ්ඝෙනා''ති අධිවාසෙසි භගවා තුණ්හීභාවෙන

99 අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාදී භගවතො, අධිවාසනං විදිත්වා' භගවතො කාලං ආරොචෙසි ,කාලො, භො ගොතම, නිට්ඨිතං භත්තං'

[භාග්‍යවත්හු] "බමුණ, තා අතැවැසි අම්බට්ඨමාණවකයා මෙහි ආයේ ම ය"

[පොක්ඛරසාදී] "භවද්ගෞතමයිනි, අම්බට්ඨමාණවකයා හා ඔබේ කිසි කථාසංලාපයෙක් වූයේ ද?"

[භාග්‍යවත්හු] "බමුණ, අම්බට්ඨමාණවකයා හා මගේ කිසි (ස්වල්ප) කථාසංලාපයෙක් වූයේ ම ය"

[පොක්ඛරසාදී] "භවද්ගෞතමයිනි, අම්බට්ඨ මාණවකයා හා ඔබගේ කෙබඳු වූ කිසි කථාසංලාපයෙක් වූයේ ද?"

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මාණවකයා හා යම් පමණ කථා සංලාපය වී ද, ඒ සියල්ල පොක්ඛරසාදී බමුණාට වදාළ සේක

මෙසේ වදාළ කල්හි පොක්ඛරසාදී බමුණු තෙම, "භවද්ගෞතමයිනි, අම්බට්ඨ මාණවකයා ලාමක ය භවද්ගෞතමයෝ අම්බට්ඨ මාණවකයාට ක්ෂමා කෙරෙත් වා"යි කී ය

"බමුණ, අම්බට්ඨ මාණවක තෙමේ සුව පත් වේ වා"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

96 ඉක්බිති පොක්ඛරසාදී බමුණු තෙම භාග්‍යවතුන් වහන්සේගේ සිරුරෙහි දෙතිස් මහපුරිස්ලකුණු පිරික්සී ය පොක්ඛරසාදී බමුණු එනාහි භාග්‍යවතුන් වහන්සේගේ සිරුරෙහි දෙතිස් මහපුරිස් ලකුණු අතුරෙන් දෙකක් හැර සෙස්ස බෙහෙවින් දිටී ය හේ කොශාවහිත අංගජාත ලක්ෂණයෙහිත් ප්‍රභූතජිහ්වාලක්ෂණයෙහිත් දැ යි මේ මහපුරිස්-ලකුණු දෙක්හි සැක කෙරෙයි, තීරණයකට නො බසී එ හෙයින් ම නො පැහැදෙයි

97. එවිට භාග්‍යවතුන් වහන්සේට "මේ පොක්ඛරසාදී බමුණු තෙමේ දෙතිස් මහපුරිස්ලකුණුවලින් දෙකක් හැර සෙස්ස බෙහෙවින් දකී ම ය. කොශාවහිත අංගජාතලක්ෂණයෙහිත් ප්‍රභූතජිහ්වාලක්ෂණයෙහිත් යන මහපුරිස්ලකුණු දෙක්හි සැක කෙරෙයි, තීරණයට නො බසී, නො පැහැදෙයි. (ඒ දෙ ලකුණු මොහුට දක්වන්නෙම් නම් යෙහෙකැ)"යි මේ සිත වී ය.

ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ තමන් වහන්සේගේ කොශාවහිත අංගජාතය පොක්ඛරසාදී බමුණාට පැනෙන සේ වූ ඍද්ධ්‍යභිසංස්කාරයක් කළ සේක ඉන් පසු දිව නික්මවා දෙකන් සිදුරු ස්පර්ශ කළ සේක, පිරිමැද්ද සේක, දෙ නාස්පුඩු ස්පර්ශ කළ සේක, පිරිමැද්ද සේක, මුළු නලල් තලය ම දිවෙන් වැසූ සේක.

98 එවිට පොක්ඛරසාදී බමුණාට "ශ්‍රමණ ගෞතම තෙමේ අඩු නොවූ පිරිපුන් දෙතිස් මහපුරිස්ලකුණින් සමන්විත යැ"යි මේ සිත විය හේ "භවද් ගෞතම තෙමේ බික්සඟන හා අදට මගේ බත ඉවසා වා"යි කී ය භාග්‍යවතුන් වහන්සේ තූෂ්ණීම්භාවයෙන් එය ඉවසූ සේක.

99 ඉක්බිති පොක්ඛරසාදී බමුණු තෙම භාග්‍යවතුන් වහන්සේගේ ඉවැසීම (සිතින් පිළිගැන්ම) දැන, භාග්‍යවතුන් වහන්සේට "භවද් ගෞතමයිනි, දැන් කල් පැමිණියේ ය, බත පිළියෙල කොට නිමැවිණැ"යි කල් දැන්වී ය.

අථ ඛො භගවා පුබ්බන්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය සද්ධිං භික්ඛුසඞ්ඝෙන යෙන බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස පරිවෙසනා තෙනුප-සඞ්කමි උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාති භගවන්තං පණීතෙන ඛාදනීයෙන භොජනීයෙන සහත්ථා සන්තප්පෙසි සම්පවාරෙසි මාණවකා'පි භික්ඛුසඞ්ඝං අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාති භගවන්තං භුත්තාවිං ඔනීතපත්තපාණිං අඤ්ඤතරං නීචං ආසනං ගහෙත්වා එකමන්තං නිසීදි

100 එකමන්තං නිසින්නස්ස ඛො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස භගවා ආනුපුබ්බිකථං කථෙසි, සෙය්‍යථීදං දානකථං සීලකථං සග්ගකථං කාමානං ආදීනවං ඔකාරං සංකිලෙසං නෙක්ඛම්මෙ ච ආනිසංසං පකාසෙසි යදා භගවා අඤ්ඤාසි බ්‍රාහ්මණං පොක්ඛරසාතිං කල්ලචිත්තං මුදුචිත්තං විනීවරණචිත්තං උදග්ගචිත්තං පසන්නචිත්තං, අථ යා බුද්ධානං සාමුක්කංසිකා ධම්මදෙසනා තං පකාසෙසි දුක්ඛං සමුදයං නිරොධං මග්ගං.

සෙය්‍යථාපි නාම සුද්ධං වත්ථං අපගතකාළකං සම්මදෙව රජනං පටිග්ගණ්හෙය්‍ය, එවමෙව බ්‍රාහ්මණස්ස පොක්ඛරසාදිස්ස තස්මිං යෙව ආසනෙ විරජං වීතමලං ධම්මචක්ඛුං උදපාදි යං කිඤ්චි සමුදයධම්මං සබ්බං තං නිරොධධම්මන්ති

101. අථ ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාදී දිට්ඨධම්මො පත්තධම්මො විදිතධම්මො පරියොගාළ්හධම්මො තිණ්ණවිචිකිච්ඡො විගතකථංකථො වෙසාරජ්ජප්පත්තො අපරප්පච්චයො සත්ථුසාසනෙ භගවන්තං එතදවොච "අභික්කන්තං භො ගොතම අභික්කන්තං භො ගොතම! සෙය්‍යථාපි භො ගොතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛු-මන්තො රූපානි දක්ඛින්තීති, එවමෙව භොතා ගොතමෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො එසාහං භො ගොතම සපුත්තො සභරියො සපරිසො සාමච්චො භවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච. උපාසකං මං භවං ගොතමො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතං යථා ච භවං ගොතමො උක්කට්ඨාය අඤ්ඤෙසු උපාසකකුලානි උපසඞ්කමති එවමෙව භවං ගොතමො පොක්ඛරසාදිකුලං උපසඞ්කමතු තත්ථ යෙ තෙ මාණවකා වා මාණවිකා වා භවන්තං ගොතමං අභිවා-දෙස්සන්ති වා පච්චුට්ඨිස්සන්ති වා ආසනං වා උදකං වා දස්සන්ති චිත්තං වා පසාදෙස්සන්ති, තෙසං තං භවිස්සති දීඝරත්තං හිතාය සුඛායා"ති "කල්‍යාණං වුච්චති බ්‍රාහ්මණා"ති.

අම්බට්ඨසුත්තං තතියං

එවිට භාග්‍යවතුන් වහන්සේ (ඒ) පෙරවරුයෙහි සිවුරු හැඳ පෙරවා පාසිවුරු ගෙන භික්සඟන සමග පොක්ඛරසාදී බමුණාගේ පිරිවෙස්න (=බොජුන් වළඳනා තැන) කරා වැඩි සේක වැඩ, පැණවුණු අස්නෙහි හුන් සේක ඉක්බිති පොක්ඛරසාදි බමුණු තෙම මිහිරි වූ කෑයුතු බුදිය යුතු දෑයින් සියතින් භාග්‍යවතුන් වහන්සේ සැතැප්වී ය, මැනැවින් පැවැරුවී ය මාණවකයෝ ද භික්සඟන සැතැප්වූහ, මැනැවින් පැවැරුවූහ .

එයින් පසු පොක්ඛරසාදි බමුණා භාග්‍යවතුන් වහන්සේ, වළඳා පාත්‍රයෙන් ඉවත් කළ අත ඇත්කවුත් දැන, එක්තරා මිටි අස්නක් ගෙන පසෙක හුන්නේ ය

101 එකත්පස්හි හුන් පොක්ඛරසාදි බමුණහුට භාග්‍යවතුන් වහන්සේ දානකථා, ශීලකථා, ස්වර්ගකථා, කාමාදීනව, කාමයන්ගේ ලාමක බව, කාමයන්ගේ කෙලෙසීම, නෛෂ්ක්‍රම්‍යයෙහි (කාමයන්ගෙන් නික්මුණු-බව්හි) අනුසස් පැවැසූ සේක භාග්‍යවතුන් වහන්සේ යම් විටෙක පොක්ඛරසාදි බමුණුහු (ඒ බණ ඇසීමෙන්) නිරෝග සිතැති වූවහු, මොළොක් සිතැති වූවහු, නීවරණ කෙරෙන් පහ වූ සිත් ඇත්තහු, ඔද වැඩී ගිය සිතැත්තහු, පහන් සිතැත්තහු දත් සේක් ද, එ කල්හි දුඃඛ සමුදය නිරෝධ මාර්ග යන බුදුවරුන්ගේ යම් සාමුත්කර්ෂිකී ධර්මදේශනාවෙක් වේ නම් එය පැවැසූ සේක

යම්සේ පහ වූ කළුබව ඇති, පිරිසිදු වතෙක් මොනොවට රජන් (පඬු) උරා ගන්නේ ද, එසේ ම පොක්ඛරසාදි බමුණාට එ අස්නෙහි ම 'යමක් උපදනා සුලු නම් ඒ සියල්ල නැසෙන සුලු යැ' යි කෙලෙස් රජස් නැති, පහ වූ කෙලෙස්මල ඇති, දහම් ඇස පහළ විය

ඉක්බිති පොක්ඛරසාදී බමුණු තෙම දුටු ආර්යසත්‍ය ධර්ම ඇත්තේ, ලැබූ ආර්යසත්‍යාවබෝධය ඇත්තේ, දැන ගත් ආර්යසත්‍ය ධර්ම ඇත්තේ, බැස ගත් ආර්යසත්‍ය ධර්ම ඇත්තේ, ඉක්මැවූ සැක ඇත්තේ, පහ වූ සැක ඇත්තේ, බුදු සස්නැ විශාරද බවට පැමිණියේ, තමාම පසක් කළ බැවින් හැදැහිය යුතු අනෙකකු නැත්තේ, භාග්‍යවතුන් වහන්සේට මෙය කී යැ·

"භවද්ගෞතමයිනි, අභික්‍රාන්ත ය (විශේෂයෙන් සිත්කලු ය) භවද් ගෞතමයිනි, අභික්‍රාන්ත ය භවද් ගෞතමයිනි, මුනින් නමා තැබූ දැයක් උඩුකුරු කරන්නේ යම් සේ ද, වැසුණු දැයක් විවෘත කරනුයේ යම්සේ ද, මං මුළා වූවකුට මඟ කියන්නේ යම්සේ ද, ඇස් ඇත්තෝ රූප දක්නාහ යි සිතා තෙල් පහනක් දල්වන්නේ යම් සේ ද, එසේ ම, භවද් ගෞතමයන් විසින් නොයෙක් කරුණින් ධර්මය පැවැසිණ භවද්ගෞතමයිනි, ඒ මම් භාර්යාව සහිත වැ, පිරිස් සහිත වැ, මෙහෙකරුවන් සහිත වැ භවද්ගෞතමයන් ද ධර්මය ද භික්ෂුසංඝයා ද සරණ යෙමි අද පටන් දිවි හිමි කොට සරණ ගිය උවසකු කොට භවද්ගෞතම තෙමේ මා සලකා වා යම්සේ භවද්ගෞතම තෙමේ උක්කට්ඨා නුවරෙහි අන් උපාසකකුලයන් කරා එළැඹේ ද, එසේ ම පොක්ඛරසාදිකුලයට ද එළැඹේ වා එහි යම් මාණවක කෙනෙක් හෝ මාණවිකා කෙනෙක් හෝ භවද් ගෞතමයන් ආදරයෙන් වඳින්නෝ ද, දක හුනස්නෙන් නැඟී හෝ සිටින්නෝ ද, අසුන් හෝ දිය හෝ දෙන්නෝ ද, සිත හෝ පහදවන්නෝ ද, එය ඔවුනට දික් කලක් වැඩ පිණිස, සුව පිණිස වන්නේ ය"

මෙසේ කී කල්හි භාග්‍යවතුන් වහන්සේ "බ්‍රාහ්මණය, මනා දැයෙක් කොට කී සේ මැනැවැ" යි වදාළ සේක.

අම්බට්ඨ සූත්‍රය නිමියේ ය

# 4

# සොණදණ්ඩසුත්තං

1 එවං මෙ සුතං එකං සමයං භගවා අඞ්ගෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි යෙන චම්පා තදවසරි තත්‍ර සුදං භගවා චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ

තෙන ඛො පන සමයෙන සොණදණ්ඩො බ්‍රාහ්මණො චම්පං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බිසාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං

2 අස්සොසුං ඛො චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා "සමණො ඛලු භො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො අඞ්ගෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි චම්පං අනුප්පත්තො, චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො "ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොතී"ති

3 අථ ඛො චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා චම්පාය නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතා යෙන ගග්ගරා පොක්ඛරණී තෙනුපසඞ්කමන්ති

4 තෙන ඛො පන සමයෙන සොණදණ්ඩො බ්‍රාහ්මණො උපරිපාසාදෙ දිවාසෙය්‍යං උපගතො හොති අද්දසා ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො චම්පෙය්‍යකෙ බ්‍රාහ්මණගහපතිකෙ චම්පාය නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතෙ යෙන ගග්ගරා පොක්ඛරණී තෙනුපසඞ්කමන්තෙ දිස්වා ඛත්තං ආමන්තෙසි "කිංනු ඛො භො ඛත්තෙ චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා චම්පාය නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතා යෙන ගග්ගරා පොක්ඛරණී තෙනුපසඞ්කමන්තී"ති

# 4

# සොණදණ්ඩ සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදි එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන් පන්සියයක් පමණ වූ මහත් පැවිදිමුළුවක් හා අංග රටෙහි සැරිසරන සේක්, චම්පා නුවරට වැඩි සේක භාග්‍යවතුන් වහන්සේ එහි ඒ චම්පා නුවර සමීපයෙහි ගග්ගරා පොකුණු තෙර වසන සේක

එ සමයෙහි සොණදණ්ඩ බමුණු තෙමේ බහුජනාකීර්ණ වූ, තණ දඬු දිය සුලභ වූ, බොහෝ ධන ධාන්‍ය ඇති, රජුහුගෙන් ලත් තිත්දගම වූ (රාජස්වරූපයෙන් පරිභොග කට යුතු වූ), මගධ රටට අධිපති සේනිය බිම්බිසාර රජු විසින් දුන් රාජදායාද්‍යය වූ, ශ්‍රෙෂ්ඨ ත්‍යාගය වූ චම්පා නුවර වෙසෙසි

2 චම්පා නුවර වැසි බමුණුගැහැවියෝ (රටෙහි පැතිර පැවැති) මතු දැක්වෙන කථාව ඇසූහ "භවත්නි, ශාක්‍යපුත්‍ර වූ, ශාක්‍යකුලයෙන් නික්මැ පැවිදි වූ, ශ්‍රමණ ගෞතම තෙමේ වූ කලී භික්ෂූන් පන්සියයක් පමණ වූ මහපැවිදිමුළුවක් හා අඟුරටැ සැරි සරනුයේ, චම්පාවට පැමිණියේ, එය අසලැ ගග්ගරා පොකුණ තෙර වෙසෙසි ඒ භගවත් තෙමේ මේ මේ කරුණින් අර්හත් ය, සම්‍යක්සම්බුද්ධ ය, විද්‍යාචරණසම්පන්න ය, සුගත ය, ලොකවිත් ය, නිරුත්තර පුරුෂදම්‍යසාරථි ය, දෙව්මිනිසුනට ශාස්තෘ ය, බුද්ධ ය, භගවත් ය හේ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත මේ ලොව, මහණබමුණන් සහිත දෙව් මිනිසුන් සහිත මේ සත්ත්වවර්ගයා, තමා ම සිය විශිෂ්ට නුවණින් දැන පසක් කොට ලොවට දන්වයි ආදිකල්‍යාණ මධ්‍යකල්‍යාණ පර්යවසානකල්‍යාණ වූ (සතිපට්ඨානාදී) මනා අර්ථ ඇති, මනා (සම්පූර්ණ) ව්‍යංජන ඇති, සර්වාකාර පරිපූර්ණ, පිරිසිදු දහමක් දෙසයි එසේ දෙසනුයේ ද, සියලු සසුන්බඹසර පවසයි එබඳු රහතුන් දැක්ම වූ කලී ඉතා වැඩ ගෙනැ දෙන්නෙකැ'යි ඒ භවද් ගෞතමයන් වහන්සේ පිළිබඳ මෙසේ උතුම් වූ කීර්ත්තිශබ්දයෙක් උස් වැ නැංගේ ය" යනු යි

3 ඉක්බිති චම්පාපුර වැසි බමුණෝත් ගැහැවියෝත් චම්පායෙන් නික්මැ බොහෝ බොහෝ වැ රැස් වූවෝ, එකි එකි පැත්තෙහි මුළු මුළු වැ නුවරින් පිටතැ දී මහ මුළුවෙක් වැ එකතු වූවෝ, ගග්ගරා පොකුණ අතට යෙති

4 එ සමයෙහි සොණදණ්ඩ බමුණු තෙමේ තමා පහයැ උඩු මහලෙහි දවසහනට පැමිණියේ වෙසි හේ (කවුළුයෙන් බලනුයේ) චම්පායෙන් නික්මැ බොහො බොහෝ වී රැස් වැ, එක් එක් පසැ මුළු මුළු වැ, නුවරින් පිටතැ දී මහ මුළුවක් වැ එකතු වැ ගග්ගරා පොකුණ අතට යන චම්පාවාසී බමුණන් ද ගැහැවියන් ද දැක්කේ ය දැක ක්ෂත්තෘහු බණවා "භවත් ක්ෂත්තෘව, කවර හෙයින් චම්පාවාසී බමුණෝත් ගැහැවියෝත් චම්පායෙන් නික්මැ බොහො බොහෝ වී රැස් වැ එකී එකී පසැ මුළු මුළු වැ නුවරින් පිටතැ දී මහ මුළුවෙක් වැ එකතු වැ ගග්ගරා පොකුණ කරා යෙත් ද?"යි විචාළේ ය

"අත්ථි ඛො භො සමණො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො අඞ්ගෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි චම්පං අනුප්පත්තො චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ. තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො: 'ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා ති. තමෙතෙ භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමන්ති' ති

5 තෙන හි භො ඛත්තෙ යෙන චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා තෙනුපසඞ්කම උපසඞ්කමිත්වා චම්පෙය්‍යකෙ බ්‍රාහ්මණගහපතිකෙ එවං වදෙහි "සොණදණ්ඩො භො බ්‍රාහ්මණො එවමාහ 'ආගමෙන්තු කිර භවන්තො සොණදණ්ඩො'පි බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී"ති.

'එවං භො'ති ඛො සො ඛත්තා සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස පටිස්සුත්වා යෙන චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා චම්පෙය්‍යකෙ බ්‍රාහ්මණගහපතිකෙ එතදවොච "සොණදණ්ඩො භො බ්‍රාහ්මණො එවමාහ 'ආගමෙන්තු කිර භවන්තො සොණදණ්ඩො'පි බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී' ති

6 තෙන ඛො පන සමයෙන නානාවෙරජ්ජකානං බ්‍රාහ්මණානං පඤ්චමත්තානි බ්‍රාහ්මණසතානි චම්පායං පටිවසන්ති කෙනචිදෙව කරණීයෙන අස්සොසුං ඛො තෙ බ්‍රාහ්මණා 'සොණදණ්ඩො කිර බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී'ති අථ ඛො තෙ බ්‍රාහ්මණා යෙන සොණදණ්ඩො බ්‍රාහ්මණො තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා සොණදණ්ඩං බ්‍රාහ්මණං එතදවොචුං 'සච්චං කිර භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී' ?"ති

"එවං ඛො මෙ භො හොති අහම්පි සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමී"ති

7 "මා භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමි න අරහති භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං. සචෙ භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සති, භොතො සොණදණ්ඩස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඩ්ඪිස්සති. යම්පි භොතො සොණදණ්ඩස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඩ්ඪිස්සති, ඉමිනා පඞ්ගෙන න අරහති භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං සොණදණ්ඩං දස්සනාය උපසඞ්කමිතුං

“භවත, කාරණයෙක් ඇත ශාක්‍යපුත්‍ර වූ, ශාක්‍යකුලයෙන් නික්මැ පැවිදි වූ ශ්‍රමණ ගෞතම තෙමේ අංග රටැ සැරි සරනුයේ, භික්ෂූන් පන් සියක් පමණ වූ මහත් මහණමුළුවක් හා චම්පාංවට පැමිණියේ, චම්පා පුර සමීපයෙහි වූ ගගීරා නම් පොකුණ අද්දරැ වෙසෙසි ‘ඒ භගවත් තෙමේ ඒ මේ කාරණයෙන් අර්හත් ය, සම්‍යක්සම්බුද්ධ ය, විද්‍යාචරණ සම්පන්න ය, සුගත ය, ලොකවිත් ය, නිරුත්තර පුරුෂදම්‍යසාරථි ය, දෙව්මිනිසුනට ශාස්තෘ ය, බුද්ධ ය, භගවත් යැ’ යි මෙසේ ඒ භවද් ගෞතමයා පිළිබඳ භද්‍ර වූ ගුණඝොෂයෙක් උස් වැ නැංගේ ය මොහු ඒ භවද්ගෞතමයා දක්නා පිණිස එති යෙත්” යැ යි ක්ෂත්තෘ තෙමේ කී ය

5. “භවත් ක්ෂත්තෘව, එසේ වී නම්, ඒ චම්පාවාසී බමුණු ගැහැවියන් වෙත එළැඹ ඔවුනට “භවත්හු (මොහොතක්) බලා පොරොත්තු වෙත්වා සොණදණ්ඩ බමුණාත් ශ්‍රමණ ගෞතමයන් දක්නට එහි යන්නේයැ’ යි සැල කරව” යි කී ය ‘එසේ ය භවතැ’ යි කියා ක්ෂත්තෘ තෙමේ සොණදණ්ඩ බමුණාට පිළිවදන් දී, චම්පාවාසී ඒ බමුණු ගැහැවියන් කරා එළැඹ “භවත්නි, භවත්හු බලා පොරොත්තු වෙත් වා සොණදණ්ඩ බමුණු ද ශ්‍රමණ ගෞතමයා දක්නට එහි යන්නේ” යැ යි දැන්වී ය.

6 එ සමයෙහි වනාහි නොයෙක් විදෙසින් පැමිණි පන්සියක් පමණ බමුණෝ කිසි කටයුත්තක් පිණිස චම්පා නුවරැ වෙසෙත් ඒ බමුණෝ ‘සොණදණ්ඩ බමුණා මහණ ගොයුම්හු දක්නට යෙත් ලු’ යි ඇසූහ ඉක්බිති ඔහු සොණදණ්ඩ බමුණා කරා ගියහ ගොස් “භවත් සොණදණ්ඩ තෙමේ මහණ ගොයුමන් දක්නට යන්නේ ලු යනු සැබෑ ද?” යි විචාළහ

“භවත්නි, (සැබෑ ය) ‘මමත් මහණ ගොයුමන් දක්නට යන්නෙමි’ යි මට මෙසේ සිතෙක් වේ” යැ යි සොණදණ්ඩ තෙමේ කී ය

7 එ බස් අසා ඔහු කියන්නෝ, “භවත් සොණදණ්ඩ තෙමේ මහණ ගොයුමන් දක්නට නො යේ වා භවත් සොණදණ්ඩ තෙමේ මහණ ගොයුමන් දක්නට නො නිසි වේ ඉදින් භවත් සොණදණ්ඩ තෙමේ මහණ ගොයුමන් දක්නට යන්නේ නම්, භවත් සොණදණ්ඩයාගේ යශස් පිරිහෙන්නේ ය, මහණ ගොයුමන්ගේ යශස් වැඩෙන්නේ ය ‘භවත් සොණදණ්ඩයාගේ යශස් පිරිහෙන්නේ ය, මහණ ගොයුමන්ගේ යශස් වැඩෙන්නේ ය,’ යන යමෙක් ඇද්ද මේ කාරණයෙන් භවත් සොණදණ්ඩ තෙමේ මහණ ගොයුම්හු දක්නා පිණිස එහි යන්නට නො නිසි ය මහණ ගොයුමාණන් ම භවත් සොණදණ්ඩයන් දකින්නට එනු නිසි ය

භවං හි සොණදණ්ඩො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන

යම්පි භවං සොණදණ්ඩො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන ඉමිනා පඞ්ගෙන න අරහති භවං සොණ-දණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං සොණදණ්ඩං දස්සනාය උපසඞ්කමිතුං

භවං හි සොණදණ්ඩො අඩ්ඪො මහද්ධනො මහාභොගො-පෙ-

භවං හි සොණදණ්ඩො අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරග සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං, පදකො, වෙය්‍යාකරණො, ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො-පෙ-

භවං හි සොණදණ්ඩො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්චසී, අඛුද්දා-වකාසො දස්සනාය-පෙ-

'භවත් සෝණදණ්ඩ තෙමේ මවුපසින් ද පියපසින් ද යන දෙපසින් මැ අභිජාත ය සත්වන මීමුතු ප්‍රුවල තෙක් පිරිසිදු මවුකුස ඇත්තේ ය ජාතිවාදයෙන් (කුල පිළිබඳ චෝදනාවෙන්) නොගෙළන ලද්දේ ය නො ගරහන ලද්දේ ය

භවත් සෝණදණ්ඩ තෙමේ මවුපසින් ද පියපසින් ද යන දෙ පසින් මැ අභිජාත ය සත්වන මීමුතු ප්‍රුවල තෙක් පිරිසිදු මවුකුස ඇතියේ ය, 'ජාතිවාදයෙන් ඉවත නො ගෙලන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය, යන යමෙක් ඇද්ද, මේ කරුණෙකුත් භවත් සෝණදණ්ඩ තෙමේ මහණ ගොයුම්හු දක්නට යනු නො වටී මහණ ගොයුමන් ම භවත් සෝණදණ්ඩයා දක්නට එනු වටී

තව ද භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී ආඪ්‍ය ය, මහත් ධන ඇත්තේ ය, මහද්භෝග ඇත්තේ ය

භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී මේද හදාරන්නෙක වේදයන් සිහැ ලා දරන්නෙක නිඝණ්ටු කෛටභශාස්ත්‍ර සහිත, අක්ෂරප්‍රභේද (ශික්ෂා හා නිරුක්ති) සහිත, ඉතිහාසය පස්වනු කොටැති ත්‍රිවේදයන් ගේ පරතෙර පැමිණියෙක, පදපාඨ දන්නෙක එසින් අන්‍ය සියලු ව්‍යාකරණ විධි ද දන්නෙක ලෝකායත ශාස්ත්‍රයෙහිත් මහාපුරුෂලක්ෂණ-ශාස්ත්‍රයෙහිත් නිපුණයෙක භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී විශිෂ්ට රූපශෝභා ඇත්තෙක, දකුම් කටයුතු ය, ප්‍රසාද එළවන සුලු ය, උතුම් වර්ණසෞන්දර්යයෙන් සමන්විත ය, උතුම් රන්වන් පැහැත්තෙක, උතුම් ශරීරප්‍රභා ඇත්තෙක (ආරෝහපරිණාහසම්පත්තියෙන් ද අවයවයන්ගේ පරිපූර්ණත්වයෙන් ද) සිරුරෙහි දක්මට නොමඳ වූ අවකාශ ඇත්තෙක

භවත් සෝණදණ්ඩ තෙමේ සිල්වත් ය, වැඩුණු සිල් ඇත්තේ ය, වැඩුණු ශීලයෙන් යුක්ත ය

භවත් සෝණදණ්ඩ තෙමේ කලණ තෙපුල් ඇත්තේ, කලණ මිහිරි බස් කියන්නේ, නිදොස් වූ කෙලතොලු නොවූ, කී අරුත අඟවනු සමත් සිලිටි බසින් සමන්විත ය

භවත් සෝණදණ්ඩ තෙමේ බොහෝ දෙනාට ආචාර්ය ද ප්‍රාචාර්ය ද වූයේ, තුන්සියක් මාණවකයනට වේදයන් කියවයි වේදයන් ප්‍රයෝජන කොටැති, වේද හදාරනු කැමැති බොහෝ මාණවකයෝ නන් දෙසින් නන්රටින් භවත් සෝණදණ්ඩයා වෙත එත්

භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී ජරාජීර්ණ ය, වයෝවෘද්ධ ය, මහලු ය, බොහෝ කල් ඉක්මැවූයෙක, පැසිම් වයසට පැමිණියෙක. මහණ ගොයුම් තෙමේ තරුණ ද වේ තරුණ පැවිද්දෙක් ද වේ

භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී මගධාධිපති සේනිය බිම්බිසාර රජහු විසින් සත්කාර කරන ලද්දෙක, ගුරුකාර කරන ලද්දෙක, බුහුමන් කරන ලද්දෙක, පුදන ලද්දෙක, යටත් පැවැතුම් දක්වන ලද්දෙක

භවත් සෝණදණ්ඩ තෙමේ වූ කලී පොක්ඛරසාති බමුණා විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වේ

භවං හි සොණදණ්ඩො චම්පං අජ්ඣාවසති සත්තුස්සදං සතිණ-කට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බිසාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං

යම්පි භවං සොණදණ්ඩො චම්පං අජ්ඣාවසති සත්තුස්සදං සතිණ-කට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බි-සාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං, ඉමිනාපඞ්ගෙන න අරහති භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං සොණදණ්ඩං දස්සනාය උපසඞ්කමිතුන්ති

8 එවං වුත්තෙ සොණදණ්ඩො බ්‍රාහ්මණො තෙ බ්‍රාහ්මණෙ එතදවොච· තෙන හි භො මමපි සුණාථ, යථා මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං නත්වෙව අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං සමණො ඛලු භො ගොතමො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන

යම්පි භො සමණො ගොතමො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන, ඉමිනාපඞ්ගෙන න අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං අථ ඛො මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං.

සමණො ඛලු භො ගොතමො මහන්තං ඤාතිසඞ්ඝං ඔහාය පබ්බජිතො

සමණො ඛලු භො ගොතමො පහූතං හිරඤ්ඤසුවණ්ණං ඔහාය පබ්බජිතො භූමිගතඤ්ච වෙහාසට්ඨඤ්ච

සමණො ඛලු භො ගොතමො දහරොව සමානො යුවා සුසු කාළ-කෙසො භද්‍රෙන යොබ්බනෙන සමන්නාගතො පඨමෙන වයසා අගාරස්මා අනගාරියං පබ්බජිතො

සමණො ඛලු භො ගොතමො අකාමකානං මාතාපිතූනං අස්සුමුඛානං රුදන්තානං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජිතො

සමණො ඛලු භො ගොතමො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්ඡසී අඛුද්දා-වකාසො දස්සනාය

සමණො ඛලු භො ගොතමො සීලවා අරියසීලී කුසලසීලී කුසලෙන සීලෙන සමන්නාගතො

භවත් සොණදණ්ඩ තෙමේ වූ කලි බහුජනාකීර්ණ, තණ දඬු දිය යන මෙයින් යුක්ත, බොහෝ ධාන්‍ය ඇති, රජුගෙන් ලත් ස්වකීය පරිභොග වස්තු වූ, රජුගේ දායාද්‍යය වූ, සෙනිය බිම්බිසාර මහරජුහු දුන් ශ්‍රෙෂ්ඨ ත්‍යාගය වූ චම්පානුවරට අධිපති වැ වෙසෙසි.

භවත් සොණදණ්ඩ තෙමේ බහුජනාකීර්ණ .චම්පානුවරට අධිපති වැ වෙසේ ය යන යම් කරුණෙක් ඇද්ද, මේ කරුණිනුත් භවත් සොණදණ්ඩ තෙම මහණ ගොයුම්හු දක්නට යනු නොනිසි ය මහණ ගොයුම් තෙමේ ම භවත් සොණදණ්ඩයා දක්නට එනු සුදුසු යැ'යි කීහ

8 මෙසේ කී කල්හි සොණදණ්ඩ බමුණු තෙමේ ඒ බමුණනට කියනුයේ, ''භවත්නි, එසේ වී නම් ඒ භවද්ගෞතමයන් අප දක්නට ඊම නොවැ අප ම ඔබ දක්නට යනු සුදුසු බවට මා කියන බස් ද අසවු· 'භවත්නි, මහණ ගොයුම්හු වූ කලි මවුපසින් ද පියපසින් ද යන දෙපසින් මැ අභිජාතයහ, සත් වන මිමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇත්තෝ ය ජාතිවාදයෙන් නො හෙළන ලද්දෝ ය, නො ගරහන ලද්දෝ ය

'මහණ ගොයුම්හු මවුපසින් ද පියපසින් ද යන දෙපසින් ම අභිජාතයහ නොගරහන ලද්දෝ ය' යන යමෙක් ඇද්ද, මේ කරුණිනුදු ඒ භවද්ගෞතමයෝ අප දක්නට එන්නට නො නිස්සහ වැළි අපි ම ඔබ දක්නට යනු නිස්සම්හ

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි මහත් නෑමුළුව පියා පැවිදි වූවෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි පොළොව යට ද පොළොව මත්තෙහි ද වූ මහත් හිරණ්‍යසුවර්ණ හැර පියා පැවිදි වූවෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි පොඩුරු යොවුනෙන්, (තුන් වයසින්) පළමු වයසින් යුත් වූවෝ ම, තරුණ වූවෝ ම, මනා කළු කෙහෙ ඇති වැ යොවුන් වියෙහි සිටියෝ ම ගිහි ගෙන් නික්මැ පැවිදි බිමට වත්තෝ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි මවුපියන් ඔබ පැවිදි වනුවට නොකැමැති වැ කඳුළු පිරුණු මුහුණු ඇති වැ හඬද්දී එය නොතකා කෙහෙ රවුළු බා දමා කසා වත් හැඳ ගිහි ගෙන් නික්මැ පැවිද්දට වත්තෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි විශිෂ්ට රූප සම්පත් ඇත්තෝ ය, දැකුම් කටයුතු හ, ප්‍රසාදජනක හ, උතුම් වර්ණසෞන්දර්යයෙන් සමන්විත හ, බඹහු සේ උතුම් රන් පැහැ ඇත්තෝ ය, උත්තම ශරීරප්‍රභා ඇත්තෝ ය, සිය සිරුරෙහි දැක්මට නොමඳ වූ අවකාශ ඇත්තෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි සිල්වත් හ, පිරිසිදු සිල් ඇත්තෝ ය, නිදොස් සිල් ඇත්තෝ ය, නිදොස් ශීලයෙන් සමන්විත හ...

සමණො ඛලු භො ගොතමො කල්‍යාණවාචො කල්‍යාණවාක්කරණො පොරියා වාචාය සමන්නාගතො විස්සට්ඨාය අනෙලගලාය අත්ථස්ස විඤ්ඤාපනියා –පෙ–

සමණො ඛලු භො ගොතමො බහුන්නං ආචරියපාචරියො –පෙ–

සමණො ඛලු භො ගොතමො ඛීණකාමරාගො විගතචාපල්ලො –පෙ–

සමණො ඛලු භො ගොතමො කම්මවාදී කිරියවාදී අපාපපුරෙක්ඛාරො බ්‍රහ්මඤ්ඤාය පජාය –පෙ–

සමණො ඛලු භො ගොතමො උච්චා කුලා පබ්බජිතො අසම්භින්නා-ඛත්තියකුලා –පෙ–

සමණො ඛලු භො ගොතමො අඩ්ඪා කුලා පබ්බජිතො මහද්ධනා මහාභොගා –පෙ–

සමණං ඛලු භො ගොතමං තිරොරට්ඨා තිරොජනපදා සම්පුච්ඡිතුං ආගච්ඡන්ති –පෙ–

සමණං ඛලු භො ගොතමං අනෙකානි දෙවතාසහස්සානි පාණෙහි සරණං ගතානි –පෙ–

සමණං ඛලු භො ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො 'ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති –පෙ–

සමණො ඛලු භො ගොතමො ද්වත්තිංසමහාපුරිසලක්ඛණෙහි සමන්නා-ගතො –පෙ–

සමණො ඛලු භො ගොතමො එහිස්වාගතවාදී සඛිලො සම්මොදකො අබ්භාකුටිකො උත්තානමුඛො පුබ්බභාසී –පෙ–

සමණො ඛලු භො ගොතමො චතුන්නං පරිසානං සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො –පෙ–

සමණෙ ඛලු භො ගොතමෙ බහූ දෙවා මනුස්සා ච අභිප්පසන්නා –පෙ–

සමණො ඛලු භො ගොතමො යස්මිං ගාමෙ වා නිගමෙ වා පටිවසති, න තස්මිං ගාමෙ වා නිගමෙ වා අමනුස්සා මනුස්සෙ විහෙඨෙන්ති-පෙ-

සමණො ඛලු භො ගොතමො සඞ්ඝී ගණී ගණාචරියො පුථුතිත්ථකරානං අග්ගමක්ඛායති-පෙ-

යථා ඛො පන භො එකෙසං සමණබ්‍රාහ්මණානං යථා වා තථා වා යසො සමුදාගච්ඡති න හෙවං සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො. අථ ඛො අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො .

සමණං ඛලු භො ගොතමං රාජා මාගධො සෙනියො බිම්බිසාරො සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො-පෙ-

සමණං ඛලු භො ගොතමං රාජා පසෙනදි කොසලො සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො-පෙ-.

සමණං ඛලු භො ගොතමං බ්‍රාහ්මණො පොක්ඛරසාති සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො-පෙ-

සමණො ඛලු භො ගොතමො රඤ්ඤො මාගධස්ස සෙනියස්ස බිම්බිසාරස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො -පෙ-

සමණො ඛලු භො ගොතමො රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො-පෙ-

සමණො ඛලු භො ගොතමො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො-පෙ-.

සමණො ඛලු භො ගොතමො චම්පං අනුප්පත්තො චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ යෙ ඛො පන භො කෙචි සමණා වා බ්‍රාහ්මණා වා අම්හාකං ගාමක්ඛෙත්තං ආගච්ඡන්ති, අතිථි නො තෙ හොන්ති අතිථි ඛො පනම්හෙහි සක්කාතබ්බා ගරුකාතබ්බා මානෙතබ්බා පූජෙතබ්බා අපචෙතබ්බා යම්පි භො සමණො ගොතමො චම්පං අනුප්පත්තො චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ අතිථම්හාකං සමණො ගොතමො. අතිථි ඛො පනම්හෙහි සක්කාතබ්බො ගරුකාතබ්බො මානෙතබ්බො පූජෙතබ්බො අපචෙතබ්බො ඉමිනාපඞ්ගෙන න අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං අථ ඛො පන මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං

එත්තකෙ ඛො අහං භො තස්ස භොතො ගොතමස්ස ගුණෙ පරියාපුණාමි නො ච ඛො සො භවං ගොතමො එත්තකවණ්ණො අපරිමාණවණ්ණො හි සො භවං ගොතමො"ති.

භවත්නි, මහණ ගොයුම්හු තුමූ යම් ගමෙක නියම්ගමෙක හෝ වෙසෙත් නම්, එ ගමැ හෝ නියම්ගමැ හෝ වසන මිනිස්නට යක්හු පීඩා නො කෙරෙත් .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි මහ සඟපිරිස් ඇත්තෝ ය, ගණනායක හ, ගණාචාර්‍ය්‍ය හ, බොහෝ තීර්ථංකරයන් අතුරෙහි අග්‍ර හ යි කියනු ලැබෙති .

යම් සේ වනාහි ඇතැම් මහණබමුණන්ගේ යශස අචේලකතා ආදි පිටතට පෙන්වන යම්තම් ව්‍රතමාත්‍රයෙකින් වැඩෙතත් මහණ ගොයුමන් ගේ වූ කලි යශස එසේ වැඩුණෙක් නො වේ වැලි තමන් තුලැ ම වූ නිරුත්තර විද්‍යාචරණසම්පත්තින් වැඩුණේ වෙයි .

භවත්නි, මහණ ගොයුමන් වූ කලි මගධාධිපති සේනිය බිම්බිසාර රජ තෙමේ දරුවන් හා බිරියන් හා පිරිස් හා ඇමැත්තන් හා සමග. දිවි හිමි කොට සරණ ගියේ ය

භවත්නි, මහණ ගොයුමන් වූ කලි කොශලාධිපති පසේනදී රජ තෙමේ දරුවන් හා බිරියන් හා පිරිස් හා ඇමැත්තන් හා සමග දිවි හිමියෙන් සරණ ගියේ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි පොක්ඛරසාති බමුණු තෙමේ දරුවන් හා බිරියන් හා පිරිස් හා ඇමැත්තන් හා සමග දිවිහිමියෙන් සරණ ගියේ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි මගධාධිපති සේනිය බිම්සර මහරජ්ජු විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වෙති...

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි කොශලාධිපති පසෙනදී රජ්ජු විසින් සත්කෘත ද ගුරුකෘත ද අපචිත ද වෙති .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලි පොක්ඛරසාති බමුණුහු විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වෙති.

භවත්නි මහණ ගොයුම්හු චනානි (දැන්) චම්පාවට පැමිණියෝ චම්පාවට නොදුරු තන්හි වූ ගග්ගරා පොකුණ තෙර වෙසෙති. භවත්නි, යම් කිසි මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් හෝ අපේ ගම්කෙතට එත් නම් උහු අපට අමුත්තෝ වෙත් අමුත්තෝ වනාහි අප විසින් සත්කාර කළ යුත්තෝ ය, ගුරුකාර කළ යුත්තෝ ය, බුහුමන් කළ යුත්තෝ ය, පිදියැ යුත්තෝ ය, යටත් පැවැතුම් දක්වියැ යුත්තෝ ය. යම් හෙයෙකින් මහණ ගොයුම්හු චම්පාවට පැමිණියෝ චම්පාව සමීපයේ ගග්ගරා පොකුණ තෙර වෙසෙත් ද, එ හෙයින් ඔබ අපේ අමුත්තෝ ය ඒ අමුත්තෝ වනාහි අප විසින් සත්කාර කටයුතු හ, ගරු කටයුතු හ, බුහුමන් කටයුතු හ, පිදියැ යුතු හ, යටත් පැවැතුම් දක්වියැ යුතු හ මේ කරුණිනුත් ඒ භවද්ගෞතමයන් අප දක්නට එනු නො වටි වැලි අපි ම ඔබ දක්නට යැ යුතු වමු

භවත්නි, ඒ භවද්ගෞතමයන් පිළිබඳ වූ මෙ පමණක් ගුණ මම දනිමි එහෙත් ඒ භවත් ගෞතමයෝ නම් මෙ පමණක් ම ගුණ ඇත්තෝ නො වෙති වැලි දු ඔබ පමණ කට නොහැකි ගුණ ඇත්තෝ ය''යනු යි

9 එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා සොණදණ්ඩං බ්‍රාහ්මණං එතදවොචුං 'යථා ඛො භවං සොණදණ්ඩො සමණස්ස ගොතමස්ස වණ්ණං භාසති ඉතො චෙ'පි සො භවං ගොතමො යොජනසතෙ විහරති, අලමෙව සද්ධෙන කුලපුත්තෙන දස්සනාය උපසඞ්කමිතුං අපි පුටොසෙන[1]. තෙන හි භො සබ්බෙව මයං සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමා''ති

අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො මහතා බ්‍රාහ්මණගණෙන සද්ධිං යෙන ගග්ගරා පොක්ඛරණී තෙනුපසඞ්කමි.

10 අථ ඛො සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස තිරොවනසණ්ඩගතස්ස එවං චෙතසො පරිවිතක්කො උදපාදි ''අහඤ්චෙව ඛො පන සමණං ගොතමං පඤ්හං පුච්ඡෙය්‍යං, තත්‍ර චෙ මං සමණො ගොතමො එවං වදෙය්‍ය 'න ඛො එස බ්‍රාහ්මණ පඤ්හො එවං පුච්ඡිතබ්බො, එවං නාමෙස බ්‍රාහ්මණ පඤ්හො පුච්ඡිතබ්බො'ති තෙන මං අයං පරිසා පරිභවෙය්‍ය 'බාලො සොණදණ්ඩො බ්‍රාහ්මණො අබ්‍යත්තො, නාසක්ඛි සමණං ගොතමං යොනිසො පඤ්හං පුච්ඡිතුන්ති' යං ඛො පනායං පරිසා පරිභවෙය්‍ය, යසො'පි තස්ස හායෙථ, යස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා මඤ්චෙව ඛො පන සමණො ගොතමො පඤ්හං පුච්ඡෙය්‍ය, තස්ස චාහං පඤ්හස්ස වෙය්‍යාකරණෙන චිත්තං න ආරාධෙය්‍යං, තත්‍ර චෙ මං සමණො ගොතමො එවං වදෙය්‍ය 'න ඛො එස බ්‍රාහ්මණ පඤ්හො එවං ව්‍යාකාතබ්බො එවං නාමෙස බ්‍රාහ්මණ පඤ්හො ව්‍යාකාතබ්බො'ති, තෙන මං අයං පරිසා පරිභවෙය්‍ය 'බාලො සොණදණ්ඩො බ්‍රාහ්මණො, අබ්‍යත්තො නාසක්ඛි සමණස්ස ගොතමස්ස පඤ්හස්ස වෙය්‍යාකරණෙන චිත්තං ආරාධෙතුන්ති යං ඛො පනායං පරිසා පරිභවෙය්‍ය, යසො'පි තස්ස හායෙථ යස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා, අහං චෙව ඛො පන එවං සමීපගතො සමානො අදිස්වා'ව සමණං ගොතමං නිවත්තෙය්‍යං, තෙන මං අයං පරිසා පරිභවෙය්‍ය 'බාලො සොණදණ්ඩො බ්‍රාහ්මණො අබ්‍යත්තො මානත්ථද්ධො භීතො ච නො විසහි සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං කථං හි නාම සමීපගතො සමානො අදිස්වා සමණං ගොතමං නිවත්තිස්සතී'' ති යං ඛො පනායං පරිසා පරිභවෙය්‍ය යසො'පි තස්ස හායෙථ යස්ස ඛො පන යසො හායෙථ, භොගා'පි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා''ති

11 අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදි චම්පෙය්‍යකාපි ඛො බ්‍රාහ්මණගහපතිකා අප්පෙකච්චෙ භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ භගවතා සද්ධිං සම්මොදිංසු සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ යෙන භගවා තෙනඤ්ජලිං පණාමෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ නාමගොත්තං සාවෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ තුණ්හීභූතා එකමන්තං නිසීදිංසු

---

1 පුටංසෙනා'පි පාඨො කෙසුචි පොත්ථකෙසු

9 මෙසේ කී කල්හි ඒ බමුණෝ සොණදණ්ඩ බමුණා බණවා, "භවත් සොණදණ්ඩ ය, භවත් සොණදණ්ඩයා මහණ ගොයුමන්ගේ ගුණ කියන සැටියෙන් ඒ භවද් ගෞතමයන් මෙහින් යොදුන් සියක් දුර වසතත්, සැදැහැති කුලපුතුන් විසින් පාථෙය (මග පියදම්) ගෙන ද ඔබ දක්නට එළැඹෙනු වටී ම ය එ බැවින් භවත්නි, අපි සියල්ලෝ ම ඒ මහණ ගොයුමන් දක්නට යන්නමු" සි කීහ

ඉක්බිති සොණදණ්ඩ බමුණු මෙමෙ මහත් බමුණු ගණයා හා ගග්ගරා පොකුණ අනට ගියේ ය

10 එ කල්හි වනාහි වනලැහැබ තුළට පිවිසි සොණදණ්ඩ බමුණාට මෙසේ විතර්කසංකල්පනාවෙක් පහළ විය.

"ඉදින් මම් මහණ ගොයුමන් අතින් ප්‍රශ්නයක් විචාරන්නෙම් නම්, (එවිට) 'බමුණ, මේ පැණය මෙසේ නොවිචාළ යුතු යැ' යි මහණ ගොයුම්හු මට කියන්නෝ නම්, එයින් මේ පිරිස 'සොණදණ්ඩයා අනුවණ ය, නොවියත් ය, මහණ ගොයුමන් අතින් නුවණින් පැණ විචාරන්නට නො හැකි වියැ'යි මා නිගන්නාහ මේ පිරිස යමකු නිගන්නාහු නම්, ඔහුගේ යශස් ද පිරිහෙන්නේ ය යමක්හුගේ යශස් පිරිහෙන්නේ නම්, ඔහුගේ භොග සම්පත් ද පිරිහෙන්නේ ය අපේ භොගයෝ වනාහි යශස් හෙතුවෙන් ලැබුණෝ ය තව ද මහණ ගොයුම්හු මා අතින් පැණ විචාරන්නෝ නම්, ඒ පැණ විසැඳීමෙන් මම් ඔවුන්ගේ සිත් නො ගන්නෙම් නම්, එහි දී මහණ ගොයුම්හු 'බමුණ, මේ පැණය මෙසේ විසඳියැ යුතු නො වේ. බමුණ, මෙය විසැඳියැ යුත්තේ මෙසේ ම යැ'යි මට කියන්නෝ නම්, එයින් මේ පිරිස මට 'සොණදණ්ඩ බමුණා අනුවණ ය, නොවියත් ය, පැණ විසැඳීමෙන් මහණ ගොයුමන්ගේ සිත ගන්නට නො හැකි විය සි නිගා කරන්නාහ මේ පිරිස යමක්හට නිගා කරන්නාහු නම්, ඔහු යශස් ද පිරිහෙන්නේ ය යමකුගේ යශස පිරිහෙන්නේ නම්, ඔහුගේ භොග ද පිරිහෙන්නේ ය අපේ භොගසම්පත් වනාහි යශස් හෙතුයෙන් ලැබුණු දෑ ය මමත් මෙසේ ළඟට පැමිණියෙම් ම මහණ ගොයුමන් නොදැක පෙරළා යන්නෙම් නම්, එයින් මේ පිරිස 'සොණදණ්ඩ බමුණා අනුවණ ය, නොවියත් ය, දැඩි මන් ඇත්තේ ය, බිය ගත්තේ ද වේ, මහණ ගොයුමන් දක්නු පිණිස එළැඹෙන්නට නො හැකි විය. මෙසේ ළඟට පැමිණියේ ම මහණ ගොයුමන් නොදැක කෙසේ නම් පෙරළා යා හැකි වන්නේ දැ?'සි මට පරිභව කරන්නාහ මේ පිරිස යමකුට පරිභව කරන්නාහු නම් ඔහු ගේ යශස ද පිරිහෙන්නේ ය. යමකුගේ යශස පිරිහෙන්නේ නම් ඔහුගේ භොගයෝ ද පිරිහෙන්නාහ අපේ භොගයෝ යශස්හෙතුවෙන් ලද්දෝ ය (එ බැවිනි)" යනු යි

11 ඉක්බිති සොණදණ්ඩ බමුණා භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියේ ය එළැඹ, භාග්‍යවතුන් වහන්සේ හා පිළිසඳර කතා කෙළේ ය. සිතැ රැඳවිය යුතු වූ පිළිසඳර කතා අවසන් කොට පසෙක ඉඳගත්තේ ය. චම්පානගරවාසී බමුණෝත් ගැහැවියෝත් කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් වැඳ පසෙක ඉඳගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ හා පිළිසඳර කතා කළහ සිතැ රැඳවියැ යුතු පිළිසඳර කොට නිමවා පසෙක හිඳගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ දෙසට ඇඳිලි නමා වැඳ පසෙක ඉඳගත්හ. කෙනෙක් නම් ගොත් අස්වා පසෙක ඉඳගත්හ කෙනෙක් නිහඬ වැ පසෙක ඉඳගත්හ.

12 තත්‍රපි සුදං සොණදණ්ඩො බ්‍රාහ්මණො එතදෙව බහුලමනුවිතක්කෙන්තො නිසින්නො හොති "අහං චෙව ඛො පන සමණං ගොතමං පඤ්හං පුච්ඡෙය්‍යං තත්‍ර චෙ මං සමණො ගොතමො එවං වදෙය්‍ය 'න ඛො එස බ්‍රාහ්මණ පඤ්හො පුච්ඡිතබ්බො'ති, තෙන මං අයං පරිසා පරිභවෙය්‍ය 'බාලො සොණදණ්ඩො බ්‍රාහ්මණො අබ්‍යත්තො, නාසක්ඛි සමණං ගොතමං යොනිසො පඤ්හං පුච්ඡිතුන්ති' යං ඛො පනායං පරිසා පරිභවෙය්‍ය යසො'පි තස්ස හායෙථ යසස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා මමඤ්චෙව ඛො පන සමණො ගොතමො පඤ්හං පුච්ඡෙය්‍ය, තස්ස චාහං පඤ්හස්ස වෙය්‍යාකරණෙන චිත්තං න ආරාධෙය්‍යං, තත්‍ර චෙ මං සමණො ගොතමො එවං වදෙය්‍ය 'න ඛො එස බ්‍රාහ්මණ, පඤ්හො එවං ව්‍යාකාතබ්බො, එවං නාමෙස බ්‍රාහ්මණ පඤ්හො ව්‍යාකාතබ්බො'ති, තෙන මං අයං පරිසා පරිභවෙය්‍ය 'බාලො සොණදණ්ඩො බ්‍රාහ්මණො අබ්‍යත්තො, නාසක්ඛි සමණස්ස ගොතමස්ස පඤ්හස්ස වෙය්‍යාකරණෙන චිත්තං ආරාධෙතුන්ති' යං ඛො පනායං පරිසා පරිභවෙය්‍ය යසො'පි තස්ස හායෙථ යසස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා අහො වත මං සමණො ගොතමො සකෙ ආචරියකෙ තෙවිජ්ජකෙ පඤ්හං පුච්ඡෙය්‍ය අද්ධාවතස්සාහං චිත්තං ආරාධෙය්‍යං පඤ්හස්ස වෙය්‍යාකරණෙනා"ති

13 අථ ඛො භගවතො සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස චෙතසා චෙතොපරිවිතක්කමඤ්ඤාය එතදහොසි "විහඤ්ඤති ඛො අයං සොණදණ්ඩො බ්‍රාහ්මණො සකෙන චිත්තෙන යන්නූනාහං සොණදණ්ඩං බ්‍රාහ්මණං සකෙ ආචරියකෙ තෙවිජ්ජකෙ පඤ්හං පුච්ඡෙය්‍යන්ති'

අථ ඛො භගවා සොණදණ්ඩං බ්‍රාහ්මණං එතදවොච "කතීහි පන බ්‍රාහ්මණ අඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤපෙන්ති බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා ? 'ති

14 අථ ඛො සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස එතදහොසි යං වත නො අහොසි ඉච්ඡිතං, යං ආකඞ්ඛිතං, යං අධිප්පෙතං, යං අභිපත්ථිතං 'අහො වත මං සමණො ගොතමො සකෙ ආචරියකෙ තෙවිජ්ජකෙ පඤ්හං පුච්ඡෙය්‍ය, අද්ධා වතස්සාහං චිත්තං ආරාධෙය්‍යං පඤ්හස්ස වෙය්‍යාකරණෙනා'ති, තත්‍ර මං සමණො ගොතමො සකෙ ආචරියකෙ තෙවිජ්ජකෙ පඤ්හං පුච්ඡති අද්ධා වතස්සාහං චිත්තං ආරාධෙස්සාමි පඤ්හස්ස වෙය්‍යාකරණෙනා'ති.

15, අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො අබ්භුන්නාමෙත්වා කායං අනුවිලොකෙත්වා පරිසං භගවන්තං එතදවොච "පඤ්චහි භො ගොතම අඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤපෙන්ති 'බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍ය කතමෙහි පඤ්චහි ? ඉධ භො ගොතම බ්‍රාහ්මණො උභතො සුජාතො හොති මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො, අනුපක්කුට්ඨො ජාතිවාදෙන. අජ්ඣායකො හොති මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං, පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො

12. එහි ද සොණදණ්ඩ තෙමේ "මම් මහණ ගොයුමන් අතින් ප්‍රශ්න විචාරන් නෙම් නම්, (එ විට) 'බමුණ, මේ පැණය මෙසේ නො විචාළ මනා යැ යි මහණ ගොයුම්හු මට කියන්නෝ නම්, එයින් මේ පිරිස 'සොණදණ්ඩයා අනුවණ ය, නොවියත් යැ' යි මට පරිභව කරන්නාහ. මේ පිරිස යමකුට පරිභව කරන්නාහු නම් ඔහුගේ යශස ද පිරිහෙන්නේ ය. යමකුගේ යශස පිරිහෙන්නේ නම්, ඔහුගේ භොගයෝ ද පිරිහෙන්නාහ අපේ භොගයෝ යශස්හෙතුයෙන් ලද්දෝ ය (එ බැවිනි) මහණ ගොයුමන් සවකීය ආචාර්‍යවාදය වූ ත්‍රිවිද්‍යාවිෂයයෙහි පැණ විචාරතොත් යෙහෙක එසේ කලැ පැණ විසැඳීමෙන් ඒකාන්තයෙන් ම ඔබ සිත් ගත හැකි වන්නෙම්"යි මේ සිතිවිල්ල ම බෙහෙවින් සිතමින් හුන්නේ වෙයි

13 එ කලැ වනාහි භාග්‍යවතුන් වහන්සේට සිය සිතින් සොණදණ්ඩ බමුණාගේ සිත දක්මේන් "මේ සොණදණ්ඩ බමුණා සිය සිතිවිල්ලෙන් වෙහෙසෙයි මම් මොහුයෙන් සිය ආචාර්‍යවාද වූ ත්‍රිවිද්‍යාවිෂයයෙහි ප්‍රශ්නයක් විචාරන්නෙම් නම් යෙහෙකැ"යි මේ සිත වී ය

ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ සොණදණ්ඩ බමුණා අමතා, "බමුණ, අංග කීයෙකින් සමන්විතයහු බමුණකු කොට බමුණෝ පණවත් ද? (අංග කීයෙකින් සමන්විතයා) 'මම් බමුණෙකිම්'යි කියන්නේ ද? බොරු කීමකට නො පැමිණෙන්නේ ද?'යි මෙය අසා වදාළ සේක

14 එ විටැ සොණදණ්ඩ බමුණාට 'මහණ ගොයුමන් මගෙන් සිය ආචාර්‍යවාදය වූ ත්‍රිවිද්‍යාවිෂයයෙහි පැණ විචාළොත් යෙහෙක, පැණ විසැඳීමෙන් ඒකාන්තයෙන් ඔහුන් සිත ගත හෙන්නෙම්'යි යමක් අප විසින් රුස්නා ලද ද, යමක් ඇවෙක්සිණි ද, යමක් අදහස් කරණලද ද, යමක් වෙසෙසින් පැතිණි ද, එහි ලා ඔබ මගෙන් සිය ඇදුරන් ඉගැන්වූ ත්‍රිවිද්‍යාවිෂයයෙහි ප්‍රශ්න විචාරති ඒකාන්තයෙන් මම් පැණ විසැඳීමෙන් ඔබ සිත සතුටු කරන්නෙමි"යි මේ සිත වී ය

15 ඉක්බිති සොණදණ්ඩ බමුණු තෙමේ කය සෘජු කොට, හාත්පස බමුණු ගැහැවි පිරිස දෙස බලා, භාග්‍යවතුන් වහන්සේට මෙය කී ය· "භවත් ගෞතමයිනි, බමුණෝ අංග පසෙකින් යුත්තහු බමුණකු කොට පණවත් හේ 'මම් බමුණුම්'යි කියනුයේ (එය) මැනැවින් ම කියන්නේ ය. බොරු කීමකට නො පැමිණෙන්නේ ය කවර අංග පසෙකින් ද? යත්

"භවද්ගෞතමයිනි, මෙහි බමුණු තෙමේ මවු පසින් ද පිය පසින් ද යන දෙපසින් මැ අභිජාත ය, සත්වන මීමුතු පුවල තෙක් පිරිසිදු මවු කුස ඇතියේ ය, ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය වේද හදාරන්නෙක් වෙයි, වේදයන් සිතැ ලා දරන්නෙක් වෙයි, නිඝණ්ඩු ද කෛටභශාස්ත්‍ර ද සහිත, ශික්‍ෂා හා නිරුක්ති සහිත, ඉතිහාසය පස්වනු කොටැති, ත්‍රිවේදයන්ගේ පර තෙරට පැමිණියෙක් වෙයි පදපාඨ දන්නෙක් වෙයි සියලු ව්‍යාකරණ පිළි ද දන්නෙක් වෙයි ලෝකායත ශාස්ත්‍රයෙහි ද මහාපුරුෂලක්‍ෂණ ශාස්ත්‍රයෙහි ද නිපුණයෙක් වෙයි

අභිරූපො හොති දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො, බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්ඡසී අඛුද්දාවකාසො දස්සනාය සීලවා හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, පණ්ඩිතො ච හොති මෙධාවී, පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං ඉමෙහි ඛො භො ගොතම පඤ්චහි අඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤපෙන්ති බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යාති

16. "ඉමෙසං පන බ්‍රාහ්මණ පඤ්චන්නං අඞ්ගානං සක්කා එකං අඞ්ගං ඨපෙත්වා චතූහි අඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණං පඤ්ඤපෙතුං බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා ?"ති

17. "සක්කා භො ගොතම ඉමෙසං හි භො ගොතම පඤ්චන්නං අඞ්ගානං වණ්ණං ඨපයාම කිං හි වණ්ණො කරිස්සති ? යතො ඛො භො ගොතම බ්‍රාහ්මණො උභතො සුජාතො හොති මාතිතො ච පිතිතො ච, සංසුද්ධ-ගහණිකො යාව සත්තමා පිතාමහයුගා අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන අජ්ඣායකො ච හොති මන්තධරො, තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං, පදකො, වෙය්‍යාකරණො, ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො සීලවා ච හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, පණ්ඩිතො ච හොති මෙධාවී පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං ඉමෙහි ඛො භො ගොතම චතුහඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤපෙන්ති බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය, න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා'ති

18 "ඉමෙසං පන බ්‍රාහ්මණ චතුන්නං අඞ්ගානං සක්කා එකං අඞ්ගං ඨපයිත්වා තිහි අඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණං පඤ්ඤපෙතුං බ්‍රාහ්මණො-ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා ?" ති

19 "සක්කා භො ගොතම ඉමෙසං හි භො ගොතම චතුන්නං අඞ්ගානං මන්තෙ ඨපයාම කිං හි මන්තා කරිස්සන්ති ? යතො ඛො භො ගොතම බ්‍රාහ්මණො උභතො සුජාතො හොති මාතිතො ච පිතිතො ච, සංසුද්ධ-ගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන, සීලවා ච හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, පණ්ඩිතො ච හොති මෙධාවී, පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං ඉමෙහි ඛො භො ගොතම චතුහඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤ-පෙන්ති බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා"ති

විශිෂ්ට රූපශොභා ඇත්තේ, දැකුම් කටයුත්තේ, ප්‍රසාද එළවන සුළු වූයේ, උතුම් වර්ණසෞන්දර්යයෙන් සමන්විත වූයේ වෙයි උතුම් රන්වන් පැහැ ඇතියේ ය උතුම් ශරීරප්‍රභා ඇතියේ ය ආරෝහ පරිණාහ සම්පත්තියෙන් හා අවයවයන් ගේ පරිපූර්ණත්වයෙන් හා සිරුරෙහි දැකීමට නොමද වූ අවකාශ ඇතියේ වෙයි වැඩුණු සිල් ඇත්තේ, වැඩුණු ශීලයෙන් සමන්විත වූයේ, සිල්වත් වෙයි පණ්ඩිත ද නුවණැත්තේ ද එහෙයින් ද යාග සැන්ද ඔසොවන්නවුන් අතුරෙහි පළමු වැන්නා හෝ දෙවැන්නා වෙයි භවද්-ගෞතමයිනි, මේ අංග පසින් සමන්විතයා බමුණකු කොට බමුණෝ පණවත් ඒ හේ 'මම් බමුණෙකිමි'යි කියන්නේ මොනොවට කියන්නේ ය, බොරු කීමට නො වැටෙන්නේ ය යනු යි

16 [භාග්‍යවතුන් වහන්සේ] "බමුණ, මේ අංග පස අතුරෙන් එක් අංගයක් හැර අංග සතරෙකින් සමන්විතයකු බමුණකු කොට පණවන්නට හැක්කේ ද ? (එසේ පැණවීමෙන්) 'මම් බමුණෙකිමි'යින් කියන්නේ නො වැරැදිලෙස කිය හැකි වන්නේ ද ? බොරු කීමකට නො පැමිණෙන්නේ ද ?"

17. [සොණදණ්ඩ] "හැකි ය, භවද් ගෞතමයිනි භවද් ගෞතමයිනි, මේ අංග පස අතුරෙන් වර්ණසෞන්දර්යය හැරැ ලමු වර්ණය කුමක් කරන්-නේ ද ? භවද් ගෞතමයිනි, යම් හෙයෙකින් බමුණු තෙමේ මවුපියදෙපසින් අභිජාත වේ නම්, සත්වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇතියේ නම් ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ නම්, නො ගරහන ලද්දේ නම්, වේද හදාරන්නෙක්, වේද සිතැ ලා දරන්නෙක්, නිඝණ්ඩු කෙටභ-ශාස්ත්‍ර ද සහිත, ශික්ෂා හා නිරුක්ති සහිත, ඉතිහාසය පස්වනු කොටැති, තුන් වෙදයන්ගේ පරතෙර පැමිණියෙක් වේ නම්, පදපාඨ ද සියලු ව්‍යාකරණ විධි ද දන්නෙක්, ලොකායත ශාස්ත්‍රයෙහිත් මහාපුරුෂ-ලක්ෂණවිද්‍යායෙහිත් නිපුණයෙක් වේ නම්, වැඩුණු සිල් ඇත්තේ, වැඩුණු ශීලයෙන් යුක්ත වූයේ සිල්වත් වේ නම්, පණ්ඩිතත් නුවණැත්-තේත්, එ හෙයින් ම යාග සැන්ද ඔසොවන්නන් අතුරෙහි පළමු හෝ දෙවෙනිත් වේ නම්, භවද් ගෞතමයිනි, මෙ කී අංග සතරින් සමන්විතයා බමුණකු කොට බමුණෝ පණවත් හේ 'බමුණෙකිමි'යි කියන්නේ ද මොනොවට ම කියන්නේ ය, බොරු කීමටකට නො වැටෙන්නේ ය"

18 [භාග්‍යවතුන් වහන්සේ] 'බමුණ, මේ අංග සතරින් එකක් හැර අංග තුනෙකින් යුක්තයකු බමුණකු කොට පණවන්නට හැක්කේ ද ? හේ 'මම් බමුණෙකිමි'යින් කියන්නේ නොවැරැදි ලෙස කියැ හැකි වන්නේ ද ? බොරු කීමකට නො වැටෙන්නේ ද ?"

19 [සොණදණ්ඩ] "භවද් ගෞතමයිනි, හැක්කේ ය භවද්-ගෞතමයිනි, මේ අංග සතරින් වෙදයන් හැරැ දමිමු වෙදයෝ කුමක් කරන්නෝ ද ? භවද් ගෞතමයිනි, යම් හෙයෙකින් බමුණු තෙමේ මාපිය දෙපසින් අභිජාත වේ නම්, සත්වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇතියේ නම්, ජාතිවාදයෙන් නො හෙළන ලදුයේ නොගරහන ලදුයේ නම්, වැඩුණු සිල් ඇති වැඩුණු සිලින් යුත සිල්වතෙක් වේ නම්, පණ්ඩිතත් නුවණැතිය් එ හෙයින් ම යාග සැන්ද ඔසොවන්නන් අතුරෙහි පළමු හෝ දෙවෙනිය් වේ නම්, භවද් ගෞතමයිනි, මේ අංග තුනින් සමන්විතයා බමුණකු කොට බමුණෝ පණවත් හේ 'මම් බමුණෙමි'යි කියනුයේ ද කරුණු සහිත වැ ම කියන්නේ ය, බොරු කීමකට ද නො පැමිණෙන්නේ ය"

20. "ඉමෙසං පන බ්‍රාහ්මණ තිණ්ණං අඞ්ගානං සක්කා එකං අඞ්ගං ඨපෙත්වා ද්වීහඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණං පඤ්ඤපෙතුං, බ්‍රාහ්මණොස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා"ති

21 "සක්කා භො ගොතම ඉමෙසං හි භො ගොතම තිණ්ණං අඞ්ගානං ජාතිං ඨපයාම කිං හි ජාති කරිස්සති? යතො ඛො භො ගොතම බ්‍රාහ්මණො සීලවා ච හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, පණ්ඩිතො ච හොති මෙධාවී පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං ඉමෙහි ඛො භො ගොතම ද්වීහඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤපෙන්ති. බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා"ති

22 එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා සොණදණ්ඩං බ්‍රාහ්මණං එතදවොචුං "මා භවං සොණදණ්ඩො එවං අවච මා භවං සොණදණ්ඩො එවං අවච. අපවදතෙව භවං සොණදණ්ඩො වණ්ණං, අපවදති මන්තෙ, අපවදති ජාතිං එකංසෙන භවං සොණදණ්ඩො සමණස්සෙව ගොතමස්ස වාදං අනුපක්ඛන්දතී"ති.

23 අථ ඛො භගවා තෙ බ්‍රාහ්මණෙ එතදවොච "සචෙ ඛො තුම්හාකං බ්‍රාහ්මණා එවං හොති, 'අප්පස්සුතො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, අකල්‍යාණවාක්කරණො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, දුප්පඤ්ඤො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, න ච පහොති සොණදණ්ඩො බ්‍රාහ්මණො සමණෙන ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතුන්ති, තිට්ඨතු සොණදණ්ඩො බ්‍රාහ්මණො, තුම්හෙ මයා සද්ධිං මන්තව්හො සචෙ පන තුම්හාකං බ්‍රාහ්මණා එවං හොති· "බහුස්සුතො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, කල්‍යාණවාක්කරණො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, පණ්ඩිතො ච සොණදණ්ඩො බ්‍රාහ්මණො, පහොති ච සොණදණ්ඩො බ්‍රාහ්මණො සමණෙන ගොතමෙන සද්ධිං අස්මිං වචනෙ පටිමන්තෙතුන්ති' තිට්ඨථ තුම්හෙ, සොණදණ්ඩො බ්‍රාහ්මණො මයා සද්ධිං පටිමන්තෙතූ"ති

24 එවං වුත්තෙ සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච "තිට්ඨතු භවං ගොතමො තුණ්හී භවං ගොතමො හොතු අහමෙව තෙසං සහධම්මෙන පටිවචනං කරිස්සාමී"ති

අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො තෙ බ්‍රාහ්මණෙ එතදවොච "මා භවන්තො එවං අවචුත්ථ, මා භවන්තො එවං අවචුත්ථ 'අපවදතෙව භවං සොණදණ්ඩො වණ්ණං, අපවදති මන්තෙ, අපවදති ජාතිං, එකංසෙන භවං සොණදණ්ඩො සමණස්සෙව ගොතමස්ස වාදං අනුපක්ඛන්දතී'ති නාහං භො අපවදාමි වණ්ණං වා මන්තෙ වා ජාතිං වා"ති

20 [භාග්‍යවතුන් වහන්සේ] "බමුණ, මේ අංග තුනින් එක් අංගයක් හැර දමා අංග දෙකෙකින් සමන්විතයකු බමුණකු කොට පැනවිය හැක්කේ ද? හේ 'මම බමුණෙකිමි'යි කියනුයේ, කරුණු සහිත වැ කිය හැකි වන්නේ ද? බොරු කීමකට නො පැමිණෙන්නේ ද?"

21 [සොණදණ්ඩ] "භවද්ගෞතමයිනි, හැක්කේ ය. භවද්ගෞතමයිනි, මේ අංග තුනෙන් ජාතිය හැර දමමු. ජාතිය කුමක් කරන්නේ ද? භවද්ගෞතමයිනි, යම් හෙයෙකින් බමුණු තෙමේ වැඩුණු සිල් ඇත්තේ, වැඩුණු සිලින් යුක්ත වූයේ සිල්වත් වේ ද, පණ්ඩිත නුවණැත්තේත් එහෙයින් ම යාග සැන්ද ඔසොවන්නන් අතුරෙහි පළමු හෝ දෙවනියි වේ ද, භවද්ගෞතමයිනි, මේ අංග දෙකින් සමන්විතයකු බමුණකු කොට බමුණෝ පණවත් හේ ද 'මම බමුණුමි' යි කියනුයේ කරුණු සහිත වැ කියන්නේ ය, බොරු කීමකට නො පැමිණෙන්නේ ය."

22 මෙසේ කී කල්හි ඒ බමුණෝ සොණදණ්ඩ බමුණාහට "භවත් සොණදණ්ඩ තෙමේ මෙසේ නො කියා වා, භවත් සොණදණ්ඩ තෙමේ මෙසේ නො කියා වා. භවත් සොණදණ්ඩ තෙමේ වර්ණසෞන්දර්යය බැහැර කෙරේ ම ය, භවත් සොණදණ්ඩ තෙමේ වේදයන් බැහැර කෙරේ මැ ය, ජාතිය බැහැර කෙරේ ම ය. භවත් සොණදණ්ඩ තෙමේ ඒකාන්තයෙන් ශ්‍රමණ ගෞතමයන්ගේ සමයයට වැදී ගනී" යැ යි මේ වචන කීහ.

23 එ විට භාග්‍යවතුන් වහන්සේ ඒ බමුණනට වදාරන සේක් "බමුණනි, ඉදින් සොණදණ්ඩ බමුණා අල්පශ්‍රැත යැ යි ද, නොමනා බස් දොඩන්නෙකැ යි ද, නුවණ නැත්තෙකැ යි ද, මේ වචනයෙහි ශ්‍රමණ ගෞතමයන් හා සාකච්ඡා කරන්නට සමත් නො වෙතැ'යි ද කියා තොපට මෙසේ සිතෙක් වේ නම්, සොණදණ්ඩ බමුණු තෙමේ සිටි වා. තෙපි මා හා සාකච්ඡා කරවු. බමුණනි, ඉදින් සොණදණ්ඩ බමුණු තෙමේ බහුශ්‍රැත යැ යි ද, මනා වචන කියන්නෙකැ යි ද, පණ්ඩිත යැ යි ද, මේ වචනයෙහි ශ්‍රමණගෞතමයන් හා සාකච්ඡා කරන්නට සමත් වෙතැ යි ද තොපට මෙසේ සිතෙක් වේ නම්, තෙපි සිටිවු. සොණදණ්ඩ බමුණු තෙමේ ම මා හා සාකච්ඡා කෙරේ වා" යි මෙය වදාළ සේක.

24 මෙසේ වදාළ කල්හි, සොණදණ්ඩ බමුණු තෙමේ "භවද්ගෞතම තෙමේ සිටි වා. භවද්ගෞතම තෙමේ නිහඬ වේ වා. මම ම ඔවුනට කරුණු සහිත වැ උත්තර දෙන්නෙමි" යි භාග්‍යවතුන් වහන්සේට කීය.

ඉක්බිති සොණදණ්ඩ බමුණු ඒ බමුණන් බණවා "භවත්හු 'භවත් සොණදණ්ඩයා වර්ණය බැහැර කෙරෙයි, වේදයන් බැහැර කෙරෙයි, ජාතිය බැහැර කෙරෙයි. ඒකාන්තයෙන් භවත් සොණදණ්ඩ තෙමේ ශ්‍රමණ ගෞතමයන්ගේ සමයයට වැදී ගනී යැ යි මෙසේ නො කියත් වා. මම වර්ණය හෝ වේදයන් හෝ ජාතිය හෝ බැහැර නො කරමි [illegible]

25. තෙන ඛො පන සමයෙන සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස භාගිනෙය්‍යො අඞ්ගකො නාම මාණවකො තස්සං පරිසායං නිසින්නො හොති. අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො තෙ බ්‍රාහ්මණෙ එතදවොච "පස්සන්ති නො භොන්තො ඉමං අඞ්ගකං මාණවකං අම්හාකං භාගිනෙය්‍යන්ති ?"

"එවං භො"

"අඞ්ගකො ඛො භො මාණවකො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්චසී අඛුද්දාවකාසො දස්සනාය නාස්ස ඉමිස්සං පරිසායං සමසමො අත්ථි වණ්ණෙන, ඨපෙත්වා සමණං ගොතමං.

අඞ්ගකො ඛො භො මාණවකො අජ්ඣායකො මන්තධරො, තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො අහමස්ස මන්තෙ වාචෙමි.

අඞ්ගකො ඛො භො මාණවකො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන අහමස්ස මාතාපිතරො ජානාමි.

අඞ්ගකො ඛො භො මාණවකො පාණම්පි හනෙය්‍ය අදින්නම්පි ආදියෙය්‍ය පරදාරම්පි ගච්ඡෙය්‍ය මුසාපි භණෙය්‍ය මජ්ජම්පි පිවෙය්‍ය, එත්ථදානි භො කිං වණ්ණො කරිස්සති, කිං මන්තා, කිං ජාති ?

යතො ඛො භො බ්‍රාහ්මණො සීලවා ච හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, පණ්ඩිතො ච හොති මෙධාවී පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං ඉමෙහි ඛො භො ද්වීහඞ්ගෙහි සමන්නාගතං බ්‍රාහ්මණා බ්‍රාහ්මණං පඤ්ඤාපෙන්ති බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය, න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා''ති

26 "ඉමෙසං පන බ්‍රාහ්මණ ද්වින්නං අඞ්ගානං සක්කා එකං අඞ්ගං ඨපයිත්වා එකෙන අඞ්ගෙන සමන්නාගතං බ්‍රාහ්මණං පඤ්ඤාපෙතුං, බ්‍රාහ්මණො'ස්මීති ච වදමානො සම්මා වදෙය්‍ය න ච පන මුසාවාදං ආපජ්ජෙය්‍යා ?''ති

"නො හිදං භො ගොතම සීලපරිධොතා හි භො ගොතම පඤ්ඤා පඤ්ඤාපරිධොතං සීලං යත්ථ සීලං තත්ථ පඤ්ඤා, යත්ථ පඤ්ඤා තත්ථ සීලං සීලවතො පඤ්ඤා, පඤ්ඤවතො සීලං සීලපඤ්ඤාණං ච පන ලොකස්මිං අග්ග-මක්ඛායති සෙය්‍යථාපි භො ගොතම හත්ථෙන වා හත්ථං ධොවෙය්‍ය පාදෙන වා පාදං ධොවෙය්‍ය, එවමෙව ඛො භො ගොතම සීලපරිධොතා පඤ්ඤා, පඤ්ඤාපරිධොතං සීලං යත්ථ සීලං තත්ථ පඤ්ඤා, යත්ථ පඤ්ඤා තත්ථ සීලං. සීලවතො පඤ්ඤා, පඤ්ඤවතො සීලං සීලපඤ්ඤාණඤ්ච පන ලොකස්මිං අග්ගමක්ඛායති

25 එ වේලෙහි සොණදණ්ඩ බමුණාගේ බෑනණු වූ අඞ්ගක නම් මාණවක තෙමේ ඒ පිරිසෙහි හුන්නේ වෙයි ඉක්බිති සොණදණ්ඩ බමුණු "භවත්හු අප බෑනණු වූ මේ අඞ්ගක මාණවකයා දකිත් ද ?"යි කී ය

"භවත, එසේ යැ" යි බමුණෝ කීහ

(එ පිට සොණදණ්ඩ බමුණු මෙසේ කී ය )

"භවත්නි, අඞ්ගක මාණවක තෙමේ විශිෂ්ට රූපය ඇත්තේ ය, දක්නුම් කටයුතු ය, උතුම් වර්‍ණසෞන්‍දර්‍ය්‍යයෙන් යුක්ත ය, උතුම් රන් පැහැ ඇත්තේ ය, උතුම් සිරුරුපැහැ ඇත්තේ ය, සිය සිරුර දක්මට නොමද අවකාශ ඇත්තේ ය ශ්‍රමණ ගෞතමයන් හැර මේ පිරිසෙහි හැම අයුරින් ම ඔහුට සම එකෙක් නැත

භවත්නි, අඞ්ගක මාණවක තෙමේ වේද හතුරත්තෙනක, වේදමන්ත්‍රයන් සිත්හි ලා දරන්නෙක, නිඝණ්ඩු ද කෛටභශාස්ත්‍ර ද සහිත අක්‍ෂරප්‍රභෙද සහිත ත්‍රිවෙදයෙහි පාරප්‍රාප්තයෙක පදපාඨ දන්නෙක, සියලු ව්‍යාකරණ විධිත් දන්නෙක, ලොකායතශාස්ත්‍රයෙහි ද මහාපුරුෂලක්‍ෂණවිද්‍යායෙහි ද නිපුණයෙක මොහුට වේද කියැවූ තැනැත්තේ මම් ය

භවත්නි, අඞ්ගක මාණවක තෙමේ මවු පිය යන දෙ පසින් ම අභිජාත ය, සත් වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇත්තෙක, ජාතිවාදයෙන් නොගෙලන ලද්දෙක, නොගරහන ලද්දෙක මම් මොහුගේ මවු පියන් දනිමි

භවත්නි, අඞ්ගක මාණවකයා වනාහි ප්‍රාණඝාත ද කරන්නේ නම්, නොදුන් දූත් ගන්නේ නම්, පරඹුවන් කරා යන්නේ නම්, බොරුත් කියන්නේ නම්, මත්පැනුත් බොන්නේ නම්, භවත්නි, මෙහි වර්‍ණ-සෞන්‍දර්‍ය්‍යය කුමක් කරන්නේ ද (බමුණු බව රක්නට සමත් වන්නේ ද) ? වේදයෝ කුමක් කරන්නෝ ද ? ජාතිය කුමක් කරන්නේ ද ?

භවත්නි, යම් පහයෙකින් බමුණු තෙමේ වැඩුණු සිල් ඇත්තේ, වැඩුණු සිලින් යුත් වූයේ, සිල්වත් වේ ද, පණ්ඩිත වේ ද, නුවණැති වේ ද, යාග සැන්ද ඔසොවන්නන් අතුරෙහි පලමු හෝ දෙවෙනි වේ ද, භවත්නි, මේ අඞ්ග දෙකින් සමන්විතයා වූ කලී බමුණකු කොට බමුණෝ පණවත් හේ 'මම් බමුණුම්'යි කියන්නේ ද කරුණු සහිත වැ කියන්නේ ය, බොරු කීමකට නො පැමිණෙන්නේ ය"

26 [භාග්‍යවතුන් වහන්සේ] බ්‍රාහ්මණය, මේ අඞ්ග දෙකින් එක් අඞ්ගයක් හැර දමා එක් අඞ්ගයෙකින් සමන්විතයා බමුණකු කොට පණවන්නට හැක්කේ ද ? හේ 'බමුණෙක්මි'යි කියන්නේ, කරුණු සහිත වැ කියන්නේ ද ? බොරු කීමකට නො පැමිණෙන්නේ ද ?"

[සොණදණ්ඩ] භවද්ගෞතමයිනි, මෙය නො වේ ම ය භවද් ගෞතමයිනි, ප්‍රඥාව ශීලයෙන් පිරිසිදු වෙයි ශීලය ප්‍රඥායෙන් පිරිසිදු වෙයි යම් තැනෙක ශීලය වේ නම්, එහි ප්‍රඥාව වේ යම් තැනෙක ප්‍රඥාව වේ නම් එහි ශීලය වේ සිල්වන්හට නුවණ වේ නුවණැත්තාට සිල් ඇති වේ. ශීල ප්‍රඥා දෙක වූ කලී ලොවැ අග්‍ර යැ යි කියනු ලැබෙ භවද් ගෞතමයිනි, යම් සේ අතින් අත හෝ පසින් පය හෝ සෝදන්නේ ද, එසේ ම ප්‍රඥාව ශීලයෙන් පරිශොධිත වේ ශීලය ප්‍රඥායෙන් පරිශොධිත වේ යම් තැනෙක ශීලය වේ නම්, ශීල ප්‍රඥා දෙක වූ කලී ලොවැ අග්‍ර යැ යි කියනු ලැබේ

“එවමෙතං බ්‍රාහ්මණ සීලපරිධොතා හි බ්‍රාහ්මණ පඤ්ඤා, පඤ්ඤාපරිධොතං සීලං යත්ථ සීලං තත්ථ පඤ්ඤා, යත්ථ පඤ්ඤා තත්ථ සීලං සීලවතො පඤ්ඤා, පඤ්ඤවතො සීලං සීලපඤ්ඤාණඤ්ච පන ලොකස්මිං අග්ගමක්ඛායති

“කතමං පන තං බ්‍රාහ්මණ සීලං? කතමා සා පඤ්ඤා”?ති

“එත්තකපරමා’ව මයං භො ගොතම එතස්මිං අත්ථෙ සාධු වත භවන්තංයෙව ගොතමං පටිභාතු එතස්ස භාසිතස්ස අත්ථො”ති

“තෙන හි බ්‍රාහ්මණ සුණාහි, සාධුකං මනසි කරොහි, භාසිස්සාමී”ති

‘එවං භො’ති ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවතො පච්චස්සොසි භගවා එතදවොච

25 “ඉධ බ්‍රාහ්මණ තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මා-සම්බුද්ධො-පෙ-

(යථා සාමඤ්ඤඵලෙ එවං විත්ථාරෙතබ්බං) එවං ඛො බ්‍රාහ්මණ භික්ඛු සීලසම්පන්නො හොති ඉදං ඛො තං බ්‍රාහ්මණ සීලං-පෙ- පඨමං ඣානං උපසම්පජ්ජ විහරති දුතියං ඣානං උපසම්පජ්ජ විහරති -පෙ- තතියං ඣානං උපසම්පජ්ජ විහරති -පෙ- චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති -පෙ- අයං ඛො සො බ්‍රාහ්මණ සමාධි -පෙ- ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති, අභිනින්නාමෙති -පෙ- නාපරං ඉත්ථත්තායාති පජානාති ඉදම්පි’ස්ස හොති පඤ්ඤාය අයං ඛො සා බ්‍රාහ්මණ පඤ්ඤා”ති

26 එවං වුත්තෙ සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච “අභික්කන්තං භො ගොතම, අභික්කන්තා භො ගොතම සෙය්‍යථාපි භො ගොතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛුමන්තො රූපානි දක්ඛින්තීති, එවමෙව භොතා ගොතමෙන අනෙකපරියා-යෙන ධම්මො පකාසිතො එසාහං භවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච උපාසකං මං භවං ගොතමො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතං අධිවාසෙතු ච මෙ භවං ගොතමො ස්වාතනාය භත්තං සද්ධිං භික්ඛුසඞ්ඝෙනා”ති අධිවාසෙසි භගවා තුණ්හීභාවෙන.

[භාග්‍යවතුන් වහන්සේ] බ්‍රාහ්මණය, මෙය එසේ ය බ්‍රාහ්මණය, ප්‍රඥාව ශීලයෙන් පිරිසිදු වේ. ශීලය ප්‍රඥායෙන් පිරිසිදු වේ සිල් ඇති තැන ප්‍රඥාව වේ ප්‍රඥාව ඇති තැන සිල් වේ සිල්ඇත්තහුට ප්‍රඥාව ඇත ප්‍රඥාව ඇත්තහුට සිල් ඇත ශිල ප්‍රඥා දෙක වනාහි ලොවැ අග්‍ර යැ සි කියනු ලැබේ බ්‍රාහ්මණය, ඒ ශිලය කවර යැ ? ඒ ප්‍රඥාව කවර යැ ’

[සොණදණ්ඩ] භවද් ගෞතමයිනි, මේ කරුණෙහි මේ ශිල ප්‍රඥා යන වචන දෙක දැනීම ම පරම කොටැත්තමු (මේ වචන දනු විනා එහි අර්ථාදි වශයෙන් මෙසින් වැඩියක් නො දනිමු ) යාච්ඤා කරම්හ භවද් ගෞතමයනට ම මේ වචනයේ අර්ථ වැටහේ වා (භවද්ගෞතමයෝ ම මෙහි අර්ථ වදාරත වා)

[භාග්‍යවතුන් වහන්සේ] “බමුණ, එසේ නම් අසන්නැ මොනොවට මෙනෙහි කරන්නැ. එය කියන්නෙමි

සොණදණ්ඩ තෙමේ ‘භවත, එසේ යැ’සි භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දුන්නේ ය භාග්‍යවතුන් වහන්සේ මතු දැක්වෙන ධර්මය වදාළ සේක

25 “බමුණ, අර්හත් වූ සම්‍යක්සම්බුද්ධ වූ තථාගත තෙමේ මෙ ලොවැ පහළ වෙයි

(සාමඤ්ඤඵලසූත්‍රයෙහි ආ සේ විස්තර කළ යුතු ) . බමුණ, මෙසේ මහණ තෙමේ ශිලසම්පන්න වෙයි බමුණ, මේ ඒ ශීලය යි . . පළමු ධ්‍යානය ලැබ වෙසෙයි දෙවෙනි ධ්‍යානය ලැබ වෙසෙයි . තෙවෙනි ධ්‍යානය ලැබ වෙසෙයි සිවු වන ධ්‍යානය ලැබ වෙසෙයි බමුණ, මේ ඒ සමාධියයි ආශ්‍රවක්ෂයඥානය පිණිස සිය යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. ‘මේ කෙලෙශක්ෂයය පිණිස කළ යුතු අන් කිසිත් නැතැ’සි දැනැ ගනී මේ ඔහුගේ ප්‍රඥාව වේ. බමුණ, මේ ඒ ප්‍රඥාව ය.”

26 මෙසේ වදාළ කල්හි සොණදණ්ඩ බ්‍රාහ්මණ තෙම, “භවද් ගෞතමයිනි, ධර්මදෙශනාව අභික්‍රාන්ත ය. භවද් ගෞතමයිනි, ධර්මදෙශනාව අභික්‍රාන්ත ය භවද් ගෞතමයිනි, යම්සේ යටිකුරු කොට තැබූ බඳුනක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු දෙයක් විවෘත කරන්නේ හෝ වේ ද, මංමුළා වූවකුට මඟ හෝ කියන්නේ වේ ද, ‘ඇස් ඇත්තෝ රූප දකිතැ’යි අඳුරෙහි තෙල්පහනක් දල්වන්නේ හෝ වේ ද, භවද්ගෞතමයිනි, එ පරිද්දෙන් ම, භවද්ගෞතමයන් විසින් මට නොයෙක් අයුරින් ධර්මය පැවැසිණ භවද්ගෞතමයිනි, ඒ මම් භවද් ගෞතමයන් වහන්සේ ද ධර්මය ද භික්ෂුසංඝයා ද සරණ යෙමි භවද් ගෞතමයන් වහන්සේ අද පටන් මා දිවි හිමි කොට සරණ ගිය උපාසකයකු කොට සලකන සේක්වා භවද්ගෞතමයන් වහන්සේ භික්ෂුසංඝයා හා සෙට දවසට මගේ බත ඉවසන සේක්වා”යි කීයේ ය භාග්‍යවතුන් වහන්සේ නිහඬ බැවින් එය ඉවැසූ සේක

27. අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවතො අධිවාසනං විදිත්වා උට්ඨායාසනා භගවන්තං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා පක්කාමි. අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො තස්සා රත්තියා අච්චයෙන සකෙ නිවෙසනෙ පණීතං ඛාදනීයං භොජනීයං පටියාදාපෙත්වා භගවතො කාලං ආරොචාපෙසි· කාලො භො ගොතම, නිට්ඨිතං භත්තන්ති

28. අථ ඛො භගවා පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරමාදාය සද්ධිං භික්ඛුසඞ්ඝෙන යෙන සොණදණ්ඩස්ස බ්‍රාහ්මණස්ස නිවෙසනං තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි. අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො බුද්ධපමුඛං භික්ඛුසඞ්ඝං පණීතෙන ඛාදනීයෙන භොජනීයෙන සහත්ථා සන්තප්පෙසි සම්පවාරෙසි

29. අථ ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවන්තං භුත්තාවිං ඔනීතපත්තපාණිං අඤ්ඤතරං නීචං ආසනං ගහෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො සොණදණ්ඩො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච "අහඤ්චෙව ඛො පන භො ගොතම පරිසගතො සමානො ආසනා වුට්ඨහිත්වා භවන්තං ගොතමං අභිවාදෙය්‍යං, තෙන මං සා පරිසා පරිභවෙය්‍ය යං ඛො පන සා පරිසා පරිභවෙය්‍ය යසො'පි තස්ස හායෙථ. යස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා

අහඤ්චෙව ඛො පන භො ගොතම පරිසගතො සමානො අඤ්ජලිං පග්ගණ්හෙය්‍යං, ආසනා මෙ තං භවං ගොතමො පච්චුට්ඨානං ධාරෙතු

අහඤ්චෙව ඛො පන භො ගොතම පරිසගතො සමානො වෙඨනං ඔමුඤ්චෙය්‍යං, සිරසා මෙ තං භවං ගොතමො අභිවාදනං ධාරෙතු

අහඤ්චෙව ඛො පන භො ගොතම යානගතො සමානො යානා පච්චොරොහිත්වා භවන්තං ගොතමං අභිවාදෙය්‍යං, තෙන මං සා පරිසා පරිභවෙය්‍ය. යං ඛො පන සා පරිසා පරිභවෙය්‍ය යසො'පි තස්ස හායෙථ යස්ස ඛො පන යසො හායෙථ භොගාපි තස්ස හායෙය්‍යුං යසොලද්ධා ඛො පනම්හාකං භොගා

අහඤ්චෙව ඛො පන භො ගොතම යානගතො සමානො පතොදලට්ඨිං අබ්භුන්නාමෙය්‍යං, යානා මෙ තං භවං ගොතමො පච්චොරොහනං ධාරෙතු.

අහඤ්චෙව ඛො පන භො ගොතම යානගතො සමානො ඡත්තං අපනාමෙය්‍යං, සිරසා මෙ තං භවං ගොතමො අභිවාදනං ධාරෙතූ"ති

අථ ඛො භගවා සොණදණ්ඩං බ්‍රාහ්මණං ධම්මියා කථාය සන්දස්සෙත්වා සමාදපෙත්වා සමුත්තෙජෙත්වා සම්පහංසෙත්වා උට්ඨායාසනා පක්කාමීති

සොණදණ්ඩසුත්තං නිට්ඨිතං චතුත්ථං

27. ඉක්බිත්තෙන් සොණදණ්ඩ බමුණු තෙමේ භාග්‍යවතුන් වහන්සේගේ ඉවැසීම දැන, හුනස්නෙන් නැගී සිට, භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් වැඳ පැදකුණු කොට නික්මැ ගියේ ය ඉන් පසු සොණදණ්ඩ බමුණු තෙම ඒ රැය ඇවෑමෙන් සිය ගෙහි ප්‍රණීත ඛාද්‍ය භොජ්‍ය පිළියෙල කරවා ‘භවද්ගෞතමයන් වහන්ස, බත පිළියෙල කොට නිමියේ ය දූන් වඩින්නට කාලය වේ යැ’ යි භාග්‍යවතුන් වහන්සේට කල් දන්වා යැවී ය

28 ඉක්බිත්තෙන් භාග්‍යවතුන් වහන්සේ පෙරවරු හැඳ පෙරෙවැ පාසිවුරු ගෙන භික්සඟන හා සොණදණ්ඩ බමුණාගේ ගෙට එළැඹි සේක එළැඹ පණවා තුබූ අස්නෙහි වැඩ හුන් සේක එ කල්හි සොණදණ්ඩ බමුණු තෙමේ බුදුපාමොක් සඟන ප්‍රණීත ඛාද්‍යභොජ්‍යයෙන් සියතින් සැතැප්වී ය, පැවැරැවී ය

29 එයට පසු සොණදණ්ඩ බමුණු තෙම වළඳා අවසන් කළ, පාත්‍රයෙන් ඉවතට ගත් අතැති භාග්‍යවතුන් වහන්සේට එක් පසෙක එක්තරා මිටි අස්නක් ගෙන හිඳ ගත්තේ ය එකත්පසෙක හුන් සොණදණ්ඩ තෙම භාග්‍යවතුන් වහන්සේට මෙ බස් පැවැසී ය

“භවද්ගෞතමයිනි, මම් වූ කලි පිරිස් මැදට පැමිණියෙම් ම අස්නෙන් නැගී සිට භවත් ගෞතමයන් වැන්දෙම් වීම් නම්, එයින් ඒ පිරිස මට බැණ වදිති යමකුට ඒ පිරිස බැණ වදිත් නම් ඔහුගේ යශස් ද පිරිහෙන්නේ ය යමක්හුගේ යශස් පිරිහෙන්නේ ද, ඔහුගේ භොග සම්පත් ද පිරිහෙන්නේ ය අපේ භොගසම්පත් වූ කලි යශසින් ලබන ලද්දේ ය.

තව ද භවද්ගෞතමයිනි, මම් පිරිසට පැමිණියෙම් ම දොහොත් මුදුන් තැබූයෙම් වීම් නම්, එය මා හුනස්නෙන් නැගී සිටීම කොට භවද්ගෞතමයන් වහන්සේ සලකන සේක් වා.

තව ද භවද් ගෞතමයෙනි, මම් පිරිස් මැදට ගියෙම් ම හිස්වෙළුම මුදා හෙළූයෙම් වීම් නම්, භවද්ගෞතමයන් වහන්සේ එය මා හිස නමා කළ වැඳීමක් කොට සලකන සේක් වා

තව ද භවද්ගෞතමයිනි, මම් යානයක් නැඟ උන්නෙම් ම එයින් බැස, භවද්ගෞතමයන් වහන්සේ වැන්දෙම් නම්, එයින් ඒ පිරිස මට පරිභව කරති එසේ පරිභව ලද්දහුගේ යශස් ද පිරිහේ යශසින් පිරිහුණහුගේ භොග ද පිරිහෙන්නේ ය අපේ භොගයෝ යශසින් ලබන ලද්දෝ ය (එ බැවිනි.)

භවද්ගෞතමයිනි, මම් වනාහි යානයක් නැඟ උන්නෙම් ම කෙවිට ඉදිරියට නමා ලීම් නම්, එය මා යානයෙන් බැසීම කොට භවද්ගෞතමයන් වහන්සේ සලකන සේක් වා.

තව ද මම් යානයෙක උන්නෙම් ම ඡත්‍රය ඉවතට නමා හෙළීම් නම්, එය මා හිස නමා කළ වැඳීමක් කොට භවද්ගෞතමයන් වහන්සේ සලකන සේක් වා.”

ඉන් පසු භාග්‍යවතුන් වහන්සේ සොණදණ්ඩ බමුණාට දැහැමි කථායෙන් දෙලෝ වැඩ දක්වා, කුසල් දහම් ගන්වා, කුසල් වැඩුම්හි උත්සාහවත් කොට, ඔහු තුළැ වූ ගුණ දක්වා සතුටු කොට, හුනස්නෙන් නැගී නික්මැ වැඩි සේක

**සිවුවන සොණදණ්ඩ සූත්‍රය නිමියේ ය.**

5

# කූටදන්තසුත්තං

**1** එවං මෙ සුතං එකං සමයං භගවා මගධෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි, යෙන ඛාණුමතං නාම මගධානං බ්‍රාහ්මණගාමො තදවසරි තත්‍ර සුදං භගවා ඛාණුමතෙ විහරති අම්බලට්ඨිකායං

තෙන ඛො පන සමයෙන කූටදන්තො බ්‍රාහ්මණො ඛාණුමතං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බිසාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං

තෙන ඛො පන සමයෙන කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස මහායඤ්ඤො උපක්ඛටො හොති සත්ත ච උසභසතානි සත්ත ච වච්ඡතරසතානි සත්ත ච වච්ඡතරිසතානි සත්ත ච අජසතානි සත්ත ච උරබ්භසතානි ථූණූපනීතානි හොන්ති යඤ්ඤත්ථාය

2. අස්සොසුං ඛො ඛාණුමතකා බ්‍රාහ්මණගහපතිකා "සමණො ඛලු භො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො මගධෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි ඛාණුමතං අනුප්පත්තො ඛාණුමතෙ විහරති අම්බලට්ඨිකායං

'තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො' ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොතී"ති

අථ ඛො ඛාණුමතකා බ්‍රාහ්මණගහපතිකා ඛාණුමතා නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතා යෙන අම්බලට්ඨිකා තෙනුපසඞ්කමන්ති.

# 5

# කූටදන්ත සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදී: එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ පන්සියයක් භික්ෂූන් පමණ වූ මහත් පැවිදිමුළුවක් හා මගධ රටැ සැරි සරන සේක්, මගධ රටැ ඛාණුමත නම් බමුණු ගමට වැඩි සේක. භාග්‍යවතුන් වහන්සේ ඒ ඛාණුමත ගමැ අඹයැටිඋයන්හි වැඩ වසන සේක

එ සමයෙහි වනාහි කුළුදත් (කූටදන්ත) බමුණු තෙමේ මගධාධිපති ශ්‍රේණිය බිම්බිසාර රජ්ජුරු විසින් දුන් රාජදායාද්‍ය වූ, ශ්‍රේෂ්ඨ ත්‍යාගය වූ, බහුජනාකීර්ණ වූ, තණ දඬු දිය සුලභ වූ, බොහෝ ධන ධාන්‍ය ඇති, රාජසභාරූපයෙන් පරිභෝග කටයුතු වූ ඛාණුමත ගමැ වෙසෙයි

එ සමයෙහි කුළුදත් බමුණුහුගේ මහායාගයෙක් පිළියෙල කැරෙණේ වෙයි සත්සියයක් ගොන් ද, සත්සියයක් නාඹුවස්සෝ ද, සත්සියයක් නාඹුවැස්සියෝ ද, සත්සියයක් එළුවෝ ද, සත්සියයක් තරුණ බැටළුවෝ ද (පොරගසන එළුවෝ ද තවත් සත්සියය බැගින් බොහෝ මෘගපක්ෂීහු ද) යාග පිණිස යාග ටැඹ වෙතට පමුණුවන ලදහ

2 ඛාණුමත ගමැ වැසි බමුණෝ ද ගැහැවියෝ ද රටෙහි පැතිරැ පැවැති භාග්‍යවතුන් වහන්සේ පිළිබඳ මතු දැක්වෙන යස ගී ඇසූහ: "භවත්නි, ශාක්‍යපුත්‍ර වූ, ශාක්‍යකුලයෙන් නික්මැ පැවිදි වූ මහණ ගොයුම්හු භික්ෂූන් පන්සියයක් පමණ වූ මහත් පැවිදිමුළුවක් හා මගධ රටැ සැරි සරනුවෝ ඛාණුමතයට පැමිණියෝ ඛාණුමතයට සමීපයෙහි වූ අඹයැටි වෙනෙහි වෙසෙති

'ඒ භගවත් තෙමේ මේ මේ කරුණින් අර්හත් ය, සම්‍යක්සම්බුද්ධ ය, විද්‍යාචරණසම්පන්න ය, සුගත ය, ලෝකවිත් ය, නිරුත්තර පුරුෂදම්‍යසාරථි ය, දෙව්මිනිසුනට ශාස්තෘ ය, බුද්ධ ය, භගවත් ය හේ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත මේ ලොව, අවශේෂ මහණ-බමුණන් සහිත දෙව්මිනිසුන් සහිත මේ සත්ත්වවර්ගයා තෙමේ ම සිය විශිෂ්ට නුවණින් දැන පසක් කොට ලොවට දක්වයි ආදිකල්‍යාණ මධ්‍යකල්‍යාණ පර්යවසානකල්‍යාණ වූ, (සතිපට්ඨානාදි) මනා අරුත් ඇති, සම්පූර්ණ ව්‍යඤ්ජන ඇති, හැම අයුරින් පිරිපුන්, පිරිසිදු දහම් දෙසයි එසේ දෙසනුයේ සියලු සසුන් බඹසර පවසයි එබඳු රහතුන් දැක්ම වූ කලී හිත වැඩ සලසනෙකැ' යි ඒ භවද්ගෞතමයන් පිළිබඳ මෙසේ වූ උතුම් යසකීර්තියෙක් උස් වැ නැංගේ ය" යනු යි

ඉක්බිති ඛාණුමත ගමැ වැසි බමුණෝ ද ගැහැවියෝ ද ඛාණුමතයෙන් නික්මැ බොහෝ බොහෝ වැ මුළු මුළු වූවෝ, එකී එකී පැත්තෙහි මුළු දුන්නෝ, ගමින් පිටතැ දී මහ මුළුවෙක් වැ එකතු වූවෝ අඹයැටි උයන දෙසට යෙත්

3 තෙන ඛො පන සමයෙන කූටදන්තො බ්‍රාහ්මණො උපරිපාසාදෙ දිවාසෙය්‍යං උපගතො හොති අද්දසා ඛො කූටදන්තො බ්‍රාහ්මණො ඛාණුමතකෙ බ්‍රාහ්මණගහපතිකෙ ඛාණුමතා නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතෙ යෙන අම්බලට්ඨිකා තෙනුපසඞ්කමන්තෙ දිස්වා ඛත්තං ආමන්තෙසි: “කින්නු ඛො භො ඛත්තෙ ඛාණුමතකා බ්‍රාහ්මණගහපතිකා ඛාණුමතා නික්ඛමිත්වා සඞ්ඝසඞ්ඝී ගණීභූතා යෙන අම්බලට්ඨිකා තෙනුපසඞ්කමන්ති” ? ති

“අත්ථි ඛො භො සමණො ගොතමො, සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො මගධෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි ඛාණුමතං අනුප්පත්තො ඛාණුමතෙ විහරති අම්බලට්ඨිකායං තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො · ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා’ති. තමෙතෙ භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමන්තී”ති

4 අථ ඛො කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස එතදහොසි“ සුතං ඛො පන මෙ තං සමණො ගොතමො තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ජානාතීති න ඛො පනාහං ජානාමි තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ඉච්ඡාමි චාහං මහායඤ්ඤං යජිතුං යන්නූනාහං සමණං ගොතමං උපසඞ්කමිත්වා තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං පුච්ඡෙය්‍යන්ති”

අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො ඛත්තං ආමන්තෙසි “තෙන හි භො ඛත්තෙ යෙන ඛාණුමතකා බ්‍රහ්මණගහපතිකා තෙනුපසඞ්කම උපසඞ්කමිත්වා ඛාණුමතකෙ බ්‍රාහ්මණගහපතිකෙ එවං වදෙහි “කූටදන්තො භො බ්‍රාහ්මණො එවමාහ ආගමෙන්තු කිර භවන්තො කූටදන්තො’පි බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී”ති

‘එවං භො’ති ඛො සො ඛත්තා කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස පටිස්සුත්වා යෙන ඛාණුමතකා බ්‍රහ්මණගහපතිකා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා ඛාණුමතකෙ බ්‍රහ්මණගහපතිකෙ එතදවොච “කූටදන්තො භො බ්‍රාහ්මණො එවමාහ ආගමෙන්තු කිර භොන්තො කූටදන්තො’පි බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී”ති

5 තෙන ඛො පන සමයෙන අනෙකානි බ්‍රාහ්මණසතානි ඛාණුමතෙ පටිවසන්ති ‘කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස මහායඤ්ඤං අනුභවිස්සාමා’ති අස්සොසුං ඛො තෙ බ්‍රාහ්මණා ‘කූටදන්තො කිර බ්‍රාහ්මණො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී’ති අථ ඛො තෙ බ්‍රාහ්මණා යෙන කූටදන්තො බ්‍රාහ්මණො තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා කූටදන්තං බ්‍රාහ්මණං එතදවොචුං ‘සච්චං කිර භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සතී ?’ති

3. එ සමයෙහි කුළුදත් බමුණු තෙමේ තමා පහයැ උඩු මහලෙහි දවයහත් පැමිණියේ වේ හේ (කවුළියෙන් බලනුයේ) ඛාණුමතයෙන් නික්මැ බොහො බොහෝ රැස් වැ එකි එකී පසැ මුළු මුළු වැ, ගමින් පිටතැ දී මහමුළුවෙක් වැ එකතු වැ, අඹයැටිය කරා යන ඛාණුමත ගමැ වැසි බමුණන් ද ගැහැවියන් ද දුටී ය දැක ඛත්තුහු (අසන තැන් බණ්නුවා) බණවා “භවත් ඛත්තුව, කවර හෙයින් ඛාණුමත ගමැ වැසි බමුණෝත් ගැහැවියෝත් ඛාණුමතයෙන් නික්මැ බොහො බොහෝ වැ රැස් වී තැනින් තැන මුළු මුළු වැ, ගමින් පිටතැ දී මහමුළුවක් වැ එකතු වැ අඹයැටිය දෙසට යෙත් ද?”සි විචාළේ ය

“භවත, කරුණෙක් ඇත සැහැපුත් වූ, සැහැකුලෙන් නික්මැ පැවිදි වූ, මහණ ගොයුම්හු භික්ෂූන් පන්සියයක් පමණ වූ මහ පැවිදි මුළුවක් හා මගද රටැ සැරි සරනුවෝ ඛාණුමත ගමට පැමිණියෝ එය අසලැ අඹයැටි උයන්හි වෙසෙති ඒ පින්වත් ගොයුම් තෙමේ මේ මේ කරුණින් රහත් ය, සම්මාසම්බුදු ය, විදුසරණ දෙකින් යුතු ය, සුගත ය, ලොව දත්තේ යැ, නොදැමුණන් දමනුයෙහි හැමට ම වැඩි සැරි දූ ය, දෙවිමිනිස්නට සත්ථු ය, බුදු ය, භගවත් යැ’සි මෙසේ ඔබ පිළිබඳ උතුම් යසගීයෙක් උස් වැ නැංගේ ය. මොහු පින්වත් ගොයුම්මාණන් දක්නට එහි යෙත්”යැ සි ඛත්තු තෙමේ කී ය

4 එ විටැ, කුළුදත් බමුණාට, “මහණ ගොයුම්හු තුන් යාගසම්පත් හා සොළොස් පිරිකර දනිතැ යි මා විසින් ඇසිණ මම් වූ කලි තෙවැදෑරුම් යාගසම්පතත් සොළොස් පිරිකරත් නො දනිමි වැලි දූ මහායාගයක් යදනට මම් රිසියෙමි මහණ ගොයුම්මාණන් කරා එළැඹ තෙවැදෑරුම් යාගසම්පතත් සොළොස් පිරිකරත් විචාළෙම් නම් යෙහෙකැ” සි මේ සිත වී ය

ඉක්බිති කුළුදත් බමුණා ඛත්තුහු බණවා, “භවත් ඛත්තුව, එසේ වී නම් ඛාණුමත ගමැ වැසි ඒ බමුණු ගැහැවියන් වෙත එළැඹෙන්න එළැඹ ‘භවත්නි, භවත්හු කුඩා තමක් බලා පොරොත්තු වෙත් වා කුළුදත් බමුණා ද මහණ ගොයුම්මාණන් දක්නට එන්නේ යැ යි මෙසේ කීයේ යැ’ සි මෙ පරිදි සැල කරන්නැ”සි කී ය

‘භවත, එසේ යැ’යි කියා ඒ ඛත්තු තෙම කුළුදත් බමුණාට පිළිවදන් දී ඛාණුමත ගමැ වැසි බමුණන් ද ගැහැවියන් ද කරා එළැඹියේ ය. එළැඹ, ඔවුනට “භවත්නි, භවත්හු කුඩා තමක් බලා පොරොත්තු වෙත් වා. කුළුදත් බමුණා ද මහණ ගොයුම්මාණන් දක්නට එන්නේ යැ’සි කුළුදත් බමුණු මෙසේ කීහ”සි මෙ පවත් සැල කෙළේ ය

5. එ සමයෙහි වනාහි බොහෝ සිය ගණන් බමුණෝ ‘කුළුදත් බමුණාගේ මහා යාගය වළඳන්නමු’සි ඛාණුමතයෙහි වෙසෙත් ඒ බමුණෝ ‘කුළුදත් බමුණා මහණ ගොයුම්මාණන් දක්නට ඔබ කරා යෙතැ’සි ඇසූහ ඉක්බිති ඔහු කුළුදත් බමුණු කරා එළැඹුණාහ එළැඹ ‘පින්වත් කුළුදත් තෙමේ මහණ ගොයුම්මාණන් දක්නට යන්නේ ල ඒ සැබැ දූ?’සි ඇසූහ

"එවං ඛො මෙ භො හොති අහම්පි සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමී"ති

6 "මා භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමි න අරහති භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සචෙ භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සති භොතො කූටදන්තස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඩ්ඪිස්සති. යම්පි භොතො කූටදන්තස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඩ්ඪිස්සති, ඉමිනාපඞ්ගෙන න අරහති භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං, සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං කූටදන්තං දස්සනාය උපසඞ්කමිතුං

භවං හි කූටදන්තො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන යම්පි භවං කූටදන්තො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන, ඉමිනාපඞ්ගෙන න අරහති භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං කූටදන්තං දස්සනාය උපසඞ්කමිතුං.

භවං හි කූටදන්තො අඩ්ඪො මහද්ධනො මහාභොගො -පෙ-

භවං හි කූටදන්තො අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං, පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො -පෙ-

භවං හි කූටදන්තො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො, බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්ඡසී අඛුද්දාවකාසො දස්සනාය -පෙ-

භවං හි කූටදන්තො සීලවා හොති වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො -පෙ-

භවං හි කූටදන්තො කල්‍යාණවාචො කල්‍යාණවාක්කරණො පොරියා වාචාය සමන්නාගතො විස්සට්ඨාය අනෙලගලාය අත්ථස්ස විඤ්ඤාපනියා -පෙ-

භවං හි කූටදන්තො බහුන්නං ආචරියපාචරියො තීණි මාණවකසතානි මන්තෙ වාචෙති බහූ ඛො පන නානාදිසා නානාජනපදා මාණවකා ආගච්ඡන්ති භොතො කූටදන්තස්ස සන්තිකෙ මන්තත්ථිකා මන්තෙ අධියිතුකාමා

“භවත්නි, මමත් මහණ ගොයුමාණන් දක්නට ඔබ වෙත් යන්නෙමැ යි මට මෙසේ සිතෙක් වේ ම යැ”යි කූටදත් පැවැසී ය

6 [එ බස් අසා එ බමුණෝ කූටදතුට මෙසේ කීහු ]

“පින්වත් කූටදත් තෙමේ මහණ ගොයුමන් දක්නට නො යේ වා පින්වත් කූටදත් තෙමේ මහණ ගොයුමාණන් දක්නට යන්නට නො නිස්සේ ය ඉදින් පින්වත් කූටදත් තෙමේ මහණ ගොයුමාණන් දක්නට යන්නේ නම්, පින්වත් කූටදතුගේ යශස් පිරිහෙන්නේ ය, මහණ ගොයුමාණන්ගේ යශස් වැඩෙන්නේ ය ‘පින්වත් කූටදතුගේ යශස් පිරිහෙන්නේ ය, මහණ ගොයුමාණන්ගේ යශස් වැඩෙන්නේ’ ය යන යමෙක් ඇද්ද, මෙ කරුණිනුත් පින්වත් කූටදත් තෙමේ මහණ ගොයුමාණන් දක්නට යනුවට නො නිස්සේ ය මහණ ගොයුම්හු ම පින්වත් කූටදතු දක්නට එනුවට නිස්සෝ ය

පින්වත් කූටදත් තෙමේ මවු පිය දෙපසින් ම අභිජාත ය. සත්වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇත්තේ ය කුල පිළිබඳ තෙප්ලෙන් නො හෙලන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය පින්වත් කූටදත් තෙමේ මවු පිය දෙපසින් ම අභිජාත ය නො ගරහන ලද්දේ ය යන යමෙක් ඇද්ද, මේ කරුණිනුත් පින්වත් කූටදත් තෙමේ මහණ ගොයුමන් දක්නට යන්නට නො නිස්සෙ ය මහණ ගොයුම්හු ම පින්වත් කූටදතු දක්නට එන්නට නිස්සෝ ය

පින්වත් කූටදත් තෙමේ ඉසුරුමත් ය, මහත් ධන ඇත්තේ ය, මහත් භෝග ඇත්තේ ය

පින්වත් කූටදත් තෙමේ වේද හදාරන්නේ ය, වේදමන්ත්‍රයන් සිත්හි ලා දරන්නේ ය, නිඝණ්ඩු ද කෛටභශාස්ත්‍ර ද සහිත, ශික්‍ෂා හා නිරුක්ති සහිත, ඉතිහාසය පස්වනු කොටැති තුන් වේදයන්ගේ පර තෙර පත්තේ ය, පදපාඨ දන්නේය, සෙසු සියලු වියරණ විදි ද දන්නේ ය, ලොකායතශාස්ත්‍රයෙහිත් මහාපුරුෂලක්‍ෂණවිද්‍යායෙහිත් නිපුණ ය...

පින්වත් කූටදත් තෙමේ අන්හට වැඩි තරම් වූ රූ සපුව ඇත්තේ ය, දැකුම් කටයුතු ය, දක්නවුට ප්‍රසාද එළවන සුළු ය, උතුම් පැහැසපුයෙන් යුතු ය, උතුම් රන්වන් පැහැ ඇත්තේ ය, උතුම් සිරුරු පැහැ ඇත්තේ ය, සිය සිරුරු සෙස්සන් විසින් දක්නට නොමද අවකාශ ඇත්තේ ය .

පින්වත් කූටදත් තෙමේ සිල්වත් ය, වැඩුණු සිල් ඇත්තේ ය, වැඩුණු ශීලයෙන් යුක්ත ය

පින්වත් කූටදත් තෙමේ කලණ තෙපුල් ඇත්තේ ය, කලණ මිහිරි බස් කියන්නේ ය, නිදෙස්, නොකෙළතොළු, කී දෑ හඟවනු හැකි සිළිටි බසින් සමන්විත ය

පින්වත් කූටදත් තෙමේ බොහෝ දෙනාට ආචාර්ය ද ප්‍රාචාර්ය ද වෙයි. තුන්සියයක් බමුණු දරුවනට වේදයන් කියවයි නන් දෙසින් නන් දනව්වෙන් බොහෝ බමුණු දරුවෝ වේදය උගැන්ම පතනුවෝ, වේදයන් උගනු කැමැත්තෝ පින්වත් කූටදත්හු වෙත එති

භවං හි කූටදන්තො ජිණ්ණො වුද්ධො මහල්ලකො අද්ධගතො වයො අනුප්පත්තො සමණො ගොතමො තරුණො චෙව තරුණපබ්බජිතො ච -පෙ-

භවං හි කූටදන්තො රඤ්ඤො මාගධස්ස සෙනියස්ස බිම්බිසාරස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො -පෙ-

භවං හි කූටදන්තො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො -පෙ-

භවං හි කූටදන්තො ඛාණුමතං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බිසාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං යම්පි භවං කූටදන්තො ඛාණුමතං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං සධඤ්ඤං රාජභොග්ගං රඤ්ඤා මාගධෙන සෙනියෙන බිම්බිසාරෙන දින්නං රාජදායං බ්‍රහ්මදෙය්‍යං ඉමිනාපඞ්ගෙන න අරහති භවං කූටදන්තො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං. සමණො ත්වෙව ගොතමො අරහති භවන්තං කූටදන්තං දස්සනාය උපසඞ්කමිතුන්ති.

7 එවං වුත්තෙ කූටදන්තො බ්‍රාහ්මණො තෙ බ්‍රාහ්මණෙ එතදවොච "තෙන හි භො මමපි සුණාථ යථා මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං, නත්වෙව අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං

"සමණො ඛලු භො ගොතමො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන යම්පි භො සමණො ගොතමො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන ඉමිනාපඞ්ගෙන න අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං අථ ඛො මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං.

සමණො ඛලු භො ගොතමො මහන්තං ඤාතිසඞ්ඝං ඔහාය පබ්බජිතො -පෙ-

සමණො ඛලු භො ගොතමො පහූතං හිරඤ්ඤසුවණ්ණං ඔහාය පබ්බජිතො භූමිගතඤ්ච වෙහාසට්ඨඤ්ච -පෙ-

සමණො ඛලු භො ගොතමො දහරො'ව සමානො යුවා සුසු කාළකෙසො භද්‍රෙන යොබ්බනෙන සමන්නාගතො පඨමෙන වයසා අගාරස්මා අනගාරියං පබ්බජිතො -පෙ-

පින්වත් කූටදන්ත තෙමේ ජරායෙන් දුදුරු ය, වයසින් වැඩුණේ ය, මහලු ය, බොහෝ කල් ඉක්මැවූයෙක, පැසිම් වියට පැමිණියෙක. මහණ ගොයුම්හු වූ කලී ළදරුත් ළදරු පැවිද්දෙකුත් වේ .

පින්වත් කූටදන්ත තෙමේ මගධාධිපති සේනිය බිම්බිසාර රජහු විසින් සත්කාර කරන ලද්දෙක, ගරු කරන ලද්දෙක, බුහුමන් කරන ලද්දෙක, පුදන ලද්දෙක, යටත් පැවැතුම් දක්වන ලද්දෙක

පින්වත් කූටදන්ත තෙමේ පොකුරුසැත් බමුණහු විසින් සත්කාර කැරුණෙක, ගරු කැරුණෙක, බුහුමන් කැරුණෙක, පිදුණෙක, යටත් පැවැතුම් දැක්වුණෙක

පින්වත් කූටදන්ත තෙමේ බොහෝ ජනයා ගැවැසුණු, තණ දඬු දිය ඇති, බොහෝ ධන ධාන්‍ය ඇති, රජුගෙන් ලත් තිත්දගම වූ රජු ගේ ත්‍යාගය වූ, සේනිය බිම්බිසාර රජු දුන් උතුම් දනවස්තු වූ ඛාණුමත ගමට ඉසුරු වැ වෙසේ පින්වත් කූටදන්ත තෙමේ බොහෝ ජනයා ගැවැසුණු ඛාණුමත ගමට ඉසුරු වැ වෙසේ ය යන යමෙක් ඇද්ද, මේ කරුණිනුත් පින්වත් කූටදන්ත තෙමේ මහණ ගොයුමන් දක්නට යන්නට නො නිස්සේ ය. මහණ ගොයුම්හු ම පින්වත් කූටදතු දක්නට නිසි හ'' යනු යි.

7 මෙසේ (ඔවුන්) කී කලැ කූටදන්ත බමුණා ඒ බමුණනට මේ බස් කී ය.

''භවත්නි, එසේ වී නම්, මහණ ගොයුමාණන් අප දක්නට එනුවට වඩා අප ඔබ දක්නට යැමෙහි සුදුසු වන සැටි දක්වන මා බස් ද අසවු

''භවත්නි, මහණ ගොයුම්හු වූ කලී මවු පිය දෙ පසින් ම අභිජාත ය, සත් වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇත්තෝ ය ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය මහණ ගොයුම්හු මවුපිය දෙපසින් ම අභිජාතයහ නො හෙළන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය යන යමක් ඇද්ද, මේ කරුණිනුදු ඒ පින්වත් ගොයුම්හු අප දක්නට එන්නට නො නිස්සහ වැළි අපි ම ඔබ දක්නට යන්නට නිස්සම්හ

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී මහත් නෑමුළුව පියා පැවිදි වූවෝ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී පොළෝ යට ද පොළෝ මතු පිට ද වූ මහත් රන් අමුරන් හැර පියා පැවිදි වූවෝ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී සොඳුරු යොවුනෙහි, (වයස් ප්‍රථම අතුරෙන්) පළමු වයසින් යුත් වූවෝ ම, තරුණ වූවෝ ම, මනා කළු කෙසග ඇති වැ යොවුන් විය සිටියෝ ම ගිහි ගෙන් නික්මැ පැවිදි බිමට වත්තෝ ය

සමණො ඛලු භො ගොතමො අකාමකානං මාතාපිතූනං අස්සුමුඛානං රුදන්තානං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජිතො-පෙ-

සමණො ඛලු භො ගොතමො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්ඡසී අඛුද්දා-වකාසො දස්සනාය-පෙ-

සමණො ඛලු භො ගොතමො සීලවා අරියසීලී කුසලසීලී කුසලසීලෙන සමන්නාගතො-පෙ-

සමණො ඛලු භො ගොතමො කල්‍යාණවාචො කල්‍යාණවාක්කරණො පොරියා වාචාය සමන්නාගතො විස්සට්ඨාය අනෙලගලාය අත්ථස්ස විඤ්ඤාපනියා-පෙ-

සමණො ඛලු භො ගොතමො බහූනං ආචරියපාචරියො-පෙ-

සමණො ඛලු භො ගොතමො ඛීණකාමරාගො විගතචාපල්ලො-පෙ-

සමණො ඛලු භො ගොතමො කම්මවාදී කිරියවාදී අපාපපුරෙක්ඛාරො බ්‍රහ්මඤ්ඤාය පජාය-පෙ-

සමණො ඛලු භො ගොතමො උච්චාකුලා පබ්බජිතො අසම්භින්නා-ඛත්තියකුලා-පෙ-

සමණො ඛලු භො ගොතමො අඩ්ඪා කුලා පබ්බජිතො මහද්ධනා මහාභොගා-පෙ-

සමණං ඛලු භො ගොතමං තිරොරට්ඨා තිරොජනපදා සම්පුච්ඡිතුං ආගච්ඡන්ති-පෙ-

සමණං ඛලු භො ගොතමං අනෙකානි දෙවතාසහස්සානි පාණෙහි සරණං ගතානි-පෙ-

සමණං ඛලු භො ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො 'ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති-පෙ-

සමණො ඛලු භො ගොතමො ද්වත්තිංසමහාපුරිසලක්ඛණෙහි සමන්නා-ගතො-පෙ-

සමණො ඛලු භො ගොතමො එහිස්වාගතවාදී සඛිලො සම්මොදකො අබ්භාකුටිකො උත්තානමුඛො පුබ්බභාසී-පෙ-

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී ඔබ පැවිදි වන්නා නො කැමැති මාපියන් කඳුළු පිරි මුහුණු ඇති වැ හඬද්දී එය නොතකා කෙහෙ රවුළු බා පියා කසා වත් හැඳ ගිහි ගෙන් නික්මැ පැවිද්දට බටුවෝ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී හැමට වැඩි තරම් රූ සිරි ඇත්තෝ ය, දක්නවුන් සිත පැහැදීම පහළ කරවන සුලුහ, උතුම් පැහැ සපුයෙන් යුතුහ උතුම් රන් පැහැ ඇත්තෝ ය, උතුම් සිරුරු පබ ඇත්තෝ ය සිය සිරුරු දක්මට නොමඳ ඔවස් ඇත්තෝ ය...

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී සිල්වත්හ, පිරිසිදු සිල් ඇත්තෝ ය, නිදොස් ශීලයෙන් යුත්හ

මහණ ගොයුම්හු වූ කලී කලණ තෙපුල් ඇත්තෝ ය, කලණ මිහිරි බස් තෙපලන්නෝ ය, නිදොස් වූ නොකෙළතොලු වූ කී දෑ හඟවනු සමත් සිලිටි බසින් සමන්විතයෝ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී බොහෝ දෙනාට ආචාරී ද ප්‍රාචාරී ද වෙති .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී පහ වූ කාමරාග ඇත්තෝ ය, පහ වූ චපල බව් ඇත්තෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී කම්වාදීත් ක්‍රියාවාදීත් වෙති තව ලොවුතුරා දහම් පුරස්සර කොට වැටෙති සැරියුත් මුගලන් ඈ බමුණු පිරිසට ද නායක වැ හැසිරෙති

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී පිරිසිදු කැත් කුල වූ උසස් කුලයෙන් නික්මැ පැවිදි වූවෝ ය .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී මහත් ධන ඇති මහත් භොග ඇති ඉසුරුමත් කුලයෙන් නික්මැ පැවිදි වූවෝ ය .

භවත්නි, මහණ ගොයුමන් කරා පිට රටින් පිට දනවුයෙන් පැණ පුළුවුස්නට එති

භවත්නි, නොයෙක් දහස් ගණන් දෙවියෝ මහණ ගොයුමන් දිවිහිමියෙන් සරණ ගියහ

භවත්නි, මහණ ගොයුමාණන්ගේ වූ කලී "මේ මේ කරුණින් ඒ බගවත් තෙමේ රහත් ය, සම්මාසම්බුදු ය, විදු සරණින් යුතු ය, සුගත ය, ලොව දත්තේ ය, ලොවුතුරා නරදම්සැරි ය, දෙව්මිනිස්නට සතු ය, සිවු සස් දතුයේ ය, බගවත් යැ" සි මෙසේ වූ උතුම් යසයි උස් වැ නැංගේ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී දෙතිස් මහ පුරිස්ලකුණින් යුතු ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී තමන් වෙත එන්නවුන් 'එන්න, මෙහි ඈ සේ මැනැවැ'යි පිළිගන්නා සුලු හ, කණට සුව එළවන තෙපුල් තෙපලන්නෝ ය, පිළිසඳරෙහි දක්‍ෂ හ, බැම නොහකුළුවන්නෝ ය, සුලභ කථා ඇත්තෝ ය, පැමිණියනට තුමූ පළමුවැයින් කථා කරන සුලුහ

සමණො ඛලු භො ගොතමො චතුන්නං පරිසානං සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො–පෙ–.

සමණෙ ඛලු භො ගොතමෙ බහූ දෙවා ච මනුස්සා ච අභිප්පසන්නා–පෙ–

සමණො ඛලු භො ගොතමො යස්මිං ගාමෙ වා නිගමෙ වා පටිවසති, න තස්මිං ගාමෙ වා නිගමෙ වා අමනුස්සා මනුස්සෙ විහෙඨෙන්ති–පෙ–

සමණො ඛලු භො ගොතමො සඞ්ඝී ගණී ගණාචරියො පුථුතිත්ථකරානං අග්ගමක්ඛායති යථා ඛො පන භො එකච්චෙසං සමණබ්‍රාහ්මණානං යථා වා තථා වා යසො සමුදාගච්ඡති, න හෙවං සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො. අථ ඛො අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො–පෙ–

සමණං ඛලු භො ගොතමං රාජා මාගධො සෙනියො බිම්බිසාරො සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො සමණං ඛලු භො ගොතමං රාජා පසෙනදි කොසලො සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො සමණං ඛලු භො ගොතමං බ්‍රාහ්මණො පොක්ඛරසාති සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො. සමණො ඛලු භො ගොතමො රඤ්ඤො මාගධස්ස සෙනියස්ස බිම්බිසාරස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො සමණො ඛලු භො ගොතමො රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො සමණො ඛලු භො ගොතමො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො

සමණො ඛලු භො ගොතමො ඛාණුමතං අනුප්පත්තො, ඛාණුමතෙ විහරති අම්බලට්ඨිකායං යෙ ඛො පන කෙචි සමණා වා බ්‍රාහ්මණා වා අම්හාකං ගාමක්ඛෙත්තං ආගච්ඡන්ති, අතිථී නො තෙ හොන්ති අතිථී ඛො පනම්හෙහි සක්කාතබ්බා ගරුකාතබ්බා මානෙතබ්බා පූජෙතබ්බා අපචෙතබ්බා යම්පි භො සමණො ගොතමො ඛාණුමතං අනුප්පත්තො ඛාණුමතෙ විහරති අම්බලට්ඨිකායං අතිථම්හාකං සමණො ගොතමො, අතිථි ඛො පනම්හෙහි සක්කාතබ්බො ගරුකාතබ්බො මානෙතබ්බො පූජෙතබ්බො අපචෙතබ්බො

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී සිවු පිරිස් විසින් සත්කාර කරන ලදුහ, ගුරුකාර කරන ලදුහ, බුහුමන් කරන ලදුහ, පුදන ලදුහ, යටත් පැවැතුම් දක්වන ලදුහ..

භවත්නි, මහණ ගොයුම්මාණන් කෙරෙහි බොහෝ දෙවිමිනිස්හු වෙසෙසින් පහන්හ ..

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී යම් ගමෙක හෝ නියම් ගමෙක වෙසෙත් නම්, එ ගමැ හෝ නියම් ගමැ වැසි මිනිස්නට යක්කු පීඩා නො කෙරෙත් .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී මහ සඟපිරිස් ඇත්තෝ ය, ගණ නායකයහ, ගණාචාර්‍ය්‍ය හ බොහෝ තීර්‍ථංකරයන් අතුරෙහි අග්‍ර හ යි කියනු ලැබෙති ..

යම්සේ වනාහි ඇතැම් මහණබමුණන්ගේ යශස අචෙලකතාදි පිටතට පෙනෙන යම්තම් ව්‍රතමාත්‍රයෙකින් වැඩෙතත් මහණ ගොයුමන් ගේ යශස වූ කලී එසේ වැඩුණේ නො වේ. වැලි තමන් තුලැ ම වූ නිරුත්තර විද්‍යාචරණසම්පත්තින් වැඩුණේ වේ .

භවත්නි, මහණ ගොයුමන් වූ කලී මගධාධිපති සේනිය බිම්බිසාර රජ තෙමේ දරුවන් බිරියන් සහිත වැ පිරිස් හා ඇමැත්තන් හා සමග දිවි හිමි කොට සරණ ගියේ ය ..

භවත්නි, මහණ ගොයුමන් වූ කලී කොශලාධිපති පසේනදි රජ තෙමේ දරුවන් හා බිරියන් හා පිරිස් හා ඇමැත්තන් හා සහිත වැ දිවි හිමි කොට සරණ ගියේ ය .

භවත්නි, මහණ ගොයුමන් වූ කලී පොක්ඛරසැති බමුණු තෙමේ දරුවන් බිරියන් පිරිස් හා ඇමැත්තන් සහිත වැ දිවි හිමි කොට සරණ ගියේ ය

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී මගධ රටට අධිපති සේනිය බිම්බිසාර රජහු විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වෙති

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී කොශලාධිපති පසේනදී රජ්හු විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වෙති ..

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී පොක්ඛරසැති බමුණා විසින් සත්කෘත ද ගුරුකෘත ද මානිත ද පූජිත ද අපචිත ද වෙති .

භවත්නි, මහණ ගොයුම්හු වූ කලී දැන් ඛාණුමතයට පැමිණියෝ ඛාණුමතය සමීපයෙහි අඹයැටි වෙනෙහි (අම්බලට්ඨිකා වනයෙහි) වෙසෙති භවත්නි, යම් කිසි මහණ කෙනෙක් හෝ බමුණු කෙනෙක් හෝ අප ගම් කෙතට එත් නම්, ඔහු අපට අමුත්තු වෙති අමුත්තෝ වනාහි අප විසින් සත්කාර කටයුතුහ, ගුරුකාර කටයුතුහ, මානනීයහ, පූජනීයහ, අපචය-නීයහ. භවත්නි, යම් හෙයකින් මහණ ගොයුම්හු ඛාණුමතයට පැමිණියෝ, ඛාණුමතය සමීපයෙහි අඹයැටියෙහි වෙසෙත් ද, එහෙයින් ඔබ අප අමුත්තෝ ය අමුත්තෝ වනාහි අප විසින් සත්කාර කටයුතුහ, ගුරු-කාර කටයුතුහ, බුහුමන් කටයුතුහ පිදියැ යුතුහ, යටත් පැවැතුම් දක්වියැ යුතුහ.

ඉමිනාපඞ්ගෙන නාරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං අථ ඛො මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං

එත්තකෙ ඛො අහං භො තස්ස භොතො ගොතමස්ස වණ්ණෙ පරියාපුණාමි නො ච ඛො සො භවං ගොතමො එත්තකවණ්ණො අපරිමාණවණ්ණො හි සො භවං ගොතමො'ති

8. එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා කූටදන්තං බ්‍රාහ්මණං එතදවොචුං "යථා ඛො භවං කූටදන්තො සමණස්ස ගොතමස්ස වණ්ණෙ භාසති ඉතො චෙ'පි සො භවං ගොතමො යොජනසතෙ විහරති, අලමෙව සද්ධෙන කුලපුත්තෙන දස්සනාය උපසඞ්කමිතුං අපි පුටංසෙනාපි[1] තෙන හි භො සබ්බෙව මයං සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමා"ති

9 අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො මහතා බ්‍රාහ්මණගණෙන සද්ධිං යෙන අම්බලට්ඨිකා යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදි. ඛාණුමතිකා'පි ඛො බ්‍රාහ්මණගහපතිකා අප්පෙකච්චෙ භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදිංසු, අප්පෙකච්චෙ භගවතා සද්ධිං සම්මොදිංසු සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ යෙන භගවා තෙනඤ්ජලිං පණාමෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ නාමගොත්තං සාවෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ තුණ්හීභූතා එකමන්තං නිසීදිංසු

10 එකමන්තං නිසින්නො ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච: "සුතං මෙතං භො ගොතම සමණො ගොතමො තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ජානාතීති න ඛො පනාහං ජානාමි තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ඉච්ඡාමි චාහං මහායඤ්ඤං යජිතුං සාධු මෙ භවං ගොතමො තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං දෙසෙතූ"ති.

"තෙන හි බ්‍රාහ්මණ සුණොහි සාධුකං මනසිකරොහි භාසිස්සාමී"ති

'එවං භො'ති ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවතො පච්චස්සොසි භගවා එතදවොච

11 "භූතපුබ්බං බ්‍රාහ්මණ රාජා මහාවිජිතො නාම අහොසි, අඩ්ඪො මහද්ධනො මහාභොගො පහූතජාතරූපරජතො පහූතවිත්තූපකරණො පහූතධනධඤ්ඤො පරිපුණ්ණකොසකොට්ඨාගාරො අථ ඛො බ්‍රාහ්මණ රඤ්ඤො මහාවිජිතස්ස රහොගතස්ස පටිසල්ලීනස්ස එවං චෙතසො පරිවිතක්කො උදපාදි "අධිගතා ඛො මෙ විපුලා මානුසකා භොගා. මහන්තං පථවිමණ්ඩලං අභිවිජිය අජ්ඣාවසාමි යන්නූනාහං මහායඤ්ඤං යජෙය්‍යං, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා'ති,

---

1 පුටංසෙනාපි (කෙසුචි පොත්ථකෙසු)

මේ කරුණිනුත් ඒ පින්වත් ගොයුම්හු අප දක්නට එන්නට නො නිස්සහ. වැලි ඇපි ම ඒ භවද්ගෞතමයන් දක්නා පිණිස එළැඹෙන්නට නිසි වම්හ

භවත්නි, ඒ භවද් ගෞතමයන් පිළිබඳ වූ මෙතෙක් ගුණ මම දනිමි එහෙත් පින්වත් ගොයුම්හු මෙ පමණක් ම ගුණ ඇත්තෝ නො වෙති "ඔබ වූ කලි නො මිනියැ හැකි ගුණ ඇතියහ" යනු සි

8 මෙසේ කී කල්හි ඒ බමුණෝ කූටදත් බමුණා බණවා, "පින්වත් කූටදතු මහණ ගොයුමන්ගේ ගුණ වනන සැටියෙන්, ඒ පින්වත් ගොයුමන් මෙයින් සිය යොදුනක් දුරෙහි වසතත්, සැදැහැති කුලපුතුහු විසින් පාථෙය රැගෙන ද ඔබ දකිනු පිණිස එන්නට නිසි ම ය එ බැවින්, භවත්නි, ඇපි සියල්ලමෝ මහණ ගොයුමන් දක්නට ඔබ වෙත එළැඹෙන්නම්හ"යි කීහ

9 ඉක්බිත්තෙන් කූටදත් බමුණා මහත් බමුණුගණනා හා අම්බලට්ඨියට භාග්‍යවතුන් වහන්සේ වෙත එළැඹියේ ය එළැඹැ භාග්‍යවතුන් වහන්සේ හා සතුටු විය. සතුටට කරුණු වූ, සිතැ රැඳැවිය යුතු වූ කථාව කැරැ නිමවා, පසෙක ඉඳ ගත්තේ ය බාඹුමන ඇමැ වැසි බමුණෝ ද ගැහැවියෝ ද කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් වැඳ පසෙක ඉඳ ගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ හා සතුටු වූහ සතුටු වියැ යුතු සිතැ රැඳැවිය යුතු වූ කථා නිමවා පසෙක ඉඳ ගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ දසාවට ඇඳිලි බැඳගෙන පසෙක හුන්හ කෙනෙක් නම්ගොත් අස්වා පසෙක ඉඳ ගත්හ කෙනෙක් නිශබ්ද වැ පසෙක ඉඳ ගත්හ

10 එක් පසෙකැ හුන්නා වූ ම කූටදත් බමුණා, "පින්වත් ගොයුමාණනි, 'මහණ ගොයුම්හු තෙවැදෑරුම් යාග සම්පතත් සොළොස් පිරිකරත් දනිති' සි මෙය මා විසින් අසන ලදි මම් වූ කලි තෙවැදෑරුම් යාග සම්පතත් සොළොස් පිරිකරත් නො ම දනිමි වැලි දූ මහායාගයක් යජනට මම් කැමැතියෙමි යාච්ඤා කරමි. මට පින්වත් ගොයුම්හු තෙවැදෑරුම් යාග සම්පතුත් සොළොස් පිරිකරත් දෙසත් වා' සි භාග්‍යවතුන් වහන්සේට කී ය

"බමුණ, එසේ වී නම් අසන්නැ මොනොවට මෙනෙහි කරන්නැ කියන්නෙමි"යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

'එසේ ය, පින්වතැ'සි කූටදත් බමුණු භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් ඇස්වී ය භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක

11. "පෙර වූවක් කියමි බමුණ, ආඪ්‍ය වූ, මහත් ධන ඇති, මහත් භොග ඇති, බොහෝ රන් රිදී ඇති, බොහෝ වස්තූපකරණ ඇති, බොහෝ ධන ධාන්‍ය ඇති, පිරිපුන් ගබඩා කොටුගුල් ඇති මහාවිජිත නම් රජෙක් විය බමුණ, එ කලැ හුදෙකලා වැ විජනවිවෙකයෙන් හුන් මහාවිජිත රජුට "මානුෂක වූ මහත් භොගසම්පත්හු මා විසින් ලබන ලද්දෙ ම ය ඒ මම් මහත් පොළෝමඬුල්ල වෙසෙසින් දිනා හැමට අධිපති වැ වෙසෙමි මට දික් කලක් හිත සුව පිණිස පවත්නා මහා යඥයක් යදින්නෙම් නම් මැනැවැ "සි මෙසේ විතක සඞ්කල්පනාවෙක් පහළ විය

ඉමිනාපඞ්ගෙන නාරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං අථ ඛො මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං

එත්තකෙ ඛො අහං භො තස්ස භොතො ගොතමස්ස වණ්ණෙ පරියාපුණාමි නො ච ඛො සො භවං ගොතමො එත්තකවණ්ණො අපරිමාණවණ්ණො හි සො භවං ගොතමො’ති

8. එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා කූටදන්තං බ්‍රාහ්මණං එතදවොචුං. “යථා ඛො භවං කූටදන්තො සමණස්ස ගොතමස්ස වණ්ණෙ භාසති ඉතො චෙ’පි සො භවං ගොතමො යොජනසතෙ විහරති, අලමෙව සද්ධෙන කුලපුත්තෙන දස්සනාය උපසඞ්කමිතුං අපි පුටංසෙනාපි[1]. තෙන හි භො සබ්බෙව මයං සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමා”ති

9 අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො මහතා බ්‍රාහ්මණගණෙන සද්ධිං යෙන අම්බලට්ඨිකා යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදි. ඛාණුමතිකා’පි ඛො බ්‍රාහ්මණගහපතිකා අප්පෙකච්චෙ භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදිංසු, අප්පෙකච්චෙ භගවතා සද්ධිං සම්මොදිංසු. සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ යෙන භගවා තෙනඤ්ජලිං පණාමෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ නාමගොත්තං සාවෙත්වා එකමන්තං නිසීදිංසු අප්පෙකච්චෙ තුණ්හීභූතා එකමන්තං නිසීදිංසු

10 එකමන්තං නිසින්නො ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච: “සුතං මෙතං භො ගොතම සමණො ගොතමො තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ජානාතීති. න ඛො පනාහං ජානාමි තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං ඉච්ඡාමි චාහං මහායඤ්ඤං යජිතුං. සාධු මෙ භවං ගොතමො තිවිධං යඤ්ඤසම්පදං සොළසපරික්ඛාරං දෙසෙතූ”ති.

“තෙන හි බ්‍රාහ්මණ සුණොහි සාධුකං මනසිකරොහි භාසිස්සාමී”ති

‘එවං භො’ති ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවතො පච්චස්සොසි භගවා එතදවොච·

11 “භූතපුබ්බං බ්‍රාහ්මණ රාජා මහාවිජිතො නාම අහොසි, අඩ්ඪො මහද්ධනො මහාභොගො පහූතජාතරූපරජතො පහූතවිත්තූපකරණො පහූතධනධඤ්ඤො පරිපුණ්ණකොසකොට්ඨාගාරො. අථ ඛො බ්‍රාහ්මණ රඤ්ඤො මහාවිජිතස්ස රහොගතස්ස පටිසල්ලීනස්ස එවං චෙතසො පරිවිතක්කො උදපාදි “අධිගතා ඛො මෙ විපුලා මානුසකා භොගා. මහන්තං පථවිමණ්ඩලං අභිවිජිය අජ්ඣාවසාමි යන්නූනාහං මහායඤ්ඤං යජෙය්‍යං, යං මම’ස්ස දීඝරත්තං හිතාය සුඛායා’’ති.

1 පුටොංසෙනාපි (කෙහුම් පොත්කෙසු)

මේ කරුණිනුත් ඒ පින්වත් ගොයුම්හු අප දක්නට එන්නට නො නිස්සහ. වැලි අපි ම ඒ භවද්ගෞතමයන් දක්නා පිණිස එළැඹෙන්නට නිසි වම්හ

භවත්නි, ඒ භවද් ගෞතමයන් පිළිබඳ වූ මෙතෙක් ගුණ මම් දනිමි එහෙත් පින්වත් ගොයුම්හු මෙ පමණක් ම ගුණ ඇත්තෝ නො වෙති "ඔබ වූ කලි නො මිනියැ හැකි ගුණ ඇතියහ" යනු යි

8 මෙසේ කී කල්හි ඒ බමුණෝ කූටදන් බමුණා බණවා, "පින්වත් කූටදනු මහණ ගොයුමන්ගේ ගුණ වනනා සැටියෙන්, ඒ පින්වත් ගොයුමන් මෙයින් සිය යොදුනක් දුරු වසතත්, සැදැහැති කුලපුතුනු විසින් පාථෙය රැගෙන ද ඔබ දකිනු පිණිස එන්නට නිසි ම ය එ බැවින්, භවත්නි, අපි සියල්ලමෝ මහණ ගොයුමන් දක්නට ඔබ වෙත එළැඹෙන්නම්හ' යි කීහ

9 ඉක්බිත්තෙන් කූටදන් බමුණා මහත් බමුණුගණයා හා අඹයැටියට භාග්‍යවතුන් වහන්සේ වෙත එළැඹියේ ය එළැඹැ භාග්‍යවතුන් වහන්සේ හා සතුටු විය. සතුටට කරුණු වූ, සිතැ රැඳැවිය යුතු වූ කථාව කැරැ නිමවා, පසෙක ඉඳ ගත්තේ ය ඛාණුමත ගම් වැසි බමුණෝ ද ගැහැවියෝ ද කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් වැඳ පසෙක ඉඳ ගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ හා සතුටු වූහ සතුටු වියැ යුතු සිතැ රැඳැවිය යුතු වූ කථා නිමවා පසෙක ඉඳ ගත්හ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ දසාවට ඇඳිලි බැඳගෙන පසෙක හුන්හ කෙනෙක් නම්ගොත් අස්වා පසෙක ඉඳ ගත්හ. කෙනෙක් නිහඬ වැ පසෙක ඉඳ ගත්හ

10 එක් පසෙකැ හුන්නා වූ ම කූටදන් බමුණා, "පින්වත් ගොයුමාණනි, 'මහණ ගොයුම්හු තෙවැදෑරුම් යාග සම්පතත් සොළොස් පිරිකරත් දනිති' යි මෙය මා විසින් අසන ලදි මම් වූ කලි තෙවැදෑරුම් යාග සම්පතත් සොළොස් පිරිකරත් නො ම දනිමි වැලි දු මහායාගයක් යජනට මම් කැමැතියෙමි යාච්ඤා කරමි. මට පින්වත් ගොයුම්හු තෙවැදෑරුම් යාග සම්පතුත් සොළොස් පිරිකරත් දෙසත් වා" යි භාග්‍යවතුන් වහන්සේට කී ය

"බමුණ, එසේ වී නම් අසන්නැ, මොනොවට මෙනෙහි කරන්නැ කියන්නෙමි"යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

'එසේ ය, පින්වතැ'යි කූටදන් බමුණු භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් ඇස්වී ය භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක

11. "පෙර වූවක් කියමි බමුණ, ආඪ්‍ය වූ, මහත් ධන ඇති, මහත් භොග ඇති, බොහෝ රන් රිදී ඇති, බොහෝ වස්තූපකරණ ඇති, බොහෝ ධන ධාන්‍ය ඇති. පිරිපුන් ගබඩා කොටුගුල් ඇති මහාවිජිත නම් රජෙක් විය බමුණ, එ කලැ හුදෙකලා වැ චිත්තවිවේකයෙන් හුන් මහාවිජිත රජුට "මානුෂක වූ මහත් භොගසම්පත්හු මා විසින් ලබන ලද්දෝ ම ය ඒ මම් මහත් පොළෝමඬුල්ල වෙසෙසින් දිනා හැමට අධිපති වැ වෙසෙමි මට දිග් කලක් හිත සුව පිණිස පවත්නා මහා යඥයක් යදින්නෙම් නම් මැනැවැ "යි මෙසේ චිත්ත සඞ්කල්පනාවෙක් පහළ විය

අථ ඛො බ්‍රාහ්මණ රාජා මහාවිජිතො පුරොහිතං බ්‍රාහ්මණං ආමන්තෙත්වා එතදවොච· 'ඉධ මය්හං බ්‍රාහ්මණ රහොගතස්ස පටිසල්ලීනස්ස එවං චෙතසො පරිවිතක්කො උදපාදි: "අධිගතා ඛො මෙ විපුලා මානුසකා භොගා මහන්තං පථවිමණ්ඩලං අභිවිජිය අජ්ඣාවසාමි. යන්නූනාහං මහායඤ්ඤං යජෙය්‍යං, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා'ති. ඉච්ඡාමහං බ්‍රාහ්මණ මහායඤ්ඤං යජිතුං. අනුසාසතු මං භවං, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා''ති

12 එවං වුත්තෙ බ්‍රාහ්මණ පුරොහිතො බ්‍රාහ්මණො රාජානං මහාවිජිතං එතදවොච 'හොතො ඛො රඤ්ඤො ජනපදො සකණ්ටකො සඋප්පීළො. ගාමඝාතා'පි දිස්සන්ති, නිගමඝාතා'පි දිස්සන්ති, පන්ථදූහනා'පි දිස්සන්ති. භවං චෙ ඛො පන රාජා එවං සකණ්ටකෙ ජනපදෙ සඋප්පීළෙ බලිමුද්ධරෙය්‍ය, අකිච්චකාරී අස්ස තෙන භවං රාජා. සියා ඛො පන හොතො රඤ්ඤො එවමස්ස 'අහමෙතං දස්සුඛීලං වධෙන වා බන්ධෙන වා ජානියා වා ගරහාය වා පබ්බාජනාය වා සමූහනිස්සාමී'ති. න ඛො පනෙතස්ස දස්සුඛීලස්ස එවං සම්මා සමුග්ඝාතො හොති යෙ තෙ හතාවසෙසකා භවිස්සන්ති, තෙ පච්ඡා රඤ්ඤො ජනපදං විහෙඨෙස්සන්ති. අපි ච ඛො ඉදං සංවිධානං ආගම්ම එවමෙතස්ස දස්සුඛීලස්ස සම්මා සමුග්ඝාතො හොති. තෙන හි භවං රාජා යෙ හොතො රඤ්ඤො ජනපදෙ උස්සහන්ති කසිගොරක්ඛෙ, තෙසං භවං රාජා බීජභත්තං අනුප්පදෙතු. යෙ හොතො රඤ්ඤො ජනපදෙ උස්සහන්ති වණිජ්ජාය, තෙසං භවං රාජා පාභතං අනුප්පදෙතු. යෙ හොතො රඤ්ඤො ජනපදෙ උස්සහන්ති රාජපොරිසෙ, තෙසං භවං රාජා භත්තවෙතනං පකප්පෙතු. තෙ ච මනුස්සා සකම්මපසුතා රඤ්ඤො ජනපදං න විහෙඨෙස්සන්ති මහා ච රඤ්ඤො රාසිකො භවිස්සති, ඛෙමට්ඨිතා ජනපදා අකණ්ටකා අනුප්පීළා. මනුස්සා ච මුදා මොදමානා උරෙ පුත්තෙ නච්චෙන්තා අපාරුතඝරා මඤ්ඤෙ විහරිස්සන්තී''ති.

13. 'එවං භො'ති ඛො බ්‍රාහ්මණ රාජා මහාවිජිතො පුරොහිතස්ස බ්‍රාහ්මණස්ස පටිස්සුත්වා යෙ රඤ්ඤො ජනපදෙ උස්සහිංසු කසිගොරක්ඛෙ, තෙසං රාජා මහාවිජිතො බීජභත්තං අනුප්පාදාසි.[1] යෙ රඤ්ඤො ජනපදෙ උස්සහිංසු වණිජ්ජාය, තෙසං රාජා මහාවිජිතො පාභතං අනුප්පාදාසි. යෙ රඤ්ඤො ජනපදෙ උස්සහිංසු රාජපොරිසෙ, තෙසං රාජා මහාවිජිතො භත්තවෙතනං පකප්පෙසි තෙ ච මනුස්සා සකම්මපසුතා රඤ්ඤො ජනපදං න විහෙඨෙසුං මහා ච රඤ්ඤො රාසිකො අහොසි, ඛෙමට්ඨිතා ජනපදා අකණ්ටකා අනුප්පීළා මනුස්සා මුදා මොදමානා උරෙ පුත්තෙ නච්චෙන්තා අපාරුතඝරා මඤ්ඤෙ විහරිංසු.

1 අනුප්පාදෙසි (කෙසු චි පොත්ථකෙසු)

බමුණ, ඉක්බිත්තෙන් මහාවිජිත රජ තෙම් පෙරෙවියා අමතා, "බමුණ, මෙහි හුදෙකලා වැ චිත්තවිවෙකයෙන් හුන් මට 'මානුෂක වූ මහත් භොගයෝ මා විසින් ලදහ ඒ මම මහත් පොළොවමඩල දිනා එයට අධිපති වැ වෙසෙමි මට දික් කලක් හිත සුව පිණිස පවත්නා මහා යඥයක් කළොත් මැනැවැ යි මෙසේ චිත්තසංකල්පනාවෙක් උපන. බමුණ, මහා යඥයක් කරන්නට කැමැත්තෙමි එහි ලා භවත් තෙමේ මට දික් කලක් හිත සුව පිණිස අනුශාසනා කෙරේ වා" යි මෙ බස් පැවැසි ය.

12. බමුණ, මෙසේ කී කල්හි පෙරෙවි බමුණා මහාවිජිත රජුට මෙසේ කී ය. "භවත් රජ්ජුහුගේ රට කටු සහිත (සොරඋවදුරු සහිත) වෙයි, සොර උවදුරින් මිරිකුණේ වෙයි. ගම් පැහැරුම් දක්නා ලැබේ නියම්-ගම් පැහැරුම් දක්නා ලැබේ. නුවර පැහැරුම් දක්නා ලැබේ. මං පැහැරුම් දක්නා ලැබේ භවත් රජ තෙමේ ඉදිත් මෙසේ සොර උවදුරු ඇති සොර උවදුරින් මිරිකුණු රටෙහි බදු කරවුවර ගන්නේ නම්, එසින් නොකටයුත්තක් කරන්නෙක් වන්නේ ය 'වධ කිරීමෙන් හෝ බැඳීමෙන් හෝ දඩ ගැසීමෙන් හෝ හිස මුඩු කැරැවීම් ආදි ගැරැහුමෙන් හෝ රටින් නෙරපීමෙන් හෝ මේ දශ්‍යුඛිලය (සොර හුල) මුලින් ම උදුරා ලන්නෙමි' යි පින්වත් රජුට මෙසේ සිතක් විය හැක්ක වෙසේ මේ සොර හුල මැනැවින් ඉදිරීමෙක් නො වේ ම ය නසන ලද්දවුන් ගෙන් ඉතිරි වූ යම් සොරසතුරු කෙනෙක් වන්නෝ ද, ඔහු පසු වැ රජුගේ රට පෙළන්නාහ එතෙකුදු වුවත් මේ මතු දුක්වෙන සංවිධා-නයට පැමිණ (මතු දුක්වෙන සේ පිළිපැදීමෙන්) මොහු මේ සොර හුල මොනොවට ඉදිරි යැම වේ. එ බැවින් සිය රටෙහි යම් කෙනෙක් ගොවිතැන්හි ගෙරි රැකුම්හි උත්සාහ කෙරෙත් නම්, පින්වත් රජ තෙමේ ඔවුනට ධාන්‍ය බිජුවට ද බත් ද දේ වා යම් කෙනෙක් පින්වත් රජ්ජුහු ගේ රටෙහි වෙළෙඳම පිණිස උත්සාහ කෙරෙත් ද, ඔවුනට රජ තෙමේ බඩු මිල දේ වා. පින්වත් රජ්ජුහුගේ රටෙහි යම් කෙනෙක් රාජකාර්‍යයෙහි උත්සාහ කෙරෙත් ද, ඔවුනට පින්වත් රජ තෙමේ බත් වැටුප් දේ වා ඒ මිනිස්සුන් තමන්ගේ වැඩපලෙහි යෙදුණෝ රජුගේ රට නො පෙළන්නෝ ය. රජුගේ ධනධාන්‍ය රැස ද මහත් වන්නේ ය ජනපදයෝ සොර උවදුරු නැත්තෝ, නොමිරිකුණෝ. නිරුපද්‍රැතභාවයෙන් සිටියෝ වන්නාහ මිනිස්සු ද තුටු කෙරෙහි සතුටු වන්නො, ඔවුහු දරුවන් නටවන්නෝ, දොර නොවැසූ ගෙවල් ඇතුළත්හු මෙන් (බිය සැක නැති ව) වසන්නෝ ය '

14 අථ ඛො බ්‍රාහ්මණ රාජා මහාවිජිතො පුරොහිතං බ්‍රාහ්මණං ආමන්තෙත්වා එතදවොච· ''සමූහතො ඛො මෙ භො සො දස්සුඛීලො භොතො සංවිධානං ආගම්ම මයා ච මෙ රාසිකො ඛෙමට්ඨිතා ජනපදා අකණ්ටකා අනුප්පීළා. මනුස්සා මුදා මොදමානා උරෙ පුත්තෙ නච්චෙන්තා අපාරුතඝරා මඤ්ඤෙ විහරන්ති ඉච්ඡාමහං බ්‍රාහ්මණ මහායඤ්ඤං යජිතුං. අනුසාසතු මං භවං, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා''ති

''තෙන හි භවං රාජා යෙ භොතො රඤ්ඤො ජනපදෙ ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච, තෙ භවං රාජා ආමන්තයතං, 'ඉච්ඡාමහං භො මහායඤ්ඤං යජිතුං අනුජානන්තු මෙ භොන්තො යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා'ති යෙ භොතො රඤ්ඤො ජනපදෙ අමච්චා පාරිසජ්ජා නෙගමා චෙව ජානපදා ච -පෙ- බ්‍රාහ්මණමහාසාලා නෙගමා චෙව ජානපදා ච, තෙ භවං රාජා ආමන්තයතං: 'ඉච්ඡාමහං භො මහායඤ්ඤං යජිතුං. අනුජානන්තු මෙ භවන්තො යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා'ති

'එවං භො'ති ඛො බ්‍රාහ්මණ රාජා මහාවිජිතො පුරොහිතස්ස බ්‍රාහ්මණස්ස පටිස්සුත්වා යෙ රඤ්ඤො ජනපදෙ ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච, තෙ රාජා මහාවිජිතො ආමන්තෙසි: ''ඉච්ඡාමහං භො මහායඤ්ඤං යජිතුං. අනුජානන්තු මෙ භොන්තො, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා''ති

''යජතං භවං රාජා යඤ්ඤං. යඤ්ඤකාලො මහාරාජා''ති

යෙ රඤ්ඤො ජනපදෙ අමච්චා පාරිසජ්ජා නෙගමා චෙව ජානපදා ච -පෙ- බ්‍රාහ්මණමහාසාලා නෙගමා චෙව ජානපදා ච -පෙ- ගහපතිනෙචයිකා නෙගමා චෙව ජානපදා ච, තෙ රාජා මහාවිජිතො ආමන්තෙසි: ''ඉච්ඡාමහං භො මහායඤ්ඤං යජිතුං අනුජානන්තු මෙ භවන්තො, යං මම'ස්ස දීඝරත්තං හිතාය සුඛායා''ති

''යජතං භවං රාජා යඤ්ඤං. යඤ්ඤකාලො මහාරාජා''ති

ඉතිමෙ චත්තාරො අනුමතිපක්ඛා තස්සෙව යඤ්ඤස්ස පරික්ඛාරා භවන්ති

15. රාජා මහාවිජිතො අට්ඨහි අඞ්ගෙහි සමන්නාගතො

උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා,

14 බමුණ, ඉක්බිත්තෙන් මහාවිජිත රජ තෙමේ පෙරෙවියා අමතා, "භවත, මා විසින් භවත්හුගේ සංවිධානය පිළිපැද ඒ සොරකටුරු මුල මුලින් උදුරන ලද්දේ ය. මගේ ධන ධාන්‍ය රැස ද මහත ම ය ජනපදයෝ අකණ්ටක වූවෝ, (සොර සතුරු උවදුරු නැත්තෝ) උවදුරින් නො-මිරිකුණෝ, උවදුරු නැති බවින් සිටියෝ ය මිනිස්සු ඔවුනොවුන් හා සතුටු වන්නෝ, ඔරෙහි දරුවන් නටවන්නෝ, දොර නොවැසූ ගෙවල් ඇත්තවුන් සේ වෙසෙත් බමුණ, මට දික් කලක් හිත සුව පිණිස පවත්නා මහා යඥයක් යදනට (මහ දනක් දෙන්නට) මම් කැමැත්තෙමි. පින්වත් තෙමේ මට අනුශාසනා කෙරේ වා" යි මේ බස් කී ය

එ විට පෙරෙවි තෙමේ මෙසේ රජුට අනුශාසනා කෙළේ ය "එසේ නම්, පින්වත් රජුගේ රටෙහි තමා අනුව පවත්නා නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් යම් ක්‍ෂත්‍රිය කෙනෙක් වෙත් නම්, පින්වත් රජ තෙමේ ඔවුන් අමතා, 'භවත්නි, මට බොහෝ කල් හිත සුව පිණිස මම් මහ දනක් දෙනු කැමැත්තෙමි. භවත්හු එයට මට අනුදනිත් වා'යි කියා වා පින්වත් වූ රජුගේ රටෙහි නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් රාජ-සභාවට අයත් ඇමැතියෝ වෙත් ද, නියම්ගම් වැසි දනවුවැසි බමුණු මහසල්හු වෙත් ද නියම්ගම්වැසි දනවුවැසි මහ දනවත් ගැහැවි කෙනෙක් වෙත් ද, පින්වත් රජ තෙමේ ඔවුන අමතා 'භවත්නි, මට බොහෝ කල් හිත සුව පිණිස මම් මහ දනක් දෙනු රිසියෙමි භවත්හු එයට මට අනුදනිත්වා'යි කියා වා".

"බමුණ, 'එසේ ය පින්වතැ'යි කියා ම මහාවිජිත රජ තෙමේ පෙරෙවි බමුණාට පිළිවදන් දී, සිය රටෙහි නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් තමා අනුව පවත්නා ක්‍ෂත්‍රිය කෙනෙක් වූහු නම්, ඔවුන් අමතා, 'පින්වත්නි, යමක් මට බොහෝ කල් හිත සුව පිණිස පවත්නේ ද, මම් එසේ වූ යඥයක් යජන්නට (මහ දනක් දෙන්නට) කැමැත්තෙමි. පින්වත්හු එයට මට අනුදනිත්වා'යි කී ය

'පින්වත් රජ තුමෝ යඥය යජත් වා (මහ දන් දෙත් වා). මහ රජාණනි, මේ යඥයට කාලය වේ යැ''යි ඔහු කීහ. සිය රටෙහි නියම්-ගම්වැසි වූත් දනවුවැසි වූත් රාජසභාසද ඇමැති කෙනෙක් වූහු ද නියම්ගම්වැසි දනවුවැසි බමුණු මහසල් කුල කෙනෙක් වූහු ද, නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් දන රැස කරන ගැහැවි මහසල් කුල කෙනෙක් වූහු ද, මහාවිජිත රජ තෙමේ ඔවුන් හැම අමතා, 'භවත්නි, යමක් මට බොහෝ කල් හිත සුව පිණිස පවත්නේ ද, එසේ වූ මහායඥයක් යජනු රිසියෙමි පින්වත්හු මට එයට අනුදනිත් වා'යි දැන්වී ය

'මහරජාණනි, මේ යඥයට කාලය ය පින්වත් රජ තුමෝ යඥය කෙරෙත් වා'යි ඔහු කීහ

මෙසේ මේ අනුමති පක්ෂ සතර (අවසරය දෙන්නන් සතර වගය) එ ම යඥයට පිරිවර වෙත්

15 මහාවිජිත රජ තෙමේ අංග අටෙකින් සමන්විත ය ( කවර අටකින් ද ? යත් )

හේ මාපිය දෙපසින් ම අභිජාත ය, සතවන විමුතු සුපිල නෙක් පිරිසිදු මවුකුස ඇත්තෙක

අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන,

අභිරූපො දස්සනීයො පාසාදිකො, පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො, බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්ඡසී අඛුද්දාවකාසො දස්සනාය

අඩ්ඪො මහද්ධනො මහාභොගො පහූතජාතරූපරජතො පහූතවිත්තූපකරණො පහූතධනධඤ්ඤො පරිපුණ්ණකොසකොට්ඨාගාරො.

බලවා චතුරඞ්ගිනියා සෙනාය සමන්නාගතො අස්සවාය ඔවාදපටිකරාය, පතපති මඤ්ඤෙ පච්චත්ථිකෙ යසසා

සද්ධො දායකො දානපති අනාවටද්වාරො, සමණබ්‍රාහ්මණකපණද්ධිකවණිබ්බකයාචකානං ඔපානභූතො, පුඤ්ඤානි කරොති

බහුස්සුතො තස්ස තස්ස සුතජාතස්ස. තස්ස තස්සෙව ඛො පන භාසිතස්ස අත්ථං ජානාති. 'අයං ඉමස්ස භාසිතස්ස අත්ථො අයං ඉමස්ස භාසිතස්ස අත්ථො'ති

පණ්ඩිතො වියත්තො මෙධාවී පටිබලො අතීතානාගතපච්චුප්පන්නෙ අත්ථෙ චින්තෙතුං

රාජා මහාවිජිතො ඉමෙහි අට්ඨහි අඞ්ගෙහි සමන්නාගතො
ඉති ඉමානි'පි අට්ඨඞ්ගානි තස්සෙව යඤ්ඤස්ස පරික්ඛාරා භවන්ති

16 පුරොහිතො'පි බ්‍රාහ්මණො චතූහඞ්ගෙහි සමන්නාගතො

උභතො සුජාතො මාතිතො ච පිතිතො ච. සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා. අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන.

අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො

සීලවා වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො

පණ්ඩිතො වියත්තො මෙධාවී පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං

පුරොහිතො බ්‍රාහ්මණො ඉමෙහි චතූහඞ්ගෙහි සමන්නාගතො ඉති ඉමානි'පි චත්තාරි අඞ්ගානි තස්සෙව යඤ්ඤස්ස පරික්ඛාරා භවන්ති.

ජාතිවාදයෙන් නොහෙළන ලද්දෙක, ගැරැහුම් නොලද්දෙක

විශිෂ්ට රූප ශොභා ඇත්තෙක, දක්නුම් කටයුත්තෙක, ප්‍රසාද එළවන සුළු ය

උතුම් වර්ණසෞන්දර්යයෙන් යුක්ත ය, උතුම් රන් පැහැ ඇත්තෙක, උතුම් සිරුරු පැහැ ඇත්තෙක, සිය සිරුර අනුන් විසින් දක්නට නොමද අවකාශ ඇත්තෙක

ආඪ්‍ය ය, මහද් ධන ඇත්තේ ය, මහද්භොග ඇත්තේ ය, බොහෝ රන් රිදී ඇත්තේ ය, වස්තූපකරණ ඇත්තේ ය, බොහෝ ධන ධාන්‍ය ඇත්තේ ය, පිරිපුන් ගබඩා කොටාර ඇත්තේ ය

බලවත් වූයේ, අණට කන් දෙන, ඔවා පිළිපදනා සිව්රඟ සෙනඟින් සමන්විත වූයේ, පසමිතුරන් සිය යස තෙදින් තවාලන්නාක් මෙන් වේ

සැදැහැත්තේ ය, දීමෙහි හුරු ය, දානපති ය, මහණුනට බමුණනට දුගියනට මඟියනට පුලනුනට යදියනට නොවැසූ දොර ඇත්තේ ය, සිව්මං හන්දියෙක කැණූ පොකුණක් මෙන් වැ දන් පින් කෙරෙයි.

ඒ ඒ ඇසූ දූ පිළිබඳ වැ බහුශ්‍රැත ය, මේ මෙබසෙහි අරුත ය, මේ මෙබසෙහි අරුත යැ යි ඒ ඒ කී බසෙහි අරුත් දනී

නුවණැත්තේ ය, වියත් ය, අතීත වත්මන් අරුත්හි සමත් ය

මහාවිජිත රජ තෙමේ මෙ අටඟින් සමන්විත ය මෙසේ මේ අංග අට ද එම යඥයට පිරිවර වෙත්.

16. පෙරෙවි බමුණු ද සතර අංගයෙකින් යුත් වෙයි (කවර සතරෙකින් ද යත්·) මා පිය දෙපසින් ම අභිජාත ය, සතර වන මිමුතු යුවල තෙක් ම පිරිසිදු මවුකුස ඇත්තේ ය, ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය. වේද හදාරන්නේ ය, නිඝණ්ඩු ද කෛටභශාස්ත්‍ර ද සහිත ශික්ෂා හා නිරුක්ති හා සහිත ඉතිහාසය පස්වනු කොටැති තුන් වේදයේ පර තෙරට පැමිණියේ ය, පදපාඨ දන්නේ ය, සෙසු සියලු වියරණ විදි ද දන්නේ ය, ලොකායත ශාස්ත්‍රයෙහිත් මහාපුරුෂ-ලක්ෂණ විද්‍යායෙහිත් නිපුණ ය සිල්වත් ය, වැඩුණු සිල් ඇත්තේ ය, වැඩුණු ශිලයෙන් සමන්විත ය, පණ්ඩිත ය, ව්‍යක්ත ය, නුවණැත්තේ ය. යාග සැන්ද ඔසොවන්නවුන් අතුරෙහි පළමු හෝ දෙවෙනි තැනැත්තේ ය.

පෙරෙවි බමුණු තෙමේ මේ සතර අංගයෙන් සමන්විත වෙයි. මෙසේ මේ සතර අංගයෝ ද එ ම යාගයට පිරිවර වෙත්

17 අථ ඛො බ්‍රාහ්මණ, පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස පුබ්බෙව යඤ්ඤා තිස්සො විධා දෙසෙසි

‘‘සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යිට්ඨුකාමස්ස කොචිදෙව විප්පටිසාරො ‘මහා වත මෙ භොගක්ඛන්ධො විගච්ඡිස්සතී’ති, සො භොතො රඤ්ඤො විප්පටිසාරො න කරණීයො සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව විප්පටිසාරො ‘මහා වත මෙ භොග-ක්ඛන්ධො විගච්ඡතී’ති, සො භොතො රඤ්ඤො විප්පටිසාරො න කරණීයො සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යිට්ඨස්ස කොචිදෙව විප්පටිසාරො ‘මහා වත මෙ භොගක්ඛන්ධො විගතො’ති, සො භොතො රඤ්ඤො විප්පටිසාරො න කරණීයො’’ති

ඉමා ඛො පන බ්‍රාහ්මණ පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස පුබ්බෙව යඤ්ඤා තිස්සො විධා දෙසෙසි

18 අථ ඛො බ්‍රාහ්මණ, පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස පුබ්බෙව යඤ්ඤා දසහාකාරෙහි පටිග්ගාහකෙසු විප්පටිසාරං පටිවිනොදෙසි· ‘‘ආගමිස්සන්ති ඛො භොතො යඤ්ඤං පාණාතිපාතිනො’පි පාණාතිපාතා පටිවිරතා’පි යෙ තත්ථ පාණාතිපාතිනො තෙසඤ්ඤෙව තෙන යෙ තත්ථ පාණාතිපාතා පටිවිරතා තෙ ආරබ්භ යජතං ගවං, සජ්ජතං භවං, මොදතං භවං, චිත්තමෙව භවං අන්තරං පසාදෙතු ආගමිස්සන්ති ඛො භොතො යඤ්ඤං අදින්නාදායිනො’පි අදින්නාදානා පටිවිරතා’පි -පෙ- කාමෙසු මිච්ඡාචාරිනො’පි කාමෙසු මිච්ඡාචාරා පටිවිරතා’පි -පෙ- මුසාවාදිනො’පි මුසාවාදා පටිවිරතා’පි -පෙ- පිසුණවාචිනො’පි පිසුණාය වාචාය පටිවිරතා’පි -පෙ- ඵරුසවාචිනො’පි ඵරුසාය වාචාය පටිවිරතා’පි -පෙ- සම්ඵප්පලා-පිනො’පි සම්ඵප්පලාපා පටිවිරතා’පි -පෙ- අභිජ්ඣාලුනො’පි අනභිජ්ඣාලුනො’පි -පෙ-බ්‍යාපන්නචිත්තා’පි අබ්‍යාපන්නචිත්තා’ පි-පෙ- මිච්ඡාදිට්ඨිකා’පි සම්මා-දිට්ඨිකා’පි යෙ තත්ථ මිච්ඡාදිට්ඨිකා තෙසඤ්ඤෙව තෙන යෙ තත්ථ සම්මාදිට්ඨිකා තෙ යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං. චිත්තමෙව ගවං අන්තරං පසාදෙතූ’’ති.

ඉමෙහි ඛො බ්‍රාහ්මණ පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස පුබ්බෙව යඤ්ඤා දසහාකාරෙහි පටිග්ගාහකෙසු විප්පටිසාරං පටිවිනොදෙසි

19. අථ ඛො බ්‍රාහ්මණ, පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස මහායඤ්ඤං යජමානස්ස සොළසහාකාරෙහි චිත්තං සන්දස්සෙසි සමාදපෙසි සමුත්තෙජෙසි සම්පහංසෙසි සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා ‘රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති නො ච ඛො තස්ස ආමන්තිතා ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච, අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී’’ති. එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි භොතා ඛො පන රඤ්ඤා ආමන්තිතා ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච

17 බමුණ, ඉක්බිත්තෙන් පෙරෙවි බමුණු තෙමේ යඥයෙන් පෙරාතු ව ම මහාවිජිත රජුට තුන් විධාවන් දැක්වී ය. "මහා යාගයක් යජනු කැමැති පින්වත් රජහට 'අහෝ! මා සතු භොග රැසක් මතු නැසෙතැ'යි කිසි විපිළිසරක් විය හැක්ක පින්වත් රජුහු විසින් එසේ වූ විපිළිසරක් නො කටයුතු ය මහා යාගයක් යජන පින්වත් රජුට 'අහෝ මා සතු මහත් භොග රැසක් දැන් නැසෙතැ'යි කිසි විපිළිසරක් වියැ හැක්ක. පින්වත් රජු විසින් එසේ වූ විපිළිසරක් නො කටයුත්තේ ය මහායාගය යැජූ පින්වත් රජුට 'අහෝ මා සතු මහත් භොග රැසක් නැසී ගියේ වනැ'යි විපිළිසරක් වියැ හැක්ක පින්වත් රජුහු විසින් එසේ වූ විපිළිසරක් නොකටයුත්තේ ය"

බමුණ, පෙරෙවි බමුණු තෙමේ යඥයෙන් පෙරාතු ව ම මහාවිජිත රජුට මේ තුන් විධාවන් දෙසී ය.

18 බමුණ, ඉක්බිත්තෙන් පෙරෙවි බමුණු තෙම මහාවිජිත රජුට යඥයෙන් පෙරාතු ව ම දන් පිළිගන්නවුන් කෙරෙහි විපිළිසර දස අයුරෙකින් දුරු ලී ය (ඒ මෙසේ ය.) "පින්වත්හුගේ යඥයට පණිවා කරන්නෝ ද පණිවායෙන් වැළැකුණෝ ද එන්නාහු ම ය. ඔවුන් අතුරෙහි යම් කෙනෙක් පණිවා කරන්නෝ නම් එයින් වරද ඔවුනට ම ය. ඔවුන් අතුරෙහි යම් කෙනෙක් පණිවායෙන් වැළැක්කෝ නම් භවත් තෙමේ ඔවුන් ඇරැබැ යජා වා භවත් තෙමේ ඔවුන් ඇරැබැ පරිත්‍යාග කෙරේවා භවත් තෙමේ සතුටු වේ වා, භවත් තෙමේ ඇතුළෙහ සිත ම පහදු වා පින්වත්හුගේ යඥයට අසිනාදන් කරන්නෝ ද අසිනාදනින් වැළැක්කෝ ද, කාමයන්හි වරදවා හැසිරෙන්නෝ ද එයින් වැළැක්කෝ ද මුසවා කියන්නෝ ද එයින් වැළැක්කෝ ද ..පෙසුන් තෙපලන්නෝ ද එයින් වැළැක්කෝ ද ..පරොස්-බස් බණින්නෝ ද එයින් වැළැක්කෝ ද බොල් බස් දොඩන්නෝ ද එයින් වැළැක්කෝ ද දැඩි ලොභාබියෝ ද දැඩිලොභාබි නොවන්නෝ ද ද්වෙෂ සහිත සිතැත්තෝ ද එබඳු සිත් නැත්තෝ ද මිසදිටුවෝ ද සම්දිටුවෝ ද එන්නාහු ම ය. ඔවුනතුරෙහි යම් කෙනෙක් මිසදිටු ගතුවෝ නම් එයින් අවැඩ ඔවුනට ම ය ඔවුනතුරෙහි යම් කෙනෙක් සම්දිටුහු නම් ඔවුන් අරමුණු කොට පින්වත් තෙමේ යාගය කෙරේ වා පින්වත් තෙමේ සතුටු වේ වා ඇතුළත සිත ම පින්වත් තෙමේ පහදු වා"යනු යි

බමුණ, පෙරෙවි බමුණු තෙමේ මහාවිජිත රජුට යාගයෙන් පෙරාතු ව ම මේ දසඅයුරින් යාග පිළිගන්නවුන් කෙරේ (වියැ හැකි) විපිළිසර දුරු ලී ය.

19 බමුණ, ඉක්බිති පෙරෙවි බමුණු තෙම මහායඥය යජන මහාවිජිත රජුගේ සිතට සොළොස් අයුරෙකින් කරුණු දැක්වී ය, කරුණු ගැන්වී ය, එහි සිත තියුණු කෙළේ ය, එහි සිත තුටුපහටු කෙළේ ය (ඒ මෙසේ ය ) "මහායඥයක් යජන පින්වත් රජහට 'මහා විජිත රජ වනාහි මහායඥයක් යජයි එහෙත් ඔහු විසින් නියම්ගම්වැසි වූ ද දනවුවැසි වූ ද අනුයුක්ත ක්‍ෂත්‍රියයෝ නො ම කැඳවන ලද්දුහ එහෙයින් වුවත් රජ තෙමේ මෙබඳු මහායඥයක් යජා'යැ යි මෙසේ කියන්නකු ඇති වියැ හැකි ද, පින්වත් රජුට දහම් නයින් එසේ කියන්නෙක් නම් නැත (කවර හෙයින ? යත් ) පින්වත් රජුහු විසින් නියම්ගම් වැසි වූ ද දනවුවැසි වූ ද අනුයුක්ත ක්‍ෂත්‍රියයෝ කැඳවන ලද්දුහ (එ හෙයිනි).

ඉමිනාපෙතං භවං රාජා ජානාතු. යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං, චිත්තමෙව භවං අන්තරං පසාදෙතු.

20. සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා ‘රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති, නො ච ඛො තස්ස ආමන්තිතා අමච්චා පාරිසජ්ජා නෙගමා චෙව ජානපදා ච–පෙ– බ්‍රාහ්මණමහාසාලා නෙගමා චෙව ජානපදා ච–පෙ– ගහපතිනෙචයිකා නෙගමා චෙව ජානපදා ච. අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී’ති. එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි. භොතා ඛො පන රඤ්ඤා ආමන්තිතා ගහපතිනෙචයිකා නෙගමා චෙව ජානපදා ච. ඉමිනාපෙතං භවං රාජා ජානාතු. යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං චිත්තමෙව භවං අන්තරං පසාදෙතු

21. සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා ‘රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති. නො ච ඛො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන. අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී’ති. එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි. භවං ඛො පන රාජා උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන ඉමිනාපෙතං භවං රාජා ජානාතු. යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං, චිත්තමෙව භවං අන්තරං පසාදෙතු

22. සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා ‘රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති නො ච ඛො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්චසී අඛුද්දාවකාසො දස්සනාය–පෙ– නො ච ඛො අඩ්ඪො මහද්ධනො මහාභොගො පහූතජාතරූපරජතො පහූතවිත්තූපකරණො පහූතධනධඤ්ඤො පරිපුණ්ණකොසකොට්ඨාගාරො –පෙ– නො ච ඛො බලවා චතුරඞ්ගිනියා සෙනාය සමන්නාගතො අස්සවාය ඔවාදපටිකරාය පතපති මඤ්ඤෙ පච්චත්ථිකෙ යසසා–පෙ–නො ච ඛො සද්ධො දායකො දානපති අනාවටද්වාරො සමණබ්‍රාහ්මණකපණද්ධිකවණිබ්බ–කයාචකානං ඔපානභූතො පුඤ්ඤානි කරොති –පෙ– නො ච ඛො බහුස්සුතො තස්ස තස්ස සුතජාතස්ස –පෙ– නො ච ඛො තස්සෙව ඛො පන භාසිතස්ස අත්ථං ජානාති·

මේ කරුණෙනුත් ද, මෙය පින්වත් රජ තෙමේ දන ගනී වා. පින්වත් තෙමේ යාගය කෙරේ වා, පින්වත් තෙමේ දන් දේ වා, පින්වත් තෙමේ යාගයට සතුටු වේ වා, පින්වත් තෙමේ ඇතුළත සිත පහදු වා

20. "මහාවිජිත රජ මහායාගයක් කරයි එහෙත් ඔහු විසින් නියම්ගම්වැසි, දනවුවැසි පොහොසත් බමුණෝත් නො දන්වන ලද්දහ. නියම්ගම්වැසි දනවුවැසි පොහොසත් ගැහැවියෝත් නො දන්වන ලද්දහ. එතෙකුදු වුවත් 'පින්වත් රජු මෙ බඳු මහා යාගයක් කරතැ යි මහා යාගයක් කරනු කැමැති පින්වත් රජුට කියන කිසිවෙක් ඇති විය හැක්කේ ද, පින්වත් රජුට කරුණු සහිත ව එසේ කියන්නෙක් නැත. පින්වත් රජුහු විසින් වනාහි නියම්ගම්වැසි දනවුවැසි සිය යහළුවෝත් අණ පිළිපදනා සෙස්සෝත් දන්වන ලදහ . පොහොසත් බමුණෝත් ...පොහොසත් ගැහැවියෝත් දන්වන ලද්දහ. මේ කාරණයෙනුත්, මෙය භවත් මහරජ තෙමේ දනැ ගනී වා. පින්වත් තෙමේ යාගය කෙරේ වා, පින්වත් තෙමේ දනය දේ වා, පින්වත් තෙමේ සතුටු වේ වා, පින්වත් තෙමේ ඇතුළත සිත ම පහදු වා

21 'මහාවිජිත රජ තෙමේ මහායාගයක් කරයි. එහෙත් හේ මාපිය දෙපසින් අභිජාත නො වේ. සත් වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවු කුස ඇත්තේ නො වේ. ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ නො වේ. නො ගරහන ලද්දේ නො වේ. එහෙත් භවත් රජු මෙ බඳු මහායාගයක් කරතැ, යි මහායාගය කරන භවත් රජුට කියන කිසිවෙක් ඇති විය හැක්ක. එහෙත් භවත් රජහට කරුණු සහිත වැ එසේත් කියන්නෙක් නැත. පින්වත් රජ තෙමේ වූ කලි මා පිය දෙ පසින් අභිජාත ය, සත් වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවු කුස ඇත්තේ ය, ජාතිවාදයෙන් නො හෙළන ලද්දේ ය, නො ගරහන ලද්දේ ය. මේ කරුණෙනුත් මෙය භවත් රජ තෙමේ දනගනී වා භවත් තෙමේ යාගය කෙරේ වා, භවත් තෙමේ දනය දේ වා, භවත් තෙමේ සතුටු වේ වා, භවත් තෙමේ ඇතුළත සිත ම පහදු වා

22. මහා යාගයක් යජනා පින්වත් රජහට "මහාවිජිත රජ වූ කලි මහා යාගයක් යදී. එහෙත් හේ මනා රූ ඇත්තේ නො වේ, දකුම්කලු නො වේ. උතුම් පැහැ සපුයෙන් යුත් නො වේ. උතුම් පැහැ ඇත්තේ නො වේ. බඹහු වැනි කය ඇත්තේ නො වේ දක්මට මහත් ඔවස් ඇත්තේ නො වේ ආඪ්‍ය ද නො වේ. මහත් ධන ඇත්තේ නො වේ මහත් භොග ඇත්තේ නො වේ බොහෝ රන් රිදී ඇත්තේ නො වේ. බොහෝ වස්තූපකරණ ඇත්තේ නො වේ බොහෝ ධනධාන්‍ය ඇත්තේ නො වේ පිරිපුන් බඩුහල් හා කොටුහල් ඇත්තේ නො වේ. ...බසට කන් දෙන, ඔවා පිළිපදනා, බලවත් සිවුරඟ සෙනඟින් සමන්විත නො වේ. සතුරන් සිය යසසින් තවතැ යි නො සිතම් සැදැහැවත් දායකයෙක් දානපතියෙක් හළ දොරත්තෙක් නො වෙසි මහණ බමුණනට දුගියනට මඟියනට යදිනට පුළනුනට සිවුමංගන්දියෙකැ පිහිටි ළිඳක් මෙන් වැ දන් පින් නො කෙරෙසි ..ඒ ඒ ඇසූ දෑ පිළිබඳ ඇසූ පිරූ තැන් ඇත්තේ නො වෙසි ..මේ මෙ කියන ලද්දෙහි අරුත් ය, මේ මෙ කියන ලද්දෙහි

ඉමිස්සයං ඉමස්ස භාසිතස්ස අත්ථො අයං ඉමස්ස භාසිතස්ස අත්ථො'ති -පෙ- මෙධා ච ඛො පණ්ඩිතො වියත්තො මෙධාවී පටිබලො අතීතානාගතපච්චුප්පන්නෙ අත්ථෙ චින්තෙතුං -පෙ- අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී'ති.

එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි. භවං ඛො පන රාජා -පෙ- පණ්ඩිතො වියත්තො මෙධාවී පටිබලො අතීතානාගතපච්චුප්පන්නෙ අත්ථෙ චින්තෙතුං. ඉමිනාපෙතං භවං රාජා ජානාතු යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං, චිත්තමෙව භවං අන්තරං පසාදෙතු

23. සියා ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා: 'රජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති. නො ච ඛවස්ස පුරොහිතො බ්‍රාහ්මණො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච. සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා. අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන. අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී'ති. එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි. භොතො ඛො පන රඤ්ඤො පුරොහිතො බ්‍රාහ්මණො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච සංසුද්ධගහණිකො යාව සත්තමා පිතාමහයුගා, අක්ඛිත්තො අනුපක්කුට්ඨො ජාතිවාදෙන. ඉමිනාපෙතං භවං රාජා ජානාතු යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං චිත්තමෙව භවං අන්තරං පසාදෙතු

24. සියං ඛො පන භොතො රඤ්ඤො මහායඤ්ඤං යජමානස්ස කොචිදෙව වත්තා 'රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති නො ච ඛවස්ස පුරොහිතො බ්‍රාහ්මණො අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ සනිඝණ්ඩුකෙටුභානං සාක්ඛරප්පභෙදානං ඉතිහාසපඤ්චමානං පදකො වෙය්‍යාකරණො ලොකායතමහාපුරිසලක්ඛණෙසු අනවයො -පෙ- නො ච ඛවස්ස පුරොහිතො බ්‍රාහ්මණො සීලවා වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො -පෙ- නො ච ඛවස්ස පුරොහිතො බ්‍රාහ්මණො පණ්ඩිතො වියත්තො මෙධාවී පඨමො වා දුතියො වා සුජං පග්ගණ්හන්තානං අථ ච පන භවං රාජා එවරූපං මහායඤ්ඤං යජතී'ති එවම්පි භොතො රඤ්ඤො වත්තා ධම්මතො නත්ථි

අරුත් යැ යි ඒ ඒ භාෂිතයේ අරුත් නො දනී...පණ්ඩිත ද ව්‍යක්ත ද නුවණැති ද අශුනාවත්මත් ද සිතනු සමත් ද නො වේ. .එහෙත් භවත් රජු මෙ බඳු මහා යඥයක් යජතැ''යි මෙසේ දෙස් කියන්නකු වියැ හැක්කේ ද, පින්වත් රජුහට එසේ කරුණු සහිත වැ කියන්නෙක් නම් නැත

පින්වත් රජ තෙමේ වනාහි.. පණ්ඩිත ය, ව්‍යක්ත ය, නුවණැත්තේ ය. අශුනාවත්මත්හි අරුත් සිතන්නට සමත් ය. මෙ කරුණින් ද පින්වත් රජ තෙමේ (යඥයට කලැ යි) මෙය දනී වා. පින්වත් තෙමේ යඥය කෙරේ වා පින්වත් තෙමේ දානය දේ වා පින්වත් තෙමේ (ස්වකීය යඥයෙහි) සතුටු වේ වා, පින්වත් තෙමේ සිත ඇතුළත පැහැදීම ම කෙරේ වා.

23. මහා යඥයක් යජනා පින්වත් රජුට ''මහාවිජිත රජ වනාහි මහා යඥයක් කරයි එහෙත් ඔහු පෙරෙවි බමුණු තෙමේ මාපිය දෙපසින් පිරිසිදු උපත ඇතියෙක් නො වේ සත් වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවුකුස ඇතියෙක් නො වේ. ජාතිවාදයෙන් බැහැර නොකරන ලදුයෙක්, නොගරහන ලදුයෙක් නො වේ. එතෙකුදු වුවත් පින්වත් රජු මෙ බඳු මහායඥයක් කරතැ''යි කියන කිසිවකු ඇති වියැ හැකි වතොත්, පින්වත් රජුට කරුණු සහිත වැ එසේ කියන්නෙක් නම් නැත. පින්වත් රජුහුගේ පෙරෙවි බමුණු තෙමේ මවු පසින් ද පිය පසින් ද යන දෙ පසින් ම පිරිසිදු උපත ඇතියෙක් ය සත්වන මීමුතු යුවල තෙක් පිරිසිදු මවු කුස ඇතියෙක් ය ජාතිවාදයෙන් බැහැරැ නො කැරුණෙක් ය. ගැරැහුම් නොලදුයෙක් ය. මෙ කරුණින් ද පින්වත් රජ තෙමේ (යඥයට කලැ යි) මෙය දනී වා පින්වත් තෙමේ යඥය කෙරේ වා. පින්වත් තෙමේ යාගය කෙරේ වා පින්වත් තෙමේ ස්වකීය යඥයෙහි සතුටු වේ වා' පින්වත් තෙමේ සිත ඇතුළත පැහැදීම ම කෙරේ වා.

24 මහා යඥයක් කරන පින්වත් රජුට, ''මහාවිජිත රජ වනාහි මහා යඥයක් කෙරෙයි එහෙත් ඔහු පෙරෙවි බමුණු තෙමේ වේද හදාරන්නෙක්, වේදය සිතැ දරන්නෙක්, නිඝණ්ටු කෙටුභශාස්ත්‍ර සහිත, අක්ෂරප්‍රභේද සහිත, ඉතිහාසය පස්වනු කොට ඇති තුන් වේදයන්හි පරතෙරට ගියෙක් නො වේ යැ යි ද, පද දන්නෙක්, වියරණෙහි නිපුනයෙක්, ලෝකායත ශාස්ත්‍ර-යෙහිත් මහාපුරුෂලක්ෂණ ශාස්ත්‍රයෙහිත් අනූනයෙක් නො වේ යැ යි ද...

ඔහු පෙරෙවි බමුණා සිල්වතෙක්, වැඩුණු සිල් ඇත්තෙක්, වැඩුණු ශීලයෙන් සමන්විතයෙක් නො වේ යැ යි ද...

ඔහු පෙරෙවි බමුණා පණ්ඩිත ද නො වේ යැ යි, ව්‍යක්ත ද නො වේ යැ යි, නුවණැති ද නො වේ යැ යි, හෝම සැන්ද ඔසොවන්නවුන් ගෙන් පළමු වැන්නා හෝ දෙවැන්නා හෝ නො වේ යැ යි, එතෙකුදු වුවත් පින්වත් මගරජ මෙ බඳු මහා යඥයක් කෙරේ යැ' යි ද කියන කිසිවකු ඇති වියැ හැක්ක එහෙත් කරුණු සහිත වැ එසේ කියන්නෙක් නම් නැත.

භොතො ඛො පන රඤ්ඤො පුරොහිතො බ්‍රාහ්මණො පණ්ඩිතො වියත්තො මෙධාවී පඨමො වා දුතියො වා සුජම්පග්ගණ්හන්තානං. ඉමිනාපෙතං භවං රාජා ජානාතු යජතං භවං, සජ්ජතං භවං, මොදතං භවං, චිත්තමෙව භවං අන්තරං පසාදෙතූ'ති

ඉමෙහි ඛො බ්‍රාහ්මණ, පුරොහිතො බ්‍රාහ්මණො රඤ්ඤො මහාවිජිතස්ස මහායඤ්ඤං යජමානස්ස සොළසහි ආකාරෙහි චිත්තං සන්දස්සෙසි, සමාදපෙසි, සමුත්තෙජෙසි, සම්පහංසෙසි

25. තස්මිං ඛො බ්‍රාහ්මණ යඤ්ඤෙ නෙව ගාවො හඤ්ඤිංසු, න අජෙළකා හඤ්ඤිංසු, න කුක්කුටසූකරා හඤ්ඤිංසු, න විවිධා පාණා සංඝාතං ආපජ්ජිංසු, න රුක්ඛා ඡිජ්ජිංසු[1] යූපත්ථාය, න දබ්බා ලූයිංසු බරිහිසත්ථාය[2] යෙ'පි'ස්ස අහෙසුං දාසා'ති වා පෙස්සා'ති වා කම්මකරා'ති වා, තෙ'පි න දණ්ඩතජ්ජිතා න භයතජ්ජිතා න අස්සුමුඛා රුදමානා පරිකම්මානි අකංසු අථ ඛො යෙ ඉච්ඡිංසු තෙ අකංසු යෙ න ඉච්ඡිංසු න තෙ අකංසු යං ඉච්ඡිංසු තං අකංසු යං න ඉච්ඡිංසු න තං අකංසු. සප්පිතෙලනවනීතදධිමධුඵාණිතෙන චෙව සො යඤ්ඤො නිට්ඨානමගමාසි.

26 අථ ඛො බ්‍රාහ්මණ ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච අමච්චා පාරිසජ්ජා නෙගමා චෙව ජානපදා ච, බ්‍රාහ්මණමහාසාලා නෙගමා-චෙව ජානපදා ච, ගහපතිනෙචයිකා නෙගමා චෙව ජානපදා ච පහූතං සාපතෙය්‍යං ආදාය රාජානං මහාවිජිතං උපසඞ්කමිත්වා එවමාහංසු "ඉදං දෙව පහූතං සාපතෙය්‍යං දෙවඤ්ඤෙව උද්දිස්ස ආභතං තං දෙවො පටිග්ගණ්හාතූ"ති.

"අලං භො මමපි ඉදං පහූතං සාපතෙය්‍යං ධම්මිකෙන බලිනා අභිසඞ්ඛතං. තඤ්ච වො හොතු ඉතො ච භිය්‍යො හරථා"ති

27 තෙ රඤ්ඤා පටික්ඛිත්තා එකමන්තං අපක්කම්ම එවං සමචින්තෙසුං "න ඛො එතං අම්හාකං පතිරූපං යං මයං ඉමානි සාපතෙය්‍යානි පුනදෙව සකානි ඝරානි පටිහරෙය්‍යාම රාජා ඛො මහාවිජිතො මහායඤ්ඤං යජති හන්දස්ස මයං අනුයායිනො හොමා"ති

1 රුක්ඛා ඡින්දිංසු, (කත්ථචි) 2. පරිසිංසත්ථාය, (කත්ථචි)

පින්වත් රජුගේ පෙරෙවි බමුණා වනාහි පණ්ඩිත ය, ව්‍යක්ත ය, නුවණැත්තේ ය හෝම සැන්ද ඔසොවන්නන් අතුරෙහි පළමු වැන්නා හෝ දෙවැන්නා ය පින්වත් රජ තෙමේ මෙසිනුත් (යඥයට කාලය යැ සි) මෙය දැනී වා පින්වත් තෙමේ යාගය කෙරේ වා පින්වත් තෙමේ යාගයෙහි සතුටු වේ වා පින්වත් තෙමේ සිත ඇතුලත පැහැදීම ම කෙරේ වා''

බමුණ, ඒ පෙරෙවි බමුණා මහා යාගයක් කරන්නට සැරසෙන මහාවිජිත රජුහුගේ සිත මේ සොළොස් අයුරින් කරුණු දක්වා මෙහෙයී ය, සිතට ගැන්වී ය, සිත උනන්දු කෙළේ ය, පැසැසීමෙන් සිත සතුටු කෙළේ ය.

25 ඒ යාගයෙහි වූ කලී ගෙරිහු නො මරන ලදහ. එළුබිරෙළුවෝ නො මරන ලදහ. කුකුළෝ හූරෝ නො මරන ලදහ නොයෙක් ලිහිණි ඈ සත්හු වනසට නො පැමිණියහ. යාග කණු පිණිස රුක්හු නො සිඳින ලදහ. යාගශාලාව පිරිකෙව්ම පිණිස හෝ යාග බිමැ ඇතිරීම පිණිස කුස තණ නො සිඳින ලද්දේ ය. ඔහුගේ දාසයෝ සී හෝ මෙහෙකරුවෝ සී හෝ කම්කරුවෝ සී කියන ලද යම් කෙනෙක් වූහු නම්, ඔහුත් දඬු ගැන්මෙන් නො තෙජනු ලදුවෝ, බිය දැනැවීමෙන් නො තෙජනු ලදුවෝ, කඳුලෙන් තෙමුණු මුහුනු ඇති වැ නො ම හඬනුවෝ, (පිය බසින් ම මෙහෙයුණෝ) කටයුතු දෑ කළහ වැලි දු යම් කෙනෙක් කැමැත්තෝ නම්, ඔහු එහි කටයුතු දැය කළහ. යම් කෙනෙක් නොකැමැත්තෝ නම්, ඔහු එය නො කළහ . ගිතෙල් තලතෙල් වෙඬරු දිහි මී සකුරින් මුසු වූ කැඳ බත් ආදියෙන් ම ඒ යඥය නිමාවට පැමිණියේ ය.

26. එ කල්හි නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් එ රජු ගේ කටයුතුවලැ යෙදී වසන බමුණෝ ද ක්‍ෂත්‍රියයෝ ද, නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් ඇමැත්තෝ ද පිරිස්වැස්සෝ ද, නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් බමුණු මහසල්කුල වැස්සෝ ද, නියම්ගම්වැසි වූත් දනවුවැසි වූත් ගැහැවි මහසල්කුල වැස්සෝ ද බොහෝ ධනය (ගැල් පුරා) නාගා ගෙන මහාවිජිත රජු කරා එළැඹැ, ''දේවයන් වහන්ස, මේ බොහෝ ධනය දේවයන් වහන්සේ ම උදෙසා ගෙනෙන ලද්දේ ය එය දේවයන් වහන්සේ පිළිගන්නා සේක් වා'' සී මෙසේ කීහ

(එසසා,) ''පින්වත්නි, (තොප ධනයෙන්) කම් නැත මගේ ද දැහැමි කරවුවරින් රැස් කළ මේ බොහෝ ධනය ඇත්තේ ය. (එ බැවින් තොප ගෙනා) ඒ ධනයත් තොපට ම වේ වා මොබිනුත් තවත් ගෙන යවු''සී රජ කී ය

27 ඔහු රජු විසින් නොගිවිස්නා ලද්දෙ එක් පැත්තකට ගොස්, ''මේ ධන නැවැත අප ගෙවලට ගෙනැ යෑම අපට නො හොබනේ ය. මහාවිජිත රජු වූ කලී මහා යාගයක් කෙරෙසි. එ බැවින් අපි ඔහුට අනුයාග කරන්නමෝ වමු''සී මෙසේ කතා කැරැ ගත්හ.

අථ බො බ්‍රාහ්මණ පුරත්ථිමෙන යඤ්ඤවාටස්ස ඛත්තියා අනුයුත්තා නෙගමා චෙව ජානපදා ච ධනානි පට්ඨපෙසුං. දක්ඛිණෙන යඤ්ඤවාටස්ස අමච්චා පාරිසජ්ජා නෙගමා චෙව ජානපදා ච ධනානි පට්ඨපෙසුං පච්ඡිමෙන යඤ්ඤවාටස්ස බ්‍රාහ්මණමහාසාලා නෙගමා චෙව ජානපදා ච ධනානි පට්ඨපෙසුං උත්තරෙන යඤ්ඤවාටස්ස ගහපතිනෙචයිකා නෙගමා චෙව ජානපදා ච ධනානි පට්ඨපෙසුං තෙසු'පි බො බ්‍රාහ්මණ යඤ්ඤෙසු නෙව ගාවො හඤ්ඤිංසු, න අජෙළකා හඤ්ඤිංසු, න කුක්කුටසූකරා හඤ්ඤිංසු, න විවිධා පාණා සංඝාතං ආපජ්ජිංසු, න රුක්ඛා ඡිජ්ජිංසු යූපත්ථාය, න දබ්භා ලූයිංසු බරිහිසත්ථාය යෙ'පි නෙසං අහෙසුං දාසා'ති වා පෙස්සා'ති වා කම්මකරා'ති වා තෙ'පි න දණ්ඩතජ්ජිතා න භයතජ්ජිතා න අස්සුමුඛා රුදමානා පරිකම්මානි අකංසු අථ බො යෙ ඉච්ඡිංසු තෙ අකංසු යෙ න ඉච්ඡිංසු න තෙ අකංසු යං ඉච්ඡිංසු, තං අකංසු. යං න ඉච්ඡිංසු, න තං අකංසු සප්පිතෙලනවනීතදධිමධුඵාණිතෙන චෙව තෙ යඤ්ඤා නිට්ඨාන-මගමංසු.

28 ඉති චත්තාරො ච අනුමතිපක්ඛා, රාජා මහාවිජිතො අට්ඨහඞ්ගෙහි සමන්නාගතො, පුරොහිතො බ්‍රාහ්මණො චතුහඞ්ගෙහි සමන්නාගතො, තිස්සො ච විධා. අයං වුච්චති බ්‍රාහ්මණ තිවිධා යඤ්ඤසම්පදා සොළස-පරික්ඛාරා'ති

29. එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා උන්නාදිනො උච්චාසද්දමහාසද්දා අහෙසුං: "අහො යඤ්ඤො අහො යඤ්ඤසම්පදා"'ති. කූටදන්තො පන බ්‍රාහ්මණො තුණ්හීභූතො'ව නිසින්නො හොති අථ බො තෙ බ්‍රාහ්මණා කූටදන්තං බ්‍රාහ්මණං එතදවොචුං: කස්මා පන භවං කූටදන්තො සමණස්ස ගොතමස්ස සුභාසිතං සුභාසිතතො නාබ්භනුමොදතී ? ති

"නාහං භො සමණස්ස ගොතමස්ස සුභාසිතං සුභාසිතතො නාබ්භනු-මොදාමි. මුද්ධාපි තස්ස විපතෙය්‍ය යො සමණස්ස ගොතමස්ස සුභාසිතං සුභාසිතතො නාබ්භනුමොදෙය්‍ය අපි ච මෙ භො එවං හොති. න සමණො ගොතමො එවමාහ. 'එවං මෙ සුත්තන්ති වා එවං අරහති භවිතුන්ති' වා අපි ච සමණො ගොතමො: 'එවං තදා ආසි ඉත්ථං තදා ආසි'ත්වෙව භාසති තස්ස මය්හං භො එවං හොති "අද්ධා සමණො ගොතමො තෙන සමයෙන රාජා වා අහොසි මහාවිජිතො යඤ්ඤසාමි, පුරොහිතො වා බ්‍රාහ්මණො තස්ස යඤ්ඤස්ස යාජෙතා'ති අභිජානාති පන භවං ගොතමො එවරූපං යඤ්ඤං යජිත්වා වා යාජෙත්වා වා කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපජ්ජිතා ?" ති

බමුණ, ඉක්බිති (රජුගේ) දත්හලට පැදුම් දිගැ නිගම්වැසි වූත් දනවුවැසි වූත් රාජසේවක ක්‍ෂත්‍රියයෝ දත් (හල්) පිහිටුවූහ රජුගේ දත්හලට දකුණු දිගැ නිගම්වැසි වූත් ජනවුවැසි වූත් ඇමැත්තෝත් පිරිස්වැස්සෝත් දත් (හල්) පිහිටුවූහ (රජුගේ) දත්හලට පැසිම් දිගැ නිගම්වැසි වූත් ජනවුවැසි වූත් බමුණුමහසල්වැසියෝ දත් (හල්) පිහිටුවූහ. (රජුගේ) දත්හලට උතුරු දිගැ නිගම්වැසිවූත් ජනවුවැසි වූත් ගැහැවි මහසල් වැසියෝ දත් (හල්) පිහිටුවූහ

බමුණ, ඒ යාගයෙහි (දානයෙහි) ද ගෙරිහු නො ම මරන ලදහ. එළුතිරෙළුවෝ නො ම මරණ ලදහ කුකුළෝත් නො ම මරණ ලදහ. නන් සත්තු මරණයට නො පැමිණියහ යාග සඳහා රුක්හු නො ම සිඳුනා ලදහ වනමල් අවුණා මල් දම් කොටැ දත්හල වටා ලනු පිණිසත් හිඳ ගත්තට යාග බිමැ අතුරනු පිණිසත් කුස තණ නො ම සිඳුනා ලද්දේ ය ඔවුන්ගේ දසයෝ සී හෝ මෙහෙකරුවෝ සී හෝ කම්කරුවෝ සී කියන ලද යම් කෙනෙක් වූනු නම්, ඔහු දී දඬුයෙන් තෙජනා ලදුවෝ හෝ බිය දැනැවීමෙන් තෙජනා ලදුවෝ හෝ කඳුළු මුසු මුහුනැති වැ හඬන්නෝ හෝ එහි කටයුතු නො කළහ වැලි කටයුතු කරනු කැමැතියෝ ම කටයුතු කළහ නොකැමැතියෝ නො ම කළහ. ඒ යඥයෝ (දානයෝ) ගිතෙල් තලතෙල් වෙඬරු දිහි මී සකුරෙන් හා කැඳ බත් ආදියෙන් ම නිමාවට ගියහ.

28 බමුණ, මෙසේ යාගය කිරීමට අනුමතිය දුන් පක්‍ෂ සතර ද, අටඟින් යුත් මහාවිජිත රජ ද, සිවුරඟින් යුත් පෙරෙවි බමුණා ද, තුර ච පිහිටියැ යුතු තුන් තැන් ද යන මොහු තුන් වැදෑරුම් යාග සම්පතුත් සොළොස් යාග පිරිකරත් ය

29. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ කල්හි, ඒ බමුණෝ "යාග නම් මෙසේ වුව මැනව, යාගසම්පත් නම් මේ මැ යැ "යි ගුගුරන්නෝ උස් හඬ ඇත්තෝ, මහහඬ ඇත්තෝ වූහ. කූළුදත් බමුණු වනාහි නිහඬ ව ම උන්නේ වෙයි. එ කලැ ඒ බමුණෝ කූළුදත් බමුණාට "පින්වත් කූළුදත් තෙමේ කවර හෙයින් මහණ ගොයුමාණන්ගේ සුබැසිය සුබැසි විසින් නො අනුමොවී ද ?"යි කීහ

"මම් මහණ ගොයුමන් වහන්සේගේ සුබැසිය සුබැසි විසින් නො-අනුමෙවුනෙම් නො වෙම් යමෙක් මහණ ගොයුමන් වහන්සේගේ සුබැසිය සුබැසි විසින් නො අනුමෙවුනේ වී නම්, ඔහු හිස ගිලි හෙන්නේ ය. වැලි 'මා විසින් මෙය ඇසිණැ' යි හෝ 'මෙසේ වියැ යුතු යැ' යි හෝ මහණ ගොයුමන් වහන්සේ මෙසේ නො වදාළ සේක එහෙත් උන් වහන්සේ 'එදා මෙසේ වි ය එදා මෙ පරිද්දෙන් වී යැ' යි ම වදාරන සේක. භවත්නි, ඒ මට 'ඒකාන්තයෙන් මහණ ගොයුමන් වහන්සේ එ කලැ යාගස්වාමි වූ මහාවිජිත රජ හෝ වුව මැනැව, ඔහු යාගය කැරවූ පෙරෙවි බමුණා හෝ වුව මැනැවැ'යි මෙසේ සිතෙක් වෙයි පින්වත් ගොයුමාණන් වහන්සේ 'මෙ බඳු යඥයක් යැදූ හෝ යදවා (දනක් දී හෝ දෙවා) කාබුත් මරණින් මතු මනා ගති ඇති සග ලොවට පැමිණෙන්නේ යැ'යි පිළිත කරත සේක් ද ?"යි කූළුදත් බමුණු කී ය.

“අභිජානාමහං බ්‍රාහ්මණ එවරූපං යඤ්ඤං යජිත්වා වා යාජෙත්වා වා කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපජ්ජිතා. අහං තෙන සමයෙන පුරොහිතො බ්‍රාහ්මණො අහොසිං තස්ස යඤ්ඤස්ස යාජෙතා”ති.

30. “අත්ථි පන භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය අප්පට්ටතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා?” ති

“අත්ථි ඛො බ්‍රාහ්මණ අඤ්ඤො යඤ්ඤො ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය අප්පට්ටතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා”ති.

31 කතමො පන සො භො ගොතම යඤ්ඤො ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළස පරික්ඛාරාය අප්පට්ටතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා?” ති.

“යානි ඛො පන තානි බ්‍රාහ්මණ නිච්චදානානි අනුකුලයඤ්ඤානි සීලවන්තෙ පබ්බජිතෙ උද්දිස්ස දීයන්ති, අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය අප්පට්ටතරො[1] ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා”ති.

32. කො නු ඛො භො ගොතම හෙතු කො පච්චයො යෙන තං නිච්චදානං අනුකුලයඤ්ඤං ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය අප්පට්ටතරඤ්ච අප්පසමාරම්භතරඤ්ච මහප්ඵලතරඤ්ච මහානිසංසතරඤ්චා?”ති

න ඛො බ්‍රාහ්මණ එවරූපං යඤ්ඤං උපසඞ්කමන්ති අරහන්තො වා අරහත්තමග්ගං වා සමාපන්නා තං කිස්ස හෙතු? දිස්සන්ති හෙත්ථ බ්‍රාහ්මණ දණ්ඩප්පහාරා'පි ගලග්ගාහා'පි තස්මා එවරූපං යඤ්ඤං න උපසඞ්කමන්ති අරහන්තො වා අරහත්තමග්ගං වා සමාපන්නා යානි ඛො පන තානි බ්‍රාහ්මණ නිච්චදානානි අනුකුලයඤ්ඤානි සීලවන්තෙ පබ්බජිතෙ උද්දිස්ස දීයන්ති, එවරූපං ඛො බ්‍රාහ්මණ යඤ්ඤං උපසඞ්කමන්ති අරහන්තො වා අරහත්තමග්ගං වා සමාපන්නා. තං කිස්ස හෙතු? න හෙත්ථ බ්‍රාහ්මණ දිස්සන්ති දණ්ඩප්පහාරාපි ගලග්ගාහාපි තස්මා එවරූපං යඤ්ඤං උපසඞ්කමන්ති අරහන්තො වා අරහත්තමග්ගං වා සමාපන්නා. අයං ඛො බ්‍රාහ්මණ හෙතු අයං පච්චයො යෙන තං නිච්චදානං අනුකුලයඤ්ඤං ඉමාය තිවිධාය යඤ්ඤසම්පදාය සොළස පරික්ඛාරාය අප්පට්ටතරඤ්ච අප්පසමාරම්භතරඤ්ච මහප්ඵලතරඤ්ච මහානිසංසතරඤ්චා”ති.

---

1. අප්පට්ඨතරො (සමර)

“බමුණ මෙ බඳු යාගයක් කොට හෝ කරවා කාබුත්මරණින් මතු මතා ගති ඇති සග ලොවට පැමිණෙත්තේ යැ’යි පිළිත කෙරෙමි එ සමයෙහි ඒ යාගය කරවූ පෙරෙවි බමුණා මම වීමි”යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක

30. “පින්වත් ගෞතමයන් වහන්ස, සොළොස් පිරිකරක් ඇති මේ තුන් වැදූරුම් යාග සම්පතට වඩා අල්ප කටයුතු ඇති, අල්ප උත්සාහයෙන් සිදු කට හැකි (එහෙත්) වඩා මහත් පල ඇති, වඩා මහත් අනුසස් ඇති අන් යාගයෙක් ඇත්තේ දැ?”යි කුළුදත් බමුණා විචාළේ ය

“බමුණ, සොළොස් පිරිකරක් ඇති මේ තුන් යාග සම්පතට වඩා අල්ප කටයුතු ඇති, අල්ප උත්සාහයෙන් සිදු කට හැකි, වඩා මහත් පල ඇති, වඩා මහත් අනුසස් ඇති අන් යාගයෙක් ඇත්තේ යැ”යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

31 “පින්වත් ගෞතමයන් වහන්ස, සොළොස් පිරිකරක් ඇති මේ තුන් යාග සම්පතට වඩා අල්ප කෘත්‍ය ඇති, වඩා අල්ප උත්සාහයෙන් සිදු කට හැකි, එහෙත් එයට වඩා මහත් පල ඇති, වඩා මහත් අනුසස් ඇති ඒ යාගය කවරේ දැ?”යි (කුළුදත් ඇසී ය)

“බමුණ, සිල්වත් පැවිද්දන් උදෙසා කුලපරපුරෙහි දෙන යම් නිති දන් (හැම දා ම දෙන දන්) කෙනෙක් වෙත් නම්, බමුණ, ඒ මේ යාගය මෙ කී සොළොස් පිරිකරක් ඇති තුන් යාග සම්පතට වඩා අල්ප කෘත්‍ය ඇති අල්ප උත්සාහයෙන් සිදු කට හැකි, එහෙත් එයට වඩා මහත් පලත් මහත් අනුසසුත් ඇති එකෙකැ”යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

32. “පින්වත් ගෞතමයන් වහන්ස, ඒ නිති දෙන අනුකූල යඥය යමෙකින් සොළොස් පිරිකරක් ඇති මේ ත්‍රිවිධ යඥසම්පතට වඩා අල්ප කෘත්‍ය ඇතියෙක්, වඩා අල්පොත්සාහයෙන් සිදු කට හැකියෙක්, එහෙත් එයට වඩා මහත් පලක් මහත් අනුසසුත් ඇතියෙක් වන්නේ නම්, ඒ හේතුව ඒ ප්‍රත්‍යයය කවරේ දැ?” (යි කුළුදත් පුළුවුත)

“බමුණ, එ බඳු යාගයකට (දානයකට) රහත්හු හෝ රහත්මග පිළිපන්නෝ හෝ නො ම එළැඹෙත් ඒ කවර හෙයින් ද? යත්. බමුණ, එ බඳු මහා යඥයෙහි ‘පිළිවෙළින් සිටිවූ’ යන ආදීන් කියා දන් ලබන්නවුනට දඬුයෙන් පැහැරුම් ද ගෙල ගැනුම් ද දක්නා ලැබේ. එහෙයින් එබඳු යඥයට රහත්හු හෝ රහත්මගට පිළිපන්නෝ හෝ නො එළැඹෙත් බමුණ, සිල්වත් පැවිද්දන් උදෙසා කුලපරපුරෙහි දෙන යම් නිතිදන් කෙනෙක් වෙත් නම්, එබඳු යඥයට රහත්හු ද රහත්මගට පිළිපන්නෝ ද එළැඹෙත් ඒ කවර හෙයින? යත්: බමුණ, මෙ බඳු යඥයෙහි දඬුයෙන් පැහැරුම් හෝ ගෙල ගැනුම් හෝ දක්නා නො ලැබේ එහෙයින් මෙබඳු යඥයට රහත්හු ද රහත්මග වන්නෝ ද එළැඹෙත්. බමුණ, ඒ කුලපරපුරු දෙන නිති දන යමෙකින් මෙ කී සොළොස් පිරිකරක් ඇති ත්‍රිවිධ යඥසම්පතට, වඩා අල්ප කටයුතු ඇති, අල්ප උත්සාහයෙන් සිදු කට හැකි, එහෙත් වඩා මහත්පල ද මහත් අනුසස් ද ඇති එකෙක් වේ නම්, මේ එයට හේතුව ය, මේ ප්‍රත්‍යය ය.’

33. "අත්ථි පන භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ? ති

"අත්ථි ඛො බ්‍රාහ්මණ අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන අප්පට්ඨතරො ච අප්පසමාරබ්භතරො ච මහප්ඵලතරො මහානිසංසතරො චා"ති.

"කතමො පන සො භො ගොතම යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ? ති.

"යො ඛො බ්‍රාහ්මණ චාතුද්දිසං සඞ්ඝං උද්දිස්ස විහාරං කරොති, අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන අප්පට්ඨතරො ච අප්පසමා-රම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ති.

34. "අත්ථි පන භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵල-තරො ච මහානිසංසතරො චා" ? ති

"අත්ථි ඛො බ්‍රාහ්මණ අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ති

"කතමො පන සො භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන අප්පට්ඨතරො ච මහප්ඵලතරො ච මහානිසංස-තරො චා" ? ති.

"යො ඛො බ්‍රාහ්මණ පසන්නචිත්තො බුද්ධං සරණං ගච්ඡති, ධම්මං සරණං ගච්ඡති, සඞ්ඝං සරණං ගච්ඡති, අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන අප්පට්ඨතරො ච අප්පසමා-රම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ති.

35. "අත්ථි පන භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ? ති.

33 (කූටදන්ත) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ සොළොස් පිරිකරක් ඇති තුන් වැදෑරුම් යාගසම්පතටත් මේ කුලපරපුරෙහි දෙන නිති දනටත් වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ උත්සාහයෙකින් සිදු කට හැකි, එහෙත් මේ හැමට වඩා මහත් පලත් මහත් අනුසසුත් ඇති අන් යඥයෙක් ඇත් ද ?"

(භාග්‍යවතුන් වහන්සේ) "බමුණ, මේ සොළොස් පිරිකරක් තුන්-වැදෑරුම් යාගසම්පතටත් කුලපරපුරෙහි දෙන නිති දනටත් වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ උත්සාහයෙකින් සිදු කට හැකි, එහෙත් ඒ හැමට වඩා මහත් පලත් මහත් අනුසසුත් ඇති අන් යඥයෙක් ඇත."

(කූටදන්ත) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ සොළොස් පිරිකරක් ඇති තුන්වැදෑරුම් යාගසම්පතටත් . නිති දනටත් වඩා මඳ කටයුතු ඇති ..වඩා මහත් අනුසස් ඇති ඒ යඥය කවරේ ද ?"

(භාග්‍යවතුන් වහන්සේ·) "බමුණ, යමෙක් චතුර්දිශ සතර දිගින් වඩනා භික්ෂුසංඝයා උදෙසා වෙහෙරක් කෙරේ නම්, ඒ මේ යඥය මෙහි පළමු කී... තුන්වැදෑරුම්යාග සම්පතටත් ..නිති දනටත් වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ උත්සාහයෙකින් සිදු කට හැකි, එහෙත් වඩා මහත් පල හා අනුසස් හා ඇති යඥයෙකි."

34. (කූටදන්ත·) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ...ත්‍රිවිධ යඥ-සම්පතටත් .මේ විහාරදානයටත් වඩා මඳ කටයුතු ඇති ..වඩා මහත් පල හා අනුසස් හා ඇති අන් යඥයෙක් ඇත් ද ?"

(භාග්‍යවතුන් වහන්සේ·) "බමුණ, මේ . ත්‍රිවිධ යඥසම්පතටත් මේ විහාරදානයටත් වඩා මඳ කටයුතු ඇති වඩා මහත්ඵල හා අනුසස් හා ඇති අන් යඥයෙක් ඇත."

(කූටදන්ත) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ ත්‍රිවිධ යඥසම්පතටත් මේ විහාරදානයටත් වඩා මඳ කටයුතු ඇති...වඩා මහත් පල හා අනුසස් හා ඇති ඒ අන් යඥය කවරේ ද ?"

(භාග්‍යවතුන් වහන්සේ·) "බමුණ, යමෙක් පහන් සිතැත්තේ බුදුන් සරණ යේ ද, දහම් සරණ යේ ද, සඟ සරණ යේ ද, බමුණ, ඒ මේ යඥය වූ කලී මේ පළමු කී . ත්‍රිවිධ යඥසම්පතටත්...විහාරදානයටත් වඩා මඳ කටයුතු ඇයි. වඩා මහත් පල හා අනුසස් හා ඇයි එකෙකි."

35 (කූටදන්ත) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ. .ත්‍රිවිධ යඥ-සම්පතටත් . මේ සරණ ගමනයටත් වඩා මඳ කටයුතු ඇයි.. වඩා මහත් පල හා අනුසස් හා ඇයි අන් යඥයෙක් ඇත්තේ ද ?"

(භාග්‍යවතුන් වහන්සේ:) "බමුණ, මේ .ත්‍රිවිධ යඥසම්පතටත්.. මේ සරණගමනයටත් වඩා මඳ කටයුතු ඇති. .වඩා මහත් පල හා අනුසස් හා ඇයි අන් යඥයෙක් ඇත."

"අත්ථි බො බ්‍රාහ්මණ අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා"ති.

කතමො පන සො භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ? ති

"යො බො බ්‍රාහ්මණ පසන්නචිත්තො සික්ඛාපදානි සමාදියති පාණාතිපාතා වෙරමණිං අදින්නාදානා වෙරමණිං කාමෙසු මිච්ඡාචාරා වෙරමණිං මුසාවාදා වෙරමණිං සුරාමෙරයමජ්ජපමාදට්ඨානා වෙරමණිං, අයං බො බ්‍රාහ්මණ යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා"ති

36. "අත්ථි පන භො ගොතම අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤසම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුල-යඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි ඉමෙහි ච සික්ඛාපදෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා" ? ති

"අත්ථි බො බ්‍රාහ්මණ අඤ්ඤො යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤ-සම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි ඉමෙහි ච සික්ඛාපදෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංස-තරො චා" ? ති.

"කතමො පන සො ගොතම යඤ්ඤො ඉමාය ච තිවිධාය යඤ්ඤ-සම්පදාය සොළසපරික්ඛාරාය ඉමිනා ච නිච්චදානෙන අනුකුලයඤ්ඤෙන ඉමිනා ච විහාරදානෙන ඉමෙහි ච සරණගමනෙහි ඉමෙහි ච සික්ඛාපදෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො චා ?" ති

37. "ඉධ බ්‍රාහ්මණ තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මා-සම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති. සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති

38. තං ධම්මං සුණාති ගහපති වා ගහපතිපුත්තො වා අඤ්ඤතරස්මිං වා කුලෙ පච්චාජාතො, සො තං ධම්මං සුත්වා තථාගතෙ සද්ධං පටිලභති. සො තෙන සද්ධාපටිලාභෙන සමන්නාගතො ඉති පටිසංචික්ඛති· 'සම්බාධො ඝරාවාසො රජොපථො අබ්භොකාසො පබ්බජ්ජා, නයිදං සුකරං අගාරං අජ්ඣාවසතා එකන්තපරිසුද්ධං සඞ්ඛලිඛිතං බ්‍රහ්මචරියං චරිතුං. යන්නූනාහං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජෙය්‍ය'න්ති.

(කූටදන්) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ ත්‍රිවිධ යඥසම්පතටත් මේ සරණගමනයටත් වඩා මද කටයුතු ඇයි ..වඩා මහත් පල හා අනුසස් හා ඇයි ඒ අන් යඥය කවරේ ද ?"

(භාග්‍යවතුන් වහන්සේ) "බමුණ, යමෙක් පහන් සිතැයි වැ (නිසරණයෙකි පිහිට) ප්‍රාණිවධයෙන් වැලැක්ම, අසිනාදනින් වැලැක්ම, කාමයන්හි වරදවා හැසිරීමෙන් වැලැක්ම, මුසවායෙන් වැලැක්ම, මදට පවාවට කරුණු වූ රහමෙරින් වැලැක්ම යන මේ සික කොටස් සමාදන් කොට ගන්නේ නම්, බමුණ මෙය මේ පලමු කී ත්‍රිවිධ යඥසම්පතටත්.. මේ සරණගමනයටත් වඩා මද කටයුතු ඇයි, ..වඩා මහත් පල හා අනුසස් හා ඇයි යඥයක"

36 (කූටදන්) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ . ත්‍රිවිධ යඥසම්පතටත් පව් සික කොටස් සමාදන් කොට ගැන්මටත් වඩා මද කටයුතු ඇති වඩා මහත්පල හා අනුසස් හා ඇයි අන් යඥයෙක් ඇත් ද ?"

(භාග්‍යවතුන් වහන්සේ) "බමුණ, මේ...ත්‍රිවිධ යඥසම්පතටත්. මේ සිල් කොටස් සමාදන් කොට ගැන්මටත් වඩා මද කටයුතු ඇයි. .මහත් පල හා අනුසස් හා ඇයි අන් යඥයෙක් ඇත"

(කූටදන්) "පින්වත් ගෞතමයන් වහන්ස, මේ ත්‍රිවිධ යඥසම්පතටත් මේ සිල්කොටස් සමාදන් කොට ගැන්මටත් වඩා මද කටයුත් ඇයි...වඩා මහත් පල හා අනුසස් හා ඇයි ඒ අන් යඥය කවරේ ද ?"

37 (භාග්‍යවතුන් වහන්සේ) "බමුණ, අර්හත් වූ සම්‍යක්සම්බුද්ධ වූ විද්‍යාචරණසම්පන්න වූ, සුගත වූ, ලෝකවිත් වූ, නිරුත්තර පුරුෂදම්‍යසාරථි වූ, දෙවිමිනිසුන්හට ශාස්තෘ වූ, සිවුසස් අවබෝධ කළ, භාග්‍යවත් වූ, තථාගත තෙමේ මේ ලොවැ උපදී හේ දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත මේ ලොව, – මහණබමුණන් සහිත, දෙව්මිනිසුන් සහිත සත්ත්වප්‍රජාව – තෙමේ ම විශිෂ්ට නුවණින් දැන පසක් කොට (ලොවට) දන්වයි හේ මුල යහපත් මැද යහපත් අග යහපත්, අරුත් සහිත, ව්‍යංජනයෙන් නොඅඩු, හැම අතින් ම පිරිපුන් දහම් දෙසයි. පිරිසිදු සපුන් බඹසර පහළ් කෙරෙයි.

38 ගැහැවියෙක් හෝ ගැහැවිපුතෙක් හෝ අන් එක්තරා කුලයෙකැ උපන්නෙක් හෝ ඒ දහම අසයි හේ එ දහම අසා තථාගතයන් කෙරෙහි සැදැහැව ලබයි හේ ඒ සැදැහැ ලැබීමෙන් යුත් වැ "ගිහි ගෙයි විසීම හිරහැර සහිත ය කෙලෙස් දූලි ගැවැසි මගෙක පැවිද්ද වූ කලී (කිසි අවහිර නැති) එළි මහනෙක ගිහි ගෙහි වසන්නහු විසින් ඒකාන්තයෙන් පිරිපුන් කොට, ඒකාන්තයෙන් පිරිසිදු කොට, මේ සංඛලිඛිතක බ්‍රහ්මචර්‍යය පුරන්නට පහසු නො වේ. එ බැවින් මම් කෙහෙ රවුලු බහා කාසාවත් හැඳ, ගිහි ගෙන් නික්ම පැවිද්දට වදනෙම් නම් යෙහෙකැ"යි මෙසේ නුවණින් සලකයි.

සො අපරෙන සමයෙන අප්පං වා භොගක්ඛන්ධං පහාය මහන්තං වා භොගක්ඛන්ධං පහාය අප්පං වා ඤාතිපරිවට්ටං පහාය මහන්තං වා ඤාතිපරිවට්ටං පහාය කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජති. සො එවං පබ්බජිතො සමානො පාතිමොක්ඛසංවරසංවුතො විහරති ආචාරගොචරසම්පන්නො, අණුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවී සමාදාය සික්ඛති සික්ඛාපදෙසු කායකම්මවචීකම්මෙන සමන්නාගතො කුසලෙන, පරිසුද්ධාජීවො සීලසම්පන්නො ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො භොජනෙ මත්තඤ්ඤූ සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො සන්තුට්ඨො.

39. කථඤ්ච බ්‍රාහ්මණ භික්ඛු සීලසම්පන්නො හොති? ඉධ බ්‍රාහ්මණ භික්ඛු පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතො හොති නිහිතදණ්ඩො නිහිතසත්ථො ලජ්ජී දයාපන්නො සබ්බපාණභූතහිතානුකම්පී විහරති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතො හොති දින්නාදායී දින්නපාටිකඞ්ඛී අථෙනෙන සුචිභූතෙන අත්තනා විහරති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හොති ආරාචාරී විරතො මෙථුනා ගාමධම්මා. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතො හොති සච්චවාදී සච්චසන්ධො ථෙතො පච්චයිකො අවිසංවාදකො ලොකස්ස. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

පිසුණං වාචං පහාය පිසුණාය වාචාය පටිවිරතො හොති. ඉතො සුත්වා න අමුත්‍ර අක්ඛාතා ඉමෙසං භෙදාය. අමුත්‍ර වා සුත්වා න ඉමෙසං අක්ඛාතා අමූසං භෙදාය ඉති භින්නානං වා සන්ධාතා සංහිතානං වා අනුප්පදාතා සමග්ගාරාමො සමග්ගරතො සමග්ගනන්දී සමග්ගකරණිං වාචං භාසිතා හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

ඵරුසං වාචං පහාය ඵරුසාය වාචාය පටිවිරතො හොති. යා සා වාචා නෙලා කණ්ණසුඛා පෙමනියා හදයඞ්ගමා පොරී බහුජනකන්තා බහුජනමනාපා, තථාරූපිං වාචං භාසිතා හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

සම්ඵප්පලාපං පහාය සම්ඵප්පලාපා පටිවිරතො හොති. කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී. නිධානවතිං වාචං භාසිතා කාලෙන සාපදෙසං පරියන්තවතිං අත්ථසංහිතං. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

හේ පසු කලෙක මඳ වූ හෝ ධනසම්පත් හැර, බොහෝ වූ හෝ ධනසම්පත් හැර, මඳ වූ හෝ නෑපිරිස හැර, මහත් වූ හෝ නෑ පිරිස හැර, කෙහෙ රැවුලු බා, කසාවත් හැඳ, ගිහි ගෙන් පැවිදි බිමට වදී. හේ මෙසේ පැවිදි වූයේ ම, පාතිමොක්ඛසංවරයෙන් ඇවුරුණේ, ආචාරයෙන් හා ගෝචරයෙන් හා සම්පූර්ණ වූයේ, මඳ වූ ද වරදෙහි බිය දක්නා සුලු වූයේ, සික්ඛාකොට්ඨාසයන්හි සමාදන් කොට ගෙන හික්මෙයි. නිවැරැදි වූ කායිකකර්මයෙන් යුක්ත වෙයි. පිරිසිදු දිවෙල ඇත්තේ වෙයි. සිල්වත් වෙයි ඉඳුරන්හි වැසූ දොරැත්තේ වෙයි. බොජුනෙහි පමණ දන්නේ වෙයි සිහිනුවණින් යුක්ත වෙයි. ලද පමණින් සතුටු වෙයි

39. බමුණ, කෙසේ නම් මහණ තෙමේ සීලසම්පන්න වේ ද ? යත්: බමුණ, මෙහි මහණ තෙමේ ප්‍රාණිවධ හැර ප්‍රාණිවධයෙන් වැළැක්කේ, ඉවත ලූ දඬු ඇත්තේ, ඉවත ලූ අවි ඇත්තේ, ලජ්ජා ඇත්තේ, මෙත් සිතින් යුක්ත වූයේ, සියලු සතුන් කෙරෙහි හිත සිතැති ව වෙසෙසි. මේ ද ඔහුගේ සීලයෙක් වෙයි.

අසිනාදත් හැර අසිනාදනින් වැළැක්කේ වෙයි. දුන් දෑය ම ගන්නේ, දුන් දෑය ම කැමැති වන්නේ, නොසොර වූ පිරිසිදු වූ සිතින් වෙසෙසි මේ ද ඔහුගේ සීලයෙක් වෙයි

නොබඹසර හැර බඹසර රක්නේ, නොබඹසරින් දුරු ව වසනුයේ, ගැමිදහම් වූ මෙවුන්දමින් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ සීලයෙකි

මුසවා හැර මුසවායෙන් වැළැක්කේ, ඇත්ත කියන සුලු වූයේ, ඇත්තෙන් ඇත්ත ගළපනුයේ, තහවුරු කතා ඇත්තේ, හැදෑහියැ යුතු බස් ඇත්තේ, ලොව නො රවටනුයේ වෙයි මේ ද ඔහුගේ සීලයෙක් වෙයි.

පෙහෙසුන් බස් හැර, පෙහෙසුන් බසින් වැළැක්කේ වෙයි මොවුන් ඔවුන්ගෙන් බිඳෙනු පිණිස මොබින් අසා ඔබ්බෙහි නො කියන්නේ වෙයි ඔවුන් මොවුන්ගෙන් බිඳෙනු පිණිස ඔබින් අසා මොබ්බෙහි කියන්නේ හෝ නො වෙයි මෙසේ බිඳුණවුන් ගළපන්නේ ද ගැළැපුණවුනට අනුබල දෙන්නේ ද වෙයි සමගියෙන් වසන්නවුන් කෙරෙහි වසන්නට කැමැත්තේ, සමගියෙන් වසන්නවුන් කෙරෙහි ඇලුණේ, සමගියෙන් වසන්නවුනට සතුටු වූයේ, සමගියේ ගුණ දක්වන වචන කියන්නේ වෙයි මේ ද ඔහුගේ සීලයෙක් වෙයි

පරොස් බස් හැර, පරොස් බසින් වැළැක්කේ වෙයි යම් බසෙක් නිදොස් ද, කන්කලු ද, පෙම් උපදවා ද, සුවසේ ලෙහි වදනේ ද, සියුමැලි ද, බොහෝ දෙනාට ප්‍රිය ද, බොහෝ දෙනාට මනාප ද, එ බඳු බස් තෙපලන්නේ වෙයි මේ ද ඔහුගේ සීලයෙක් වෙයි

බොල් දෙඩැවිලි හැර, බොල් දෙඩැවිල්ලෙන් වැළැක්කේ වෙයි කල් දැන කියනුයේ, සබ වස් ම කියනුයේ, වැඩ ඇති බස් ම කියනුයේ, දහම් අසල බස් ම කියනුයේ, විනය අසල බස් ම කියනුයේ, සුදුසු කලැ කරුණු සහිත, සීමා සහිත, අරුත් සහිත, සිතැ ලා දැරියැ යුතු බස් කියන්නේ වෙයි මේ ද ඔහුගේ සීලයෙක් වෙයි

40 බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති එකභත්තිකො හොති රත්තූපරතො විරතො විකාලභොජනා නච්චගීතවාදිතවිසූකදස්සනා පටිවිරතො හොති. මාලාගන්ධවිලෙපනධාරණමණ්ඩනවිභූසනට්ඨානා පටිවිරතො හොති. උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ජාතරූපරජතපටිග්ගහණා පටිවිරතො හොති. ආමකධඤ්ඤපටිග්ගහණා පටිවිරතො හොති. ආමකමංසපටිග්ගහණා පටිවිරතො හොති ඉත්ථිකුමාරිකපටිග්ගහණා පටිවිරතො හොති. දාසිදාසපටිග්ගහණා පටිවිරතො හොති අජෙළකපටිග්ගහණා පටිවිරතො හොති. කුක්කුටසූකරපටිග්ගහණා පටිවිරතො හොති. හත්ථිගවාස්සවළවාපටිග්ගහණා පටිවිරතො හොති ඛෙත්තවත්ථුපටිග්ගහණා පටිවිරතො හොති දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති කයවික්කයා පටිවිරතො හොති. තුලාකූටකංසකූටමානකූටා පටිවිරතො හොති උක්කොටනවඤ්චනනිකතිසාචියොගා පටිවිරතො හොති. ඡෙදනවධබන්ධනවිපරාමොසආලොපසහසාකාරා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

(චූළසීලං නිට්ඨිතං)

41. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං බීජගාමභූතගාමසමාරම්භං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං මූලබීජං ඛන්ධබීජං ඵළුබීජං අග්ගබීජං බීජබීජමෙව පඤ්චමං. ඉති වා ඉතිඑවරූපා බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

42 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං සන්නිධිකාරපරිභොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං අන්නසන්නිධිං පානසන්නිධිං වත්ථසන්නිධිං යානසන්නිධිං සයනසන්නිධිං ගන්ධසන්නිධිං ආමිසසන්නිධිං ඉති වා ඉතිඑවරූපා සන්නිධිකාරපරිභොගා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

43. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විසූකදස්සනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: නච්චං ගීතං වාදිතං පෙක්ඛං අක්ඛානං පාණිස්සරං වෙතාලං කුම්භථූනං සොභනගරකං චණ්ඩාලං වංසං ධොපනං හත්ථියුද්ධං අස්සයුද්ධං මහිසයුද්ධං උසභයුද්ධං අජයුද්ධං මෙණ්ඩකයුද්ධං කුක්කුටයුද්ධං වට්ටකයුද්ධං දණ්ඩයුද්ධං මුට්ඨියුද්ධං නිබ්බුද්ධං උය්‍යොධිකං බලග්ගං සෙනාබ්‍යූහං අණීකදස්සනං ඉති වා ඉතිඑවරූපා විසූකදස්සනා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

44. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං ජූතප්පමාදට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං අට්ඨපදං දසපදං ආකාසං පරිහාරපථං සන්තිකං ඛලිකං ඝටිකං සලාකහත්ථං අක්ඛං පඞ්ගචීරං වඞ්කකං මොක්ඛචිකං චිඞ්ගුලකං පත්තාළ්හකං රථකං ධනුකං අක්ඛරිකං මනෙසිකං යථාවජ්ජං ඉති වා ඉතිඑවරූපා ජූතප්පමාදට්ඨානානුයොගා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

45. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං උච්චාසයනමහාසයනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං ආසන්දිං පල්ලඞ්කං ගොනකං චිත්තකං පටිකං පටලිකං තූලිකං විකතිකං උද්දලොමිං එකන්තලොමිං කට්ටිස්සං කොසෙය්‍යං කුත්තකං හත්ථත්ථරං අස්සත්ථරං රථත්ථරං අජිනප්පවෙණිං කාදලිමිග-පවරපච්චත්ථරණං සඋත්තරච්ඡදං උභතොලොහිතකූපධානං ඉති වා ඉති එවරූපා උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

46. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං මණ්ඩනවිභූසනට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං උච්ඡාදනං පරිමද්දනං නහාපනං සම්බාහනං ආදාසං අඤ්ජනං මාලාවිලෙපනං මුඛචුණ්ණකං මුඛාලෙපනං හත්ථබන්ධං සිඛාබන්ධං දණ්ඩකං නාළිකං ඛග්ගං ඡත්තං චිත්‍රූපාහනං උණ්හීසං මණිං වාලවීජනිං ඔදාතානි වත්ථානි දීඝදසානි ඉති වා ඉතිඑවරූපා මණ්ඩනවිභූසනට්ඨානානුයොගා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

47. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං තිරච්ඡානකථං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: රාජකථං චොරකථං මහාමත්තකථං සෙනාකථං භයකථං යුද්ධකථං අන්නකථං පානකථං වත්ථකථං සයනකථං මාලාකථං ගන්ධකථං ඤාතිකථං යානකථං ගාමකථං නිගමකථං නගරකථං ජනපදකථං ඉත්ථිකථං පුරිසකථං [කුමාරකථං කුමාරිකථං] සූරකථං විසිඛාකථං කුම්භට්ඨානකථං පුබ්බපෙතකථං නානත්තකථං ලොකක්ඛායිකං සමුද්ද-ක්ඛායිකං ඉතිභවාභවකථං. ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානකථාය පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

44. යම් සේ වනාහි ඇතැම් භවත් මහණ බමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා අටපාකෙළිය, දසපංකෙළිය, අහස් දූකෙළිය, මඬුලු පැනුම, සන්තිකාක්‍රීඩාව, ඈදූ කෙළිය, කල්ලි ගැසුම, සලාඅත්කෙළිය, ගුලකෙළිය, කොළනලා පිඹීම, කෙළිනගුලින් හෑම, කරනම් ගැසුම, කත්තත්ගුරුවා කෙළිය, කොළනැළියෙන් වැලි ඇ මැනුම, කෙළිරිය පැදවීම, කුඩා දුන්නෙන් විදීම, ඇකිරිකෙළිය, සිතූ දෑ කීමේ ක්‍රීඩාව, විකලාංගානුකරණය යන මේ ආදි වූ හෝ මෙබඳු වූ, පමාවට කරුණු වූ දූකෙළියෙහි යෙදී වෙසෙත් ද, මෙ තෙමේ මේ ආදි හෝ මෙබඳු වූ දූකෙළියෙහි යෙදීමෙන් වැළැකියේ වෙයි

මේ ද ඔහුගේ ශීලයෙක් වේ

45. යම් සේ වනාහි ඇතැම් භවත් මහණ බමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, දික්සඟලාපුටු ය, පලඟ ය, මහකොඳුපලස ය, වියමනෙන් විසිතුරු කළ එළලොම්මුවා ඇතිරිය, රත්කපුකම් කළ පසතුරුණය, කෞසෙය්‍ය හුයින් වියූ ඇතිරිය, අනු පිටැ එළන ඇතිරිය, රියැ එළන ඇතිරිය, ඇඳට සරි ලන සේ අඳුන් දිවිසමින් මසා කළ ඇතිරිය, කෙහෙල්මුවසමින් කළ මහඟු පසතුරුණ, ඉස්දෙරැ පාමුලැ රතු කොට්ට තබා ඇති රතු උඩු වියන් සහිත මහඟු යහන යන මේ ආදි වූ හෝ මෙබඳු වූ උස්යහන් මහයහන් පරිහරණය කැරුමෙහි යෙදී වෙසෙද්ද මෙ තෙමේ මේ ආදි වූ හෝ මෙ බඳු වූ උස් යහන් මහ යහන් පරිභොගයෙන් වැළැක්සෝ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වෙයි

46 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා කුඩා දරුවන් කිරි සුවඳ හරනට සුවඳ සුණුයෙන් ඉලීම, මනා සටහන් ගන්වනුවට අත් පා ඇඟි තෙල් ගා මැඩීම, සුවඳ දියෙන් නෑවීම, මස් වැඩෙනුවට මුගුරින් තැළීම, කැඩපතින් මුහුණ බැලීම, සැරැසුම් පිණිස අඳුන් ගෑම, මල් හා විලෙවුන් හා දැරීම, මුව සුණු හා මුවවිලෙවුන් හා දැරීම, අත්බරණ දැරීම, හිසැ කුඩුම්බිය බැඳීම, විසිතුරු සැරයැටි දැරීම, විසිතුරු බෙහෙත් නල දැරීම, කඩු දැරීම, විසිතුරු කුඩ දැරීම, විසිතුරු පාවහන් දැරීම, නළල්පට බැඳීම, සිළුමිණි පැළැඳීම, විසිතුරු සෙමෙර වල්විදුනා දැරීම, දික් දවළු ඇති සුදු රෙදි හැඳීම යන ආදි ඇඟ අඩු තැන් පිරැවීමටත් ඇඟ සැරැසීමටත් කරුණු වූ දෑ පරිභොග කැරුමෙහි යෙදී වෙසෙද්ද, හේ මහණ එබඳු දැය පරිභොග කිරීමෙන් වැළැක්සෝ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

47. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, රාජකථා චොරකථා මහාමාත්‍රකථා සෙනාකථා භයකථා යුද්ධකථා ආහාරකථා පානකථා වස්ත්‍රකථා ශයනකථා ගන්ධකථා ඥාතිකථා යානකථා ග්‍රාමකථා නිගමකථා නගරකථා ජනපදකථා ස්ත්‍රීකථා පුරුෂකථා කුමාරකථා කුමාරිකථා ශූරකථා කුම්භස්ථානකථා පූර්වප්‍රෙතකථා නානාත්ව-කථා ලොකාඛ්‍යායිකාකථා සමුද්‍රාඛ්‍යායිකාකථා ඉතිභවාභවකථා යන මේ හෝ මෙබඳු වූ තිරිසන් කතාවලැ යෙදී වෙසෙත් ද, ඒ මහණ මෙ ආදි හෝ මෙයින් අන්‍ය වූ හෝ මෙ බඳු කථාවලින් වැළැක්සෝ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වෙයි

48 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විග්ගාහිකකථං අනුයුත්තා විහරන්ති· සෙය්‍යථීදං· 'න ත්වං ඉමං ධම්මවිනයං ආජානාසි, අහං ඉමං ධම්මවිනයං ආජානාමි. කිං ත්වං ඉමං ධම්මවිනයං ආජානිස්සසි? මිච්ඡාපටිපන්නො ත්වමසි, අහමස්මි සම්මාපටිපන්නො සහිතමෙම අසහිතනෙත. පුරෙ වචනීයං පච්ඡා අවච පච්ඡා වචනීයං පුරෙ අවච. අවිචිණ්ණං තෙ විපරාවත්තං. ආරොපිතො තෙ වාදො. නිග්ගහීතො'සි චර වාදප්පමොක්ඛාය, නිබ්බෙඨෙහි වා සචෙ පහොසී'ති. ඉති වා ඉතිඑවරූපාය විග්ගාහිකකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

49. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං දූතෙය්‍යපහිණගමනානුයොගමනුයුත්තා විහරන්ති. සෙය්‍යථීදං: රඤ්ඤං රාජමහාමත්තානං ඛත්තියානං බ්‍රාහ්මණානං ගහපතිකානං කුමාරානං ඉධ ගච්ඡ, අමුත්‍රාගච්ඡ, ඉදං හර, අමුත්‍ර ඉදං ආහරාති. ඉති වා ඉතිඑවරූපා දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

50. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ කුහකා ච හොන්ති ලපකා ච නෙමිත්තිකා ච නිප්පෙසිකා ච ලාභෙන ලාභං නිජිගිංසිතාරො ච ඉති වා ඉතිඑවරූපා කුහනලපනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

(මජ්ඣිමසීලං නිට්ඨිතං.)

51. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති සෙය්‍යථීදං· අඞ්ගං නිමිත්තං උප්පාදං සුපිණං ලක්ඛණං මූසිකච්ඡින්නං අග්ගිහොමං දබ්බිහොමං ථුසහොමං කණහොමං තණ්ඩුලහොමං සප්පිහොමං තෙලහොමං මුඛහොමං ලොහිතහොමං අඞ්ගවිජ්ජා වත්ථුවිජ්ජා ඛත්තවිජ්ජා සිවවිජ්ජා භූතවිජ්ජා භූරිවිජ්ජා අහිවිජ්ජා විසවිජ්ජා විච්ඡිකවිජ්ජා මූසිකවිජ්ජා සකුණවිජ්ජා වායසවිජ්ජා පක්කජ්ඣානං සරපරිත්තානං මිගචක්කං ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

48 යම්සේ වනාහි ඇතැම් භවත් මහණ බමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, “තෝ මේ දහම් විනය නො දනිහි. මම ම මේ දහම් විනය දනිමි ‘කිමැ සි මේ දහම් විනය තෝ දනිහි ද? තෝ වරදවා පිළිපන්නෙහි මම් මැනැවින් පිළිපන්නෙම් වෙමි. මා බස කරුණු සහිත ය. තා බස කරුණු රහිත ය. තෝ පළමුයෙන් කියැ යුත්ත පසු වැ කියෙහි ය පසු වැ කියැ යුත්ත පළමුයෙන් කියෙහි ය තා කලක් ම පුහුණු කළ දය මගේ එක් වචනයෙන් ම පෙරළී ගියේ ය මා විසින් තට දොස් නැගිණ මා විසින් තෝ නිගැනුණෙහි මා නැගු දොසින් මිදෙන්නට හැසිරෙව හැකි නම් එය විසඳව” යන ආදීන් මෙ බඳු වූ උනුන් බැණ දෙඩා ගැනුම්හි යෙදී වෙසෙත් ද, එ මහණ තෙමේ මෙ කී හෝ අන් මෙබඳු වූ හෝ බැණ දෙඩා ගැනුම්වලින් වැළැක්කේ වෙසි. මේ ද ඔහුගේ ශිලය වෙයි

49. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, ‘‘මෙහි යන්නැ, අසෝ තැනට එන්නැ මෙය ගෙන යන්නැ අසෝ තැනට මෙය ගෙනෙන්නැ’’ යී කළ නියොග පිළිගෙන, රජුන්ගේ රජමහමැතියන්ගේ ක්‍ෂත්‍රියයන්ගේ බමුණන්ගේ ගැහැවියන්ගේ රජකුමරුවන්ගේ මෙබඳු දූත මෙහෙවරෙහි පණිවුඩ ගෙනැ යැමෙහි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ අන් මෙ වැනි හෝ දූත මෙහෙවරින් පණිවුඩ ගෙනැ යැමෙන් වැළැක්කේ වෙසි මේ ද ඔහුගේ ශිලය වේ

50 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා කුහක කම් කරන්නෝ වෙත් ද, ලාභ සත්කාර පතා අනුන් සිත් ඇදෙන සේ වූ චාටු බස් දොඩන්නෝ වෙත් ද, සිවු පසය ලබනු සඳහා කයින් හෝ බසින් ඇඟැවිම් කරන්නෝ වෙත් ද, ලාභාපේක්‍ෂායෙන් අනුනට ගරහන්නෝ වෙත් ද, ලාභයෙන් ලාභය සොයන්නෝ වෙත ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ මෙබඳු වූ හෝ කුහනලපනවලින් වැළැක්කේ වෙසි මේ ද ඔහුගේ ශිලය වේ

(මැදුම් සිල් නිමියේ ය.)

51. යම්සේ වනාහි සමහර මහණ බමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා අංගශාස්ත්‍රය, නිමිත්ත ශාස්ත්‍රය, උත්පාතලක්‍ෂණය, ස්වප්නශාස්ත්‍රය, පුරුෂලක්‍ෂණශාස්ත්‍රය, මූෂකච්ඡින්නාවිද්‍යාව, අග්නිහෝමය, දර්විහෝමය, තුෂහෝමය, කණහෝමය, තණ්ඩුලහෝමය, සර්පිෂ්හෝමය, තෛලහෝමය, මුඛහෝමය, ලෝහිතහෝමය, අංගවිද්‍යාව, වාස්තුවිද්‍යාව, ක්‍ෂාත්‍රවිද්‍යාව, ශිවවිද්‍යාව, භූතවිද්‍යාව, භූරිවිද්‍යාව, අහිවිද්‍යාව, විෂවිද්‍යාව, වෘශ්චිකවිද්‍යාව, මූෂකවිද්‍යාව, ශාකුනවිද්‍යාව, වායසවිද්‍යාව, පක්වධ්‍යානය, ශරපරිත්‍රාණය, මෘගපක්‍ෂය යන මෙකී හෝ මෙබඳු වූ හෝ තිරශ්චීනවිද්‍යායෙන් මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මෙකී හෝ මෙබඳු තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යා-ජීවයෙන් වැළැක්කේ වේ මේ ද ඔහුගේ ශිලය වේ.

52. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති. සෙය්‍යථිදං. මණිලක්ඛණං වත්ථලක්ඛණං දණ්ඩලක්ඛණං අසිලක්ඛණං උසුලක්ඛණං ධනුලක්ඛණං ආවුධලක්ඛණං ඉත්ථිලක්ඛණං පුරිසලක්ඛණං කුමාරලක්ඛණං කුමාරිලක්ඛණං දාසලක්ඛණං දාසිලක්ඛණං හත්ථිලක්ඛණං අස්සලක්ඛණං මහිසලක්ඛණං උසභලක්ඛණං ගොලක්ඛණං අජලක්ඛණං මෙණ්ඩලක්ඛණං කුක්කුටලක්ඛණං වට්ටකලක්ඛණං ගොධා-ලක්ඛණං කණ්ණිකාලක්ඛණං කච්ඡපලක්ඛණං මිගලක්ඛණං. ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

53 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථිදං: රඤ්ඤං නිය්‍යානං භවිස්සති, රඤ්ඤං අනිය්‍යානං භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං උපයානං භවිස්සති, බාහිරානං රඤ්ඤං අපයානං භවිස්සති, බාහිරානං රඤ්ඤං උපයානං භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං අපයානං භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං ජයො භවිස්සති, බාහිරානං රඤ්ඤං පරාජයො භවිස්සති, බාහිරානං රඤ්ඤං ජයො භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං පරාජයො භවිස්සති, ඉති ඉමස්ස ජයො භවිස්සති, ඉමස්ස පරාජයො භවිස්සති. ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡාන-විජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

54. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථිදං: චන්දග්ගාහො භවිස්සති, සූරියග්ගාහො භවිස්සති, නක්ඛත්තග්ගාහො භවිස්සති, චන්දිමසූරියානං පථගමනං භවිස්සති, චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති, නක්ඛත්තානං පථගමනං භවිස්සති, නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති, උක්කාපාතො භවිස්සති, දිසාඩාහො භවිස්සති, භූමිචාලො භවිස්සති, දෙවදුන්දුභි භවිස්සති, චන්දිමසූරියනක්ඛත්තානං උග්ගමනං ඔග්ගමනං සංකිලෙසං වොදානං භවිස්සති, එවංවිපාකො චන්දග්ගාහො භවිස්සති, එවංවිපාකො සූරියග්ගාහො භවිස්සති, එවංවිපාකො නක්ඛත්තග්ගාහො භවිස්සති, එවංවිපාකං චන්දිමසූරියානං පථගමනං භවිස්සති, එවංවිපාකං චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති, එවංවිපාකං නක්ඛත්තානං පථගමනං භවිස්සති, එවංවිපාකං නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති, එවංවිපාකො උක්කාපාතො භවිස්සති, එවංවිපාකො දිසාඩාහො භවිස්සති, එවංවිපාකො භූමිචාලො භවිස්සති, එවංවිපාකො දෙවදුන්දුභි භවිස්සති, එවංවිපාකං චන්දිමසූරියනක්ඛත්තානං උග්ගමනං ඔග්ගමනං සංකිලෙසං වොදානං භවිස්සති, ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

52 යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, මිණිලකුණුය, දඬුලකුණුය, වත්ලකුණුය, කඩුලකුණුය, ඊලකුණුය, දුනුලකුණුය, අවිලකුණුය, ඉත්‍ථිලකුණුය, පුරිස්ලකුණුය, කුමරලකුණුය, කුමරිලකුණුය, දස්ලකුණුය, දාසිලකුණුය, ඇත්ලකුණුය, අස්ලකුණුය, මීහුලකුණුය, වෘෂභලකුණුය, ගොන්ලකුණුය, එළුලකුණුය, බැටළුලකුණුය, කුකුළුලකුණුය, වටුලකුණුය, ගොයිලකුණුය, කැණිලකුණුය, කසුබුලකුණුය, මුවලකුණුය යන ආදී මෙබඳු තිරශ්චීන විද්‍යායෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ මෙබඳු දූසිත් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ

53. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, 'අසෝ දිනැ අසෝ නැකැතින් අසෝ රජුන් (යුද සඳහා) සිය නුවරින් නික්මීම වන්නේ ය, අසෝ නැකැතින් පෙරළා සිය නුවරට ඊම වන්නේ ය. අසෝ නැකැතින් රට තුළැ හුන් රජුන් පිටතැ සිටින සතුරු රජුන් හමු වන්නට යෑම වන්නේ ය අසෝ නැකැතින් පිටතැ සිටින සතුරු රජුන් ඉවත් වැ යෑම වන්නේ ය අසෝ නැකැතින් පිටතැ සිටින සතුරු රජුන් රට තුළැ සිටින රජුන් කරා පැමිණීම වන්නේ ය. අසෝ නැකැතින් ඇතුළතැ සිටින රජුන්ගේ ඉවත් වැ යෑම වන්නේ ය රට තුළැ රජුනට ජය වන්නේ ය පිටතැ සිටින සතුරු රජුනට පරාජය වන්නේ ය. පිටතැ සිටින සතුරු රජුනට ජය වන්නේ ය ඇතුළතැ සිටින රජුනට පරාජය වන්නේ යැ"සී මෙසේ 'මොහුට ජය වන්නේ ය, මොහුට පරාජය වන්නේයැ' සී කියමින් මෙබඳු තිරශ්චීනවිද්‍යායෙන්, මෙබඳු මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙබඳු වූ තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යාආජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලය වේ

54. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, "අසෝ දිනැ චන්ද්‍රග්‍රහණය වන්නේ ය, අසෝ දිනැ සූර්‍ය්‍යග්‍රහණය වන්නේ ය, අසෝ දිනැ නක්‍ෂත්‍රග්‍රහණය වන්නේ ය, අසෝ දිනැ සඳහිරුන් තිසි මඟින් යෑම වන්නේ ය, අසෝ දිනැ ඔවුන් නොමඟින් යෑම වන්නේ ය, අසෝ දිනැ නකත්තරුත් සුමඟින් යෑම වන්නේ ය, අසෝ දිනැ ඔවුන් නොමඟින් යෑම වන්නේ ය, අසෝ දිනැ උල්කාපතනය වන්නේ ය, දිග්දාහය වන්නේ ය, . භූමිකම්පා වන්නේ ය,... වැසි නැති වැ අහස් ගෙරුවුම් වන්නේ ය,. සඳහිරුත් නකත්තරුත් උදාව, බැසීම, කෙලෙසීම, පිරිසිදු බව වන්නේ ය, සූර්‍ය්‍යග්‍රහණය ලොවට මෙබඳු පල දෙන්නේ ය, චන්ද්‍රග්‍රහණය මෙබඳු පල දෙන්නේ ය, සඳහිරුන් සුමඟින් යෑම මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, ඔවුන් නොමඟින් යෑම මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, නකත්තරුත් තිසි මඟින් යෑම මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, ඔවුන් නොමඟින් යෑම මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, උල්කාපතනය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, දිග්දාහය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, භූමිකම්පනය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය, වැසි නැති වැ අහස් ගෙරුවුම මෙබඳු පල ගෙන දෙන්නේ ය, සඳහිරුන්ගේ ද නකත්තරුන්ගේ ද උදාවත් බැසීමත් කෙලෙසීමත් පිරිසිදු වීමත් මෙබඳු මෙබඳු පල ගෙන දෙන්නේ යැ "යි කියතුවෝ, මෙබඳු තිරශ්චීන විද්‍යායෙන් මෙබඳු මිථ්‍යා ආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙබඳු තිරශ්චීනවිද්‍යායෙන් මිථ්‍යා ආජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලය වේ.

55. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති: සෙය්‍යථීදං: සුබ්බුට්ඨිකා භවිස්සති, දුබ්බුට්ඨිකා භවිස්සති, සුභික්ඛං භවිස්සති, දුබ්භික්ඛං භවිස්සති, ඛෙමං භවිස්සති, භයං භවිස්සති, රොගො භවිස්සති, ආරොග්‍යං භවිස්සති. මුද්දා ගණනා සංඛානං කාවෙය්‍යං ලොකායතං, ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

56. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං: ආවාහනං විවාහනං සංවදනං විවදනං සංකිරණං විකිරණං සුභගකරණං දුබ්භගකරණං විරුද්ධගබ්භකරණං ජිව්හානිත්ථම්භනං හනුසංහනනං හත්ථාභිජප්පනං කණ්ණජප්පනං ආදාසපඤ්හං කුමාරිපඤ්හං දෙවපඤ්හං ආදිච්චුපට්ඨානං මහතුපට්ඨානං අබ්භුජ්ජලනං සිරිව්හායනං ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

57. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං. සන්තිකම්මං පණිධිකම්මං [භූතකම්මං] භූරිකම්මං වස්සකම්මං වොස්සකම්මං වත්ථුකම්මං වත්ථුපරිකිරණං ආචමනං නහාපනං ජුහනං වමනං විරෙචනං උද්ධවිරෙචනං අධොවිරෙචනං සීසවිරෙචනං කණ්ණතෙලං නෙත්තතප්පනං නත්ථුකම්මං අඤ්ජනං පච්චඤ්ජනං සාලාකියං සල්ලකත්තියං දාරකතිකිච්ඡා මූලභෙසජ්ජානං අනුප්පදානං ඔසධීනං පටිමොක්ඛො. ඉති වා ඉතිඑවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

55. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, "මෙ සමයෙහි වැසි වස්නේ ය, මෙ සමයෙහි නියං වන්නේ ය, මෙ සමයෙහි රට සුභික්ෂ වන්නේ ය, මෙ සමයෙහි රට දුර්භික්ෂ වන්නේ ය, මෙ සමයෙහි රටට උවදුරු නැති වන්නේ ය, මෙ සමයෙහි රටට උවදුරු ඇති වන්නේ ය, මෙ කලැ රොග වන්නේ ය, මෙ කලැ රොග නැති බව වන්නේ යැ යි පලාපල කීම ද, මුද්‍රාව (ඇඟිලි පුරුක්හි සංඛ්‍යා තබා ගිණීම) ද, ගණනාව (එක දෙක යන ආදීන් ගණන් කිරීම) ද, සංඛ්‍යානය (පිණ්ඩගණනාව) ද, කවි සතර ද, ලොකායත ශාස්ත්‍රය ද යන මේ හෝ අන් මෙ බඳු වූ තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යා ආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ ආදි වූ හෝ අන් මෙබඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහු-ගේ ශීලය වේ

56 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා, ආවාහ සඳහා නකත් කීම, විවාහ සඳහා නකත් කීම, වෙන් වූ අඹු සැමියන් එක් වන්නට නකත් කීම, දුන් ණය රැස් කිරීමට නකත් කීම, මුදල් ණයට පොලියට දීමට නකත් කීම, සෞභාග්‍යය ඇති වනුවට යන්ත්‍රාදිය කැරැ දීම, බිම් පැලු වන්නට හදි හූනියම් කිරීම, නැසෙන්නට යන දරු ගබ් රැකෙන්නට පිළියම් කිරීම, දිවගුළු බැඳීම, මන්ත්‍රාදි බලයෙන් හනු තද කිරීම, අත් පෙරළෙන්නට මතුරු දැපීම, කන් අගුළු වැටෙන්නට මතුරු දැපීම, කැඩපතැ දෙවතාවෙශය කොටැ ප්‍රශ්න ඇසීම, කුමරියක ලවා පේන කියැවීම, දෙවිඳැස්සක ලවා පේන කියැවීම, ජීවිකා පිණිස හිරු පිදීම, මහබඹු පිදීම, මතුරු දපා මුවින් ගිනි ජල් විහිදුවීම, මතුරු දපා සිරිකත කැඳැවීම යන මේ හෝ අන් මෙ බඳු වූ හෝ තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ ආදි වූ ද, අන් මෙබඳු වූ ද ඒ තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යාආජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලය වේ.

57. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහෙන් දුන් බොජුන් වළඳා ශාන්තිකර්ම, වාස්තුපරිකිරණ, මතුරු දපා අනුන් නැවීම, සෙත් පතා ගිනි පිදීම, ගිහියනට වමන කැරැවීම, ලය විරේක කැරැවීම, වස්ති කිරීම, ශිර්ෂ විරෙචන බෙත් දීම, කන් ලෙඩට තෙල් පිසැ දීම, ගිහිනට ඇසැ සිසිල ගන්වන බෙත් තෙල් පිසීම, ගිහියනට නශ්‍ය දීම, ගිහියනට ඇස පටලයට කාරම් අඳුන් සාදා දීම, ඇසට සිසිල ගන්වන අඳුන් සාදා දීම, ගිහියන්ගේ ඇසැ උල්ඇත ලෙඩට බෙත් දීම, ගිහියනට ශල්‍යකර්ම කිරීම, ළදරුවන්ගේ ලෙඩවලට පිළියම් කිරීම, මුල් බෙහෙත් දීම, කාරම් බෙහෙත් දීම, කාරම් බෙත් බැඳ වණ සුව වූ පසු ඒවා ගලවා දැමීම යැ' යි මේ ආදි අන් හෝ මෙබඳු තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ ඒ සියල්ලෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලය වේ.

58 අථ ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො සෙය්‍යථාපි බ්‍රාහ්මණ, ඛත්තියො මුද්ධාවසිත්තො[1] නිහතපච්චාමිත්තො න කුතොචි භයං සමනුපස්සති යදිදං පච්චත්ථිකතො. එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො. සො ඉමිනා අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො අජ්ඣත්තං අනවජ්ජසුඛං පටිසංවෙදෙති. එවං ඛො බ්‍රාහ්මණ භික්ඛු සීලසම්පන්නො හොති

(මහාසීලං නිට්ඨිතං)

59. කථඤ්ච බ්‍රාහ්මණ, භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති? ඉධ බ්‍රාහ්මණ, භික්ඛු චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති නානු-බ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙනං චක්ඛුන්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති. රක්ඛති චක්ඛුන්ද්‍රියං, චක්ඛුන්ද්‍රියෙ සංවරං ආපජ්ජති. සොතෙන සද්දං සුත්වා–පෙ–ඝාණෙන ගන්ධං ඝායිත්වා–පෙ–ජිව්හාය රසං සායිත්වා–පෙ–කායෙන ඵොට්ඨබ්බං ඵුසිත්වා–පෙ–මනසා ධම්මං විඤ්ඤාය න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙනං මනින්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති, රක්ඛති මනින්ද්‍රියං, මනින්ද්‍රියෙ සංවරං ආපජ්ජති. සො ඉමිනා අරියෙන ඉන්ද්‍රියසංවරෙන සමන්නාගතො අජ්ඣත්තං අබ්‍යාසෙකසුඛං පටිසංවෙදෙති එවං ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති.

60. කථඤ්ච බ්‍රාහ්මණ, භික්ඛු සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො හොති? ඉධ බ්‍රාහ්මණ, භික්ඛු අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති, ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති, සමිඤ්ජිතෙ පසාරිතෙ සම්පජානකාරී හොති, සඞ්ඝාටිපත්තචීවරධාරණෙ සම්පජානකාරී හොති, අසිතෙ පීතෙ ඛායිතෙ සායිතෙ සම්පජානකාරී හොති. උච්චාර-පස්සාවකම්මෙ සම්පජානකාරී හොති. ගතෙ ඨිතෙ නිසින්නෙ සුත්තෙ ජාගරිතෙ භාසිතෙ තුණ්හීභාවෙ සම්පජානකාරී හොති. එවං ඛො බ්‍රාහ්මණ භික්ඛු සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො හොති.

1 මුද්ධාභිසිත්තො ඛෙ. ස. ස

58 බමුණ, මහණ තෙමේ මෙසේ ශීලසම්පන්න වූයේ, ශීලසංවර හෙතුයෙන් කිසි ම එක ද අසංවරතාවෙකින් ඇති විය හැකි බියක් නො දකී. බමුණ, කැත් අබිසෙස්නෙන් මුදුනැ අබිසෙස් ලත්, වැනැසූ සතුරන් ඇති කැත් රජෙක් කිසි ම එක ද සතුරකුගෙන් විය හැකි මොන ම බියකුත් යම් සේ නො දක්නේ ද, බමුණ, එසේ ම මහණ තෙමේ මෙ පරිද්දෙන් ශීල සම්පන්න වූයේ, ශීලසංවර හෙතුයෙන් කිසි ම එක ද අසංවරයෙකින් ඉපැදිය හැකි බියක් නො දකී හේ මේ ආර්‍ය්‍ය ශීලස්කන්ධයෙන් සමන්විත වූයේ, සිය සතන්හි නිදොස් වූ කායික චෛතසික සුව විඳී. බමුණ, මෙසේ වනාහි මහණ තෙමේ ශීල සම්පන්න වේ.

(මහ සිල් නිමියේ ය.)

59. බමුණ, මහණ තෙමේ කෙසේ නම් ඉඳුරන්හි වැසූ දොරටුත් වේ ද? යත්: බමුණ, මෙ සස්නැ මහණ තෙමේ ඇසින් රුවක් දැක සුබ ඈ විසින් එහි ලකුණු නො ගන්නේ වේ. සුබ ඈ විසින් අත් පා ඈ අවයවවල අයුරු සිතට නො ගන්නේ වේ. යම් කරුණෙකින් චක්ෂුරින්ද්‍රියය නොවසාගෙන වසන්නහුගේ සිත්සතනට විසම ලොබ දොම්නස් ඈ ලාමක අකුසල් දහම්හු පුන පුනා වැස්සෙත් ද, එහි ඒ චක්ෂුරින්ද්‍රියයාගේ සංවරය පිණිස හේ පිළිපදී එය රැක ගනී එහි සංවරයට පැමිණේ කනින් හඬ අසා.. නැහැයෙන් ගඳ ආඝ්‍රාණය කොට දිවෙන් රස ආස්වාද කොට.. කයින් ස්ප්‍රෂ්ටව්‍ය ස්පර්ශ කොට සිතින් දහම් අරමුණු දැන සුබ ඈ විසින් එහි ලකුණු ගන්නේ නො වේ, සුබ ඈ විසින් අත් පා ඈ අවයවවල අයුරු සිතට ගන්නේ නො වේ යම් කරුණෙකින් ශ්‍රොත්‍රෙන්ද්‍රියය. .ඝ්‍රාණෙන්ද්‍රියය . ජිහ්වෙන්ද්‍රියය. . . කායෙන්ද්‍රියය... මනඉන්ද්‍රියය සංවර කොට නොගෙන වසන්නහුගේ සිත්සතනට විසම ලොබ දොම්නස ආදී ලාමක අකුසල්දහම්හු පුන පුනා වැස්සෙත්නෝ ද, ඒ ඉන්ද්‍රියයන්ගේ සංවරය පිණිස පිළිපදී. ශ්‍රොත්‍ර .. ඝ්‍රාණ ජිහ්වා ..කාය...මන ඉන්ද්‍රියයාගේ සංවරය පිණිස පිළිපදී . ඒ මනින්ද්‍රියය රැකැ ගනී එහි සංවරයට පැමිණේ හේ මේ ආර්‍ය්‍ය වූ ඉන්ද්‍රියසංවරයෙන් සමන්විත වූයේ සිය සතන්හි කෙලෙසුන්ගෙන් තෙත් නොවීමෙන් වූ පිරිසිදු අබ්‍යවකීර්ණසුඛය විඳී. බමුණ, මෙසේ වනාහි මහණ තෙම ඉන්ද්‍රියයන්හි වැසූ දොරටුයේ වේ.

60 බමුණ, මහණ තෙම කෙසේ නම් සතිසම්පජඤ්ඤයෙන් සමන්විත වේ ද ? යත්: බමුණ, මෙ සස්නැ මහණ ඉදිරි ගමනෙහි, පෙරළා ඊමෙහි, අත්පා ඈ හැකිළීමෙහි, දික් කිරීමෙහි, නුවණින් දැන ම එය කරනුයේ වෙයි. සඟළ සිවුර ද පාත්‍රය ද සෙසු සිවුරු ද දැරීමෙහි නුවණින් දැන ම කරන්නේ වෙයි අහර ගැන්මෙහි, පැන් පීමෙහි, පිපි කැවිලි ඈ කෑමෙහි, රස විඳීමෙහි, මල මූ පහ කිරීමෙහි, යෑමෙහි, සිටුමෙහි, හිඳුමෙහි, පිබිදුමෙහි, බිණුමෙහි, නොබිණුමෙහි නුවණින් දැන කරනුයේ වෙයි. බමුණ, මෙසේ වනාහි මහණ තෙම සිහි නුවණින් සමන්විත වෙයි,

61. කථඤ්ච බ්‍රාහ්මණ භික්ඛු සන්තුට්ඨො හොති? ඉධ බ්‍රාහ්මණ භික්ඛු සන්තුට්ඨො හොති කායපරිහාරිකෙන චීවරෙන කුච්ඡිපරිහාරිකෙන පිණ්ඩපාතෙන. සො යෙන යෙනෙව පක්කමති සමාදායෙව පක්කමති. සෙය්‍යථාපි බ්‍රාහ්මණ පක්ඛී සකුණො යෙන යෙනෙව ඩෙති සපත්තභාරොව ඩෙති, එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු සන්තුට්ඨො හොති කායපරිහාරිකෙන චීවරෙන කුච්ඡිපරිහාරිකෙන පිණ්ඩපාතෙන. සො යෙන යෙනෙව පක්කමති සමාදායෙව පක්කමති. එවං ඛො බ්‍රාහ්මණ භික්ඛු සන්තුට්ඨො හොති.

62. සො ඉමිනා ච අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො, ඉමිනා ච අරියෙන ඉන්ද්‍රියසංවරෙන සමන්නාගතො, ඉමිනා ච අරියෙන සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො, ඉමාය ච අරියාය සන්තුට්ඨියා සමන්නාගතො, විවිත්තං සෙනාසනං භජති අරඤ්ඤං රුක්ඛමූලං පබ්බතං කන්දරං ගිරිගුහං සුසානං වනපත්ථං අබ්භොකාසං පලාලපුඤ්ජං. සො පච්ඡාභත්තං පිණ්ඩපාතපටික්කන්තො නිසීදති පල්ලඞ්කං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා.

63 සො අභිජ්ඣං ලොකෙ පහාය විගතාභිජ්ඣෙන චෙතසා විහරති අභිජ්ඣාය චිත්තං පරිසොධෙති බ්‍යාපාදපදොසං පහාය අබ්‍යාපන්නචිත්තො විහරති සබ්බපාණභූතහිතානුකම්පී බ්‍යාපාදපදොසා චිත්තං පරිසොධෙති. ථිනමිද්ධං පහාය විගතථිනමිද්ධො විහරති ආලොකසඤ්ඤී සතො සම්පජානො ථිනමිද්ධා චිත්තං පරිසොධෙති. උද්ධච්චකුක්කුච්චං පහාය අනුද්ධතො විහරති අජ්ඣත්තං වූපසන්තචිත්තො උද්ධච්චකුක්කුච්චා චිත්තං පරිසොධෙති. විචිකිච්ඡං පහාය තිණ්ණවිචිකිච්ඡො විහරති. අකථංකථී කුසලෙසු ධම්මෙසු. විචිකිච්ඡාය චිත්තං පරිසොධෙති.

64 සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො ඉණං ආදාය කම්මන්තෙ පයොජෙය්‍ය, තස්ස තෙ කම්මන්තා සමිජ්ඣෙය්‍යුං, සො යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තීකරෙය්‍ය. සියා චස්ස උත්තරිං අවසිට්ඨං දාරභරණාය. තස්ස එවමස්ස: 'අහං ඛො පුබ්බෙ ඉණං ආදාය කම්මන්තෙ පයොජෙසිං. තස්ස මෙ තෙ කම්මන්තා සමිජ්ඣිංසු සො'හං යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තීඅකාසිං අත්ථි ච මෙ උත්තරිං අවසිට්ඨං දාරභරණායා'ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං.

61 බමුණ, කෙසේ නම් මහණ තෙමේ ලද පමණෙහි සතුටු වේ ද? බමුණ, මෙහි මහණ තෙමේ කය වසා රක්නට පමණ වූ සිවුරෙන් ද, කුස ගිනි නිවන්නට පමණ වූ අහරින් ද සතුටු වෙයි හේ යන යන අතැ අටපිරිකර පමණක් ගෙන ම නික්මෙයි බමුණ, යම් සේ පියා හඹන කුරුළු තෙමේ යන යන තැනට පියාපත් බර ඇති ව ම පියා හඹා ද, එසේ ම මහණ තෙමේ කය වසා රක්නට පමණ වූ සිවුරින් ද කුස ගිනි නිවන්නට පමණ වූ අහරින් ද සතුටු වෙයි හේ තමා යන තැනට පාසිවුරු ඈ අටපිරිකර පමණක් ගෙන ම යෙයි. බමුණ, මෙසේ මහණ තෙමේ ලත් පසයෙහි සතුටු වේ

62. බමුණ, ඒ මහණ මේ ආර්‍ය්‍ය සීලස්කන්ධයෙන් ද සමන්විත වූයේ, මේ ආර්‍ය්‍ය ඉන්ද්‍රියසංවරයෙන් ද ,මේ ආර්‍ය්‍යස්මෘතිසම්ප්‍රජන්‍යයෙන් ද මේ ආර්‍ය්‍ය සන්තුෂ්ටියෙන් ද සමන්විත වූයේ, අරන් පවු කඳුරැලි ගිරිගුහා සොහොන් වනපෙත් එළිමහන් පිදුරුලෙන් යන මෙකී මිනිසුන්ගෙන් හිස් කිසි සෙනසුනක් බජයි හේ පිඬු සෙවීමෙන් පෙරළා ආයේ පසුබතැ පලක් බැඳ උඩු කය කෙළින් තබා සිහිය කමටහනට යොමු කොට එළවා හිඳී

63 හේ ලොවැ ඇල්ම හැර, පහ වූ අභිධ්‍යායෙන් යුත් සිතින් වෙසෙයි. අභිධ්‍යාව කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි. ප්‍රද්වේෂය හැර, ව්‍යාපාද රහිත සිතැත්තේ හැම පණ ඇති සතුන් කෙරේ හිතානුකම්පා ඇති වැ වෙසෙයි ක්‍රොධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි. ස්ත්‍යානමිද්ධය හැර, පහ වූ ස්ත්‍යානමිද්ධය ඇත්තේ, දව රෑ දෙක්හි ම දුටු එළිය අඳුනනු හැකි පිරිසිදු සංඥාව ඇත්තේ සිහියෙනුත් යුතු ව වෙසෙයි. මිද්ධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි. උද්ධච්ච කුක්කුච්ච සිතින් දුරු ලා, නො උදහස් ව, සංසුන් සිය සිත් සතන් ඇත්තේ, උදහස් කුකුස් දෙක කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි සැකය දුරු ලා, පහ වූ සැක ඇත්තේ, කුසල් දහම්හි සැක නොකරනුයේ, සැකය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි

64 බමුණ, යම්සේ මිනිසෙක් පොලියට ණය මුදලක් ගෙන කර්මාන්ත කරන්නේ ද, ඔහු ගේ ඒ කර්මාන්තය සමෘද්ධ වන්නේ නම් හේ වූ තාක් හැම පරණ ණය ගෙවා අවසන් කරන්නේ ද, මත්තෙහි ඉතිරි වූ යමක් ඇතොත් එය අඹුදරුවන් රක්නා පිණිස වන්නේ ද, එසේ වූ ඔහුට ''මම් පළමුවෙන් ණයට මුදල් ගෙන කර්මාන්ත කෙළෙමි ඒ මාගේ කර්මාන්ත සමෘද්ධ විය ඒ මම් වූ තාක් සියලු පරණ ණය ගෙවා අවසන් කෙළෙමි අඹුදරුවන් රක්නා පිණිස ඉතිරි වූ මුදලෙක් ද මට ඇත්තේ යැ''යි මෙසේ සිතෙක් වන්නේ ය හේ ඒ කරුණින් සතුට ලබන්නේ ය, සොම්නසට පැමිණෙන්නේ ය

65 සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො ආබාධිකො අස්ස දුක්ඛිතො බාළ්හගිලානො, භත්තං චස්ස නච්ඡාදෙය්‍ය, න චස්ස කායෙ බලමත්තා. සො අපරෙන සමයෙන තම්හා ආබාධා මුච්චෙය්‍ය, භත්තඤ්චස්ස ඡාදෙය්‍ය, සියා චස්ස කායෙ බලමත්තා. තස්ස එවමස්ස· අහං ඛො පුබ්බෙ ආබාධිකො අහොසිං, දුක්ඛිතො බාළ්හගිලානො, භත්තං ච මෙ නච්ඡාදෙසි. න චස්ස මෙ ආසි කායෙ බලමත්තා. සො'මහි එතරහි තම්හා ආබාධා මුත්තො භත්තඤ්ච මෙ ඡාදෙති, අත්ථි ච මෙ කායෙ බලමත්තා'ති. සො තතොනිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං.

66 සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො බන්ධනාගාරෙ බද්ධො අස්ස. සො අපරෙන සමයෙන තම්හා බන්ධනා මුච්චෙය්‍ය සොත්ථිනා අබ්භයෙන න චස්ස කිඤ්චි භොගානං වයො. තස්ස එවමස්ස 'අහං ඛො පුබ්බෙ බන්ධනාගාරෙ බද්ධො අහොසිං. සොමහි එතරහි තම්හා බන්ධනා මුත්තො සොත්ථිනා අබ්භයෙන. නත්ථි ච මෙ කිඤ්චි භොගානං වයො'ති සො තතොනිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං

67. සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො දාසො අස්ස අනත්තාධීනො පරාධීනො න යෙනකාමඞ්ගමො. සො අපරෙන සමයෙන තම්හා දාසබ්‍යා මුච්චෙය්‍ය, අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමඞ්ගමො තස්ස එවමස්ස: 'අහං ඛො පුබ්බෙ දාසො අහොසිං අනත්තාධීනො පරාධීනො න යෙනකාමඞ්ගමො සො'මහි එතරහි තම්හා දාසබ්‍යා මුත්තො අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමඞ්ගමො'ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං

68. සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො සධනො සභොගො කන්තාරද්ධාන-මග්ගං පටිපජ්ජෙය්‍ය දුබ්භික්ඛං සප්පටිභයං. සො අපරෙන සමයෙන තං කන්තාරං නිත්ථරෙය්‍ය, සොත්ථිනා ගාමන්තං අනුපාපුණෙය්‍ය ඛෙමං අප්පටිභයං. තස්ස එවමස්ස: 'අහං ඛො පුබ්බෙ සධනො සභොගො කන්තාරද්ධානමග්ගං පටිපජ්ජිං දුබ්භික්ඛං සප්පටිභයං සො'මහි එතරහි තං කන්තාරං නිත්ථිණ්ණො සොත්ථිනා ගාමන්තං අනුප්පත්තො ඛෙමං අප්පටිභයන්ති. සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං

69. එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු යථා ඉණං යථා රොගං යථා බන්ධනාගාරං යථා දාසබ්‍යං යථා කන්තාරද්ධානමග්ගං එවං ඉමෙ පඤ්ච-නීවරණෙ අප්පහීනෙ අත්තනි සමනුපස්සති සෙය්‍යථාපි බ්‍රාහ්මණ ආනණ්‍යං යථා ආරොග්‍යං යථා බන්ධනා මොක්ඛං යථා භුජිස්සං යථා ඛෙමන්තභූමිං, එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉමෙ පඤ්චනීවරණෙ පහීනෙ අත්තනි සමනුපස්සති.

65. බමුණ, යම්සේ මිනිසෙක් රෝගී වූයේ, දුකට පැමිණියේ, දැඩි ගිලන් වන්නේ ද, ඔහුට බතුත් නො රිසියෙන්නේ ද, ඔහුගේ ඇඟපත සවි පමණකුත් නො වන්නේ ද, හේ මෑත කලැ ඒ ලෙඩින් මිදෙන්නේ නම්, ඔහුට බතුත් රිසියේ නම්, ඔහු ඇඟ පත සවිය ද වන්නේ නම්, ඔහුට "මම් වූ කලි පෙරැ දුකට පත්, දැඩි ගිලන් ලෙඩෙක් වීම් මට අහරත් නො රිසි වී ය. ඇඟපතත් සවිය නො වී ය ඒ මම් දැන් ඒ ලෙඩින් මිදුණෙම් වෙමි. ඒ මට අහරත් රිසියෙයි. ඇඟපතැ සවියත් ඇත්තේ යැ"යි මෙසේ සිතක් වනොත්, හේ එ කරුණින් සතුට ලබන්නේ ය, සොම්නසට පැමිණෙන්නේ ය

66 බමුණ, යම්සෙ මිනිසෙක් හිරගෙහි බැඳුණේ වන්නේ ද, හේ පසු කලෙක ධනය නො විසඳ පහසුයෙන් එයින් මිදෙන්නේ ද, එයින් ඔහුගේ කිසි භොග විනාශයෙක් නො වන්නේ ද, ඔහුට "මම් වූ කලි පෙරැ හිර ගෙහි බැඳුණෙම් වීමි. ඒ මම් දැන් ධන නො විසඳ පහසුයෙන් එයින් මිදුණෙම් වෙමි. මාගේ භොගයනට කිසි විනාශයෙකුත් නැතැ' යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ එ කරුණින් සතුට ලබන්නේ ය, සොම්නසට පැමිණෙන්නේ ය.

67 බමුණ, තමා අයත් පැවැතුම් නැති, මෙරමා අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යන්නට අවසර නැති, දාස පුරුෂයෙක් යම්සේ වන්නේ ද, හේ පසු කලෙක තමා අයත් පැවැතුම් ඇතියේ, මෙරමා අයත් පැවැතුම් නැතියේ, නිදහස් වූයේ, කැමැති අතෙකැ යැ හැකි වූයේ, ඒ දාසභාවයෙන් මිදෙන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි පෙරැ තමා අයත් පැවැතුම් නැති, මෙරමා අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යැ නොහැකි, දාසයෙකිම් වීමි. ඒ මම් දැන් ඒ දාස භාවයෙන් මිදුණෙම්, තමා අයත් පැවැතුම් ඇතියෙම්, මෙරමා අයත් පැවැතුම් නැතියෙම්, නිදහස් වූයෙම්, කැමැති අතෙක යැ හැකියෙම් වෙමි"යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ එ කරුණින් සතුට ලබන්නේ ය, සොම්නසට පැමි-ණෙන්නේ ය

68 බමුණ, යම්සේ ධනවත් භොගසම්පත් ඇති පුරුෂයෙක් අහර හිඟ, උවදුරු ඇති, දිය නැති දික් මඟකට බස්නේ ද, හේ පසු කලෙක සුව සේ ඒ නිරුදක පෙදෙස ඉක්මැ යන්නේ ද, උවදුරු නැති ගම්මානකට බස්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි පෙරැ ධන ඇතියෙම්, භොග-සම්පත් ඇතියෙම්, දිය නැති අහර හිඟ බිය ඇති දික් මඟකට බටිමි. ඒ මම් දැන් සුවසේ ඒ කතර තිණුයෙමි. උවදුරු නැති බිය නැති ගමකට බටුයෙම් වෙමි'යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ එ කරුණින් සතුට ලබන්නේ ය, සොම්නසට පැමිණෙන්නේ ය.

69 බමුණ, එසේ ම මහණ තෙමේ ණයක් මෙන්, ලෙඩක් මෙන්, හිර ගෙයක් මෙන්, වහල් බවක් මෙන්, දිය නැති දික් මඟක් මෙන් (පිළිවෙළින්) මේ නොපහවූ නීවරණ පස තමා කෙරෙහි දකී. ණය නැති බව සේ, නො ලෙඩ බව සේ, හිරෙන් මිදුණු බව සේ, උවදුරු නැයි සේ (පිළිවෙළින්) මේ පහ වූ නීවරණ පස (හෙවත් මේ නීවරණ පසේ දුරු වූ අවස්ථාව) තමා කෙරෙහි දකී

70 තස්සිමෙ පඤ්ච නීවරණෙ පහීනෙ අත්තනි සමනුපස්සතො පාමොජ්ජං[1] ජායති. පමුදිතස්ස පීති ජායති පීතිමනස්ස කායො පස්සම්භති පස්සද්ධකායො සුඛං වෙදෙති සුඛිනො චිත්තං සමාධියති

71. සො විවිච්චෙව කාමෙහි, විවිච්ච අකුසලෙහි ධම්මෙහි, සවිතක්කං සවිචාරං විවෙකජං පීතිසුඛං පඨමජ්ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

72. සෙය්‍යථාපි බ්‍රාහ්මණ දක්ඛො නහාපකො වා නහාපකන්තෙවාසී වා කංසථාලෙ නහානීයචුණ්ණානි ආකිරිත්වා උදකෙන පරිප්ඵොසකං පරිප්ඵොසකං සන්නෙය්‍ය, සායං නහානීයපිණ්ඩි සෙනහානුගතා සෙනහපරෙතා සන්තරබාහිරා ඵුටා සෙනහෙන, න ච පග්ඝරිණී.

එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච

73 පුන ච පරං බ්‍රාහ්මණ භික්ඛු විතක්කවිචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං චෙතසො එකොදිභාවං අවිතක්කං අවිචාරං සමාධිජං පීතිසුඛං දුතියජ්ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

74 සෙය්‍යථාපි බ්‍රාහ්මණ උදකරහදො ගම්භීරො උබ්භිදොදකො, තස්ස නෙවස්ස පුරත්ථිමාය දිසාය උදකස්ස ආයමුඛං, න දක්ඛිණාය දිසාය උදකස්ස ආයමුඛං, න පච්ඡිමාය දිසාය උදකස්ස ආයමුඛං, න උත්තරාය දිසාය උදකස්ස ආයමුඛං, දෙවො ච න කාලෙන කාලං සම්මා ධාරං අනුප්පවෙච්ඡෙය්‍ය, අථ ඛො තම්හා ච උදකරහදා සීතා වාරිධාරා උබ්භිජ්ජිත්වා තමෙව උදකරහදං සීතෙන වාරිනා අභිසන්දෙය්‍ය පරිසන්දෙය්‍ය පරිපූරෙය්‍ය පරිප්ඵරෙය්‍ය. නාස්ස කිඤ්චි සබ්බාවතො උදකරහදස්ස සීතෙන වාරිනා අප්ඵුටං අස්ස එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

70. මේ නීවරණ පස තමා කෙරෙහි පහ වූවා දක්නා ඔහුට සතුට උපදී සතුටු වූවහුට ප්‍රීතිය උපදී ප්‍රීතිය සිතැ ඇත්තහුගේ නාමකය සංහිඳේ සංහුන් නාමකය ඇත්තේ සුව විඳී සුවැත්තහු සිත අරමුණෙහි එකඟ වේ.

71 හේ කාමයන්ගෙන් වෙන් ව ම සෙසු අකුසල් දහමුන්ගෙන් ද වෙන් ව ම, විතර්කසහිත, විචාරසහිත, විවෙකයෙන් (නීවරණ පහ වීමෙන්) ප්‍රීතියත් සුවයත් ඇති, පළමු දහන ලැබ වෙසෙසි. හේ මේ කරජ කය ම විවෙකයෙන් උපන් පීති සුවයෙන් තෙමයි, මුළුල්ල ම තෙමයි පුරා ලයි, ෘමුළුල්ල ම ස්පර්ශ කෙරෙයි සියලු අඟ පසඟ ඇති ඔහු මුළු කයෙහි (ඒ පිති සුවයෙන් පැතිර නොගත් කිසි ද තැනෙක් නො වෙයි

72 බමුණ, යම්සේ දක්‍ෂ කිලිඹෙක් හෝ කිලිඹකුගේ අතැවැස්සෙක් හෝ ලොහො තලියෙක නාන සුණු බහා දිය ඉස ඉස පිඩු කරන්නේ ද, ඒ නාන සුණු පිඩ කාවැදුණු දියැත්තේ, හැම තැන ම දියෙන් සුත් වූයේ, ඇතුළත පිටත සහිත ව මුළුල්ල ම දියෙන් පැතිරැ ගියේ, දියත් නො වගුරුවන්නේ වේ ද,

බමුණ, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම විවෙකයෙන් උපන් පීතිසුවයෙන් තෙමයි, මුළුල්ල ම තෙමයි, පුරා ලයි, මුළුල්ල ම සපර්ශ කෙරෙයි. ඔහුගේ සියලු අඟ පසඟ ඇති කයෙහි විවෙකජ ප්‍රීතිසුඛයෙන් පැතිරැ වැදූ නොගත් කිසි ද තැනෙක් නො වෙයි බමුණ, මේ වූ කලි පළමු දක්වුණු යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ තැතින් සිදු කට හැකි, එහෙත් වඩා මහත් පල ඇති වූත් වඩා මහත් අනුහස් ඇති වූත් යඥයෙකි.

73. බමුණ, නැවැත ද (අනෙකක් කියමි ) මහණ තෙමේ විතර්ක විචාර දෙකෝ සංසිඳීමෙන් සිය සතන්හි උපන්, සිය සතන් පහදවන, සිතැ එකඟ බව ඇති, විතර්කය නැති, විචාරය නැති, සමාධියෙන් උපන්, ප්‍රීතියත් සුවයත් ඇති දෙවෙනි දහනට පැමිණ වෙසෙසි. හේ මේ කරජ කය ම සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි, මුළුල්ල ම තෙත් කෙරෙයි, පුරා ලයි, හැම තැන ම පහසී. විවෙකයෙන් උපන් ප්‍රීතිසුඛයෙන් පැතිරැ නොගත් ඔහු සියලු කයේ කිසි ද තැනෙක් නො වෙයි

74. බමුණ, යම් සේ උල්පතින් මතු වන දිය ඇති විලෙක් වේ ද, එයට පෙර දිගින් දිය ඇතුළු වන මඟක් නොවතත්, දකුණු දිගිනුත් දිය වදිනා මඟක් ෘනොවතත්, පැසිම් දිගිනුත් දිය වදිනා මඟක් නොවතත්, උතුරු දිගිනුත් දිය වදිනා මඟක් නොවතත්, වැස්සත් කලින් කලැ සුදුසු පරිදි නො වසිතත්, එහෙත් ඒ විලෙන් සිසිල් දිය දහර මතු වි ඒ විල ම සිහිල් දියෙන් තෙමන්නේ ද, මුළුල්ල තෙමන්නේ ද, පුරා ලන්නේ ද, හැම තැන ම වැද ගෙන සිටි ද, එයින් පැයිරැ වැද නොගත් තැනෙක් නො වන්නේ ද, එසේ ම, බමුණ, මහණ තෙමේ මේ කරජ කය ම සමාධියෙන් උපන් පීතිසුවයෙන් තෙමයි. හැම තැන ම තෙත් කෙරෙයි, පුරා ලයි, හැම තැන ම පැතිරැ වැද ගනී ඔහුගේ කයේ සමාධියෙන් උපන් පීති සුවය පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි

අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච

75. පුන ච පරං බ්‍රාහ්මණ භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො සම්පජානො, සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති. යන්තං අරියා ආචික්ඛන්ති උපෙක්ඛකො සතිමා සුඛවිහාරීති. තං තතියං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

76. සෙය්‍යථාපි බ්‍රාහ්මණ උප්පලිනියං වා පදුමිනියං වා පුණ්ඩරීකිනියං වා අප්පෙකච්චානි උප්පලානි වා පදුමානි වා පුණ්ඩරීකානි වා උදකෙ ජාතානි උදකෙ සංවඩ්ඪානි[1] උදකානුග්ගතානි අන්තොනිමුග්ගපොසීනි, තානි යාව චග්ගා යාව ච මූලා සීතෙන වාරිනා අභිසන්නානි[2] පරිසන්නානි පරිපූරානි පරිප්ඵුටානි නාස්ස කිඤ්චි සබ්බාවතං උප්පලානං වා පදුමානං වා පුණ්ඩරීකානං වා සීතෙන වාරිනා අප්ඵුටං අස්ස. එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච.

77 පුන ච පරං බ්‍රාහ්මණ භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛාසතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති

78 සෙය්‍යථාපි බ්‍රාහ්මණ පුරිසො ඔදාතෙන වත්ථෙන සසීසං පාරුපිත්වා නිසින්නො අස්ස, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස ඔදාතෙන වත්ථෙන අප්ඵුටං අස්ස. එවමෙව ඛො බ්‍රාහ්මණ භික්ඛු ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති

අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච.

---

1 සංවුද්ධානි (කොහුඹිපිට පොත්සතු). 2 අභිසන්දානි පරිසන්දානි මජසං PTS

බමුණ, මේ වූ කලි පළමු දැක්වුණු යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ නැසීන් සිදු කට හැකි, එහෙත් එ හැමට වඩා මහත් පල ද මහත් අනුහස් ද ඇති යඥයෙක

75. තව ද බමුණ, මහණ තෙමේ ප්‍රීතිය සංහිඳීමෙන් උපෙක්ෂායෙන් යුතු ව, සිහියෙන් හා නුවණින් හා යුතු වැ වෙසෙසි සුවය ද කයින් විඳී. අරී පුඟුලෝ යම් දහනක් හෙතු කොට ගෙන දහන් ලැබූවහු ඇරැබ 'මෙ තෙමේ උපෙක්ෂාව ඇත්තේ ය, සිහි ඇත්තේ ය, සුව විහුම් ඇත්තේ යැ' යී කියත් ද හේ (එසේ වූ) ඒ තෙවෙනි දහන් පැමිණ (ලැබ) වෙසෙසි හේ මේ කය ම ප්‍රීති රහිත සුවයෙන් තෙමයි, මුළුල්ල ම තෙත් කෙරෙයි, පුරා ලසි, හැම තැන ම පැතිර වැද ගනී ඔහුගේ කයෙහි ඒ ප්‍රීතිරහිත සුවයෙන් පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

76 බමුණ, යම් සේ උපුල් විලෙක හෝ පියුම් විලෙක හෝ පඬෙර විලෙක හෝ ඇතැම් උපුල් හෝ පියුම් හෝ පඬෙර හෝ දියෙහි වැඩුණේ දියෙන් නොනැඟුණේ, දිය තුළැ ම ගිලී වැඩෙනුයේ ද, ඒ සියල්ල අග තෙක් ද මුල් තෙක් ද සිසිල් දියෙන් තෙමුණේ, මුළුල්ල ම තෙමුණේ පිරී ගියේ, හැම තැන ම පැතිරැ වැද ගත්තේ වේ ද, ඒ විලෙහි සියලු උපුල්වලැ හෝ පියුම්වලැ හෝ පඬෙරවලැ හෝ සිසිල් දිය පැතිරැ වැදූ නොගත් තැනෙක් නො වන්නේ ද, බමුණ, මහණ තෙමේ එ සේ ම මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි, හාත්පසින් තෙමයි, පූරා ලසි, මුළුල්ල ම පැතිරැ වැදූ ගනී ඔහුගේ සියලු කයෙහි ඒ නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ වැදූ නොගත් කිසි ද තැනෙක් නො වන්නේ ය

බමුණ, මෙ වනාහි පළමු දැක්වුණු යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ නැතින් සිදු කට හැකි, එහෙත් ඒ හැමට වඩා මහත් පල ද මහත් අනුසස් ද ඇති යඥයෙක.

77 තව ද බමුණ, මහණ තෙමේ සුව විඳුමත් දුරැලීමෙන්, දුක් විඳුමත් දුරැ ලීමෙන්, පළමු කොට ම සොම්නස් දොම්නස් දෙක දුරැ වීමෙන්, නොදුක් ද නොසුව ද වූ, උපෙක්ෂා ස්මෘති දෙකෝ පිරිසිදු බව ඇති, සිවුවන දහන ලැබ වෙසෙසි. හේ මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි ඔහුගේ සියලු කයෙහි පිරිසිදු පබසර සිතින් පැතිරැ වැදූ නොගත් කිසි ද තැනෙක් නො වෙයි

78 යම්සේ, බමුණ, මිනිසෙක් හිස සහිත මුළු කය ම සුදු වතින් වසා ගෙන හුන්නේ වී නම්, ඔහුගේ ඒ මුළු කයෙහි සුදු වතින් වැදූ නොගත් (නොවැසුණු) කිසිදු තැනෙක් නො වන්නේ ද, බමුණ, එසේ ම මහණ තෙම මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරැ වැදූ ගෙන නොසිටි කිසි දු තැනෙක් නො වෙයි

බමුණ, මේ වූ කලී පළමු කී යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ නැතින් සිදු කට හැකි, එහෙත් එ හැමට වඩා මහත් පල ද මහත් අනුහස් ද ඇති යඥයෙක.

79 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ[1] ඤාණ-දස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො එවං පජානාති: 'අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දනභෙදනවිද්ධංසනධම්මො, ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධ'න්ති.

80 සෙය්‍යථාපි බ්‍රාහ්මණ, මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො, තත්‍රස්ස සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං[2] වා. තමෙනං චක්ඛුමා පුරිසො හත්ථෙ කරිත්වා පච්චවෙක්ඛෙය්‍ය, 'අයං ඛො මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො තත්‍රිදං සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං වා'ති.

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති· 'අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො, ඔදනකුම්මාසූපචයො, අනිච්චුච්ඡාදනපරිමද්දන-භෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති

අයං ඛො බ්‍රාහ්මණ, යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච.

81 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං.

---

1 ආනෙජ්ජප්පත්තෙ, කත්ථචි

2 [illegible]

79 (බමුණ,) ඒ මහණ තෙමේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කිලිටි පහ වූ කල්හි, පහ වැ ගිය චිත්තෝපක්ලේශ ඇති කල්හි, මොළොක් වූ කල්හි, විවසුන් වඩනුවට සුදුසු වැ සිටි කල්හි, නිසල බවට පැමිණි කල්හි, විවසුන් නුවණ පිණිස (පිරියම්) සිත එයට යොමු කෙරෙයි, එයට නතු කෙරෙයි (එසේ වූ) හේ 'මා කය වූ කලි රූපවත් ය, සිවු මහාභූතයන්ගෙන් නිපන්නේ ය, මාපියන්ගේ ශුක්‍රශෝණිතයෙන් උපන්නේ ය බත් කොමු ඈ අහරින් වැඩුණේ ය. අනිසබව ද දුගඳ හරනුවට සුවඳ විලෙවුන් ඉලිය යුතු බව ද, ලෙඩ දුරු ලනුවට පිරිමැදුම් ඈ කළ යුතු බව ද, එසේ කළත් බිඳෙන බව ද, විසිරෙන බව ද යන මෙ කී දෑය සවභාව කොට ඇත්තේ ය. මා සිත ද මේ කයෙහි ලැග්ගේ ය. මෙහි බැඳුණේ ය''යී මෙසේ දැනැ ගනී.

80 බමුණ, යම්සේ සොඳුරු පිරිසිදු ආකරයෙක පහළ වූ, අටැස් වූ, මොනොවට පිරියම් කළ, සියුම් වූ, වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, දෙවුම් විදුම් ඈ හැම අයුරින් යුත් වෙරළුමිණෙක් වත්තේ ද, එහි නිල්වන් හෝ රත්වන් හෝ රත්වන් හෝ සුදුවන් හෝ පඬුවන් හෝ හුයෙක් අවුනන ලද්දේ වත්තේ නම් ඇස් ඇති පුරුෂයෙක් එය අතෙහි කොට, ''මේ වූ කලි සොඳුරු, පිරිසිදු ආරෙක උපන්, අටැස්, මොනොවට පිරියම් කළ, සියුම්, වෙසෙසින් පහන්, පිවිතුරු, දෙවුම් විදුම් ඈ සියලු අයුරින් යුත් වෙරෙළු මිණෙක මෙහි නිල්වන් හෝ රත්වන් හෝ රත්වන් හෝ සුදුවන් හෝ පඬුවන් හෝ මේ හුයෙක් අවුනන ලදුයේ වේ'' ය යී සලකා බලන්නේ ද,

බමුණ, එසේ ම මහණ තෙමේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිමුත් වූ කල්හි, කෙලෙස් යට පත් වූ කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මොළොක් වූ කල්හි, (විවසුන් බවුනට) සුහු වැ සිටි කල්හි, නිසල බවට පැමිණි කල්හි, විවසුන් නුවණ පිණිස සිත යොමු කෙරෙයි එයට නතු කෙරෙයි (එසේ වූ) හෙ තෙම 'මේ මා කය වූ කලි රූපවත් ය, සිවු මහාභූතයන්ගෙන් නිපන්නේ ය, මා පියන්ගේ ශුක්‍රශෝණිතයෙන් උපන්නේ ය, බත් කොමු අහරින් වැඩුණේ ය, අනිසබව ද, දුගඳ හරනට සුවඳ විලෙවුන් ඉලිය යුතු බව ද, ලෙඩ දුරු ලනුවට පිරිමැදුම් ඈ කළ යුතු බව ද, එය කළත් බිඳෙන බව ද, විසිරෙන බව ද යන මෙකී දෑ සවභාව කොටැත්තේ ය මා සිත ද මේ කයෙහි ලැග්ගේ ය මෙහි බැඳුණේ යැ'යී දැන ගනී

බමුණ, මේ වූ කලි පළමු කී යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ නැතින් සිදු කට හැකි, (එහෙත්) වඩා මහත් පල හා අනුසස් හා ඇති යඥයෙක.

81. හේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිමුත් වූ කල්හි, කෙලෙස් රහිත කල්හි, දුරු වූ උපක්ලේශ ඇති කල්හි, මොළොක් වූ කල්හි, ඉදුහු ඉපැදවීමට සුහු වැ සිටි කල්හි, නිසල බව් පත් කල්හි, මන්මුවා (මනෝමය) සිරිරක් මවා පානු පිණිස සිත යොමු කෙරෙයි, නතු කෙරෙයි හේ (මෙසේ) මේ සිරිරින් රූමත්, හැම අඟ පසඟ ඇති, නොවිකල ඉඳුරන් ඇති මන්මුවා සිරුරක් මවා පියයි.

සෙය්‍යථාපි බ්‍රාහ්මණ, පුරිසො මුඤ්ජම්හා ඊසිකං[1] පබ්බාහෙය්‍ය, තස්ස එවමස්ස "අයං මුඤ්ජො, අයං ඊසිකා අඤ්ඤො මුඤ්ජො, අඤ්ඤා ඊසිකා මුඤ්ජම්හා ත්වෙව ඊසිකා පබ්බාළ්හා"ති.

සෙය්‍යථා වා පන බ්‍රාහ්මණ, පුරිසො අසි කොසියා පබ්බාහෙය්‍ය, තස්ස එවමස්ස "අයං අසි, අයං කොසි, අඤ්ඤො අසි, අඤ්ඤා කොසි, කොසියා ත්වෙව අසි පබ්බාළ්හො"ති.

සෙය්‍යථා වා පන බ්‍රාහ්මණ, පුරිසො අහිං කරණ්ඩා උද්ධරෙය්‍ය, තස්ස එවමස්ස "අයං අහි, අයං කරණ්ඩො, අඤ්ඤො අහි, අඤ්ඤො කරණ්ඩො, කරණ්ඩා ත්වෙව අහි උබ්භතො"ති

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං.

අයං ඛො බ්‍රාහ්මණ, යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච.

82. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති එකො'පි හුත්වා බහුධා හොති, බහුධා'පි හුත්වා එකො හොති, ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ. පඨවියා'පි උම්මුජ්ජනිමුජ්ජං කරොති සෙය්‍යථාපි උදකෙ උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථාපි පඨවියං ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො ඉමෙ'පි චන්දිමසුරියෙ එවං මහිද්ධිකෙ එවං මහානුභාවෙ පාණිනා පරිමසති පරිමජ්ජති යාව බ්‍රහ්මලොකා'පි කායෙන වසං වත්තෙති.

සෙය්‍යථාපි බ්‍රාහ්මණ, දක්ඛො කුම්භකාරො වා කුම්භකාරන්තෙවාසී වා සුපරිකම්මකතාය මත්තිකාය යං යදෙව භාජනවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය,

සෙය්‍යථා වා පන බ්‍රාහ්මණ, දක්ඛො දන්තකාරො වා දන්තකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං දන්තස්මිං යං යදෙව දන්තවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය;

1. ඉසිකං PTS

බමුණ, යම්සේ පුරුෂයෙක් මුදුතණ ගසෙකින් මුදුකිලිල ඇද මැත් කරන්නේ නම්, ඔහුට "මේ මුදුතණ ගස ය, මේ එහි මුදුකිලිල ය, තණ ගස එකෙක, එහි මුදුකිලිල අනෙකෙක, මුදු තණ ගසින් එහි කිලිල මැත් කරනලද්දැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

බමුණ, යම්සේ හෝ පුරුෂයෙක් කඩුවක් කොපුවෙන් ඇද්ද මැත් කරන්නේ නම්, ඔහුට "මේ කඩුව ය, මේ කොපුව ය, කඩුව එකෙක, කොපුව අනෙකෙක, කොපුයෙන් ම කඩුව ඇද මැත් කරනලද්දැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

බමුණ, යම්සේ වනාහි පුරුෂයෙක් නයකු සැවෙන් (සිතින්) ඇද්ද නගා ගන්නේ ද, ඔහුට "මේ නයා ය, මේ සැව ය, නයා එකෙක, සැවය අනෙකෙක, සැවයෙන් ම නයා ඉදිරිණැ"යි මෙසේ සිතෙක් වන්නේ ද,

බමුණ, එසේ ම මහණ තෙමේ මේ උඩ කී පරිදි සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් රහිත කල්හි, පහ වූ උපක්ලෙශ ඇති කල්හි, මොළොක් වූ කල්හි, ඉද්ධි වඩනුවට යුහු වැ සිටි කල්හි, නිසල බව් පත් කල්හි මන්මුවා සිරුරක් මවා පානුවට සිත යොමු කෙරෙයි, තමා හරියි (එසේ වූ) හේ මේ සිරිරින් රූපවත් වූ, සියලු අඟපසඟින් යුත්, නොවිකල ඉඳුරන් ඇති, මන්මුවා අන් සිරුරක් මවා පියයි

බමුණ, මේ වනාහි උඩ දැක්වුණු යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ තැතින් සිදු කට හැකි, (එහෙත්) එයට වඩා මහත් පල ද වඩා මහත් අනුසස් ද ඇති යඥයෙක

82. හේ උඩ කී පරිදි සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිමුත් වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, උපක්ලෙශ පහ වැ ගිය කල්හි, මොළොක් වූ කල්හි, (ඉද්ධි වඩනුවට) යුහු වැ සිටි කල්හි, නිසල බව් පත් කල්හි, ඉද්ධිවිද නුවණ පිණිස පිරියම් සිත මෙහෙයයි, නතු කෙරෙයි. (එසේ) හේ නොයෙක් වැද්දෑරුම් ඉදු කොටස් පුන පුනා පසක් කෙරෙයි. පියෙවියෙන් එකෙක් වැ සිට ද ඉදුබෙලෙන් බොහෝ වැද්දෑරුම් වෙයි බොහෝ වැද්දෑරුම් වීත් යළි එකෙක් ම වෙයි තමාගේ පෙහෙළි බව කෙරෙයි, යළි නොපෙහෙළි බව කෙරෙයි බිත්තියෙන් පිටතට පවුරින් පිටතට පව්වෙන් පිටතට අහසෙහි මෙන් කිසිවෙකත් නොගැටෙනුයේ විනිවිද්ද ගෙන යෙයි දියෙහි මෙන් පොළොව්හි ද ගිලීම ද මතු වීම ද කෙරෙයි නොබිඳෙන දියෙහි පොළොව්හි සේ යෙයි පියාපත් ඇති සකුනයකු සේ අහස්හි ද පලඟින් යෙයි මේසා මහත් ඉදු ඇති, මහත් තෙද ඇති මේ සඳ හිරු දෙදෙනා ද අල්ලයි අත යවා ඔබ මොබ පිරිමදී බඹලොව දක්වා ද (මුළු ලොව) කයින් විසී කෙරෙයි

බමුණ, යම් සේ කුඹලෙක් හෝ කුඹලක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ මැටියෙන් යම් යම් බඳුන් වෙසෙසක් තෙමේ කැමැත්තේ නම් එය එය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද;

බමුණ, යම් සේ හෝ සමත් දත්වඩුවෙක් හෝ ඔහු අතැවැස්සෙක් හෝ මොනොවට සකස් කළ දතෙක්හි යම් යම් විසිතුරු රූපාදියක් (දන්තවිකෘතියක්) කැමැත්තේ නම් එය එය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද,

සෙය්‍යථා වා පන බ්‍රාහ්මණ, දක්ඛො සුවණ්ණකාරො වා සුවණ්ණකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං සුවණ්ණස්මිං යං යදෙව සුවණ්ණවිකතිං ආකඞ්ඛෙය්‍ය, තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය,

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති එකො'පි හුත්වා බහුධා හොති බහුධා'පි හුත්වා එකො හොති ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථා'පි ආකාසෙ. පඨවියා'පි උම්මුජ්ජනිමුජ්ජං කරොති සෙය්‍යථා'පි උදකෙ උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථා'පි පඨවියං ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො ඉමෙ'පි චන්දිමසූරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරිමසති පරිමජ්ජති යාව බ්‍රහ්මලොකා'පි කායෙන වසං වත්තෙති.

අයං ඛො බ්‍රාහ්මණ යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච.

83. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති, අභිනින්නාමෙති. සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච

84. සෙය්‍යථා'පි බ්‍රාහ්මණ, පුරිසො අද්ධානමග්ගප්පටිපන්නො, සො සුණෙය්‍ය භෙරිසද්දම්පි මුදිඞ්ගසද්දම්පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දම්පි. තස්ස එවමස්ස 'භෙරිසද්දො ඉති'පි මුදිඞ්ගසද්දො ඉති'පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දො ඉති'පි එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති, අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච.

අයං ඛො බ්‍රාහ්මණ, යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච

බමුණ, යම්සේ හෝ සමත් රන්කරුවෙක් හෝ ඔහු අතවැස්සෙක් හෝ මොනොවට සකස් කළ රනෙහි යම් යම් අබරණ- ආදියක් (සුවර්ණ-විකෘතියක්) කැමැත්තේ නම් එය එය ම කරන්නේ ද, නිපදවන්නේ ද;

බමුණ, එ පරිද්දෙන් ම මෙසේ (උඩ කී පරිදි) සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, පබසර වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, පහ වූ උපකෙලශ ඇති කල්හි, මොළොක් වූ කල්හි, ඉදුහ වඩනුවට යුහු වූ කල්හි, ස්ථිතකල්හි, නිසලබව් පත් කල්හි ඉදුවිද නුවණ පිණිස සිත මෙහෙයයි, මොනොවට නතු කෙරෙයි (එසේ වූ) හේ නොයෙක් වැදෑරුම් ඉදු කොටස් පුන පුනා විඳී (ලබයි, පසක් කෙරෙයි). පියෙව්යෙන් එකක් වැ ම සිට බොහෝ දෙනෙක් වෙයි. බොහෝ දෙනක් වැ යළි එකෙක් ම වෙයි තෙමේ පෙනී සිටී, නොපෙනී ද සිටී. බිතුයෙන් පිටතට පවුරින් පිටතට පව්වෙන් පිටතට විනිවිදැ කිසිවෙක නොලැගී අහසෙහි සෙයින් යෙයි පොළොවෙහි ද දියෙහි මෙන් ගිලීමත් මතු වීමත් කෙරෙයි පොළොව මතු පිටැ සේ නොබිඳෙන දියෙහි යෙයි. ඉඟිලෙන පක්ෂියකු සේ පලඟින් අහසැ යෙයි මේ සා මහත් ඉදුහ ඇති මේසා මහත් තෙද ඇති සඳ හිරුත් පවා අල්ලයි, පිරිමදියි බඹලොව දක්වා ද කයින් තමා වසයෙහි පවත්වයි.

බමුණ, මේ වනාහි මෙයින් පළමු කී සියලු යඥයනට වඩා මඳ කටයුතු ඇති ද වඩා මඳ තැතින් සිදු කට හැකි ද වූ, එහෙත් ඒ හැමට වඩා මහ පල ද වඩා මහ අනුසස් ද ඇති යඥයෙක.

83. හේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිප්තිමත් වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මොළොක් වූ කල්හි, (දිව්කන් නුවණ වඩනුවට) යුහු වූ කල්හි, ස්ථිත කල්හි, නිසල බව් පත් කල්හි, දිව්කන් නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි (එසේ වූ) හේ පිරිසිදු වූ මිනිසුන් ගේ ඇසුම් ඉම ඉක්මැ සිටි දිව්කනින් දෙවියන් අයත් වූ ද මිනිසුන් අයත් වූ ද දුරු වූ ද ළඟැ වූ ද යන දෙවැදෑරුම් හැම හඬ ම අසයි.

84 බමුණ, යම්සේ මිනිසෙක් දික් මඟකට පිළිපන්නේ නම්, හේ බෙර හඬත් මිහිඟු බෙර හඬත් සක් පණා ගැටබෙර හඬත් අසන්නේ නම්, එය අසන ඔහුට 'මේ බෙර හඬැ' සීත් 'මේ මිහිඟු බෙර හඬැ' සී ත් මේ සක් පණා ගැටබෙර හඬැ'සීත් මෙසේ සිතෙක් වන්නේ නම්, බමුණ, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙ ලෙස සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිප්තිමත් වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මොළොක් වූ කල්හි, කර්මක්‍ෂම වැ සිටි කල්හි, නිසල බව් පත් කල්හි, දිව්කන් නුවණ පිණිස සිත යොමු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දැකුම් ඉම ඉක්මැ වූ දිව්කන් නුවණින් දිව්‍ය වූත් මානුෂ වූත් දුරු වූත් ළඟැ වූත් දැ යි මෙසේ දෙවැදෑරුම් වූ සියලු හඬ අසයි

බමුණ, මෙය පළමු දක්වූ යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ තැතෙකින් සිදු කට හැකි, ඒ හැමට වඩා මහත් පල ද ඇති මහත් අනුසස් ද ඇති යාගයෙකි.

85. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති, වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති, සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති, වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති, සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති, වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති, සඞ්ඛිත්තං වා චිත්තං සඞ්ඛිත්තං චිත්තන්ති පජානාති, වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති, මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති, අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති, සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති, අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති, සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති, අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති, විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති, අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

86. සෙය්‍යථා'පි බ්‍රාහ්මණ, ඉත්ථී වා පුරිසො වා දහරො වා යුවා මණ්ඩනජාතිකො ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදකපත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය.

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති.

සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති. සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති. වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති සඞ්ඛිත්තං වා චිත්තං-පෙ-වික්ඛිත්තං වා චිත්තං-පෙ-මහග්ගතං වා චිත්තං-පෙ-අමහග්ගතං වා චිත්තං-පෙ-සඋත්තරං වා චිත්තං -පෙ-අනුත්තරං වා චිත්තං-පෙ-සමාහිතං වා චිත්තං-පෙ-අසමාහිතං වා චිත්තං-පෙ-විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

අයං ඛො බ්‍රාහ්මණ, යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච

85 හේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, උපකෙලශ පහ වූ කල්හි, මොලොක් වූ කල්හි, කර්මක්ෂම කල්හි, ස්ථිත කල්හි, නිසල බව් පත් කල්හි, පර සිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි. නැඹුරු කෙරෙයි. (එසේ වූ) හේ අන් සතුන්ගේ අන් පුගුලන්ගේ සිත සිය සිතින් පිරිසිඳ දනියි. සරාග සිත සරාග සිතැ යි දනී. රාගරහිත සිත රාගරහිත සිතැ යි ද දනියි. සද්වෙෂ සිත සද්වෙෂ සිතැ යි ද දනී. ද්වෙෂ රහිත සිත ද්වෙෂ රහිත සිතැ යි ද දනියි. සමොහ සිත සමොහ සිතැ යි දනි මොහරහිත සිත මොහරහිත සිතැ යි ද දනියි. හැකුළුණු සිත හැකුළුණු සිතැ යි ද දනියි. විසුරුණු සිත විසුරුණු සිතැ යි ද දනියි. මහද්ගත සිත මහද්ගත සිතැ යි ද දනියි අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද දනියි. සොත්තර සිත සොත්තර සිතැ යි ද දනියි. නිරුත්තර සිත නිරුත්තර සිතැ යි ද දනියි. එකඟ සිත එකඟ සිතැ යි ද දනී. නොඑකඟ සිත නොඑකඟ සිතැ යි ද දනියි. මිදුණු සිත මිදුණු සිතැ යි ද දනී නොමිදුණු සිත නොමිදුණු සිතැ යි ද දනියි

86. බමුණ, ලඳරු වෙවයි තරුණ වෙවයි සැරසෙන සුලු ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ පිරිසිදු පිවිතුරු කැඩපතෙක හෝ පහන් දියැති බඳුනෙක හෝ සිය මුව සටහන පිරික්සා බලන්නේ තලකැලැල් ඇ දෙස් ඇති තැන් දෙස් ඇති තැනැ යි දන්නේ ද, ඒ දෙස් නැති තැන් දෙස් නැති තැනැ යි දන්නේ ද,

බමුණ, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ (උඩ කී පරිදි) සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, නිකෙලෙස් වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මොලොක් වූ කල්හි, කර්මක්ෂම කල්හි, ස්ථිත කල්හි, නිසලබව් පත් කල්හි, පරසිත් දන්නා නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නතු කෙරෙයි

හේ අන් සතුන්ගේ අන් පුගුලන්ගේ සිත සිය සිතින් පිරිසිඳ දනී. සරාග සිත සරාග සිතැ යි ද දනී වීතරාග සිත වීතරාග සිතැ යි ද දනී. සද්වෙෂ සිත සද්වෙෂ සිතැ යි ද.. වීතද්වෙෂ සිත වීතද්වෙෂ සිතැ යි ද සමොහ සිත සමොහ සිතැ යි ද වීතමොහ සිත වීතමොහ සිතැ යි ද . සංක්ෂිප්ත සිත සංක්ෂිප්ත සිතැ යි ද ..වික්ෂිප්ත සිත වික්ෂිප්ත සිතැ යි ද . මහද්ගත සිතැ මහද්ගත සිත සි ද . අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද . සොතතර සිත සොත්තර සිතැ යි ද . නිරුත්තර සිත නිරුතතර සිතැ යි ද.. සමාහිත සිත සමාහිත සිතැ යි ද . ,අසමාහිත සිත අසමාහිත සිතැ යි ද . ,විමුක්ත සිත විමුක්ත සිතැ යි ද . ,අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි ද දනී

බමුණ, මේ වනාහි පළමු කී යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ තැතෙකින් සිදු කට හැකි ඒ හැමට වඩා මහත් පල ද ඇති, වඩා මහත් අනුහස් ද ඇති යාගයෙක.

87 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්චපි ජාතියො දසපි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ "අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො අමුත්‍ර උපපාදිං. තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො"ති. ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති.

88. සෙය්‍යථා'පි බ්‍රාහ්මණ, පුරිසො සකම්හා ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, තම්හාපි ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය. සො තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගච්ඡෙය්‍ය, තස්ස එවමස්ස "අහං ඛො සකම්හා ගාමා අමුං ගාමං අගච්ඡිං, තත්‍ර එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං තම්හාපි ගාමා අමුං ගාමං අගච්ඡිං තත්‍රාපි එවං අට්ඨාසිං එවං නිසීදිං එවං තුණ්හී අහොසිං. සො'ම්හි තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගතො"ති.

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං එකම්පි ජාතිං ද්වෙපි ජාතියො තිස්සොපි ජාතියො චතස්සොපි ජාතියො පඤ්චපි ජාතියො දසපි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙපි සංවට්ටකප්පෙ අනෙකෙපි විවට්ටකප්පෙ අනෙකෙපි සංවට්ටවිවට්ටකප්පෙ අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො අමුත්‍ර උපපාදිං. තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො ඉධූපපන්නො"ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති.

87 හේ මෙසේ සිත එකඟ වූ කල පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ, උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්ෂම වැ නිසලබව් පත් වැ තහවුරු වැ සිටි කල්හි පෙර වුසූ කඳපිළිවෙළ දක්නා නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නතු කෙරෙයි (එසේ වූ) හේ "අසෝ තැනැ මෙ නම් ඇතියෙම් වීම්, මෙ ගොත් ඇතියෙම් වීම්, මෙබඳු පැහැසටහන් ඇතියෙම් වීම්, මෙබඳු අහර ඇතියෙම් වීම්, මෙබඳු සුව දුක් විඳිනුයෙම් වීම්, මෙබඳු ආයු කෙලවර ඇතියෙම් වීම්, ඒ මම් එයින් සැවැ අසෝ තැනැ උපනිම් එහි දු මෙ නම් ඇතියෙම් වීම්, මෙ ගොත් ඇතියෙම් වීම්. මෙබඳු පැහැ සටහන් ඇතියෙම් වීම්, මෙ බඳු අහර ඇතියෙම් වීම්, මෙ බඳු සුව දුක් විඳිනු- යෙම් වීම්. මෙබඳු ආයු සීමා ඇතියෙම් වීම් ඒ මම් එයින් සැවැ මෙහි උපනිම්" යි මෙසේ එක් ජාතියක් ද ජාති දෙකක් ද ජාති තුනක් ද ජාති සතරක් ද ජාති පසක් ද ජාති දසයක් ද ජාති විස්සක් ද ජාති තිසක් ද ජාති සතළිසක් ද ජාති පනසක් ද ජාති සියක් ද ජාති දහසක් ද ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද බොහෝ විවර්ත කල්ප ද බොහෝ සංවර්ත විවර්ත කල්ප ද මෙසේ නොයෙක් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙසේ පැහැ සටහන් ඈ විසින් අයුරු සහිත, නම් ගොත් විසින් උදෙසුම් සහිත බොහෝ වැදෑරුම් පෙර වුසූ කඳපිළිවෙළ සිහි කෙරෙයි.

88 බමුණ, යම්සේ පුරුෂයෙක් සිය ගමින් අන් ගමකට යන්නේ ද, එ ගමිනුත් අන් ගමකට යන්නේ ද, යළි ඒ ගමින් සිය ගමට පෙරළා එන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි සිය ගමින් අසෝ ගමට ගියෙම්, එහි මෙසේ සිටියෙම්, මෙසේ හුන්නෙම්, මෙසේ කීම්, මෙසේ නිහඬ වීම්. එ ගමිනුත් අසෝ ගමට ගියෙම්, එහි දු මෙසේ සිටියෙම්, මෙසේ හුන්නෙම්, මෙසේ කීම්, මෙසේ නිහඬ වීම්, ඒ මම් එ ගමින් සිය ගමට ම පෙරළා ආයෙම් වෙම්"සී ඔහුට මෙබඳු සිතෙක් වන්නේ ද,

බමුණ, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ උපක්ලේශ පහ වැ මොළොක් වැ කර්මක්ෂම වැ නිසල බව් පත් වැ තහවුරු වැ සිටි කල්හි පෙර වුසූ කඳපිළිවෙළ සිහි කරන නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි මොනොවට නතු කෙරෙයි හේ "අසෝ තැනැ මෙ බඳු නම් ඇතියෙම් වීම්, මෙ බඳු ගොත් ඇතියෙම් වීම්, මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීම්, මෙ බඳු අහර ඇතියෙම් වීම්, මෙ බඳු සුව දුක් විඳුනෙම් වීම්, මෙ බඳු ආයු සීමා ඇතියෙම් වීම් ඒ මම් එයින් සැවැ අසෝ තැනැ උපනිම්, එහි ද මෙබඳු නම් ඇතියෙම් වීම්, මෙබඳු ගොත් ඇතියෙම් වීම්, මෙබඳු පැහැ සටහන් ඇතියෙම් වීම්, මෙ බඳු අහර ඇතියෙම් වීම්, මෙ බඳු සුවදුක් විඳුනෙම් වීම් මෙතෙක් ආයු සීමා ඇතියෙම් වීම් ඒ මම් එයින් සැවැ මෙහි උපනිම්"සී මෙසේ එක් දූයක් ද දෙ දූයක් ද තෙ දූයක් ද සිවු දූයක් ද පස් දූයක් ද දස දූයක් ද විසි දූයක් ද තිස් දූයක් ද සාළිස් දූයක් ද පනස් දූයක් ද සිය දූයක් ද දහස් දූයක් ද සුවහස් දූයක් ද බොහෝ පිරිහෙන කප් ද බොහෝ වැඩෙන කප් ද බොහෝ පිරිහෙන වැඩෙන කප් ද සී මෙසේ නොයෙක් වැදෑරුම් පෙර වුසූ කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙ පරිද්දෙන් අයුරු සහිත උදෙසුම් සහිත පෙර වුසූ නොයෙක් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි.

87 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්චපි ජාතියො දසපි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ: "අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො අමුත්‍ර උදපාදිං තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො"ති. ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති.

88. සෙය්‍යථා'පි බ්‍රාහ්මණ, පුරිසො සකම්හා ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, තම්හාපි ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය සො තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගච්ඡෙය්‍ය, තස්ස එවමස්ස· "අහං ඛො සකම්හා ගාමා අමුං ගාමං අගච්ඡිං, තත්‍ර එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං තම්හාපි ගාමා අමුං ගාමං අගච්ඡිං. තත්‍රාපි එවං අට්ඨාසිං එවං නිසීදිං එවං තුණ්හී අහොසිං. සො'ම්හි තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගතො"ති.

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං· එකම්පි ජාතිං ද්වෙපි ජාතියො තිස්සොපි ජාතියො චතස්සොපි ජාතියො පඤ්චපි ජාතියො දසපි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙපි සංවට්ටකප්පෙ අනෙකෙපි විවට්ටකප්පෙ අනෙකෙපි සංවට්ටවිවට්ටකප්පෙ අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො අමුත්‍ර උදපාදිං. තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො ඉධූපපන්නො"ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති.

87 හේ මෙසේ සිත එකඟ වූ කල පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ, උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්‍ෂම වැ නිසලබව් පත් වැ තහවුරු වැ සිටි කල්හි පෙර වුසු කඳපිළිවෙළ දක්නා නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නතු කෙරෙයි (එසේ වූ) හේ "අසෝ තැනැ මෙ නම් ඇතියෙම් වීමි, මෙ ගොත් ඇතියෙම් වීමි, මෙබඳු පැහැසටහන් ඇතියෙම් වීමි, මෙබඳු අහරැතියෙම් වීමි, මෙබඳු සුව දුක් විඳිනුයෙම් වීමි, මෙබඳු ආයු කෙළවර ඇතියෙම් වීමි, ඒ මම එයින් සැවැ අසෝ තැනැ උපනිමි. එහි දූ මෙ නම් ඇතියෙම් වීමි, මෙ ගොත් ඇතියෙම් වීමි. මෙබඳු පැහැ සටහන් ඇතියෙම් වීමි, මෙ බඳු අහරැතියෙම් වීමි, මෙ බඳු සුව දුක් විඳිනු-යෙම් වීමි. මෙබඳු ආයු සීමා ඇතියෙම් වීමි ඒ මම එයින් සැවැ මෙහි උපනිමි" සි මෙසේ එක් ජාතියක් ද ජාති දෙකක් ද ජාති තුනක් ද ජාති සතරක් ද ජාති පසක් ද ජාති දසයක් ද ජාති විස්සක් ද ජාති තිසක් ද ජාති සතළිසක් ද ජාති පනසක් ද ජාති සියක් ද ජාති දහසක් ද ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද බොහෝ විවර්ත කල්ප ද බොහෝ සංවර්ත විවර්ත කල්ප ද මෙසේ නොයෙක් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙසේ පැහැ සටහන් ඈ විසින් අයුරු සහිත, නම් ගොත් විසින් උදෙසුම් සහිත බොහෝ වැදෑරුම් පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි.

88. බමුණ, යම්සේ පුරුෂයෙක් සිය ගමින් අන් ගමකට යන්නේ ද, එ ගමිනුත් අන් ගමකට යන්නේ ද, යළි ඒ ගමින් සිය ගමට පෙරළා එන්නේ ද, එසේ වූ ඔහුට "මම වූ කලි සිය ගමින් අසෝ ගමට ගියෙමි, එහි මෙසේ සිටියෙමි, මෙසේ හුන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි. එ ගමිනුත් අසෝ ගමට ගියෙමි, එහි දූ මෙසේ සිටියෙමි, මෙසේ හුන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි, ඒ මම එ ගමින් සිය ගමට ම පෙරළා ආයෙම් වෙමි"සී ඔහුට මෙබඳු සිතෙක් වන්නේ ද,

බමුණ, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ උපක්ලේශ පහ වැ මොළොක් වැ කර්මක්‍ෂම වැ නිසල බව් පත් වැ තහවුරු වැ සිටි කල්හි පෙර වුසු කඳපිළිවෙළ සිහි කරන නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි මොනොවට නතු කෙරෙයි හේ "අසෝ තැනැ මෙ බඳු නම් ඇතියෙම් වීමි, මෙ බඳු ගොත් ඇතියෙම් වීමි, මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීමි, මෙ බඳු අහර ඇතියෙම් වීමි, මෙ බඳු සුව දුක් විඳුනෙම් වීමි, මෙ බඳු ආයු සීමා ඇතියෙම් වීමි ඒ මම එයින් සැවැ අසෝ තැනැ උපනිමි, එහි ද මෙබඳු නම් ඇතියෙම් වීමි, මෙබඳු ගොත් ඇතියෙම් වීමි, මෙබඳු පැහැ සටහන් ඇතියෙම් වීමි, මෙ බඳු අහර ඇතියෙම් වීමි, මෙ බඳු සුවදුක් විඳුනෙම් වීමි මෙනෙක් ආයු සීමා ඇතියෙම් වීමි ඒ මම එයින් සැවැ මෙහි උපනිමි"සී මෙසේ එක් දෑයක් ද දෙ දෑයක් ද තෙ දෑයක් ද සිවු දෑයක් ද පස් දෑයක් ද දස දෑයක් ද විසි දෑයක් ද තිස් දෑයක් ද සාළිස් දෑයක් ද පනස් දෑයක් ද සිය දෑයක් ද දහස් දෑයක් ද සුවහස් දෑයක් ද බොහෝ පිරිහෙන කප් ද බොහෝ වැඩෙන කප් ද බොහෝ පිරිහෙන වැඩෙන කප් දූ සී මෙසේ නොයෙක් වැදෑරුම් පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙ පරිද්දෙන් අයුරු සහිත උදෙසුම් සහිත පෙර වුසු නොයෙක් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි.

අයං ඛො බ්‍රාහ්මණ, යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහප්ඵලතරො ච මහානිසංසතරො ච

89. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති ඉමෙ වත භොන්තො සත්තා කාය- දුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා. තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති. ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්ත- මානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති.

90 සෙය්‍යථාපි බ්‍රාහ්මණ, මජ්ඣෙ සිංඝාටකෙ[1] පාසාදො, තත්ථ චක්ඛුමා පුරිසො ඨිතො පස්සෙය්‍ය මනුස්සෙ ගෙහං පවිසන්තෙ'පි නික්ඛමන්තෙ'පි රථියා වීථිසඤ්චරන්තෙ'පි මජ්ඣෙ සිංඝාටකෙ[1] නිසින්නෙ'පි තස්ස එවමස්ස, එතෙ මනුස්සා ගෙහං පවිසන්ති, එතෙ නික්ඛමන්ති, එතෙ රථියා වීථිසඤ්චරන්ති, එතෙ මජ්ඣෙ සිංඝාටකෙ[1] නිසින්නා'ති;

එවමෙව ඛො බ්‍රාහ්මණ, භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්ත- මානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡා- දිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා. –

1 මජ්ඣෙ සිංඝාටකං

බමුණ, මේ පලමු දැක්වුණු යඥයනට වඩා මඳ කටයුතු ඇති වඩා මඳ තැතින් සිදු කට හැකි, වඩා මහත් පල ද වඩා මහත් අනුහස් ද ඇති යඥයෙක

89 ඒ මහණ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වැ දීප්ත වැ කෙලෙස් නැති වැ උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්‍ෂම වැ නිසල බව් පත් වැ තහවුරු වැ සිටි කල්හි සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දැකුම් ඉම ඉක්මැ දක්නැ හැකි දිවැසින්, 'අහෝ මේ භවත් සත්ත්වයෝ කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්‍ය්‍යෝපවාද කළෝ ය මිසදිටු ගතුවහ, මිසදිට් විසින් ගත් මිථ්‍යාව්‍රත ඇතියහ ඔහු කා බුත් මරණින් මතු සුවින් තොර, නපුරු කමින් උපත් ගති වූ (කර්මයට තමන් යටත් බැවින්) තමනට අවශග වැ වැටෙන තැන් වූ නිරයට වත්තෝ ය මේ භවත් සත්ත්වයෝ වූ කලි කායසුචරිතයෙන් වාක්-සුචරිතයෙන් මනසසුචරිතයෙන් සමන්විතයහ. ආර්‍ය්‍යයනට උපවාද නො කොළෝ ය සම්දිටු ගතුවහ සම්දිට් විසින් ගත් සිල් ඈ ඇතියහ ඔහු කාබුත් මරණින් මතු හොබනා ගති ඇති සග ලොව් වත්තෝ යැ''යි මරණාසන්න වූ ද එ කෙණෙහි පිළිසඳ ගතුවත් වූ ද හීන වූ ද උසස් වූ ද මනා පැහැසටහන් ඇති වූ ද නොමනා පැහැසටහන් ඇති වූ ද සුගතියට පැමිණි ද දුගතියට පැමිණි ද කම් වූ පරිදි ඒ ඒ භවයට ගිය සතුන් දකී මෙසේ හේ පිරිසිදු වූ, මිනිස් විසා ඉක්මැ සිටි දිවැසින් පහත් උසස් සුවත් දුවත් සුගී දුගී සතුන් දකී කම් වූ පරිදි ඒ ඒ බව කරා එළැඹැ සිටි සතුන් දකී

90 බමුණ, යම් සේ සිවුමං හන්දියෙකැ මහල් ඇති ගෙයෙක් වන්නේ ද එහි උඩු මහලෙහි ඇස් ඇති පුරුෂයෙක් සිටියේ, ගෙ වදිනාවුනුත් ගෙන් නික්මෙනවුනුත් වීථියෙහි ඇත මෑත යන එනවුනුත් සිවුමංහන්දිය මැදූ හුන්නවුනුත් දක්නේ ද, ඒ දක්නා ඔහුට ''මේ මිනිස්සු ගෙ වදිත්, මොහු ගෙන් නික්මෙත්. මොහු වෙයෙහි ඇත මෑත යෙත් මොහු සිවුමං-හන්දිය මැදූ හුන්නාහැ'යි මෙසේ සිතෙක් වන්නේ ද,

බමුණ, එසේ ම මහණ තෙමේ සිත මෙ පරිද්දෙන් එකඟ වැ පිරිසිදු වැ දිමුත් වැ නිකෙලෙස් වැ උපකෙලශ නැති වැ මොළොක් වැ කර්මක්‍ෂම වැ නිසල බව් පත් වැ තහවුරු වැ සිටි කල්හි, සතුන් ගේ මැරුම් දිනුම් දක්නා නුවණ ලබනුවට සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි හේ මිනිස් විසා ඉක්මැවූ පිරිසිදු දිවැසින් 'අහෝ මේ භවත් සත්ත්වයෝ කාදුසිරියෙන් විසීදුසිරියෙන් මන්දුසිරියෙන් යුතුහ අරීපුඟුලනට දෙස් නැඟුහ මිසදිට් ගතුවහ මිසදිට් විසින් ගත් සදෙස් වත් ඇතියහ ඒ මොහු කාබුත් මරණින් මතු සුවෙන් පහ වූ නපුරු කමින් උපත් තමනට තමන් අවශග වැ වැටෙන තැන් වූ නිරා වත්තහ. -

තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති භවාසවා'පි චිත්තං විමුච්චති, අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති පජානාති

අයම්පි ඛො බ්‍රාහ්මණ, යඤ්ඤො පුරිමෙහි යඤ්ඤෙහි අප්පට්ඨතරො ච අප්පසමාරම්භතරො ච මහානිසංසතරො ච ඉමාය ච බ්‍රාහ්මණ යඤ්ඤ-සම්පදාය අඤ්ඤා යඤ්ඤසම්පදා උත්තරිතරා වා පණීතතරා වා නත්ථී"ති

93 එවං වුත්තෙ කූටදන්තො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච අභික්කන්තං භො ගොතම, අභික්කන්තං භො ගොතම සෙය්‍යථාපි භො ගොතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය: චක්ඛු-මන්තො රූපානි දක්ඛින්තීති එවමෙව භොතා ගොතමෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො එසාහං භවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝං ච උපාසකං මං භවං ගොතමො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතං එසාහං භො ගොතම සත්ත ච උසභසතානි සත්ත ච වච්ඡතරසතානි, සත්ත ච වච්ඡතරීසතානි, සත්ත ච අජසතානි සත්ත ච උරබ්භසතානි මුඤ්චාමි, ජීවිතං දෙමි හරිතානි චෙව තිණානි ඛාදන්තු සීතානි ච පානීයානි පිවන්තු සීතො ච නෙසං වාතො උපවායතූති.

94 අථ ඛො භගවා කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස ආනුපුබ්බිකථං කථෙසි සෙය්‍යථීදං? දානකථං සීලකථං සග්ගකථං කාමානං ආදීනවං ඔකාරං සංකිලෙසං නෙක්ඛම්මෙ ච ආනිසංසං පකාසෙසි. යදා භගවා අඤ්ඤාසි කූටදන්තං බ්‍රාහ්මණං කල්ලචිත්තං මුදුචිත්තං විනීවරණචිත්තං උදග්ග-චිත්තං පසන්නචිත්තං අථ යා බුද්ධානං සාමුක්කංසිකා ධම්මදෙසනා, තං පකාසෙසි: දුක්ඛං සමුදයං නිරොධං මග්ගං

සෙය්‍යථාපි නාම සුද්ධං වත්ථං අපගතකාළකං සම්මදෙව රජනං පටිග්ග-ණ්හෙය්‍ය, එවමෙවං කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස තස්මිං යෙව ආසනෙ විරජං වීතමලං ධම්මචක්ඛුං උදපාදි: යං කිඤ්චි සමුදයධම්මං සබ්බන්තං නිරොධධම්මන්ති

95. අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො දිට්ඨධම්මො පත්තධම්මො විදිතධම්මො පරියොගාළ්හධම්මො තිණ්ණවිචිකිච්ඡො විගතකථංකථො වෙසාරජ්ජප්පත්තො අපරප්පච්චයො සත්ථුසාසනෙ භගවන්තං එතදවොච: අධිවාසෙතු මෙ භවං ගොතමො ස්වාතනාය භත්තං සද්ධිං භික්ඛුසඞ්ඝෙනාති අධිවාසෙසි භගවා තුණ්හීභාවෙන.

මෙසේ දන්නා මෙසේ දක්නා ඔහු සිත කාමාස්‍රවයෙන් ද මිදෙයි භවාස්‍රවයෙන් ද මිදෙයි අවිද්‍යාස්‍රවයෙන් ද මිදෙයි මිදුණු කල්හි 'මිදුණේ ය'යි දැනීම වේ. "භවෝත්පත්තිය ක්ෂීණ විය මගබඹසර වැස නිමැවිණ. සිවුමගින් කළ යුතු සොළොස් කිස කොටැ නිමැවිණ මෙ බව් පිණිස කළ යුතු තව කිසිත් නැතැ" යි හේ දනී.

"බමුණ, මේ පළමු දැක්වුණු (සියලු) යඥයනට වඩා මඳ කටයුතු ඇති, වඩා මඳ නැතිත් සිදු කටහැකි, (එහෙත්) වඩා මහත් පල ද ඇති, වඩා මහත් අනුසස් ද ඇති යඥය ය. බමුණ, මේ යාග සම්පතට වඩා මනොඥවූ උතුම් වූ අන් යාගසම්පතෙක් නැත"

93. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ කල්හි කූටදන්ත් බමුණු තෙමේ, "වහන්ස, දෙසුම මනා ම ය. වහන්ස, දෙසුම මනා ම ය වහන්ස, යම්සේ යැටිකුරු කොට තැබුණු බඳුනක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු යමක් වැසුම් හැර දක්වන්නේ හෝ වේ ද, මං මුළාවූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියන් රූප දකිතැ'යි අඳුරෙහි තෙල් පහනක් දල්වන්නේ හෝ වේ ද, වහන්ස, එසේ ම භාග්‍යවතුන් වහන්සේ විසින් මට නොයෙක් අයුරින් දහම පැවැසිණ, වහන්ස, ඒ මම් භාග්‍යවත් ගෞතමයන් වහන්සේ ද දහම ද භික් සඟන ද සරණ යෙමි. වහන්ස, අද පටන් දිවිහිම් කොට සරණ ගිය උපාසකයකු කොට භවද් ගෞතමයන් වහන්සේ මා දැන වදුරණ සේක් වා භවද් ගෞතමයන් වහන්ස, ඒ මම් සත්සියක් ගොනුන් ද සත්සියක් නාඹු වස්සන් ද සත්සියක් නාඹු වැස්සියන් ද සත් සියක් එළුවන් ද සත්සියක් තරුණ බැටළුවන් ද මුදා ලමි ඔවුනට දිවි දෙමි තිල්තණ බුදිත්ව යි ද, සිහිල් පැන් බොත්ව යි ද, ඔවුනට සිහිල් පවන ද හමත්වා'යි කියාහි.

94. ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ කූටදන්ත් බමුණුහට දානකථා, ශීලකථා, ස්වර්ගකථා, කාමාදීනව, කාමයන්ගේ ලාමකබව, කාමයන්ගේ කෙලෙසීම, නෙක්ඛම්මයෙහි අනුසස් පැවසූ සේක භාග්‍යවතුන් වහන්සේ යම් විටෙක කූටදන්ත් බමුණුහු (ඒ දහම් ඇසීමෙන්) නීරෝග සිතැති වූවහු, මොලොක් සිතැති වූවහු, නීවරණයන්ගෙන් පහවූ සිතැත්තහු, ඔදවැඩීගිය පහන් සිතැත්තහු දත් සේක් ද, එකල්හි දුඃඛ සමුදය නිරොධ මාර්ග යන බුදුවරුන්ගේ යම් සාමුත්කර්ෂිකී ධර්මදෙශනාවක් වේ නම් එය පැවසූ සේක.

යම් සේ පිරිසිදු වූ පහ වූ කළු බව් ඇති වතෙක් මොනොවට ම රඳන් පිළිගන්නේ ද, එසේ ම කූටදන්ත් බමුණුහට එ අස්නෙහි ම, යමෙක් උපදනා සුලු නම් ඒ සියල්ල නැසෙන සුලු වේ යැ යි කෙලෙස් රජස් රහිත, කෙලෙස් මල රහිත දහම් ඇස පහළ විය

95 ඉක්බිති (මෙසේ) දුටු අරිසස් දහම් ඇති, පැමිණි අරිසස් දහම් ඇති, ප්‍රකට වූ අරිසස් දහම් ඇති, බැසැ ගත් අරිසස් දහම් ඇති, තිණු විසිකිස් ඇති, පහ වූ සැක ඇති, බුදුසස්නැ විසාරද බවට පැමිණි, පරප්‍රත්‍යය රහිත වූ කූටදන්ත් බමුණු තෙමේ 'පින්වත් ගෞතම තෙමේ සෙට දිනට මගේ බත බික් සඟන හා ඉවසා වා'යි භාග්‍යවතුන් වහන්සේට කී ය. භාග්‍යවතුන් වහන්සේ තුෂ්ණීම්භාවයෙන් එය ඉවැසූ සේක

97. අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවතො අධිවාසනං විදිත්වා උට්ඨායාසනා භගවන්තං අභිවාදෙත්වා පදක්ඛිණං කත්වා පක්කාමි අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො තස්සා රත්තියා අච්චයෙන සකෙ යඤ්ඤවාටෙ පණීතං ඛාදනීයං භොජනීයං පටියාදාපෙත්වා භගවතො කාලං ආරොචාපෙසි: කාලො භො ගොතම, නිට්ඨිතං භත්තන්ති.

98. අථ ඛො භගවා පුබ්බන්හසමයං නිවාසෙත්වා පත්තචීවරං ආදාය සද්ධිං භික්ඛුසඞ්ඝෙන යෙන කූටදන්තස්ස බ්‍රාහ්මණස්ස යඤ්ඤවාටො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි. අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො බුද්ධපමුඛං භික්ඛුසඞ්ඝං පණීතෙන ඛාදනීයෙන භොජනීයෙන සහත්ථා සන්තප්පෙසි සම්පවාරෙසි. අථ ඛො කූටදන්තො බ්‍රාහ්මණො භගවන්තං භුත්තාවිං ඔනීතපත්තපාණිං අඤ්ඤතරං නීචං ආසනං ගහෙත්වා එකමන්තං නිසීදී එකමන්තං නිසින්නං ඛො කූටදන්තං බ්‍රාහ්මණං භගවා ධම්මියා කථාය සන්දස්සෙත්වා සමාදපෙත්වා සමුත්තෙජෙත්වා සම්පහංසෙත්වා උට්ඨායාසනා පක්කාමීති.

කූටදන්තසුත්තං නිට්ඨිතං පඤ්චමං.

97 ඉක්බිති කූළුදත් බමුණු භාග්‍යවතුන් වහන්සේ ඉවසූ නියා දැනැ හුනස්නෙන් නැඟී ඔබ වැඳැ පැදකුණු කොට නික්මුණේ ය ඉන් පසු කූළුදත් බමුණු ඒ රැය ඇවෑමෙන් සිය යාගශාලායෙහි ප්‍රණීත ඛාද්‍ය භොජ්‍ය පිළියෙල කරවා, ‘පින්වත් ගෞතමයිනි, දැන් කල් ය බත නිමියේ යැ’’යි භාග්‍යවතුන් වහන්සේට කල් දැන්වී ය.

98 ඉක්බිති භාග්‍යවතුන් වහන්සේ පෙරවරුයෙහි හැඳැ පෙරෙවැ පා සිවුරු ගෙනැ බික් සඟන කැටුව කූළුදත් බමුණුගේ යාගාවාටය කරා එළැඹි සේක එළැඹැ පැනැවූ අස්නැ වැඩැහුන් සේක එ කල්හි කූළුදත් බමුණු බුදුපාමොක් බික්සඟන ප්‍රණීත ඛාද්‍ය භොජ්‍යයෙන් සියතින් සැතැප්වී ය. පැවැරැවී ය. ඉන් පසු කූළුදත් බමුණු තෙමේ භාග්‍යවතුන් වහන්සේ වළඳා පාත්‍රයෙන් ඉවතට ගත් අත්ඇත්තවුන් දැනැ, මිටි අස්නක් ගෙන එක් පසෙක හිඳගත්තේ ය එසේ හුන් කූළුදත් බමුණුට භාග්‍යවතුන් වහන්සේ දැහැමි කතායෙන් කරුණු දක්වා ගුණදහම් ගන්වා ගුණදහම් වැඩීමෙහි උනන්දු කොට ගුණ වදුරා සිත සතුටු කොට හුනස්නෙන් නැඟී නික්මි සේක

පස්වනු කූළුදත් සුතුර නිමියේ ය.

# 6. මහාලිසුත්තං

1 එවං මෙ සුතං· එකං සමයං භගවා වෙසාලියං විහරති මහාවනෙ කූටාගාරසාලායං

තෙන ඛො පන සමයෙන සම්බහුලා කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා වෙසාලියං පටිවසන්ති කෙනචිදෙව කරණීයෙන. අස්සොසුං ඛො තෙ කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා, "සමණො ඛලු භො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො වෙසාලියං විහරති කූටාගාරසාලායං. තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො· 'ඉති'පි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති. සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියො–සානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති. සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොති"ති.

2. අථ ඛො තෙ කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා යෙන මහාවනං කූටාගාරසාලා තෙනුපසඞ්කමිංසු. තෙන ඛො පන සමයෙන ආයස්මා නාගිතො භගවතො උපට්ඨාකො හොති. අථ ඛො තෙ කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා යෙනායස්මා නාගිතො තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා ආයස්මන්තං නාගිතං එතදවොචුං· "කහං නු ඛො භො නාගිත, එතරහි සො භවං ගොතමො විහරති? දස්සනකාමා හි මයං තං භවන්තං ගොතමන්ති."

"අකාලො ඛො ආවුසො භගවන්තං දස්සනාය. පටිසල්ලීනො භගවා"ති·

අථ ඛො තෙ කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා තත්ථෙව එකමන්තං නිසීදිංසු· "දිස්වා'ව මයං තං භවන්තං ගොතමං ගමිස්සාමා"ති.

3 ඔට්ඨද්ධො'පි ලිච්ඡවී මහතියා ලිච්ඡවිපරිසාය සද්ධිං යෙන මහාවනං කූටාගාරසාලා යෙනායස්මා නාගිතො තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා ආයස්මන්තං නාගිතං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි එකමන්තං ඨිතො ඛො ඔට්ඨද්ධො'පි ලිච්ඡවී ආයස්මන්තං නාගිතං එතදවොච: "කහං නු ඛො භන්තෙ නාගිත, එතරහි සො භගවා විහරති අරහං සම්මාසම්බුද්ධො? දස්සනකාමා හි මයං තං භගවන්තං අරහන්තං සම්මාසම්බුද්ධන්ති"

# 6. මහාලි සූත්‍රය

1. මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ විසල්පුර අසල මහවෙනෙහි කූළාරහල් මහ වෙහෙරෙහි වැඩ වසන සේක.

එ සමයෙහි වූ කලි කොසොල් රට වැසි බොහෝ බමුණු දූතයෝ ද මගද රට වැසි බොහෝ බමුණු දූතයෝ ද කිසි යම් ඇවැසි කටයුත්තෙකින් විසල් පුර (අවුත්) වෙසෙති. කොසොල් රටින් පැමිණි ද මගදරටින් පැමිණි ද එ බමුණු දූතයෝ රටේ පැතිර පැවැති මේ කතාව ඇසූහ. (මෙ බඳු කතාවෙක් ඔවුන් කනැ වැටිණ) "ශාක්‍යකුලෙන් නික් මැ පැවිදි වූ සැකැපුත් මහණ ගොයුම් තෙමේ වනාහි (මෙ සමයෙහි) විසල්-පුර මහවෙනෙහි කූළාරහල් වෙහෙර වෙසෙසි. 'ඒ භගවත් තෙමේ මේ මේ කරුණින්නුත් රහත් ය, සම්මාසම්බුදු ය, විද්‍යාචරණ සම්පන්න ය, සුගත ය, ලොකවිත් ය, නිරුත්තර පුරුෂදම්‍යසාරථී ය, දෙව්මිනිස්නට ශාස්තෘ ය, බුද්ධ ය, භගවත් යැ' යී ඒ පින්වත් ගොයුම්හු පිළිබඳ කලණ කිත් හඩ උස් වැ නැංගේ ය. ඒ පින්වත් ගොයුම් තෙමේ දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත මේ ලොව, මහණ බමුණන් සහිත දෙව් මිනිසුන් සහිත සත් වග තෙමේ ම වෙසෙසින් දැන පසක් කොට (ලොවට) දන්වයි. හේ මුල කලණ වූ මැද කලණ වූ අග කලණ වූ අරුත් සහිත අකුරු සපුව සහිත හැම ලෙසින් පිරිපුන් දහම් දෙසයි පිරිසිදු බඹසර පවසයි. එ බඳු වූ රහතුන් දැක්ම වූ කලි හිත වැඩ එළවනුයේ වෙයි" යනු යි.

2. ඉක්බිති, කොසොල් රටින් ද මගද රටින් ද පැමිණි ඒ බමුණු-දූතයෝ මහවෙනෙහි කූළාරහල් වෙහෙරට එළැඹියහ. එ සමයෙහි නාගිත තෙරණුවෝ භාග්‍යවතුන් වහන්සේගේ උවටු වෙති. ඉක්බිති ඒ දෙරටින් ම ආ බමුණු දූතයෝ නාගිත තෙරුන් කරා ගියහ. ගොස්, 'පින්වත් නාගිත-යිනි, දැන් ඒ පින්වත් ගොයුමාණෝ කොහි වෙසෙත් ද? ඇපි වනාහි ඒ භවත් ගොයුමාණන් දක්නා රිසියම්හ' යී කීහ.

"ඇවැත්නි, භාග්‍යවතුන් වහන්සේ දක්නට (දැන්) කල් නො වේ ම ය. භාග්‍යවතුන් වහන්සේ (දැන්) පිළිසලනෙහි යෙදුණු සේක් වෙති" යී (නාගිත තෙරණුවෝ වදාළහ)

එ විටැ ඒ බමුණු දූතයෝ 'අපි ඒ පින්වත් ගොයුමාණන් දැකැ ම යන්නම්හ' යී එහි ම එක් පසෙකැ හිඳ ගත්හ.

3 ඔට්ඨද්ධ ලිච්ඡවි තෙමේ ද මහත් ලිච්ඡවි පිරිසක් හා මහවනයට කූළාරහලට, එහි නාගිත තෙරුන් වෙත එළැඹියේ ය. එළඹැ නාගිත තෙරුන් වැඳ පසෙකැ සිටියේ ය. පසෙකැ සිටි ඔට්ඨද්ධ ලිච්ඡවි තෙමේ ද නාගිත තෙරුනට "වහන්ස, දැන් ඒ භාග්‍යවත් අර්හත් සම්‍යක්සම්බුද්ධයන් වහන්සේ කොහි වසන සේක් ද? අපි ඒ බගවත් රහත් සම්මාසම්බුදුන් දක්නා රිස්සමෝ" යී මෙ බස් කී ය.

"අකාලො ඛො මහාලි භගවන්තං දස්සනාය. පටිසල්ලීනො භගවා"ති. ඔට්ඨද්ධො'පි ලිච්ඡවි තත්ථෙව එකමන්තං නිසීදි "දිස්වා ච අහං තං භගවන්තං ගමිස්සාමි අරහන්තං සම්මාසම්බුද්ධන්ති"

4 අථ ඛො සීහො සමණුද්දෙසො යෙනායස්මා නාගිතො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා ආයස්මන්තං නාගිතං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි 'එකමන්තං ඨිතො ඛො සීහො සමණුද්දෙසො ආයස්මන්තං නාගිතං එතදවොච: එතෙ භන්තෙ කස්සප, සම්බහුලා කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා ඉධූපසඞ්කන්තා භගවන්තං දස්සනාය. ඔට්ඨද්ධො'පි ලිච්ඡවි මහතියා ලිච්ඡවිපරිසාය සද්ධිං ඉධූපසඞ්කන්තො භගවන්තං දස්සනාය. සාධු භන්තෙ කස්සප ලභතං එසා ජනතා භගවන්තං දස්සනායා'ති

'තෙන හි සීහ, ත්වඤ්ඤෙව භගවතො ආරොචෙහී'ති' 'එවං භන්තෙ'ති ඛො සීහො සමණුද්දෙසො ආයස්මතො නාගිතස්ස පටිස්සුත්වා යෙන භගවා තෙනුපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං අට්ඨාසි එකමන්තං ඨිතො ඛො සීහො සමණුද්දෙසො භගවන්තං එතදවොච "එතෙ භන්තෙ සම්බහුලා කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා ඉධූප-සඞ්කන්තා භගවන්තං දස්සනාය, ඔට්ඨද්ධො'පි ලිච්ඡවි මහතියා ලිච්ඡවිපරිසාය සද්ධිං ඉධූපසඞ්කන්තො භගවන්තං දස්සනාය. සාධු භන්තෙ ලභතං එසා ජනතා භගවන්තං දස්සනායා''ති.

"තෙන හි සීහ විහාරපච්ඡායායං ආසනං පඤ්ඤපෙහී''ති.

"එවං භන්තෙ'ති ඛො සීහො සමණුද්දෙසො භගවතො පටිස්සුත්වා විහාරපච්ඡායායං ආසනං පඤ්ඤපෙසි. අථ ඛො භගවා විහාරා නික්ඛම්ම විහාරපච්ඡායායං පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි.

5. අථ ඛො තෙ කොසලකා ච බ්‍රාහ්මණදූතා මාගධකා ච බ්‍රාහ්මණදූතා යෙන භගවා තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදිංසු. සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු. ඔට්ඨද්ධො'පි ලිච්ඡවි මහතියා ලිච්ඡවිපරිසාය සද්ධිං යෙන භගවා තෙනු-පසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො ඔට්ඨද්ධො ලිච්ඡවි භගවන්තං එතදවොච·

"පුරිමානි භන්තෙ දිවසානි පුරිමතරානි සුනක්ඛත්තො ලිච්ඡවිපුත්තො යෙනාහං තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා මං එතදවොච 'යදග්ගෙ අහං මහාලි, භගවන්තං උපනිස්සාය විහරාමි න චිරං තීණි වස්සානි, දිබ්බානි හි ඛො රූපානි පස්සාමි පියරූපානි කාමූපසංහිතානි රජනීයානි. නො ච ඛො දිබ්බානි සද්දානි සුණාමි පියරූපානි කාමූපසංහිතානි රජනීයානී''ති සන්තා-නෙව නු ඛො භන්තෙ සුනක්ඛත්තො ලිච්ඡවිපුත්තො දිබ්බානි සද්දානි නාස්සොසි පියරූපානි කාමූපසංහිතානි රජනීයානි උදාහු අසන්තානී'' ? ති.

"මහාලිය, භාග්‍යවතුන් වහන්සේ දක්නට දැන් නොකල් ය. භාග්‍යවතුන් වහන්සේ දැන් පිළිසලනෙහි යෙදී හිඳිනා සේකැ"යි තෙරණුවෝ වදාළහ ඔට්ඨද්ධ ලිච්ඡවී තෙමේත් "ඒ භාග්‍යවත් අර්හත් සම්‍යක්සම්බුද්ධයන් වහන්සේ දැකැ ම යන්නෙමි"යි එහි ම එක් පසෙකැ හිඳැ ගත්තේ ය

4 එකල්හි වනාහි සිංහ නම් හෙරණ නාගිත තෙරුන් කරා ගියේ ය ගොස් තෙරුන් වැඳ, පසෙකැ සිටියේ ය පසෙකැ සිටි හෙරණ තෙම කාශ්‍යපයන් වහන්ස, මේ කොසොල් රටින් ද මගද රටින් ද පැමිණැ සිටින බමුණු දූතයෝ භාග්‍යවතුන් වහන්සේ දක්නට මෙහි එළැඹියාහ ඔට්ඨද්ධ ලිච්ඡවී ද මහත් ලිච්ඡවී පිරිසක් හා කැටුව භාග්‍යවතුන් වහන්සේ දකිනු පිණිස මෙහි එළැඹියේ වෙයි. කාශ්‍යපයන් වහන්ස, මේ ජනමුළුව භාග්‍යවතුන් වහන්සේ දක්නට ලබතොත් මැනැවැ"යි සැළ කෙළේ ය.

"සිංහය, එසේ වී නම්, තෙපි ම භාග්‍යවතුන් වහන්සේට සැළ කරව"යි (තෙරණුවෝ වදාළහ ) "එසේ ය, වහන්සැ' යි ම සිංහ හෙරණ තෙම නාගිත තෙරුනට පිළිවදන් දී භාග්‍යවතුන් වහන්සේ කරා ගියේ ය, ගොස්, භාග්‍යවතුන් වහන්සේ වැඳැ පසෙක සිටියේ ය. එසේ සිටැ "වහන්ස කොසොල් මගද යන දෙ රටින් පැමිණි මේ බොහෝ වූ බමුණු දූතයෝ භාග්‍යවතුන් වහන්සේ දක්නා පිණිස මෙහි එළැඹියෝ වෙති ඔට්ඨද්ධ ලිච්ඡවී ද මහත් ලිච්ඡවි පිරිසක් කැටුව භාග්‍යවතුන් වහන්සේ දක්නා පිණිස මෙහි එළැඹියේ වෙයි වහන්ස, මේ ජනමුළුව භාග්‍යවතුන් වහන්සේ දක්නට ලබතොත් මැනැවැ"යි කී ය

"සිංහය, එසේ නම් විහාරප්‍රාක්ජ්ඡායායෙහි (වෙහෙර ඉදිරි පසැ සෙවණෙහි) අස්නක් පණවව"යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

"එසේ ය වහන්සැ"යි ම සිංහ හෙරණ භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් දී වෙහෙර ඉදිරියේ සෙවණෙහි අස්නක් පැණැවී ය එ විටැ භාග්‍යවතුන් වහන්සේ වෙහෙරින් නික්මැ වෙහෙර ඉදිරි පසැ සෙවණෙහි පැණැවූ අස්නැ වැඩැහුන් සේක

5. ඉක්බිති ඒ කොසොල් මගද දෙ රටින් ආ බමුණු දූතයෝ භාග්‍යවතුන් වෙත එළැඹියාහ, එළැඹැ ඔබ හා සතුටු වූහ. සතුටු වියැ යුතු සිහි කටයුතු (සිතැ රැඳැවියැ යුතු) කතා නිමවා පසෙකැ හිඳ ගත්හ. ඔට්ඨද්ධ ලිච්ඡවි ද මහත් ලිච්ඡවි පිරිස හා භාග්‍යවතුන් වහන්සේ වෙත එළැඹියේ ය. එළැඹැ ඔබ වැඳැ පසෙක හිඳැ ගත්තේ ය එසේ පසෙකැ හිඳැ ගත් ම ඔට්ඨද්ධ ලිච්ඡවී තෙම භාග්‍යවතුන් වහන්සේට මෙස් කී ය·

"වහන්ස, ඊයේ දවසැ ද එයිනුත් පෙර දිනවල ද ලිච්ඡවී පුත්‍ර සුනක්ඛත්ත තෙමේ මා වෙත ආයේ ය අවුත් මට 'මහාලිය, යම් දිනෙක පටන් තුන් හවුරුදු පමණ වූ නොබෝ කලක් මම් භාග්‍යවතුන් වහන්සේ ඇසුරැ කොටැ විසීම් ද, ඒ කාලය තුළැ කම්රස යුත් මිහිරි වූ, සිත් අලවන දෙව් රූ වූ කලි දිටිමි. වැලි කම්රස ඇති, මිහිරි වූ, සිත් අලවන දෙව් හඬ නො ම ඇසීමි. යි කී ය. වහන්ස, ලිච්ඡවිපුත්‍ර සුනක්ඛත්තයා ඇත්තා වූ ම මිහිරි කම්රස ඇති සිත් අලවන දෙව් හඬ නො ඇසී ද ? නැත හොත් නැත්තාවූ ම එසේ වූ දෙව්හඬ නො ඇසී ද ?" (යනු යි).

“සන්තානෙව ඛො මහාලි සුනක්ඛත්තො ලිච්ඡවිපුත්තො දිබ්බානි සද්දානි නාස්සොසි පියරූපානි කාමූපසංහිතානි රජනීයානි නො අසන්තානී”ති.

6. “කො නු ඛො භන්තෙ හෙතු කො පච්චයො, යෙන සන්තානෙව සුනක්ඛත්තො ලිච්ඡවිපුත්තො දිබ්බානි සද්දානි නාස්සොසි පියරූපානි කාමූපසංහිතානි රජනීයානි නො අසන්තානී?”ති

“ඉධ මහාලි භික්ඛුනො පුරත්ථිමාය දිසාය එකංසභාවිතො සමාධි හොති දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං. සො පුරත්ථිමාය දිසාය එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං පුරත්ථිමාය දිසාය දිබ්බානි රූපානි පස්සති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි, නො ච ඛො දිබ්බානි සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි. තං කිස්ස හෙතු· එවං හෙතං මහාලි හොති භික්ඛුනො පුරත්ථිමාය දිසාය එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං.

7. පුන චපරං මහාලි භික්ඛුනො දක්ඛිණාය දිසාය–පෙ–පච්ඡිමාය දිසාය–පෙ– උත්තරාය දිසාය–පෙ– උද්ධමධො තිරියං එකංසභාවිතො සමාධි හොති දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාපමූසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං සො උද්ධමධො තිරියං එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, උද්ධමධො තිරියං දිබ්බානි රූපානි පස්සති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි නො ච ඛො දිබ්බානි සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි තං කිස්ස හෙතු? එවං හෙතං මහාලි හොති භික්ඛුනො දක්ඛිණාය දිසාය–පෙ–උද්ධමධො තිරියං එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං

8. ඉධ මහාලි භික්ඛුනො පුරත්ථිමාය දිසාය එකංසභාවිතො සමාධි හොති දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං සො පුරත්ථිමාය දිසාය එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං. පුරත්ථිමාය දිසාය දිබ්බානි සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි, නො ච ඛො දිබ්බානි රූපානි පස්සති කාමූපසංහිතානි රජනීයානි. තං කිස්ස හෙතු එවං හෙතං මහාලි හොති භික්ඛුනො පුරත්ථිමාය දිසාය එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං.

"මහාලිය, නැත්තා වූ දෙව් හඬ නො ව ඇත්තා වූ ම මිහිරි වූ, කම්රස යුත් සිත් අදනා දෙව්හඬ ලිච්ඡවිපුත්‍ර සුනකඛත්ත තෙම නො ඇසී යැ"යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.)

6. "වහන්ස, යම් හෙයෙකින් ලිච්ඡවිපුත්‍ර සුනකඛත්තයා නැත්තා වූ හඬක් නො ව ඇත්තා වූ ම, මිහිරි වූ, කම්රස යුත්, සිත් අදනා දෙව්-හඬ නො ඇසී නම්, එයට හෙතු කවර යැ? ප්‍රත්‍යයය කවරයැ?" (යී මහාලී පුළුවුත).

"මහාලිය, මෙහි මහණක්හු විසින් මිහිරි වූ, කම් රසයෙන් යුත්, සිත් අලවන දෙව් රූ දක්නා පිණිස පෙර දිගට සමාධිය එක්කොටසක් වඩන ලද්දේ වෙයි ද, මිහිරි වූ කම්රසයෙන් යුත්, සිත් අලවන දෙව්හඬ අසනු පිණිස සමාධිය වඩන ලද්දේ නො වෙයි ද, හේ එසේ මිහිරි වූ. දෙව්හඬ අසනු පිණිස නො වැ දෙව් රූ දක්නා පිණිස පෙර දිගට සමාධිය එක් කොටසක් වඩනා ලද කල්හි පෙර දිගැ වූ මිහිරි. .දෙව්රූ දකී එහෙත් මිහිරි .දෙව්හඬ නො අසයි ඒ කවර හෙයින යත් මහාලිය, මහණ විසින් මහිරි වූ.. දෙව් හඬ අසනු පිණිස නො වැ මිහිරි වූ .. දෙව් රූ පිළිබඳ එක් කොටසක් ම පිණිස පෙර දිගට සමාධිය වඩන ලද කල්හි මෙය මෙසේ වෙයි. එහෙයිනි

7. තවද මහාලිය, මහණහු විසින් මිහිරි වූ කම්රසයෙන් යුත්, සිත් අලවන දෙව්හඬ අසනු පිණිස නොවැ, මිහිරි වූ.. දෙව්රූ දක්නා පිණිස දකුණු දෙසට, පැසිම් දෙසට, . උතුරු දෙසට,...උඩ දෙසට,. .යට දෙසට, සරසට සමාධිය එක් කොටසක් වඩන ලද්දේ වෙයි ද, හේ මිහිරි වූ . දෙව්හඬ අසනු පිණිස නොවැ, මිහිරි වූ. .දෙව් රූ දක්නා පිණිස දකුණු දෙසට .උඩ දෙසට යට දෙසට. .සරසට සමාධිය එක් කොටසක් වඩන ලද කල්හි, මිහිරි වූ .. දෙව් රූ දකී, එහෙත් මිහිරි වූ දෙව්හඬ නො අසයි. ඒ කවර හෙයින යත්: මහාලිය, එ මහණහු විසින් මිහිරි වූ ... දෙව්හඬ අසනු පිණිස නොවැ, මිහිරි වූ දෙව් රූ දක්නා පිණිස දකුණු දෙසට.. උඩ දෙසට . යට දෙසට. සරසට සමාධිය එක් කොටසක් වඩනා ලද කල්හි මෙය මෙසේ ම වෙයි.

8. මහාලිය, මෙහි මහණහු විසින් මිහිරි වූ කම්රසයෙන් යුත් සිත් අලවන දෙව්රූ දක්නා පිණිස නොවැ මිහිරි වූ . දෙව්හඬ අසනු පිණිස පෙර දිගට සමාධිය එක් කොටසක් වඩන ලද්දේ වෙයි නම්, එසේ හෙ තෙම, මිහිරි වූ .. දෙව්රූ දක්නා පිණිස නොවැ මිහිරි දෙව්හඬ අසනු පිණිස පෙරදිගට එක් කොටසක් සමාධිය වැඩූ කල්හි, පෙර දිගැ මිහිරි .දෙව්හඬ අසයි. මිහිරි ..දෙව් රූ නො ම දකී ඒ කවර හෙයින යත්· මහාලිය, මහණහු විසින් මිහිරි වූ . දෙව් රූ දක්නා පිණිස නොවැ, මිහිරි වූ. .දෙව් හඬ අසනු පිණිස පෙර දිගට සමාධිය එක් කොටසක් වැඩූ කල්හි මෙය මෙසේ වෙයි එ හෙයිනි.

9. පුන ච පරං මහාලි භික්ඛුනො දක්ඛිණාය දිසාය-පෙ-පච්ඡිමාය දිසාය-පෙ-උත්තරාය දිසාය-පෙ-උද්ධමධො තිරියං ඒකංසභාවිතො සමාධි හොති දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං සො දක්ඛිණාය දිසාය-පෙ-තිරියං එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං. උද්ධමධො තිරියං දිබ්බානි සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි, නො ච ඛො දිබ්බානි රූපානි පස්සති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි. තං කිස්ස හෙතු? එවං හෙතං මහාලි හොති භික්ඛුනො දක්ඛිණාය දිසාය-පෙ-තිරියං එකංසභාවිතෙ සමාධිම්හි දිබ්බානං සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, නො ච ඛො දිබ්බානං රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං

10 ඉධ මහාලි භික්ඛුනො පුරත්ථිමාය දිසාය උභයංසභාවිතො සමාධි හොති දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං. සො පුරත්ථිමාය දිසාය උභයංසභාවිතෙ සමාධිම්හි දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, පුරත්ථිමාය දිසාය දිබ්බානි ච රූපානි පස්සති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි, දිබ්බානි ච සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි තං කිස්ස හෙතු? එවං හෙතං මහාලි හොති භික්ඛුනො පුරත්ථිමාය දිසාය උභයංසභාවිතෙ සමාධිම්හි දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං

11. පුන ච පරං මහාලි භික්ඛුනො දක්ඛිණාය දිසාය-පෙ-පච්ඡිමාය දිසාය-පෙ-උත්තරාය දිසාය-පෙ-උද්ධමධො තිරියං උභයංසභාවිතො සමාධි හොති දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං සො දක්ඛිණාය දිසාය-පෙ-උද්ධමධො තිරියං උභයංසභාවිතෙ සමාධිම්හි දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං උද්ධමධො තිරියං දිබ්බානි රූපානි පස්සති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි, දිබ්බානි ච සද්දානි සුණාති පියරූපානි කාමූපසංහිතානි රජනීයානි තං කිස්ස හෙතු? එවං හෙතං මහාලි හොති භික්ඛුනො උද්ධමධො තිරියං උභයංසභාවිතෙ සමාධිම්හි දිබ්බානඤ්ච රූපානං දස්සනාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං, දිබ්බානඤ්ච සද්දානං සවණාය පියරූපානං කාමූපසංහිතානං රජනීයානං.

අයං ඛො මහාලි හෙතු අයං පච්චයො, යෙන සන්තානෙව සුනක්ඛත්තො ලිච්ඡවිපුත්තො දිබ්බානි සද්දානි නාස්සොසි පියරූපානි කාමූපසංහිතානි රජනීයානි නො අසන්තානී'ති

12 "එතාසං නූන භන්තෙ සමාධිභාවනානං සච්ඡිකිරියාහෙතු භික්ඛූ භගවති බ්‍රහ්මචරියං චරන්තී"ති.

9 තව ද මහාලිය, මහණුහු විසින් මිහිරි වූ කාමරසයෙන් යුත් සිත් අලවන දෙව්රූ දක්නා පිණිස නොවූ මිහිරි වූ . දෙව් හඬ අසනු පිණිස දකුණු දිගට .පැසිම් දිගට උතුරු දිගට උඩට .යටට. සරසට සමාධිය එක් කොටසක් වඩන ලද්දේ වෙයි ද, හේ මිහිරි වූ දෙව් රූ දක්නා පිණිස නොවූ මිහිරි වූ දෙව්හඬ අසනු පිණිස දකුණු දිගට...උඩට යටට සරසට වඩන ලද සමාධිය ඇති කල්හි මිහිරි වූ . .දෙව් රූ නො දකි, (එහෙත්) මිහිරි වූ. .දෙව්හඬ අසයි ඒ කවර හෙයින ? යත්: මහාලිය, මිහිරි වූ . දෙව් රූ දක්නට නොවූ, මිහිරි වූ දෙව් හඬ අසනුවට දකුණු දිගට. උඩට ..යටට සරසට සමාධිය එක් කොටසක් වැඩූ කල්හි මෙය මෙසේ වෙයි. එහෙයිනි.

10 මහාලිය, මෙහි මහණක්හු විසින් මිහිරි වූ කාමරසයෙන් යුත් සිත් අලවනා දෙව්රූ දක්නා පිණිස ද, මිහිරි වූ. දෙව්හඬ අසනු පිණිස ද යන දෙ කොටස ම පිණිස පෙර දිගට සමාධිය වඩන ලද්දේ වෙයි ද, හේ මිහිරි වූ දෙව් රූ දක්නා පිණිස ද මිහිරි වූ දෙව් හඬ අසනු පිණිස දූ යි මෙසේ දෙ කොටස ම පිණිස (තමා විසින්) වඩනා ලද සමාධිය ඇති කල්හි මිහිරි වූ පෙර දිගැ දෙව් රූ ද දකී, මිහිරි වූ පෙර දිගැ දෙව් හඬ ද අසයි ඒ කවර හෙයින ? යත්· මහාලිය, මහණුහු විසින් මිහිරි වූ දෙව් රූ දක්නට ද, මිහිරි වූ දෙව් හඬ අසනුවට දූ යි මෙසේ මේ දෙ කොටස ම පිණිස පෙර දිගට වඩන ලද සමාධිය ඇති කල්හි මෙය මෙසේ වෙයි එහෙයිනි.

11. තව ද මහාලිය, මහණුහු විසින් මිහිරි වූ .. දෙව් රූ දක්නා පිණිස ද, මිහිරි වූ දෙව් හඬ අසනු පිණිස දූ යි මේ දෙ කොටස ම පිණිස දකුණු දිගට . උඩ දෙසට, යට දෙසට, සරසට සමාධිය වඩන ලද්දේ වෙයි ද, හේ එසේ දෙව් රූ දක්නා පිණිස ද දෙව් හඬ අසනු පිණිස දූයි මෙ පරිද්දෙන් මේ දෙ කොටස ම පිණිස දකුණු දිගට උඩ දෙසට, යට දෙසට, සරසට (තමා විසින්) වඩනා ලද සමාධිය ඇති කල්හි, .දෙව් රූ ද දකී, .දෙව් හඬ ද අසයි. ඒ කවර හෙයින ? යත් මහාලිය, මහණුහු විසින් මිහිරි වූ දෙව් රූ දක්නා පිණිස ද දෙව් හඬ අසනු පිණිස දූ යි (මෙසේ) මේ දෙකොටස ම පිණිස දකුණු දිගට . උඩ දෙසට, යට දෙසට, සරසට වඩන ලද සමාධිය ඇති කල්හි මෙය මෙසේ වෙයි එහෙයිනි

මහාලිය, යම් හෙයෙකින් ලිච්ඡවිපුත්‍ර සුනක්ඛත්තයා තැත්තා වූ නොවූ ඇත්තා වූ ම මිහිරි, කාම්රෙසෙන් යුත් සිත් අදනා දෙව් හඬ නො ඇසී ද, මේ එයට හෙතුව යැ, මේ එයට ප්‍රත්‍යය යැ"(සී භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක )

12 "වහන්ස, භික්ෂූහු මෙසේ මේ සමාධීන් පසක් කරනු පිණිස භාග්‍යවතුන් වහන්සේ වෙත බඹසර රකිත් සැ යි සිතමි" සී (මහාලි කී ය.)

13. න ඛො මහාලි, එතාසං සමාධිභාවනානං සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්ති. අත්ථි ඛො මහාලි, අඤ්ඤෙ' ච ධම්මා උත්තරිතරා ච පණීතතරා ච යෙසං සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්තීති.

14. කතමෙ පන තෙ භන්තෙ ධම්මා උත්තරිතරා ච පණීතතරා ච, යෙසං සච්ඡිකිරියාහෙතු භික්ඛූ භගවති බ්‍රහ්මචරියං චරන්තීති

15. ඉධ මහාලි, භික්ඛූ තිණ්ණං සංයොජනානං පරික්ඛයා සොතාපන්නො හොති අවිනිපාතධම්මො නියතො සම්බොධිපරායණො අයං'පි ඛො මහාලි, ධම්මො උත්තරිතරො ච පණීතතරො ච යස්ස සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්ති.

පුන ච'පරං මහාලි, භික්ඛු තිණ්ණං සංයොජනානං පරික්ඛයා රාගදොසමොහානං තනුත්තා සකදාගාමී හොති සකිදෙව ඉමං ලොකං ආගන්ත්වා දුක්ඛස්සන්තං කරොති අයම්පි ඛො මහාලි, ධම්මො උත්තරිතරො ච පණීතතරො ච යස්ස සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්ති

පුන ච'පරං මහාලි, භික්ඛු ඔරම්භාගියානං සංයොජනානං පරික්ඛයා ඔපපාතිකො හොති තත්ථ පරිනිබ්බායී අනාවත්තිධම්මො තස්මා ලොකා. අයම්පි ඛො මහාලි, ධම්මො උත්තරිතරො ච පණීතතරො ච යස්ස සච්ඡිකිරියාහෙතු මයි බ්‍රහ්මචරියං චරන්ති

පුන ච'පරං මහාලි, භික්ඛු ආසවානං ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරති. අයම්පි ඛො මහාලි, ධම්මො උත්තරිතරො ච පණීතතරො ච යස්ස සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්ති.

ඉමෙ ඛො තෙ මහාලි ධම්මා උත්තරිතරා ච පණීතතරා ච යෙසං සච්ඡිකිරියාහෙතු භික්ඛූ මයි බ්‍රහ්මචරියං චරන්තී''ති.

16. ''අත්ථි පන භන්තෙ මග්ගො, අත්ථි පටිපදා එතෙසං ධම්මානං සච්ඡිකිරියායා ?''ති.

''අත්ථි ඛො මහාලි, මග්ගො, අත්ථි පටිපදා, එතෙසං ධම්මානං සච්ඡිකිරියායා''ති

13 "මහාලිය, මහණහු මේ සමාධීන් පසක් කරනු පිණිස මා කෙරෙහි බඹසර නො රකිත් මහාලිය, යම් ද පසක් කරනු පිණිස මහණහු මා වෙත බඹසර රකිත් නම්, ඒ වඩා උසස් වූ වඩා උතුම් වූ අන්‍ය වූ ම දහම් කෙනෙක් ඇතියහ" (යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

14 වහන්ස, යමක් පසක් කරනු පිණිස භික්ෂූහු භාග්‍යවතුන් වහන්සේ කෙරේ බඹසර රකිත් නම් ඒ වඩා උසස් වූ වඩා උතුම් අන් දහම්හු කවුරු ද ?" (යී මහාලී පුළුවුත)

15 "මහාලිය, මෙ සස්නැ මහණ තෙමේ තුන් සංයොජනයන් (සක්කායදිට්ඨි විචිකිච්ඡා සීලබ්බතපරාමාස යන තුන) නැසීමෙන් අපායනට නොවැටෙන සුලු, මාර්ගධර්මනියාමයෙන් නිශ්චිත ගති ඇති, සම්බොධිය (මතු තුන් මඟ) පරම ගතිය කොටැති, සෝවාන් පුග්ගලෙක් වේ ද, මහාලිය, යම් දහමක් පසක් කරනු පිණිස මහණහු මා කෙරෙහි බඹසර සරත් නම්, ඒ මේ දහම ද (සෝවාන් මඟ ද) යට කී සමාධීන්ට වඩා උසස් ය, වඩා උතුම් ය

තව ද මහාලිය, මහණ තෙමේ තුන් සංයොජනයන් නැසී යැමෙන් රා දෙස් මොහො තුනී වීමෙන් සෙදගැමි වේ එක් වරක් ම මෙ ලොවට අවුත් දුක් කෙළවර කෙරෙයි මහාලිය, යම් දහමක් පසක් කරනු පිණිස මහණහු මා වෙතැ බඹසර සරත් නම්, මේ දහම ද යට කී සමාධීන්ට වඩා උසස් ය, වඩා උතුම් ය

තව ද මහාලිය, මහණ තෙමේ ඕරම්භාගිය (කාමභවය භජනය කරන) සංයොජන පස මුළුල්ල ම නැසීමෙන් ඕපපාතික අත්බව ලබන්නෙක් වෙයි. (ශුද්ධාවාස බඹලොවැ උපදින්නේ වෙයි ) එ බඹලොවෙහි ම පිරිනිවෙන සුලු වෙයි. එ ලොවින් (නැවැත පිළිසඳ ගැනුම් විසින්) මෙහි නොඑන සුලු වෙයි. මහාලිය, යම් දහමක් පසක් කරනු පිණිස මහණහු මා වෙතැ බඹසර සරත් නම්, මෙය ද උඩ කී සමාධීන්ට වඩා උසස්ය, වඩා උතුම් ය.

තව ද මහාලිය, මහණ තෙමේ ආස්‍රවයන් ක්ෂීණවීමෙන් ආස්‍රව රහිත වූ අර්හත්ඵල සමාධිය ද අර්හත්ඵල ඥානය ද මෙ අත්බවෙහි ම තෙමේ විශිෂ්ටඥානයෙන් පසක් කොටැ ලැබ ගෙන වෙසෙයි මහාලිය, යමක් පසක් කරනු පිණිස මහණහු මා වෙතැ බඹසර සරත් නම්, මෙය ද යට කී සමාධීන්ට වඩා උසස් ය, වඩා උතුම් ය.

මහාලිය, මහණහු යම් දහම් කෙනකුන් පසක් කරන කරුණින් (පසක් කරනු පිණිස) මා වෙතැ බඹසර සෙරෙත් නම්, මේ යට කී සමාධීන්ට වඩා උසස් වූ, වඩා උතුම් වූ ඒ දහම්හු"යැ යි (වදාළ සේක.)

16 (එ විටැ මහාලි තෙම) 'වහන්ස, (ඔබ වදාළ) මෙකී දහමුන් පසක් කරනුවට මඟෙක් ඇත්තේ ද ? පිළිපැද්මෙක් ඇත්තේ ද ?'" යි විචාළේ ය )

"මහාලිය, මේ දහම් පසක් කරනුවට මඟෙක් ඇත්තේ ය, පිළි-පැද්මෙක් ඇත්තේ යැ" යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

17. "කතමො පන භන්තෙ මග්ගො, කතමා පටිපදා, එතෙසං ධම්මානං සච්ඡිකිරියායා ?"ති.

"අයමෙව අරියො අට්ඨඞ්ගිකො මග්ගො, සෙය්‍යථීදං ? සම්මාදිට්ඨි සම්මාසඞ්කප්පො සම්මාවාචා සම්මාකම්මන්තො සම්මාආජීවො සම්මාවායාමො සම්මාසති සම්මාසමාධි අයං ඛො මහාලි මග්ගො අයං පටිපදා, එතෙසං සච්ඡිකිරියාය

18 එකදාහං මහාලි සමයං කොසම්බියං විහරාමි ඝොසිතාරාමෙ අථ ඛො ද්වෙ පබ්බජිතා මණ්ඩිස්සො ච පරිබ්බාජකො ජාලියො ච දාරුපත්තිකන්තෙවාසී යෙනාහං තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා මම සද්ධිං සම්මොදිංසු, සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං අට්ඨංසු එකමන්තං ඨිතා ඛො තෙ ද්වෙ පබ්බජිතා මං එතදවොචුං "කිං නු ඛො ආවුසො ගොතම, තං ජීවං තං සරීරං ? උදාහු අඤ්ඤං ජීවං අඤ්ඤං සරීර ?"න්ති.

"තෙන හාවුසො සුණාථ සාධුකං මනසි කරොථ භාසිස්සාමී"ති.

"එවමාවුසො"ති ඛො තෙ ද්වෙ පබ්බජිතා මම පච්චස්සොසුං. අහං එතදවොචං:

19. ඉධාවුසො තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මාසම්බුද්ධො [යථා සාමඤ්ඤඵලෙ එවං විත්ථාරෙතබ්බං] -පෙ-

තස්සිමෙ පඤ්චනීවරණෙ පහීනෙ අත්තනි සමනුපස්සතො පාමොජ්ජං ජායති පමුදිතස්ස පීති ජායති පීතිමනස්ස කායො පස්සම්භති පස්සද්ධකායො සුඛං වෙදෙති සුඛිනො චිත්තං සමාධියති.

20. සො විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි සවිතක්කං සවිචාරං විවෙකජං පීතිසුඛං පඨමජ්ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

සෙය්‍යථාපි ආවුසො දක්ඛො න්හාපකො වා න්හාපකන්තෙවාසී වා කංසථාලෙ න්හානීයචුණ්ණානි ආකිරිත්වා උදකෙන පරිප්ඵොසකං පරිප්ඵොසකං සන්නෙය්‍ය සායං න්හානීයපිණ්ඩි සෙනහානුගතා සෙනහපරෙතා සන්තරබාහිරා ඵුටා සෙනහෙන, න ච පග්ඝරණී

එවමෙව ඛො ආවුසො භික්ඛු ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති.

17 "වහන්ස, මේ දහම් පසක් කරනුවට ඇති ඒ මඟ, ඒ පිළිපැදීම කවරේ ද ?" (යි මහාලි පුළුවුත.)

එ විට භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක)

"ඒ මේ අරි අටැඟි මඟ ම ය. එ නම්. සම්‍යග්දෘෂ්ටිය, සම්‍යක්සංකල්පය, සම්‍යග්වචනය, සම්‍යක්කර්මාන්තය, සම්‍යගාජීවය, සම්‍යග්ව්‍යායාමය, සම්‍යක්-ස්මෘතිය, සම්‍යක්සමාධිය යන අට ය මහාලිය, එකී දහම් පසක් කරනුවට මේ ම මඟ ය, මේ ම පිළිපැදීම ය

18 මහාලිය, මම් එක් කලෙක කොසොඹෑ නුවරට නොදුරෙහි වූ ඝොසිතාරාමයෙහි වෙසෙමි. එ කල මණ්ඩිස්ස නම් පිරිවැජි ද, ලීමුවා පයක් දරන පිරිවැජ්ජක්හු අතැවැසි ජාලිය නම් පිරිවැජි දු යි මේ දෙ පැවිද්දෝ මා වෙත එළැඹැ මා හා සතුටු වූහ සතුටු වියැ යුතු සිතැ රැඳැවියැ යුතු කතා නිමවා පසෙකැ සිටියහ පසෙකැ සිටි ඒ දෙ පැවිද්දෝ "කිමෙක් ද ඇවැත්නි, ගොයුම් තෙමේ 'ජීවයත් හේ ම ද ? ශරීරයත් හේ ම ද ? (ජීවයත් ශරීරයත් දෙක ම එකක් ද ?) නො හොත් ජීවය එකෙකුත් ශරීරය අනෙකෙකුත් වේ ද ?"යි විචාළහ

"ඇවැත්නි, එසේ වී නම් අසවු. මොනොවට මෙනෙහි කරවු. කියන්නෙමි"යි (මම් කීමි) 'එසේ ය ඇවැත්නි'යි ඒ දෙ පැවිද්දෝ මට පිළිවදන් දුන්හ. මම් මතු දැක්වෙන මේ දෑ කීයෙමි.

19. "ඇවැත්නි, රහත් වූ සම්මාසම්බුදු වූ තථාගත තෙම ලොවැ පහළ වෙයි [යටැ සාමඤ්ඤඵලසූත්‍රයෙහි අා පරිදි ම විස්තර කළ යුතු ]

තමා කෙරෙහි මේ නීවරණ පස නැසුණවුන් දක්නා ඔහුට සතුට උපදී සතුටු වූවහුට ප්‍රීතිය උපදී ප්‍රීත සිතැත්තහුගේ කය සංසිඳෙයි. සංසුන් කයැත්තේ සුව විඳී සුවැත්තහු ගේ සිත එකඟ වේ

20. හේ කාමයන් ගෙන් වෙන් වැ ම සෙසු අකුසල් දහමුන් ගෙන් (ද) වෙන් වැ ම, විතර්ක සහිත විචාර සහිත, විවේකයෙන් උපන්, ප්‍රීතියත් සුවයත් ඇති පළමු දහන් ලැබැ වෙසේ හේ මේ කය ම විවේකයෙන් උපන් පිති සුවයෙන් තෙමයි, හාත්පසින් තෙමයි, පුරා ලයි, හාත්පසින් ස්පර්ශ කෙරෙයි ඔහුගේ සියලු අඟ පසඟින් යුත් මුළු-කයෙහි විවෙකජ පිති සුවය පැතිරැ වැදූ නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

ඇවැත්නි, යම් සේ සමත් කිලිහෙක් හෝ කිලිඟකුගේ අතැවැස්සෙක් හෝ ලොහොතලියෙක නානසුණු බහා දිය ඉස ඉස පිඬු කරන්නේ ද, ඒ නානසුණු පිඬ කා වැදුණු දිය ඇත්තේ හැම තැන ම දියෙන් යුක්ත වූයේ, ඇතුළතත් පිටතත් සහිත වැ හැමතැන ම දියෙන් පැතිරැ ගියේ, දියත් නො වගුරුවන්නේ වේ ද,

ඇවැත්නි, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම විවෙකජ ප්‍රීතිසුඛයෙන් තෙමයි, හාත්පසින් තෙමයි, පුරා ලයි හාත්පසින් ස්පර්ශ කෙරෙයි සියලු අඟ පසඟ ඇති ඔහුගේ මුළුකයෙහි විවෙකජ ප්‍රීතිසුඛයෙන් පැතිරැ වැදූ නොගත් කිසි ද තැනෙක් නො වෙයි

යො නු බො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු බො තස්සෙතං වචනාය තං ජීවං තං සරීරන්ති වා අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වා ?ති.

යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය තං ජීවං තං සරීරන්ති වා අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වාති.

අහං බො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි. අථ ච පනාහං න වදාමි තං ජීවං තං සරීරන්ති වා අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වාති.

21 පුන චපරං ආවුසො භික්ඛු විතක්කවිචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං චෙතසො එකොදිභාවං අවිතක්කං අවිචාරං සමාධිජං පීතිසුඛං දුතියජ්ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං සමාධිජෙන පීති-සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති.

22 සෙය්‍යථාපි ආවුසො උදකරහදො ගම්භීරො උබ්භිදොදකො – [යථා සාමඤ්ඤඵලෙ එවං විත්ථාරෙතබ්බං ]

නාස්ස කිඤ්චි සබ්බාවතො උදකරහදස්ස සීතෙන වාරිනා අප්ඵුටං අස්ස, එවමෙව බො ආවුසො භික්ඛු ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති.

23. පුන ච පරං ආවුසො භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො සම්පජානො, සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති, යං තං අරියා ආචික්ඛන්ති· උපෙක්ඛකො සතිමා සුඛවිහාරීති තතියජ්ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති.

24 සෙය්‍යථා'පි ආවුසො උප්පලිනියං වා පදුමිනියං වා –පෙ–. පුණ්ඩරීකානං වා සීතෙන වාරිනා අප්ඵුටං අස්ස.

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ඒ ම ජීව යැ ඒ මැ ශරීරයැ' යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි හෝ ඔහු විසින් කියන්නට යුතු දැ?'' යි මම් ඇසීම්

''ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ජීවයත් ශරීරයත් එකක් මැ යැ' යි හෝ 'ඒ වෙන වෙන දෙකෙකැ' යි හෝ කියනු ඔහුට යුතු යැ'' යි (දෙ පැවිද්දෝ කීහ.)

ඇවැත්නි, මම් වූ කලි මෙසේ දනිමි මෙසේ දකිමි එහෙත් මම් 'හේ ම ජීව යැ, හේ ම ශරීර යැ' යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි හෝ නො කියමි යි (මම් කීමි)

21 ඇවැත්නි, තව ද මහණ තෙමේ විතර්ක විචාර සංහිඳීමෙන් සිය සතන්හි උපන්, සිය සතන් පහද වන සිත එකග බව ඇති, විතර්කය නැති විචාරය නැති, සමාධියෙන් උපන් ප්‍රීතියත් සුවයත් ඇති, දෙවෙනි දහනට පැමිණැ වෙසෙයි හේ මේ කරජ කය ම සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි හාත්පසින් තෙමයි, පුරා ලයි හැම තැන ම ස්පර්ශ කෙරෙයි ඔහු කයැ විවෙකජ ප්‍රීතිසුඛයෙන් පැතිරැ නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

22. ඇවැත්නි, යම් සේ යටැ උල්පතින් මතු වන දිය ඇති ගැඹුරු විලෙක් වේ ද, [යටැ සාමඤ්ඤඵල සූත්‍රයෙහි ආ පරිදි මෙ තැන විස්තර කළ යුතු.]

ඒ මුළු විලෙහි ශීතල ජලය පැතිරැ වැදැ නොගත් කිසි ද තැනෙක් නො මැත්තේ ද, ඇවැත්නි, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි හැම තැන ම තෙත් කෙරෙයි, පුරා ලයි හැම තැන ම පැතිරැ ගනී ඔහුගේ ඒ සියලු කයෙහි සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් පැතිරැ නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

23. තව ද ඇවැත්නි, මහණ තෙම ප්‍රීතියගේ ද සංහිඳීමෙන් උපෙක්ෂායෙන් ද යුතු වැ, සිහියෙන් හා නුවණින් හා යුතු වැ වෙසෙයි. සුවය ද කයින් විඳී ආර්‍ය්‍යයෝ යම් ධ්‍යානයක් හෙතු කොට ගෙන ධ්‍යාන-ලාභියා ඇරැබැ 'උපෙක්ෂාව ඇත්තේ ය, සිහි ඇත්තේ ය, සුඛවිහරණ ඇත්තේ යැ'යි කියත් ද, හේ එසේ වූ ඒ තෙවෙනි දහනට පැමිණැ වෙසෙයි හේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි. මුළුල්ල ම තෙත් කෙරෙයි, පුරාලයි. හැම තැන ම ස්පර්ශ කෙරෙයි ඔහුගේ කයෙහි ඒ නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

24 ඇවැත්නි, යම් සේ උපුල් විලෙක හෝ පියුම් විලෙක හෝ .. පඬෙරවලැ හෝ සිහිල් දියෙන් පැතිරැ නොගත් තැනෙක් නො වන්නේ ද,

එවමෙව බො ආවුසො භික්ඛු ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බා-වතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති.

යො නු බො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු බො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති.

“යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා”ති.

අහං බො පනෙතං ආවුසො එවං ජානාමි, එවං පස්සාමි. අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති වාති

25 පුන ච පරං ආවුසො භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථගමා අදුක්ඛමසුඛං උපෙක්ඛා-සතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති.

සෙය්‍යථාපි ආවුසො පුරිසො ඔදාතෙන වත්ථෙන සසීසං පාරුපිත්වා නිසින්නො අස්ස, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස ඔදාතෙන වත්ථෙන අප්ඵුටං අස්ස, එවමෙව බො ආවුසො භික්ඛු ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති.

යො නු බො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු බො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති.

“යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා”ති.

අහං බො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි. අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති

එසේ ම, ඇවැත්නි, මහණ තෙම මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි, හාත්පසින් තෙමයි, පුරා ලයි, මුළුල්ල ම සපයි කෙරෙයි ඔහු මුළු කයෙහි නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරී වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි

ඇවැත්නි, යමෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ජීවයත් හේ ම යැ, ශරීරයත් හේ මැ යැ' යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි ඔහු විසින් කියන්නට යුතු වේ දැ?යි [මම් ඇසීම් ]

''ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දන්නේ නම්, මෙසේ දක්නේ නම්, 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි හෝ මෙය කියන්නට ඔහුට යුතු යැ'' යි [වේද පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලි මෙය මෙසේ දනිමි, මෙසේ දකිමි. එහෙත් මම් 'ජීවයත් හේ ම ය, ශරීරයත් හේ මැ යැ' යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි හෝ නො කියමි

25 තව ද ඇවැත්නි, මහණ තෙම සුඛ වේදනාව ද දුක් වේදනාව ද දුරු ලීමෙන්, පළමු කොට ම සොම්නස් දොම්නස් දෙක පහ වීමෙන්, දුක් නොවූ සුඛ ද නොවූ, උපේක්‍ෂාස්මෘතියෙන් පිරිසිදු වූ සිවු වන දහන ලැබැ වෙසෙයි හේ මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරී ගෙන හුන්නේ වෙයි ඔහු සියලු කයැ පිරිසිදු පබසර සිතින් නොපහස්නා ලද කිසි ද තැනෙක් නො වෙයි

ඇවැත්නි, යම්සේ පුරුෂයෙක් සුදු වතින් හිස ඇතුළු මුළු කය ම වසා ගෙන හුන්නේ වේ නම්, ඔහු මුළු කයෙහි සුදු වතින් වැදූ නොගත් (නොවැසුණු) කිසි ද තැනෙක් නො වන්නේ ද, ඇවැත්නි, එසේ ම මහණතෙම මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරී ගෙන හුන්නේ වෙයි ඔහු මුළු කය පිරිසිදු පබසර සිතින් නොපහස්නා ලද කිසි ද තැනෙක් නො වෙයි.

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ' යැ යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ' යි හෝ මෙය කියන්නට ඔහුට යුතු දැ'යි [මම් ඇසීම් ]

''ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ මෙය කියන්නට ඔහුට යුතු යැ'' යි [වේද පිරිවැජියෝ කීහ ]

26 පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො එවං පජානාති 'අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දන-භෙදනවිද්ධංසනධම්මො ඉදඤ්ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති සෙය්‍යථාපි ආවුසො මණි වෙළුරියො -පෙ- සබ්බාකාර-සම්පන්නො, තත්‍ර සුත්තං ආවුතං නීලං වා -පෙ- පණ්ඩුසුත්තං වා, තමෙනං චක්ඛුමා පුරිසො හත්ථෙ කරිත්වා පච්චවෙක්ඛෙය්‍ය 'අයං ඛො මණි වෙළුරියො -පෙ- සබ්බාකාරසම්පන්නො, තත්‍ර සුත්තං ආවුතං නීලං වා -පෙ- පණ්ඩු-සුත්තං වා'ති එවමෙව ඛො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඤාණදස්සනාය චිත්තං අභිනීහරති -පෙ- සො එවං පජානාති 'අයං ඛො මෙ කායො රූපී -පෙ- ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති'.

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා'' ? ති

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති.

අහං ඛො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති

27 පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- මනොමයං කායං අභිනිම්මිනනාය චිත්තං අභිනීහරති -පෙ- සෙය්‍යථාපි ආවුසො පුරිසො මුඤ්ජම්හා ඊසිකං පබ්බාහෙය්‍ය -පෙ- එවමෙව ඛො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- මනොමයං කායං අභිනිම්මිනනාය චිත්තං අභිනීහරති -පෙ- සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති -පෙ- අහීනින්ද්‍රියං

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?''ති.

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති

26 ඇවැත්නි, තව ද ඒ මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කිලිටි පහ වැ ගිය කල්හි, පහ වූ චිත්තොපක්ලෙශ ඇති කල්හි, මොලොක් වූ කල්හි, විදර්ශනා-භාවනාවට යොග්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිසලබවට පැමිණි කල්හි, විදර්ශනාඥාණ පිණිස සිත අභිමුඛ කෙරෙයි. එය අතට නමා හරී හෙ තෙම 'මගේ මේ කය වූ කලී රූපවත් ය සිව් මහාභූතයන්ගෙන් සැදුණේ ය මාපියන්ගේ ශුක්‍රශොණිතයන් උපන්නේ ය. බත් කොමු ඈ අහරින් වැඩුණේ ය. අනිස බව ද, දුගඳ හරනුවට සුවඳවිලෙවුන් ඉලියැ යුතු බව ද, ලෙඩ දුරලනුවට පිරිමැදුම් ඈ කළ යුතු බව ද, එසේ කළ ද බිඳෙන බව ද, විසිරෙන බව ද යන මේ දෑ ස්වභාවය කොටැත්-තේ ය මගේ මේ සිත ද මෙහි ලැග්ගේ ය මෙහි බැඳුණේ යැ'යි මෙසේ දැන ගනී ඇවැත්නි, සියලු අයුරින් පිරිපුන් වෛරෙඩුම්ණෙක් යම් සේ ද එහි නිල් හුයෙක් පඬුවන් හුයෙක් හෝ අවුනන ලද්දේ වේ ද, ඇස් ඇති පුරුෂයෙක් එය අතෙහි කොට 'මේ... සියලු අයුරින් පිරිපුන් වෛරෙඩු මිණෙක. මෙහි නිල් පැහැ හුයෙක් හෝ පඬුවන් හුයෙක් හෝ අවුනන ලදැ යි සලකා බලන්නේ ද, ඇවැත්නි, එ පරිද්දෙන් ම මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි . විදර්ශනාඥාණ පිණිස සිත යොමු කෙරෙයි හේ 'මගේ මේ කය වනාහි රූපවත් ය මගේ මේ සිත ද මෙහි ලැග්ගේ ය, මෙහි බැඳුණේ යැ'යි මෙසේ දැන ගනී

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දන්නේ නම් මෙසේ දක්නේ නම්, 'එය ම ජීව යැ, එය ම ශරීර යැ' යි හෝ 'අනෙකෙක් ජීව යැ අනෙකෙක් ශරීර යැ'යි හෝ මෙය කියන්නට යුතු දැ ? [යි මම් ඇසීම් ]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ' යි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'යි හෝ කියන්නට යුතු යැ''යි [පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලී මෙය දනිමි, මෙය දකිමි එහෙත් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ නො කියමි

27 ඇවැත්නි, තව ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි මනොමය ශරීරයක් මවනු පිණිස සිත යොමු කෙරෙයි ඇවැත්නි, යම්සේ මිනිසෙක් මුඳු තණ ගසකින් තණබඩය බැහැර කරන්නේ ද, ඇවැත්නි, එ පරිද්දෙන් ම මහණ තෙම සිත මෙසේ සමාහිත කල්හි මනොමය ශරීරයක් මවන්නට සිත යොමු කෙරෙයි . හේ මේ කයින් නො පිරිහුණු ඉඳුරන් ඇති අන් කයක් මවයි.

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ' යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙ-කෙකැ'යි හෝ මෙය කියන්නට යුතු දැ ? යි [මම් ඇසීමි]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනි නම්, මෙසේ දකි නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙ-කෙක ශරීරය අනෙකෙකැ'යි හෝ කියන්නට යුතු යැ''යි [පිරිවැජියෝ කීහ ]

අහං ඛො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

28. පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති -පෙ- සෙය්‍යථාපි ආවුසො දක්ඛො කුම්භකාරො වා කුම්භකාරන්තෙවාසී වා සුපරිකම්මකතාය මත්තිකාය යං යදෙව භාජනවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය -පෙ- එවමෙව ඛො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති -පෙ- සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති -පෙ- යාවබ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති.

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති.

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති.

අහං ඛො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි. අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

29. පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති -පෙ- සො දිබ්බාය සොතධාතුයා -පෙ- උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච -පෙ- සෙය්‍යථාපි ආවුසො පුරිසො අද්ධානමග්ගපටිපන්නො, සො සුණෙය්‍ය භෙරිසද්දම්පි -පෙ- තස්ස එවමස්ස භෙරිසද්දො ඉතිපි -පෙ- එවමෙව ඛො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති -පෙ- සො දිබ්බාය සොතධාතුයා -පෙ- උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච.

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති.

අහං පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

ඇවැත්නි, මම් වූ කලි මෙය දනිමි, මෙය දකිමි එහෙත් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ නො කියමි

28. ඇවැත්නි, තව ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි . ඍද්ධි කොටස් ලබනු පිණිස සිත යොමු කෙරෙයි ඇවැත්නි, යම්සේ දක්ෂ වූ කුඹලෙක් හෝ කුඹලක්හු අතැවැස්සෙක් මොනොවට සකස් කළ මැටියෙන් යම් යම් ම බඳුන් වෙසෙසක් කැමැති වන්නේ නම්, එය එය ම කරන්නේ ද, ඇවැත්නි, එසේ ම මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි ඍද්ධි කොටස් ලබනු පිණිස සිත යොමු කෙරෙයි හේ අනෙකවිධ වූ ඍද්ධි කොටස් පසක් කෙරෙයි (ලබයි) බඹලොව දක්වාත් කයින් වශයෙහි පවත්වයි.

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනි නම්, මෙසේ දකී නම්, 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ' යි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'යි හෝ ඔහු විසින් මෙය කියන්නට යුතු ද ? යි [මම් ඇසීමි ]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙ-කෙක ශරීරය අනෙකෙකැ'යි හෝ කියන්නට යුතු යැ"යි [පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලි මෙය දනිමි, මෙය දකිමි. එහෙත් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ නො කියමි

29. ඇවැත්නි, තව ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි . දිවකන් නුවණ පිණිස සිත යොමු කෙරෙයි . හේ දිවකනින් . දිව්‍ය වූ ද මානුෂක වූ ද උභය ශබ්ද ම අසයි... ඇවැත්නි, යම්සේ භීතිසෙක් දික් මඟකට පිළිපන්නේ නම්, හේ බෙරහඬත් අසන්නේ ද, 'මෙ බෙරහඬැ'යි. ඔහුට මෙසේ සිතෙක් වන්නේ ද, ඇවැත්නි, ඒ පරිද්දෙන් ම මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි දිවකන් නුවණ පිණිස සිත යොමු කෙරෙයි හේ දිවකනින් දිව්‍ය වූ ද මානුෂක වූ ද දුර වූ ද ළඟ වූ ද උභය ශබ්ද ම අසයි

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'යි හෝ කියන්නට යුතු ද ?"යි [මම් ඇසීමි ]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙ-කෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ කියන්නට යුතු යැ"යි [පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලි මෙය දනිමි මෙය දකිමි එහෙත් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ'යි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'යි හෝ නො කියමි.

30. පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති -පෙ- සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති -පෙ- අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති සෙය්‍යථාපි ආවුසො ඉත්ථි වා පුරිසො වා -පෙ- ආදාසෙ වා -පෙ- උදකපත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය, අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය, එවමෙව ඛො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති -පෙ- සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති, සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති -පෙ- අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති

“යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා”ති.

අහං පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

31. පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ -පෙ- පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති -පෙ- සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති, සෙය්‍යථීදං එකම්පි ජාතිං -පෙ- අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ: අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො -පෙ- ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලන්නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති.

“යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා”ති.

අහං පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

32. පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති -පෙ- සො දිබ්බෙන චක්ඛුනා -පෙ- සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ -පෙ- සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති.

30 ඇවැත්නි, තව ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි . පරසිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි හේ අන් සතුන්ගේ අන් පුඟුලන්ගේ සිත් තම සිතින් පිරිසිඳ දනී හේ සරාග සිත සරාග සිතැ යි ද දනී නොමිදුණු සිත නොමිදුණු සිතැ යි ද දනී ඇවැත්නි, ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ යම්සේ කැටපතෙක හෝ දිය බඳුනෙක හෝ මුවසටහන පිරික්සා බලනුයේ තලකැලැල් සහිත මුවක් තලකැලැල් සහිත යැ යි දැන ගන්නේ ද, තලකැලැල් රහිත මුවක් තල-කැලැල් රහිත යැ යි දැන ගන්නේ ද, ඇවැත්නි, එ පරිද්දෙන් ම මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි පරසිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි .. හේ අන් සතුන්ගේ අන් පුඟුලන්ගේ සිත තම සිතින් පිරිසිඳ දැන ගනී හේ සරාග සිත සරාග සිතැ යි ද නොමිදුණු සිත නොමිදුණු සිතැ යි ද දැන ගනී.

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙ-කෙක ශරීරය අනෙකෙකැ'සි හෝ කියන්නට යුතු ද ?සි [මම ඇසීමි.]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'සි හෝ කියන්නට යුතු යැ"සි [පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලි මෙය දනිමි, මෙය දකිමි. එහෙත් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'සි හෝ නො කියමි.

31. ඇවැත්නි, තව් ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි... පෙර වුසු කඳ පිළිවෙල දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි .. හේ එක් ජාතියක් ද නොයෙක් සංවර්තනාවිවර්තන කල්ප ද යන අනෙක-විධ පූර්ව නිවාසය සිහි කරයි 'අසෝ තැන මෙනම් ඇත්තෙම් මෙබඳු ගොත් ඇත්තෙම් වීමි . මෙසේ ආකාරසහිත උද්දෙශ සහිත නොයෙක් වැදෑරුම් පෙර වුසු කඳපිළිවෙල සිහි කෙරෙයි

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'සි හෝ මෙය කියන්නට යුතු ද ?සි [මම ඇසීමි ]

"ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු විසින් 'ජීවයත් හේ මැ යැ, ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'සි හෝ කියන්නට යුතු යැ"සි [පිරිවැජියෝ කීහ ]

ඇවැත්නි, මම් වූ කලි මෙසේ දනිමි, මෙසේ දකිමි එහෙත් 'ජීවයත් හේ මැ යැ ශරීරයත් හේ මැ යැ'සි හෝ 'ජීවය අනෙකෙක ශරීරය අනෙකෙකැ'සි හෝ මම් නො කියමි

32 ඇවැත්නි, තව ද මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දන්නා නුවණ පිණිස සිත මෙහෙයයි හේ දිවැසින් මැරෙන මැරී උපදනා කම් වූ පරිදි සුගතියට දුගතියට පැමිණි සත්ත්වයන් දැන ගනී.

# 7. ජාලිය සුත්තං

1 එවං මෙ සුතං එකං සමයං භගවා කොසම්බියං විහරති ඝොසිතාරාමෙ. තෙන ඛො පන සමයෙන ද්වෙ පබ්බජිතා මණ්ඩිස්සො ච පරිබ්බාජකො ජාලියො ච දාරුපත්තිකන්තෙවාසී යෙන භගවා තෙනුප-සඞ්කමිංසු උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදිංසු සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං අට්ඨංසු එකමන්තං ඨිතා ඛො තෙ ද්වෙ පබ්බජිතා භගවන්තං එතදවොචුං “කිංනු ඛො ආවුසො ගොතම තං ජීවං තං සරීරං? උදාහු අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරං?”ති.

2. තෙන හාවුසො සුණාථ සාධුකං මනසි කරොථ භාසිස්සාමී’ති. ‘එවමාවුසො’ති ඛො තෙ ද්වෙ පබ්බජිතා භගවතො පච්චස්සොසුං. භගවා එතදවොච

3 ඉධාවුසො තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මාසම්බුද්ධො -පෙ- (යථා සාමඤ්ඤඵලෙ එවං විත්ථාරෙතබ්බං). එවං ඛො ආවුසො භික්ඛු සීලසම්පන්නො හොති.

4. කථං ච ආවුසො භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති? ඉධාවුසො භික්ඛු චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති -පෙ- එවං ඛො ආවුසො භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති

5. කථං ච ආවුසො භික්ඛු සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො හොති? ඉධාවුසො භික්ඛු අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති ආලොකිතෙ විලොකිතෙ -පෙ- එවං ඛො ආවුසො භික්ඛු සතිසම්ප-ජඤ්ඤෙන සමන්නාගතො හොති.

6 කථඤ්ච ආවුසො භික්ඛු සන්තුට්ඨො හොති? ඉධාවුසො භික්ඛු සන්තුට්ඨො හොති කායපාරිහාරිකෙන චීවරෙන -පෙ- එවං ඛො ආවුසො භික්ඛු සන්තුට්ඨො හොති.

7 සො ඉමිනා ච අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො -පෙ- පරිමුඛං සතිං උපට්ඨපෙත්වා, -පෙ- සො අභිජ්ඣං ලොකෙ පහාය -පෙ- විචිකිච්ඡාය චිත්තං පරිසොධෙති

# 7. ජාලිය සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක භාග්‍යවතුන් වහන්සේ කොසොඹෑ නුවර ඝොෂිතාරාමයෙහි වැඩ වසන සේක. එසමයෙහි මණ්ඩිස්ස නම් පිරිවැජියෙක් ද දඹුමුවා පාත්‍රයක් දරන පැවිද්දක්හුගේ අතවැසි ජාලිය නම් පිරිවැජියෙක් ද යන දෙ පැවිදි කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියහ එළැඹ භාග්‍යවතුන් වහන්සේ හා සතුටු වූහ සතුටට සුදුසු වූ, සිහි කටයුතු වූ කථාව නිමවා පසෙක සිටි ගත්හ එ දෙ පැවිද්දෝ එසේ පසෙක සිටියාහු ම "ඇවැත් ගොයුම්ණනි, කිමෙක් ද? හේ ම ජීවයත් හේ ම ශරීරයත් වේ ද? (ජීවයත් ශරීරයත් එකෙක් ම ද ?) නො හොත් ජීවය අනෙකෙ- කුත් ශරීරය අනෙකෙකුත් වේ ද ? (ජීවයත් ශරීරයත් දෙකෙක් ද ?)" යි මෙය කීහ

2. ඇවැත්නි, එසේ වී නම් අසවු මොනොවට සිත්හි කරවු, කියන්- නෙමි යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක 'ඇවැත්නි, එසේ යැ' කියා ඒ දෙ පැවිද්දෝ භාග්‍යවතුන් වහන්සේට පිළිවදන් ඇස්වූහ භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක

3 ඇවැත්නි, තථාගත අර්හත් සම්‍යක්සම්බුද්ධ තෙමේ මේ ලොවැ උපදී (සාමඤ්ඤඵල සූත්‍රයෙහි දක්වුණ පරිදි විස්තර කටයුතු.) ඇවැත්නි, මෙසේ මහණ තෙම සිල්වත් වෙයි

4 ඇවැත්නි, කෙසේ නම් මහණ ඉඳුරන්හි වැසූ දොරැත්තේ වේ ද ? ඇවැත්නි, මෙහි මහණතෙම ඇසින් රුවක් දැක නිමිති ගන්නා සුලු නො වේ ද, ඇවැත්නි, මෙසේ මහණ තෙම ඉඳුරන්හි වැසූ දොරැත්තේ වෙයි

5 ඇවැත්නි, කෙසේ නම් මහණ සිහිනුවණින් යුත් වේ ද ? ඇවැත්නි, මෙහි මහණ තෙම ඉදිරියට යැමෙහි පෙරළා ඒමෙහි ඉදිරි බැලීමෙහි දෙ පස බැලීමෙහි නුවණින් දැන කරන සුලු වේ ද, ඇවැත්නි, මෙසේ ම මහණ තෙම සිහිනුවණින් යුත් වෙයි

6 ඇවැත්නි, කෙසේ නම් මහණ සතුටු වේ ද? ඇවැත්නි, මෙහි මහණ තෙම කය පරිහරණයට පමණ වූ සිවුරින් සතුටු වේ ද, . ඇවැත්නි, මෙසේ මහණ තෙම සතුටු වෙයි

7 හේ මේ ආර්‍ය ශීලස්කන්ධයෙන් ද සමන්විත වූයේ, සිතිය අරමුණට යොමු කොට එළවා, ලොව කෙරෙහි අභිධ්‍යාව පහ කොට . විචිකිච්ඡාව කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි

යො නු බො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු බො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති.

"යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙ තං වචනාය 'තංජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා"ති

අහං බො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

9 පුන ච පරං ආවුසො භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා -පෙ- චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති. -පෙ- නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති

යො නු බො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු බො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති

"යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා"ති.

අහං බො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති.

10 පුන ච පරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති 'අයං බො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො -පෙ- භෙදනවිද්ධංසන-ධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති සෙය්‍යථාපි ආවුසො මණි වෙළුරියො -පෙ- තත්‍රස්ස සුත්තං 'අයං බො මණි වෙළුරියො -පෙ- තත්‍රිදං සුත්තං ආවුතං නීලං වා -පෙ- පණ්ඩු-සුත්තං වා'ති එවමෙව බො ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො එවං පජානාති අයං බො මෙ කායො රූපී -පෙ- ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති -පෙ- [යථා පුබ්බෙ එවං විත්ථාරෙ තබ්බං]

11 පුනචපරං ආවුසො -පෙ- එවං සමාහිතෙ චිත්තෙ -පෙ- මනොමයං කායං අභිනිම්මිනනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති -පෙ-

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දන්නේ නම්, මෙසේ දක්නේ නම් 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'දෙකෙකැ' සි හෝ ඔහු කියනු සුතුද ?

[පිරිවැජියෝ:] "ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දන්නේ නම්, මෙසේ දක්නේ නම්, ඔහු විසින් 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙක් ම යැ' සි මෙය කියනු යුතු ය"

[භාග්‍යවත්හු·] ඇවැත්නි, මම් වූ කලි මෙය මෙසේ දනිමි. මෙසේ දකිමි. වැලි දු මම් 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ වෙන 'වෙන දෙකෙකැ' සි හෝ නො කියමි.

9 තව ද ඇවැත්නි, මහණ තෙම සුඛවෙදනාවගේ ප්‍රහාණයෙන් දුඃඛ වෙදනාවගේ ද ප්‍රහාණයෙන් සතරවන දහන් ලැබ වෙසෙයි ඔහු විසින් සියලු කයැ පිරිසිදු පැහැසර සිතින් පැහිරු නො ගන්නා ලද කිසිදු තැනෙක් නො වෙයි

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම් ඔහු 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙකැ' සි හෝ කියනු යුතු ද ?

[පිරිවැජියෝ·] "ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දන්නේ නම්, මෙසේ දක්නේ නම්, ඔහු 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙකැ' සි හෝ කියනු යුතු ය"

[භාග්‍යවත්හු·] ඇවැත්නි, මම් වූ කලි මෙය මෙසේ දනිමි, මෙසේ දකිමි වැලි දු මම් 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙකැ' සි හෝ නො කියමි

10 තව ද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත එකඟ වූ කල්හි ඥානදර්ශනය පිණිස සිත යොමු කරයි, එලවා තබයි. 'මගේ මේ කය රූපී ය සතර මහාභූතයන්ගෙන් සැදුණේ ය බිඳෙන නැසෙන සුලු ය මගේ මෙ සිත ද මෙහි ලැග්ගේ ය මෙහි බැඳුණේ ය යම්සේ වෙරෙළු මිණෙක් වේ ද, එහි හුයෙක් අවුනන ලද්දේ වේ ද, එය ඇස් ඇති පුරුෂයෙක් අතෙහි කොට 'මේ වෙරෙළු මිණෙක . එහි මේ නිල් හෝ පඬු පැහැ හුයෙක් අවුනන ලදු' සි හේ මෙ පරිද්දෙන් දන්නේ ද, එසේ ම මහණතෙම සිත සමාහිත කල්හි දර්ශනඥානය පිණිස සිත එලවා තබයි, යොමු කෙරෙයි හේ 'මගේ මේ කය රූපී ය මගේ මේ සිත මෙහි ලැග්ගේ ය, මෙහි බැඳුණේ යැ'සි දනී [පෙර මෙන් විස්තර කටයුතු]

11 තව ද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි මනොමය කයක් මවනු පිණිස සිත යොමු කෙරෙයි, එලවා තබයි

12 පුනචපරං ආවුසො භික්ඛු -පෙ- එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති -පෙ- යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති -පෙ-

13 පුනචපරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- දිබ්බාය සොතධාතුයා -පෙ- චෙතොපරියඤාණාය -පෙ- පුබ්බෙනිවාසානුස්සති-ඤාණාය -පෙ- [යථා මහාලිසුත්තෙ එවං විත්ථාරෙතබ්බං]

14 පුනචපරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති -පෙ- යථාකම්මූපගෙ සත්තෙ පජානාති

යො ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?''ති

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති

අහං ඛො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි. අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වාති

15 පුනචපරං ආවුසො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති -පෙ- ඛීණා ජාති වුසිතං බ්‍රහ්මචරියං කතං කරණීයං නාපරං ඉත්ථත්තායාති පජානාති

යො නු ඛො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, කල්ලං නු ඛො තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ?ති

''යො සො ආවුසො භික්ඛු එවං ජානාති එවං පස්සති, න කල්ලං තස්සෙතං වචනාය 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා''ති

අහං ඛො පනෙතං ආවුසො එවං ජානාමි එවං පස්සාමි අථ ච පනාහං න වදාමි 'තං ජීවං තං සරීරන්ති' වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා'ති

16. ඉදමවොච භගවා අත්තමනා තෙ ද්වෙ පබ්බජිතා භගවතො භාසිතං අභිනන්දුන්ති

ජාලියසුත්තං නිට්ඨිතං.

12 තවද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි ඍද්ධිවිධඥානය පිණිස සිත එලවයි. බඹලොව දක්වාත් කයින් වශයෙහි පවත්වයි

13. තවද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි... දිව්‍යකත් නුවණ පිණිස. පරසිත් දත්නා නුවණ පිණිස. පෙර වූසු කඳපිළිවෙල සිහි කරන නුවණ පිණිස. [මහාලි සූත්‍රයෙහි මෙන් විස්තර කටයුතු ]

14 නැවත ද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි .. සත්ත්වයන්ගේ චුති උපපත්ති දක්නා නුවණ පිණිස සිත එලවා තබයි කම් වූ පරිදි පරලොව යන සතුන් දනී

ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු 'ජීවයත් ශරීරයත් එකක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙකැ'සි හෝ කියනු යුතු ද ?

[පිරිවැජියෝ] "ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු 'ජීවයත් ශරීරයත් එකෙක් මැ යැ' සි හෝ 'වෙන වෙන දෙකෙකැ' සි හෝ කියනු යුතු ය"

[භාග්‍යවත්හු] ඇවැත්නි, මම් වූ කලි මෙය මෙසේ දනිමි, මෙසේ දකිමි වැලි දු මම් 'ජීවයත් ශරීරයත් එකෙක් ම යැ' සි හෝ 'වෙන වෙන දෙකෙක් යැ'සි හෝ නො කියමි

15. නැවත ද ඇවැත්නි, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි ආස්‍රවක්ෂයකරඥානය පිණිස සිත එලවයි, යොමු කරයි හේ 'මේ දුකැ යි තත් වූ පරිදි දැන ගනියි පුනර්ජන්මය ක්ෂීණ ය, බඹසර වැස නිමැවිණ, කටයුතු දෑ කරන ලදි මෙය පිණිස තව ද කටයුත්තෙක් නැතැ'යි හේ දැන ගනී

ඇවැත්නි, යම් මහණෙක් වනාහි මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු 'ජීවයත් ශරීරයත් එකෙක් මැ යැ' යි හෝ 'වෙන වෙන දෙකෙක් යැ' යි මෙය කියනු යුතු ද ?

[පිරිවැජියෝ] "ඇවැත්නි, යම් මහණෙක් මෙසේ දනී නම්, මෙසේ දකී නම්, ඔහු 'ජීවයත් ශරීරයත් එකෙක් මැ යැ' සි හෝ 'වෙන වෙන දෙකෙක් යැ' සි හෝ කියනු යුතු නො වේ".

[භාග්‍යවත්හු] ඇවැත්නි, මම් වූ කලි මෙය දනිමි, මෙය දකිමි. එතෙකුදු වුවත් 'එය ම ජීවය ය, එය ම ශරීරය යැ'සි හෝ 'ජීවය අනෙකෙක, ශරීරය අනෙකෙකැ'සි හෝ මම් නො කියමි.

16 භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක ඒ දෙපැවිද්දෝ සතුටු සිතැත්තාහු භාග්‍යවතුන් වහන්සේගේ වචනය පිළිගත්හ.

**ජාලියසූත්‍රය නිමියේ ය.**

# 8. සීහනාදසුත්තං*

1. එවං මෙ සුතං: එකං සමයං භගවා උජුඤ්ඤායං[1] විහරති කණ්ණකත්ථලෙ[2] මිගදායෙ. අථ ඛො අචෙලො කස්සපො යෙන භගවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදි සම්මොදනීයං[3] කථං සාරාණීයං[4] වීතිසාරෙත්වා එකමන්තං අට්ඨාසි

2 එකමන්තං ඨිතො ඛො අචෙලො කස්සපො භගවන්තං එතදවොච· "සුතම්මෙතං[5] හො ගොතම, 'සමණො ගොතමො සබ්බං තපං ගරහති සබ්බං තපස්සිං ලූඛාජීවිං එකංසෙන උපක්කොසති උපවදතී'ති. යෙ තෙ හො ගොතම එවමාහංසු 'සමණො ගොතමො සබ්බං තපං ගරහති, සබ්බං තපස්සිං ලූඛාජීවිං එකංසෙන උපක්කොසති උපවදතී'ති කච්චි තෙ හොතො ගොතමස්ස වුත්තවාදිනො? න ච භවන්තං ගොතමං අභූතෙන අබ්භාචික්ඛන්ති? ධම්මස්ස චානුධම්මං බ්‍යාකරොන්ති? න ච කොචි සහධම්මිකො වාදානුවාදො ගාරය්හං ඨානං ආගච්ඡති? අනබ්භක්ඛාතුකාමා හි මයං භවන්තං ගොතම"න්ති

3 යෙ තෙ කස්සප එවමාහංසු· 'සමණො ගොතමො සබ්බං තපං ගරහති. සබ්බං තපස්සිං ලූඛාජීවිං එකංසෙන උපක්කොසති උපවදතී'ති න මෙ තෙ වුත්තවාදිනො අබ්භාචික්ඛන්ති ච පන මං තෙ අසතා අභූතෙන

ඉධාහං කස්සප එකච්චං තපස්සිං ලූඛාජීවිං පස්සාමි දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නං ඉධ පනාහං කස්සප එකච්චං තපස්සිං ලූඛාජීවිං පස්සාමි දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්ත-මානුසකෙන කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නං

ඉධාහං[6] කස්සප එකච්චං තපස්සිං අප්පදුක්ඛවිහාරිං පස්සාමි දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නං.

---

* කස්සප සීහනාද සුත්තං, කෙසුචි බුද්ධසීහනාදසුත්තන්තිපි අට්ඨකථා
මහාසීහනාදසුත්තං, මජසං

1 උරුඤ්ඤායං සීමු  2 කණ්ණත්ථලෙ සීමු  3 සම්මොදනීයං මජසං
4 සාරණීයං මජසං  5 සුතමෙතං සීමු  6 ඉධපනාහං, ස්‍යා

# 8. සිංහනාදසූත්‍රය

මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ උජුඤ්ඤා නුවර නිසා කණ්ණකත්ථල නම් මුවලැව්හි වැඩ වසන සේක එ කලැ අචෙල කාශ්‍යප තෙම භාග්‍යවතුන් වහන්සේ වෙත එළැඹියේ ය. එළැඹැ ඔබ හා සතුටු විය සතුටට කරුණු වූ සිතැ රැඳැවියැ යුතු වූ කථා කොට නිමවා එකත්පසැ සිටියේ ය

2 එකත්පසැ සිටියා වූ ම අචෙලකාශ්‍යප තෙම භාග්‍යවතුන් වහන්සේට ''භවද් ගෞතමයිනි, 'මහණ ගොයුම්හු සියලු තපස ගරහති'සි, 'රළු දිවිපෙවෙත් ඇති හැම තවුසාට එකාන්තයෙන් ආක්‍රොශ කෙරෙති' සි, 'පිරිහෙලා බෙණෙති'සි මෙ පවත් මා විසින් අසන ලද භවද් ගෞතමයිනි, යම් කෙනෙක් 'මහණ ගොයුම්හු සියලු තපස ගරහති'සි, 'රළු දිවි-පෙවෙත් ඇති හැම තවුසාට ඒකාන්තයෙන් ආක්‍රොශ කෙරෙති'සි, 'පිරිහෙලා බෙණෙති'සි මෙසේ කීහු නම්, කිමෙක් ද, ඔහු භවද් ගෞතමයන් කී දෑ ම කියත් ද ? භවද්ගෞතමයනට අභූතයෙන් (නොවූ දූසින්) දෙස් නො කියත් ද? භවද් ගෞතමයන් කී දෑ අනුව ම කරුණු කියත් ද ? ඔබේ කිසි වාදයෙක් (ඔබේ වචනයෙක්) හෝ අනුවාදයෙක් (ඔබ කී බස අනුව අනුන් කී වචනයෙක්) හෝ කරුණු සහිත වැ නුවණැත්තන් විසින් ගැරැහිය යුතු තැනට නො පැමිණේ ද ? (කිම, හැම අයුරින් ම ඔබගේ වාදයෙහි ගැරැහියැ යුතු කාරණයෙක් නැද්ද ?) අපි භවද් ගෞතමයනට අභූතයෙන් දෙස් තඟනු නො කැමැත්තම්හ''සි මෙය කී ය

3 ''කාශ්‍යපය, 'මහණ ගොයුම්හු සියලු තපසට ගරහති'සි, 'රළු දිවිපෙවෙත් ඇති හැම තවුසාට ඒකාන්තයෙන් ආක්‍රොශ කෙරෙති' සි 'පිරිහෙලා බෙණෙති'සි, යම් කෙනෙක් කියත් නම්, ඔහු මා කී දෑ කියන්නෝ නො වෙති ඔහු මට නැති දූසින් බොරුවෙන් දෙස් තඟන්නාහු ද වෙති

කාශ්‍යපය, මෙහි මිනිසුන්ගේ දශීනොපචාරය ඉක්මැ දක්කැ හැකි පිරිසිදු දිවැසින් කාබුන් මරණින් මතු, සැපයෙන් පහ වූ, දුකට පිහිටි, විවශ ව වැටෙන තැන වූ නිරයට පැමිණි, කටුක දිවි පෙවෙත් ඇති වැ සිටි එක්තරා තවුසකු මම දකිමි කාශ්‍යපය, මෙහි මිනිසුන්ගේ දශීනොපචාරය ඉක්මැ දක්කැ හැකි, පිරිසිදු දිවැසින් කාබුන් මරණින් මතු, මනා ගති ඇති සග ලොවට පැමිණි, කටුක දිවිපෙවෙත් ඇති වැ සිටි එක්තරා තවුසකු ද මම දකිමි

කාශ්‍යපය, මෙහි මිනිසුන්ගේ දැකුම් ඉම ඉක්මැ දක්කැ හැකි පිරිසිදු දිවැසින්, කාබුන් මරණින් මතු, සැප නැති, නපුරු ගති ඇති, විවස ව පතිත වන තැන වූ නිරයට පැමිණි, මද වූ දුක් විහරණ ඇති වැ සිටි එක්තරා තවුසකු මම දකිමි

ඉධපනාහං කස්සප එකච්චං තපස්සිං අප්පදුක්ඛවිහාරිං පස්සාමි දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නං

යො'හං කස්සප ඉමෙසං තපස්සීනං එවං ආගතිඤ්ච ගතිඤ්ච චුතිඤ්ච උපපත්තිඤ්ච යථාභූතං පජානාමි. සො'හං කිං සබ්බං තපං ගරහිස්සාමි, සබ්බං වා තපස්සිං ලූඛාජීවිං එකංසෙන උපක්කොසිස්සාමි උපවදිස්සාමි?

4. සන්ති කස්සප එකෙ සමණබ්‍රාහ්මණා පණ්ඩිතා නිපුණා කතපරප්පවාදා වාලවෙධිරූපා වොභින්දන්තා[1] මඤ්ඤෙ චරන්ති පඤ්ඤාගතෙන දිට්ඨිගතානි. තෙහි'පි මෙ සද්ධිං එකච්චෙසු ඨානෙසු සමෙති[2] එකච්චෙසු ඨානෙසු න සමෙති[2] යන්තෙ එකච්චං වදන්ති සාධූ'ති, මයම්පි තං එකච්චං වදෙම සාධූ'ති යන්තෙ එකච්චං වදන්ති න සාධූ'ති, මයම්පි තං එකච්චං වදෙම න සාධූ'ති. යන්තෙ එකච්චං වදන්ති සාධූ'ති, මයං තං එකච්චං වදෙම න සාධූ'ති යන්තෙ එකච්චං වදන්ති න සාධූ'ති, මයං තං එකච්චං වදෙම සාධූ'ති. යං මයං එකච්චං වදෙම සාධූ'ති, පරෙ'පි තං එකච්චං වදන්ති සාධූ'ති. යං මයං එකච්චං වදෙම න සාධූ'ති, පරෙ'පි තං එකච්චං වදන්ති න සාධූ'ති. යං මයං එකච්චං වදෙම න සාධූ'ති, පරෙ'පි තං එකච්චං වදන්ති සාධූ'ති යං මයං එකච්චං වදෙම සාධූ'ති, පරෙ'පි තං එකච්චං වදන්ති න සාධූ'ති.

ත්‍යාහං උපසඞ්කමිත්වා එවං වදාමි: යෙසු නො ආවුසො ඨානෙසු න සමෙති, තිට්ඨන්තු තානි ඨානානි. යෙසු ඨානෙසු සමෙති, තත්ථ විඤ්ඤූ සමනුයුඤ්ජන්තං සමනුගාහන්තං සමනුභාසන්තං සත්ථාරා වා සත්ථාරං සඞ්ඝෙන වා සඞ්ඝං: "යෙ ඉමෙසං භවතං ධම්මා අකුසලා අකුසලසඞ්ඛාතා සාවජ්ජා සාවජ්ජසඞ්ඛාතා අසෙවිතබ්බා අසෙවිතබ්බසඞ්ඛාතා න අලමරියා න අලමරියසඞ්ඛාතා කණ්හා කණ්හසඞ්ඛාතා, කො ඉමෙ ධම්මෙ අනවසෙසං පහාය වත්තති, සමණො වා ගොතමො පරෙ වා පන භොන්තො ගණාචරියා?"ති

1 වොභින්දන්තා මජසං 2 සමෙන්ති ස්‍යා

කාශ්‍යපය, මෙහි මිනිසුන්ගේ දැකුම් ඉම ඉක්මැ දක්නා හැකි පිරිසිදු දිවැසින්, කාබුත් මරණින් මතු මනා ගති ඇති සග ලොවට පැමිණි, මඳ දුක් විහරණ ඇති වැ සිටි එක්තරා තවුසකු මම දකිමි

කාශ්‍යපය, යම්බඳු වූ මම් මේ තවුසන්ගේ ආගතියක් (පෙර භවයෙහි යම් තැනෙකින් සැව මෙහි උපන්නෝ නම් එ තැනත්), ගතියත් (මෙයින් සැව යැ යුතු තැනත්), ච්‍යුතියත් (ඒ මතු භවයෙන් ච්‍යුත වීමත්), උපපත්තියත් (ඒ ච්‍යුතියෙන් පසු ව උපදනා තැනත්) මෙසේ තත් වූ පරිදි දනිම් ද, ඒ මම් කුමට සියලු තපසට හෝ ගරහම් ද? කටුක දිවිපෙවෙත් ඇති හැම තවුසාට හෝ එකානතයෙන් පරිභව කෙරෙම් ද ? අවඥා කෙරෙම් ද ?

4 කාශ්‍යපය, පණ්ඩිත වූ, නිපුණ නුවණැති, මෙරමා හා කළ වාද ඇති, වාලවෙධි ධනුර්ධරයන් බඳු වූ ඇතැම් මහණ බමුණු කෙනෙක් තමන් ප්‍රඥායෙන් අනුන්ගේ දෘෂ්ටීන් බිඳැ හෙළන්නන් මෙන් වැ හැසිරෙත් ඔවුන් හා ද ඇතැම් තන්හි මගේ දහම සම වෙයි ඇතැම් තන්හි සම නො වෙයි ඔහු යම් එක්තරා දෑයක් 'මැනැවැ'යි කියත් ද, අපි දු ඒ එක්තරා දෑය 'මැනැවැ'යි කියමු. යම් එක්තරා දෑයක් නො මැනැවැ යි ඔහු කියත් ද, අපි දු ඒ එක්තරා දෑය 'නොමැනැවැ'යි කියමු යම් එක්තරා දෑයක් 'මැනැවැ'යි ඔහු කියත් ද, ඒ එක්තරා දෑය 'නො මැනැවැ'යි අපි කියමු යම් එක්තරා දෑයක් 'නො මැනැවැ'යි ඔහු කියත් ද, ඒ එක්තරා දෑය 'මැනැවැ'යි අපි කියමු යම් එක්තරා දෑයක් 'මැනැවැ'යි අපි කියමු ද, අන්හු ද ඒ එක්තරා දෑය 'මැනැවැ'යි කියත් යම් එක්තරා දෑයක් 'නො මැනැවැ'යි අපි කියමු ද, අන්හු ද ඒ එක්තරා දෑය 'නො මැනැවැ'යි කියත් යම් එක්තරා දෑයක් 'නො මැනැවැ'යි අපි කියමු ද, අන්හු ද ඒ එක්තරා දෑය 'මැනැවැ'යි කියත් යම් එක්තරා දෑයක් 'මැනැවැ'යි අපි කියමු ද, ඒ එක්තරා දෑය 'නො මැනැවැ'යි අන්හු කියත්.

මම් ඔවුන් කරා එළැඹ මෙසේ කියම්. "ඇවැත්නි, අප දහම් යම් තන්හි සම නො වේ ද, ඒ තන්හු සිටිත් වා යම් තන්හි සම වේ නම් ඒ තන්හි ලා නුවණැත්තෝ 'අකුසල් වූත් අකුශලසඞ්ඛ්‍යාත වූත් (අකුසල් යැ යි වෙන් කරන ලද්දෘ වූත්), සාවද්‍ය (සදොස්) වූත් සාවද්‍යසඞ්ඛ්‍යාත වූත් (සදොස් යැ යි වෙන් කරන ලද්දෘ වූත්), අසෙවිතව්‍ය (නො සෙවියැ යුතු) වූත්, අසෙවිතව්‍ය සඞ්ඛ්‍යාත වූත් (නො සෙවිය යුතු යැ යි වෙන් කොට තබන ලද්දෘ වූත්), ආර්‍යභාවයට නොසමත් වූත්, ආර්‍යභාවයට නො සමත් සේ වෙන් කොට තබන ලද්දෘ වූත්, කෘෂ්ණ වූත්, කෘෂ්ණසඞ්ඛ්‍යාත වූත් (කළු යැ යි වෙන් කොට තබන ලද්දෘ වූත්) මේ භවතුන්ගේ යම් ධර්ම කෙනෙක් වෙත් නම්, කවර කෙනෙක් මෙකී දහම් නිරවශෙෂයෙන් බැහැර කොට පවත්නෝ ද ? ශ්‍රමණ ගෞතමයෝ ද නැතහොත් අන් භවද් ගණාචාර්‍යයෝ දූ ?"යි එක් ශාස්තෘවරයකු හා තවත් ශාස්තෘවරයකු ද එක් ශ්‍රාවකගණයක් හා තවත් ශ්‍රාවකගණයක් ද සසඳ ලබ්ධිය විචාරත් වා කරුණු විචාරත් වා. ලබ්ධියත් කරුණුත් දෙක ම විචාරත් වා.

ඨානං ඛො පනෙතං කස්සප විජ්ජති යං විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා එවං වදෙය්‍යුං: "යෙ ඉමෙසං භවතං ධම්මා අකුසලා අකුසලසඞ්ඛාතා සාවජ්ජා සාවජ්ජසඞ්ඛාතා අසෙවිතබ්බා අසෙවිතබ්බසඞ්ඛාතා න අලමරියා න අලමරියසඞ්ඛාතා කණ්හා කණ්හ-සඞ්ඛාතා, සමණො ගොතමො ඉමෙ ධම්මෙ අනවසෙසං පහාය වත්තති, යං වා පන භොන්තො පරෙ ගණාචරියා"ති

ඉතිහ කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා අම්හෙව තත්ථ යෙභුය්‍යෙන පසංසෙය්‍යුං

5 අපරම්පි නො කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තං සමනුගාහන්තං සමනුභාසන්තං සත්ථාරා වා සත්ථාරං සඞ්ඝෙන වා සඞ්ඝං "යෙ ඉමෙසං භවතං ධම්මා කුසලා කුසලසඞ්ඛාතා අනවජ්ජා අනවජ්ජසඞ්ඛාතා සෙවිතබ්බා සෙවිතබ්බසඞ්ඛාතා අලමරියා අලමරියසඞ්ඛාතා සුක්කා සුක්ක-සඞ්ඛාතා, කො ඉමෙ ධම්මෙ අනවසෙසං සමාදාය වත්තති සමණො වා ගොතමො පරෙ වා පන භොන්තො ගණාචරියා?"ති.

ඨානං ඛො පනෙතං කස්සප විජ්ජති යං විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා එවං වදෙය්‍යුං "යෙ ඉමෙසං භවතං ධම්මා කුසලා කුසලසඞ්ඛාතා අනවජ්ජා අනවජ්ජසඞ්ඛාතා සෙවිතබ්බා සෙවිතබ්බසඞ්ඛාතා අලමරියා අලමරියසඞ්ඛාතා සුක්කා සුක්කසඞ්ඛාතා, සමණො ගොතමො ඉමෙ ධම්මෙ අනවසෙසං සමාදාය වත්තති යං වා පන භොන්තො පරෙ ගණාචරියා"ති.

ඉතිහ කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා අම්හෙව තත්ථ යෙභුය්‍යෙන පසංසෙය්‍යුං

6. අපරම්පි නො කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තං සමනුගාහන්තං සමනුභාසන්තං සත්ථාරා වා සත්ථාරං සඞ්ඝෙන වා සඞ්ඝං "යෙ ඉමෙසං භවතං ධම්මා අකුසලා අකුසලසඞ්ඛාතා සාවජ්ජා සාවජ්ජසඞ්ඛාතා අසෙවිතබ්බා අසෙවිතබ්බසඞ්ඛාතා න අලමරියා න අලමරියසඞ්ඛාතා කණ්හා කණ්හසඞ්ඛාතා කො ඉමෙ ධම්මෙ අනවසෙසං පහාය වත්තති ගොතම-සාවකසඞ්ඝො වා පරෙ වා පන භොන්තො ගණාචරියසාවකසඞ්ඝා?"ති.

කාශ්‍යපය, නුවණැත්තෝ ලබ්ධි විචාරන්නාහු, කරුණු විචාරන්නාහු, ලබ්ධිත් කරුණුත දෙක ම විචාරන්නාහු, "මේ භවතුන්ගේ අකුශල වූත් අකුශලසඞ්ඛ්‍යාත වූත්, සාවද්‍ය වූත්, සාවද්‍යසඞ්ඛ්‍යාත වූත්, අසෙවිතව්‍ය වූත්, අසෙවිතව්‍යසඞ්ඛ්‍යාත වූත්, ආර්‍ය්‍යභාවයට නොසමත් වූත්, ආර්‍ය්‍යභාවයට නොසමත් යැ යි වෙන් කොට තබන ලද්දූ වූත්, කෘෂ්ණ වූත්, කෘෂ්ණසඞ්ඛ්‍යාත වූත් යම් දහම් කෙනෙක් වෙත් නම්, ශ්‍රමණගෞතමයෝ මේ හැම දහම් නිරවශෙෂයෙන් බැහැර කොට පවතිත් අන් භවද් ගණාචාර්‍ය්‍යයෝ වනාහි යම් තමක් (අල්පමාත්‍රයක්)ම බැහැර කොට පවතිත්" යැ යි මෙසේ කියන්නාහුය යන මේ කාරණය ඇත්තේ ම ය

කාශ්‍යපය, මෙසේ නුවණැත්තෝ ලබ්ධි විචාරන්නාහු කරුණු විචාරන්නාහු ලබ්ධිත් කරුණුත් විචාරන්නාහු අප ම එහි ලා බෙහෙවින් පසස්නාහ.

5 අනෙකෙක් ද ඇත කාශ්‍යපය, 'මේ භවතුන්ගේ කුශල වූත් කුශලසඞ්ඛ්‍යාත වූත්, අනවද්‍ය වූත් අනවද්‍යසඞ්ඛ්‍යාත වූත්, සෙවිතව්‍ය වූත් සෙවිතව්‍යසඞ්ඛ්‍යාත වූත්, අලමාර්‍ය්‍ය (ආර්‍ය්‍යභාවයට සමත්) වූත් අලමාර්‍ය්‍යසඞ්ඛ්‍යාත වූත්, ශුක්ල වූත් ශුක්ලසඞ්ඛ්‍යාත වූත් යම් ධර්ම කෙනෙක් වෙත් ද, කවරෙක් නම් මේ දහම් නිරවශෙෂයෙන් සමාදන් කොට ගෙන පවත්නෝ ද ? මහණ ගොයුම්හු ද ? නැත හොත් අන් භවත් ගණාචාර්‍ය්‍යයෝ ද ?"යි නුවණැත්තෝ ලබ්ධි විචාරත් වා කරුණු විචාරත් වා ලබ්ධිත් කරුණුත් දෙක ම විචාරත් වා

කාශ්‍යපය, නුවණැත්තෝ ලබ්ධි විචාරන්නාහු, කරුණු විචාරන්නාහු, ලබ්ධිත් කරුණුත් දෙක ම විචාරන්නාහු, "මේ භවතුන්ගේ කුශල වූත් කුශලසඞ්ඛ්‍යාත වූත් අනවද්‍ය වූත් අනවද්‍යසඞ්ඛ්‍යාත වූත් සෙවිතව්‍ය වූත් සෙවිතව්‍යසඞ්ඛ්‍යාත වූත් අලමාර්‍ය්‍ය වූත් අලමාර්‍ය්‍යසඞ්ඛ්‍යාත වූත් ශුක්ල වූත් ශුක්ලසඞ්ඛ්‍යාත වූත් යම් දහම් කෙනෙක් වෙත් නම්, මහණ ගොයුම්හු මේ දහම් නිරවශෙෂයෙන් සමාදන් කොට යෙන පවතිති අන්‍ය භවත් ගණාචාර්‍ය්‍යයෝ වූ කලි යම් තමක් ම හෝ සමාදන් කොට පවතිත් යැ යි මෙසේ කියන්නාහ යන මේ කාරණය ඇත්තේ ම ය

කාශ්‍යපය, මෙසේ නුවණැත්තෝ ලබ්ධි විචාරන්නාහු කරුණු විචාරන්නාහු ලබ්ධිත් කරුණුත් විචාරන්නාහු අප ම එහි ලා බෙහෙවින් පසස්නාහ

6 අනෙකෙක් ද ඇත. කාශ්‍යපය, 'මේ භවතුන්ගේ අකුශල වූත් අකුශලසඞ්ඛ්‍යාත වූත්, සාවද්‍ය වූත් සාවද්‍යසඞ්ඛ්‍යාත වූත්, අසෙවිතව්‍ය වූත් අසෙවිතව්‍යසඞ්ඛ්‍යාත වූත්, ආර්‍ය්‍යභාවයට නොසමත් වූත් ආර්‍ය්‍යභාවයට නොසමත් යැ යි කියන ලද්දූ වූත්, කෘෂ්ණ වූත් කෘෂ්ණසඞ්ඛ්‍යාත වූත් යම් ධර්ම කෙනෙක් වෙත් නම්, කවරෙක් මෙහි ද නිරවශෙෂයෙන් පහ කොට පවතී ද ? ගෞතමශ්‍රාවක සඞ්ඝයා ද නැත හොත් අන් භවත් ගණාචාර්‍ය්‍යශ්‍රාවක සමූහයෝ ද ? යි නුවණැත්තෝ ශාස්තෘවරයා හා ශාස්තෘවරයා හෝ ශ්‍රාවකගණයා හා ශ්‍රාවකගණයා හෝ සසඳා ලබ්ධි විචාරත් වා, කරුණු විචාරත් වා ලබ්ධිත් කරුණුත් විචාරත් වා

ඨානං ඛො පනෙතං කස්සප විජ්ජති යං විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා එවං වදෙය්‍යුං 'යෙ ඉමෙසං භවතං ධම්මා අකුසලා අකුසලසඞ්ඛාතා සාවජ්ජා සාවජ්ජසඞ්ඛාතා අසෙවිතබ්බා අසෙවිතබ්බසඞ්ඛාතා න අලමරියා න අලමරියසඞ්ඛාතා කණ්හා කණ්හසඞ්ඛාතා, ගොතමසාවකසඞ්ඝො ඉමෙ ධම්මෙ අනවසෙසං පහාය වත්තති, යං වා පන භොන්තො පරෙ ගණාචරියසාවකසඞ්ඝා''ති.

ඉතිහ කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා අම්හෙව තත්ථ යෙභුය්‍යෙන පසංසෙය්‍යුං

7. අපරම්පි නො කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තං සමනුගාහන්තං සමනුභාසන්තං සත්ථාරා වා සත්ථාරං සඞ්ඝෙන වා සඞ්ඝං. ''යෙ ඉමෙසං භවතං ධම්මා කුසලා කුසලසඞ්ඛාතා අනවජ්ජා අනවජ්ජසඞ්ඛාතා සෙවිතබ්බා සෙවිතබ්බසඞ්ඛාතා අලමරියා අලමරියසඞ්ඛාතා සුක්කා සුක්කසඞ්ඛාතා, කො ඉමෙ ධම්මෙ අනවසෙසං සමාදාය වත්තති? ගොතමසාවකසඞ්ඝො වා, පරෙ වා පන භොන්තො ගණාචරියසාවකසඞ්ඝා?''ති.

ඨානං ඛො පනෙතං කස්සප විජ්ජති යං විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා එවං වදෙය්‍යුං ''යෙ ඉමෙසං භවතං ධම්මා කුසලා කුසලසඞ්ඛාතා අනවජ්ජා අනවජ්ජසඞ්ඛාතා සෙවිතබ්බා සෙවිතබ්බසඞ්ඛාතා අලමරියා අලමරියසඞ්ඛාතා සුක්කා සුක්කසඞ්ඛාතා, ගොතමසාවකසඞ්ඝො ඉමෙ ධම්මෙ අනවසෙසං සමාදාය වත්තති, යං වා පන භොන්තො පරෙ ගණාචරියසාවකසඞ්ඝා''ති.

ඉතිහ කස්සප විඤ්ඤූ සමනුයුඤ්ජන්තා සමනුගාහන්තා සමනුභාසන්තා අම්හෙව තත්ථ යෙභුය්‍යෙන පසංසෙය්‍යුං

8 අත්ථි කස්සප මග්ගො අත්ථි පටිපදා යථා පටිපන්නො සාමඤ්ඤෙව ඤස්සති සාමං දක්ඛිති ''සමණො'ව ගොතමො කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී''ති

කතමො ච කස්සප මග්ගො කතමා පටිපදා යථා පටිපන්නො සාමඤ්ඤෙව ඤස්සති සාමං දක්ඛිති ''සමණො'ව ගොතමො කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී?''ති.

අයමෙව අරියො අට්ඨඞ්ගිකො මග්ගො සෙය්‍යථීදං සම්මාදිට්ඨි සම්මාසඞ්කප්පො සම්මාවාචා සම්මාකම්මන්තො සම්මාආජීවො සම්මාවායාමො, සම්මාසති සම්මාසමාධි.

අයං ඛො කස්සප මග්ගො අයං පටිපදා, යථාපටිපන්නො සාමඤ්ඤෙව ඤස්සති සාමං දක්ඛිති 'සමණො'ව ගොතමො කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී'ති.

9. එවං වුත්තෙ අචෙලො කස්සපො භගවන්තං එතදවොච:

"ඉමෙ'පි ඛො ආවුසො ගොතම තපොපක්කමා එකෙසං සමණබ්‍රාහ්මණානං සාමඤ්ඤසඞ්ඛාතා ච බ්‍රහ්මඤ්ඤසඞ්ඛාතා ච අචෙලකො හොති මුත්තාචාරො, හත්ථාපලෙඛනො, න එහිභදන්තිකො, න තිට්ඨභදන්තිකො, නාභිහටං, න උද්දිස්සකටං, න නිමන්තනං සාදියති සො න කුම්භිමුඛා පටිග්ගණ්හාති, න කළොපිමුඛා පටිග්ගණ්හාති, න එළකමන්තරං, න දණ්ඩමන්තරං, න මුසලමන්තරං, න ද්වින්නං භුඤ්ජමානානං, න ගබ්භිනියා, න පායමානාය, න පුරිසන්තරගතාය, න සංකිත්තීසු, න යත්ථ සා උපට්ඨිතො හොති, න යත්ථ මක්ඛිකා සණ්ඩසණ්ඩචාරිනී, න මච්ඡං න මංසං. න සුරං න මෙරයං න ථුසොදකං පිවති. සො එකාගාරිකො වා හොති එකාලොපිකො, ද්වාගාරිකො වා හොති ද්වාලොපිකො, සත්තාගාරිකො වා හොති සත්තාලොපිකො, එකිස්සාපි දත්තියා යාපෙති, ද්වීහිපි දත්තීහි යාපෙති, සත්තහිපි දත්තීහි යාපෙති, එකාහිකම්පි ආහාරං ආහාරෙති, ද්වාහිකම්පි ආහාරං ආහාරෙති, සත්තාහිකම්පි ආහාරං ආහාරෙති. ඉති එවරූපං අද්ධමාසිකම්පි පරියායභත්තභොජනානුයොගමනුයුත්තො විහරති.

සම්මාදිට්ඨි සම්මාසඞ්කප්ප සම්මාවාචා සම්මාකම්මන්ත සම්මාආජීව සම්මාවායාම සම්මාසති සම්මාසමාධි යන මේ අරී අටැඟි මඟ ම ය.

කාශ්‍යපය, යම්සේ පිළිපන් තැනැත්තේ "මහණ ගොයුම්හු ම කල් සලකා කියන සුලුහ, ඇත්ත ම කියන සුලුහ, වැඩ ඇසිරැ ම කියන සුලුහ, විනය ඇසිරැ ම කියන සුලුහ"යි තෙමේ ම දන්නේ නම් තෙමේ ම දක්නේ නම් මේ ඒ මඟ ය, මේ ඒ පිළිවෙත ය"

9 මෙසේ වදාළ කල්හි අචේලකාශ්‍යප තෙම භාග්‍යවතුන් වහන්සේට මෙය කී ය.

"ඇවැත් ගොයුමාණනි, ඇතැම් මහණ බමුණන්ගේ මහණකමැ යි කියන ලද, බමුණුකමැ යි කියන ලද මේ තවකම් (තවුස්දම්) කෙනෙක් ඇත්හ. අචේලක (බහාලූ පිළි ඇතියේ) වෙයි. මුක්තාචාර (හරනා ලද ආචාර ඇතියේ) වෙයි හස්තාවලේඛනක (බොජුන් කිස නිමි කලැ අත ලොව්නේ) වෙයි න එහිභද්දන්තික (වඩින්නැ වහන්සැ යි කැඳවන ලදුයේ නො එන්නේ) වෙයි න තිට්ඨභද්දන්තික (වැඩ සිටින්නැ යි කියන ලදුයේ නො සිටුනේ) වෙයි අභිහට භොජනය (තමා එන්නට පළමු ගෙනා බොජුන්) නො ඉවසයි උද්දිස්සකට භොජනය (තමා උදෙසා පිළියෙල කළ බොජුන්) නො ඉවසයි. නිමන්ත්‍රණය (බොජුන් සඳහා අසෝ තැනට වඩින්නැ යි කළ නිමැතුම) නො ඉවසයි කුම්භිමුඛයෙන් (කුඹුමුවින් - පිසූ බත් ලූ බඳුනින්) නඟා දුන් අහර නො පිළිගනී කළොපිමුඛයෙන් (ඉකිළි පැස්මුවින්)[1] නඟා දුන් අහර නො පිළිගනී එළිපත අතරැ කොට දුන් අහර නො පිළිගනී දංඩක් අතරැ කොටැ දුන් අහර නො පිළිගනී. මොහොලක් අතරැ කොට දුන් අහර නො පිළිගනී. වළඳන දෙදෙන-කුන්ගෙන් එකකු නැඟී සිටැ දුන් අහර නො පිළිගනී ගැබිනියක දුන් අහර, (දරුවාට) කිරි පොවන්නියක දුන් අහර, සැමියා අතරට ගිය ස්ත්‍රියක දුන් අහර නො පිළිගනී දුබික්සෙමෙහි (සමාදන් කොට පිළියෙල කළ බොජුන් අතුරෙන් ගෙන) දුන් අහර නො පිළිගනී යම් තැනෙක බල්ලෙක් එළැඹ සිටියේ නම් උහට නොදී ගෙනවුත් දුන් අහර, යම් තැනෙක මැස්සෝ රැස් රැස් වැ හැසිරෙන්නාහු නම් එ තැනින් දුන් අහර නො පිළිගනී දියමස් ගොඩමස් නො පිළිගනී රහමෙර නො බොයි සෞවීරකය (සියලු ශශ්‍යසම්භාරයෙන් කළ කාඩිය) නො බොයි. හෝ එකාගාරික (එක් ගෙයෙකින් ම අහර ලැබ නවත්නේ) හෝ එකාලොපික (එක් බත් පිඬෙකින් ම යැපෙන්නේ) වෙයි ද්වාගාරික (දෙගෙයෙකින් අහර ලැබ නවත්නේ) හෝ ද්වාලොපික (දෙබත් පිඬු-යෙකින් ම යැපෙන්නේ) වෙයි සත්තාගාරික (සත් ගෙයෙකින් අහර ලැබ නවත්නේ) හෝ සත්තාලොපික (සත් අහරපිඬෙකින් ම යැපෙන්නේ) වෙයි එක් දත්තියෙක (කුඩා තලියෙක) බතින් ද යැපෙයි, දත්ති දෙකෙක බතින් ද යැපෙයි දත්ති සතෙක බතින් ද යැපෙයි දවසක් හැර දවසක් ද අහර ගනී දෙදවසක් හැර දවසක් ද අහර ගනී. සත් දවසක් හැර දවසක් ද අහර ගනී. මෙසේ මෙබඳු වූ අඩමසක් හැර දවසක් ද වාර බත් වැළැඳිමේ වුතයේ යෙදුණේ වෙසෙයි

1 ඉකිළි (උක්ඛලි) නම් බත් පිසනා වළඳ යි පැස නම් බත් ලන පස යි

13 සාකභක්ඛො චෙ'පි කස්සප හොති සාමාකභක්ඛො, චෙ'පි කස්සප හොති -පෙ- වනමූලඵලාහාරො යාපෙති පවත්තඵලභොජී තස්ස චායං සීලසම්පදා චිත්තසම්පදා පඤ්ඤාසම්පදා අභාවිතා හොති අසච්ඡිකතා අථ ඛො සො ආරකා'ව සාමඤ්ඤා ආරකා'ව බ්‍රහ්මඤ්ඤා

යතො ඛො කස්සප භික්ඛු අවෙරං අබ්‍යාපජ්ජං මෙත්තචිත්තං භාවෙති, ආසවානඤ්ච ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙ'ව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරති, අයං වුච්චති කස්සප භික්ඛු සමණො ඉති'පි බ්‍රාහ්මණො ඉති'පි.

14 සාණානි චෙ'පි කස්සප ධාරෙති මසාණානි'පි ධාරෙති -පෙ- සායතතියකම්පි උදකොරොහණානුයොගමනුයුත්තො විහරති, තස්ස චායං සීලසම්පදා චිත්තසම්පදා පඤ්ඤාසම්පදා අභාවිතා හොති අසච්ඡිකතා, අථ ඛො සො ආරකා'ව සාමඤ්ඤා ආරකා'ව බ්‍රහ්මඤ්ඤා

යතො ඛො කස්සප භික්ඛු අවෙරං අබ්‍යාපජ්ජං මෙත්තචිත්තං භාවෙති ආසවානඤ්ච ඛයා අනාසවං චෙතොවිමුත්තිං පඤ්ඤාවිමුත්තිං දිට්ඨෙ'ව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරති අයං වුච්චති කස්සප භික්ඛු සමණො ඉතිපි බ්‍රාහ්මණො ඉතිපීති

15 එවං වුත්තෙ අචෙලො කස්සපො භගවන්තං එතදවොච. දුක්කරං භො ගොතම සාමඤ්ඤං දුක්කරං බ්‍රහ්මඤ්ඤන්ති.

"පකති ඛො එසා කස්සප ලොකස්මිං දුක්කරං සාමඤ්ඤං දුක්කරං බ්‍රහ්මඤ්ඤන්ති"

අචෙලකො චෙ'පි කස්සප හොති මුත්තාචාරො -පෙ- ඉති එවරූපං අඩ්ඪමාසිකම්පි පරියායභත්තභොජනානුයොගමනුයුත්තො විහරති, ඉමාය ච කස්සප මත්තාය ඉමිනා ච තපොපක්කමෙන සාමඤ්ඤං වා අභවිස්ස බ්‍රහ්මඤ්ඤං වා දුක්කරං සුදුක්කරං, නෙතං අභවිස්ස කල්ලං වචනාය දුක්කරං සාමඤ්ඤං දුක්කරං බ්‍රහ්මඤ්ඤ"න්ති

16 සක්කා ච පනෙතං අභවිස්ස කාතුං ගහපතිනා වා ගහපතිපුත්තෙන වා අන්තමසො කුම්භදාසියා'පි "හන්දාහං අචෙලකො හොමි මුත්තාචාරො -පෙ- ඉති එවරූපං අඩ්ඪමාසිකම්පි පරියායභත්තභොජනානුයොගමනුයුත්තො විහරාමී"ති යස්මා ච ඛො කස්සප අඤ්ඤත්‍රෙ'ව ඉමාය මත්තාය අඤ්ඤත්‍ර ඉමිනා තපොපක්කමෙන සාමඤ්ඤං වා හොති බ්‍රහ්මඤ්ඤං වා දුක්කරං සුදුක්කරං, තස්මා එතං කල්ලං වචනාය දුක්කරං සාමඤ්ඤං දුක්කරං බ්‍රහ්මඤ්ඤන්ති

13. කාශ්‍යපය, තවුස් තෙමේ ඉදින් අමුපලා බුදිනුයේ වේ ද, බොඩහමු බුදිනුයේ වේ ද, තමන් ම වැටුණු ඵල බුදින සුලු වූයේ වන මුල් පල අහර කොටැත්තේ යැපේ ද, ඔහු විසින් මේ ශීලසම්පත්තියත් චිත්තසම්පත්තියත් ප්‍රඥසම්පත්තියත් නො වඩන ලදුයේ පසක් නො කරන ලදුයේ වේ නම්, එසේ කලැ හේ මහණකමින් දුරෙහි ම බමුණුකමින් දුරෙහි ම සිටියේ වෙයි

කාශ්‍යපය, යම් හෙයෙකින් ම භික්ෂු තෙම ද්වේෂරහිත ව්‍යාපාදරහිත මෙත්සිත වඩා ද, ආස්‍රවයන්ගේ ද ක්ෂයයෙන් අනාස්‍රව වූ ඵලසමාධියත් ඵලඥනයත් තෙමේ ම මෙ අත්බව්හි ම වෙසෙසි නුවණින් දැන, පසක් කොට ලැබ වෙසේ ද, කාශ්‍යපය, මේ භික්ෂු තෙම මහණ නමුදු බමුණු නමුදු වේ යැ යි කියනු ලැබේ

14 කාශ්‍යපය, තවුස් තෙමේ ඉදින් හණවැහැරියත් දරා ද හණහුල් අන් හූ හා මුසු කොට වියූ වස්ත්‍රත් දරා ද සවස තෙවැනි කොට දියට බැසීමෙහි යෙදුණේ වෙසේ ද, ඔහු විසින් මේ ශීලසම්පත්තියත් චිත්තසම්පත්තියත් ප්‍රඥසම්පත්තියත් නො වඩනා ලදුයේ පසක් නො කරන ලදුයේ වේ නම්, එසේ කලැ හේ මහණකමින් දුරෙහි ම බමුණුකමින් දුරෙහි ම සිටියේ වෙයි

කාශ්‍යපය, යම් හෙයෙකින් ම භික්ෂු තෙම ද්වේෂ රහිත ව්‍යාපාද රහිත මෙත් සිත වඩා ද, ආස්‍රවයන්ගේ ද ක්ෂයයෙන් අනාස්‍රව වූ ඵල-සමාධියත් ඵලඥනයත් තෙමේ ම මෙ අත්බව්හි ම වෙසෙසි නුවණින් දැන පසක් කොට ලැබ වෙසේ ද, කාශ්‍යපය, මේ භික්ෂු තෙම මහණ නමුදු බමුණු නමුදු වේ යැ යි කියනු ලැබේ".

15 භාග්‍යවතුන් වහන්සේ .මෙසේ වදාල කල්හි, කාශ්‍යප තෙම "භවද් ගෞතමයිනි, මහණකම දුෂ්කර ය. බමුණුකම දුෂ්කර යැ"යි භාග්‍යවතුන් වහන්සේට කී ය

"කාශ්‍යපය, 'මහණකම දුෂ්කර ය, බමුණුකම දුෂ්කර යැ' යන මෙය ලොවැ ප්‍රකෘති කථාව ය "

16 කාශ්‍යපය, තවුස් තෙම අචේලකත් වේ ද, මුක්තාචාරත් වේ ද මෙසේ අඩමසකට වරක් (අඩමසක් හැර දවසක්) මෙබඳු වාර බත් වැලැඳීමේ යෙදුණේ වෙසේ ද, කාශ්‍යපය, මෙ පමණින් ම මේ (සුළු තවකම්න් ම) මහණකම හෝ බමුණුකම දුෂ්කරත් ඉතා දුෂ්කරත් වන්නේ නම්, 'මහණකම දුෂ්කර යැ යි, බමුණුකම දුෂ්කර යැ' යන්න කීමට යොග්‍ය නො වන්නේ ය

කාශ්‍යපය, ගැහැවියන්හු විසින් හෝ ගැහැවිපුතක්හු විසින් හෝ යටත් පිරිසෙයින් කලදැස්සක විසින් නුමුදු "මම් දැන් අචේලක වෙමි, මුක්තාචාර වෙමි මෙසේ අඩමසක් හැර දවසක් දැ යි මෙබඳු වාර බත් වැලැඳීමේ යෙදුණෙම් වෙසෙමි"යි මේ තවකම් කරන්නට හැක්කේ වන්නේය කාශ්‍යපය, යම් හෙයෙකින් මෙ පමණින් (මේ මද පිළිවෙතින්) වෙන් ව ම, මේ තවකමින් වෙන් ව ම මහණකම හෝ බමුණුකම දුෂ්කරත් සුදුෂ්කරත් වේ නම්, එහෙයින් 'මහණකම දුෂ්කර ය, බමුණුකම දුෂ්කර යැ' යි මෙය කියන්නට යොග්‍ය ය

යතො ඛො කසසප භිකඛු අවෙරං අබ්‍යාපජ්ජං මෙතතචිතතං භාවෙති, ආසවානඤච ඛයා අනාසවං චෙතොවිමුතතිං පඤඤාවිමුතතිං දිටෙඨව ධමෙම සයං අභිඤඤා සචඡිකතවා උපසමපජ්ජ විහරති, අයං වුචචති කසසප භිකඛු සමණො ඉති'පි බ්‍රාහමණො ඉති'පි.

17 සාකභකෙඛා චෙ'පි කසසප හොති -පෙ- වනමූලඵලාහාරො යාපෙති පවතතඵලභොජී. ඉමාය ච කසසප මතතාය ඉමිනා තපො-පකකමෙන සාමඤඤං වා අභවිසස බ්‍රහමඤඤං වා දුකකරං සුදුකකරං, නෙතං අභවිසස කලලං වචනාය 'දුකකරං සාමඤඤං දුකකරං බ්‍රහමඤඤනති'

සකකා ච පනෙතං අභවිසස කාතුං ගහපතිනා වා ගහපතිපුතෙතන වා අනතමසො කුමභදාසියාපි 'හනදාහං සාකභකෙඛා වා හොමි, -පෙ- වනමූලඵලාහාරො යාපෙමි පවතතඵලභොජී'ති. යසමා ච ඛො කසසප අඤඤතෙ‍්‍රව ඉමාය මතතාය අඤඤත්‍ර ඉමිනා තපොපකකමෙන සාමඤඤං වා හොති බ්‍රහමඤඤං වා දුකකරං සුදුකකරං, තසමා එතං කලලං වචනාය 'දුකකරං සාමඤඤං දුකකරං බ්‍රහමඤඤනති'.

යතො ඛො කසසප භිකඛු අවෙරං අබ්‍යාපජ්ජං මෙතතචිතතං භාවෙති, ආසවානඤච ඛයා අනාසවං චෙතොවිමුතතිං පඤඤාවිමුතතිං දිටෙඨව ධමෙම සයං අභිඤඤා සචඡිකතවා උපසමපජ්ජ විහරති, අයං වුචචති කසසප භිකඛු සමණො ඉති'පි බ්‍රාහමණො ඉති'පි

18 සාණානි චෙ'පි කසසප ධාරෙති මසාණානි'පි ධාරෙති -පෙ- සායතතියකමපි උදකොරොහණානුයොගමනුයුතෙතා විහරති ඉමාය ච කසසප මතතාය ඉමිනා තපොපකකමෙන සාමඤඤං වා අභවිසස බ්‍රහමඤඤං වා දුකකරං සුදුකකරං, නෙතං අභවිසස කලලං වචනාය 'දුකකරං සාමඤඤං දුකකරං බ්‍රහමඤඤනති'

සකකා ච පනෙතං අභවිසස කාතුං ගහපතිනා වා ගහපතිපුතෙතන වා අනතමසො කුමභදාසියාපි 'හනදාහං සාණානිපි ධාරෙමි, මසාණානිපි ධාරෙමි, -පෙ- සායතතියකමපි උදකොරොහණානුයොගමනුයුතෙතා විහරාමී'ති යසමා ච ඛො කසසප අඤඤතෙ‍්‍රව ඉමාය මතතාය අඤඤත්‍ර ඉමිනා තපොපකකමෙන සාමඤඤං වා හොති බ්‍රහමඤඤං වා දුකකරං සුදුකකරං, තසමා එතං කලලං වචනාය 'දුකකරං සාමඤඤං දුකකරං බ්‍රහමඤඤනති'.

යතො ඛො කසසප භිකඛු අවෙරං අබ්‍යාපජ්ජං මෙතතචිතතං භාවෙති, ආසවානඤච ඛයා අනාසවං චෙතොවිමුතතිං පඤඤාවිමුතතිං දිටෙඨව ධමෙම සයං අභිඤඤා සචඡිකතවා උපසමපජ්ජ විහරති, අයං වුචචති කසසප භිකඛු සමණො ඉති'පි බ්‍රාහමණො ඉති'පීති

"පුනචපරං පොට්ඨපාද භික්ඛු විතක්කවිචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං චෙතසො එකොදිභාවං අවිතක්කං අවිචාරං සමාධිජං පීතිසුඛං දුතියං ඣානං[1] උපසම්පජ්ජ විහරති. තස්ස යා පුරිමා විවෙකජ-පීතිසුඛසුඛුමසච්චසඤ්ඤා[2] සා නිරුජ්ඣති සමාධිජපීතිසුඛසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති සමාධිජපීතිසුඛසුඛුමසච්චසඤ්ඤී යෙව තස්මිං සමයෙ හොති. එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති. අයම්පි සික්ඛා"ති භගවා අවොච.

"පුනචපරං පොට්ඨපාද භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො ච සම්පජානො සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති. යන්තං අරියා ආචික්ඛන්ති 'උපෙක්ඛකො සතිමා සුඛවිහාරී'ති තතියං-ඣානං[3] උපසම්පජ්ජ විහරති තස්ස යා පුරිමා සමාධිජපීතිසුඛසුඛුමසච්ච-සඤ්ඤා සා නිරුජ්ඣති උපෙක්ඛාසුඛසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති. උපෙක්ඛාසුඛසුඛුමසච්චසඤ්ඤී යෙව තස්මිං සමයෙ හොති. එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති. අයම්පි සික්ඛා"ති භගවා අවොච

"පුනචපරං පොට්ඨපාද භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා, පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා[4] අදුක්ඛමසුඛං උපෙක්ඛා-සතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං[5] උපසම්පජ්ජ විහරති තස්ස යා පුරිමා උපෙක්ඛාසුඛසුඛුමසච්චසඤ්ඤා, සා නිරුජ්ඣති. අදුක්ඛමසුඛසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති අදුක්ඛමසුඛසුඛුමසඤ්ඤී යෙව තස්මිං සමයෙ හොති එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති අයම්පි සික්ඛා"ති භගවා අවොච.

"පුනචපරං පොට්ඨපාද භික්ඛු සබ්බසො රූපසඤ්ඤානං සමතික්කමා පටිඝසඤ්ඤානං අත්ථඞ්ගමා නානත්තසඤ්ඤානං අමනසිකාරා 'අනන්තො ආකාසො'ති ආකාසානඤ්චායතනං උපසම්පජ්ජ විහරති තස්ස යා පුරිමා රූපසඤ්ඤා සා නිරුජ්ඣති ආකාසානඤ්චායතනසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති ආකාසානඤ්චායතනසුඛුමසච්චසඤ්ඤී යෙව තස්මිං සමයෙ හොති. එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති අයම්පි සික්ඛා"ති භගවා අවොච

1 දුතියජ්ඣානං, PTS
2 විවෙකජං පීතිසුඛං සුඛුමසඤ්ඤා, PTS
3. තතියජ්ඣානං, කෙසුචි පොත්ථකෙසු
4 අත්ථඞ්ගමා කෙසුචි
5 චතුත්ථජ්ඣානං, කෙසුචි

"තව ද අනෙකක් කියමි පොට්ඨපාදය, මහණ තෙමේ විතර්කවිචාර-යන්ගේ සංසිඳීමෙන් තමා තුල සිත පහන්බව කරන, සිත එකනබව ඇති, විතර්ක නැති, විචාර නැති, සමාධියෙන් උපන් ප්‍රීතිසුඛ ඇති, දෙවෙනි ධ්‍යානය ලැබ වෙසෙයි. ඔහුගේ විවේකයෙන් උපන් ප්‍රීතිසුඛ සඞ්ඛ්‍යාත සත්‍ය වූ යම් පළමු සංඥවෙක් වී ද, එය නිරුද්ධ වෙයි එ සමයෙහි සමාධියෙන් උපන් ප්‍රීතිසුඛසංඛ්‍යාත සියුම් වූ සත්‍ය සංඥව වෙයි හෙ තෙම එ කල්හි සමාධියෙන් උපන් ප්‍රීතිසුඛසංඛ්‍යාත සියුම් සත්‍ය සංඥ ඇත්තේ ම වෙයි මෙසේ ශික්ෂායෙන් (ද්විතියධ්‍යානයෙන්) එක් සංඥාවෙක් උපදී එක් සංඥවෙක් (හෙවත් ප්‍රථමධ්‍යාන සංඥව) නිරුද්ධ වෙයි මේ ද ශික්ෂාවෙකැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාල සේක

"තව ද පොට්ඨපාදය, මහණ තෙම ප්‍රීතිය ද දුරු ලීමෙන් උපෙක්ෂක ද වූයේ, සිහි ඇත්තේ, නුවණ ඇත්තේ වෙසෙසි සුවය ද නාමිකයින් විඳී 'උපෙක්ෂා ඇති සිහි ඇති සුව විසුම් ඇත්තේ' යැ යි (යමක් කාරණ කොට ගෙන) ආර්‍යයෝ යම් පුගුලක්හු පවසත් ද, ඒ තුන්වන ධ්‍යානයට පැමිණ වෙසෙසි. ඔහුට සමාධියෙන් උපන් ප්‍රීතිසුඛ ඇති සියුම් වූ යම් පළමු සත්‍යසංඥවෙක් වී නම්, එය නිරුද්ධ වෙයි ධ්‍යානොපෙක්ෂා සුඛය ඇති (ඖදාරිකාඞ්ග ප්‍රහීණ වූ බැවින්) සියුම් වූ සත්‍ය සංඥව එ සමයෙහි වෙයි. එ කල්හි හේ උපෙක්ෂාසුඛය ඇති සියුම් වූ සත්‍යසංඥ ඇත්තෙක් ම වෙයි මෙසේත් ශික්ෂායෙන් එක් සංඥවෙක් උපදී ශික්ෂායෙන් එක් සංඥවෙක් නිරුද්ධ වෙයි මේ ද ශික්ෂාවෙකැ'යි භාග්‍යවතුන් වහන්සේ වදාල සේක.

"තව ද පොට්ඨපාදය, මහණ තෙම කායික සුඛයාගේ ද ප්‍රහාණයෙන්, කායික දුඃඛයාගේ ද ප්‍රහාණයෙන්, පෙර ම (පළමු දෙවෙනි තෙවෙනි ධ්‍යානයන්ගේ උපචාර අවස්ථායෙහි ම) සොම්නස් දොම්නස් දෙදෙනාගේ දුරු වීමෙන්, දුක් නොවූ, සුව ද නොවූ, උපෙක්ෂායෙන් උපන් සිහියේ පිරිසිදු බව ඇති සතරවන ධ්‍යානයට පැමිණ වෙසේ ඔහුට උපෙක්ෂා-සුඛය ඇති සියුම් වූ යම් පළමු සංඥවෙක් වී ද, එය නිරුද්ධ වෙයි. දුක් ද නො වූ සුව ද නොවූ සියුම් වූ සත්‍යසංඥව එ කල්හි වෙයි එසමයෙහි හේ අදුඃඛ අසුඛ සූක්ෂ්මසත්‍යසංඥී ම වෙයි මෙසේ ද ශික්ෂායෙන් එක් සංඥවෙක් උපදී ශික්ෂායෙන් එක් සංඥවෙක් නිරුද්ධ වෙයි මේ ද ශික්ෂාවෙකැ'යි භාග්‍යවතුන් වහන්සේ වදාල සේක

"තව ද පොට්ඨපාදය, මහණ තෙම සැම ලෙසින් රූපසංඥ ඉක්මීමෙන්, ප්‍රතිඝසංඥ දුරු වීමෙන්, නානාත්වසංඥ නොමෙනෙහි කිරීමෙන්, අනන්ත ආකාශ යැ යි (භාවිතයෙන් වඩා) ආකාසානඤ්චායතන-ධ්‍යානය ලැබ වෙසෙසි. ඔහුගේ යම් පළමු රූපසංඥවෙක් වී නම්, එය නිරුද්ධ වෙයි ආකාසානඤ්චායතනධ්‍යාන සඞ්ඛ්‍යාත සියුම් සත්‍ය සංඥව එ සමයෙහි ඔහුට වෙයි එකල්හි හේ ආකාසානඤ්චායතන ධ්‍යානසඞ්ඛ්‍යාත සියුම් සංඥ ඇත්තෙක් ම වෙයි මෙසේත් ශික්ෂායෙන් එක් සංඥවෙක් උපදී ශික්ෂායෙන් එක් සංඥවෙක් නිරුද්ධ වෙයි මේ ද ශික්ෂාවෙකැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාල සේක

"පුන ච පරං පොට්ඨපාද භික්ඛු සබ්බසො ආකාසානඤ්චායතනං සමතික්කම්ම, 'අනන්තං විඤ්ඤාණ'න්ති විඤ්ඤාණඤ්චායතනං උපසම්පජ්ජ විහරති. තස්ස යා පුරිමා ආකාසානඤ්චායතනසුඛුමසච්චසඤ්ඤා සා නිරුජ්ඣති විඤ්ඤාණඤ්චායතනසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති විඤ්ඤාණඤ්චායතනසුඛුමසච්චසඤ්ඤීයෙව තස්මිං සමයෙ හොති එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති[1] සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති. අයම්පි සික්ඛා"ති භගවා අවොච.

"පුන ච පරං පොට්ඨපාද භික්ඛු සබ්බසො විඤ්ඤාණඤ්චායතනං සමතික්කම්ම 'නත්ථි කිඤ්චී'ති ආකිඤ්චඤ්ඤායතනං උපසම්පජ්ජ විහරති. තස්ස යා පුරිමා විඤ්ඤාණඤ්චායතනසුඛුමසච්චසඤ්ඤා සා නිරුජ්ඣති. ආකිඤ්චඤ්ඤායතනසුඛුමසච්චසඤ්ඤා තස්මිං සමයෙ හොති ආකිඤ්චඤ්ඤායතනසුඛුමසච්චසඤ්ඤීයෙව තස්මිං සමයෙ හොති එවම්පි සික්ඛා එකා සඤ්ඤා උප්පජ්ජති සික්ඛා එකා සඤ්ඤා නිරුජ්ඣති අයම්පි සික්ඛා"ති භගවා අවොච.

"යතො ඛො පොට්ඨපාද භික්ඛු ඉධ සකසඤ්ඤී හොති, සො තතො අමුත්‍ර තතො අමුත්‍ර අනුපුබ්බෙන සඤ්ඤග්ගං ඵුසති තස්ස සඤ්ඤග්ගෙ ඨිතස්ස එවං හොති. 'චෙතයමානස්ස මෙ පාපියො[2] අචෙතයමානස්ස මෙ සෙය්‍යො අහඤ්චෙව ඛො පන චෙතෙය්‍යං අභිසඞ්ඛරෙය්‍යං, ඉමා ච මෙ සඤ්ඤා නිරුජ්ඣෙය්‍යුං, අඤ්ඤා ච ඔළාරිකා සඤ්ඤා උප්පජ්ජෙය්‍යුං. යන්නූනාහං 'න චෙව[3] චෙතෙය්‍යං න චාභිසඞ්ඛරෙය්‍ය'න්ති සො න චෙව චෙතෙති න චාභිසඞ්ඛරොති තස්ස අචෙතයතො අනභිසඞ්ඛරොතො තා චෙව සඤ්ඤා නිරුජ්ඣන්ති, අඤ්ඤා ච ඔළාරිකා සඤ්ඤා න උප්පජ්ජන්ති සො නිරොධං ඵුසති. එවං ඛො පොට්ඨපාද අනුපුබ්බාභිසඤ්ඤානිරොධසම්පජානසමාපත්ති හොති

තං කිම්මඤ්ඤසි පොට්ඨපාද? අපි නු[4] තෙ ඉතො පුබ්බෙ එවරූපා අනුපුබ්බාභිසඤ්ඤානිරොධසම්පජානසමාපත්ති සුතපුබ්බා?"ති

1 උප්පජ්ජති සෙසුපි    2 පාපියං, සෙසෙසුපි පොත්ථකෙසු
3 න ච, ස්‍යා    4 නු ඛො, ස්‍යා

"තව ද පොට්ඨපාදය, මහණ තෙම හැම අයුරින් ම ආකාසානඤ්චායතනය ඉක්මැ, 'විඤ්ඤාණය අනන්ත යැ'යි (කමටහන් වඩා) විඤ්ඤාණඤ්චායතන ධ්‍යානය ලැබ වෙසෙසි ඔහුගේ යම් පළමු ආකාසානඤ්චායතන ධ්‍යානයෙන් යුක්ත සියුම් වූ සත්‍ය සංඥාවෙක් වී ද, එය නිරුද්ධ වෙයි විඤ්ඤාණඤ්චායතන ධ්‍යානයෙන් යුක්ත සියුම් වූ සත්‍යසංඥාව එ සමයෙහි වෙයි එ කල්හි හේ විඤ්ඤාණඤ්චායතන ධ්‍යාන යුක්ත සියුම් සංඥා ඇත්තෙක් ම වෙයි මෙසේ ද ශික්ෂායෙන් එක් සංඥාවෙක් උපදී ශික්ෂායෙන් එක් සංඥාවෙක් නිරුද්ධ වෙයි. මේ ද ශික්ෂාවෙකැ'යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"තව ද පොට්ඨපාදය, මහණ තෙම හැම අයුරින් විඤ්ඤාණඤ්චායතනය ඉක්මැ, 'කිසිත් නැතැ'යි (කමටහන් වඩා) ආකිඤ්චඤ්ඤායතන ධ්‍යානයට පැමිණ වෙසෙසි පළමු යම් විඤ්ඤාණඤ්චායතන සූක්ෂ්ම සත්‍යසංඥාවෙක් වී ද, එය නිරුද්ධ වෙයි එ කල්හි ඔහුට ආකිඤ්චඤ්ඤායතන යුක්ත සූක්ෂ්ම සත්‍ය සංඥාව වෙයි හේ එ කලැ ආකිඤ්චඤ්ඤායතන සූක්ෂ්ම සත්‍යසංඥී ම වෙයි මෙසේ ද ශික්ෂායෙන් එක් සංඥාවෙක් උපදී ශික්ෂායෙන් එක් සංඥාවෙක් නිරුද්ධ වෙයි මේ ද ශික්ෂාවෙකැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

"පොට්ඨපාදය, යම් මහණෙක් මෙහි ස්වකසංඥාව ඇත්තේ (තමාගේ ප්‍රථමධ්‍යාන සංඥායෙන් සංඥාවත්) වේ ද, හේ එයින් ඔබ්බෙහි දෙවෙනි ධ්‍යානයට ද, එයිනුත් ඔබ්බෙහි තෙවෙනි ධ්‍යානයට දැයි මෙසේ පිළිවෙළින් (ගොස්) කෙළවර සංඥාග්‍රය (ආකිඤ්චඤ්ඤායතන සමාපත්තිය) ස්පර්ශ කෙරෙයි (ලබයි) සංඥාග්‍රයෙහි සිටි ඔහුට "සිතන (දහන් සමවදනා) මාගේ ඒ ක්‍රියාව ලාමක ය නොසිතන (දහන් නොසමවදනා) මාගේ ඒ නොසමවැදීම උතුම්. මම් වූ කලි සිතන්නෙම් නම් (පුන පුනා දහන් සමවදනෙම් නම්), මතු සමවත් පිණිස අභිසංස්කාර කරන්නෙම් නම් (කමටහන් වඩන්නෙම් නම්), මාගේ මේ සංඥාවෝත් නිරුද්ධ වන්නාහු ය අන් ඖදාරික (භවාඞ්ග) සංඥාවෝත් උපදනාහු ය. එබැවින් 'මම් නො සිතන්නෙම් වීම් නම්, අභිසංස්කාර නො කරන්නෙම් වීම් නම් යෙහෙකැ'යි මෙසේ සිතෙක් වෙයි හේ නො ද සිතයි (දහන් නො සමවදී) අභිසංස්කාර නො කෙරෙයි (මතු සමවත් පිණිස කමටහන් නො වඩයි) නො සිතන, අභිසංස්කාර නො කරන ඔහුගේ ඒ සංඥාවෝ ද නිරුද්ධ වෙත් අන් ඖදාරික සංඥාවෝ ද නො උපදිත්. (එසේ වූ හේ නිරෝධය ස්පර්ශ කෙරෙයි (සංඥාවේදයිත නිරෝධය ලබයි) පොට්ඨපාදය, මෙසේ වනාහි අනුපුබ්බාභිසඤ්ඤානිරෝධසම්පජාන සමාපත්තිය (දන්නාහුගේ පිළිවෙළින් සංඥානිරෝධයට සමවැදීම) වෙයි

පොට්ඨපාදය, එය කිමැ යි සිතහි ද? තා විසින් පෙර මෙබඳු වූ පිළිවෙළින් සංඥානිරෝධයට සමවැදීම ඇසූ විරූ දැ?'යි (භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක)

“නො හෙතම්භන්තෙ එවං ඛො අහං භන්තෙ භගවතො භාසිතං ආජානාමි[1]. යතො ඛො පොට්ඨපාද භික්ඛු ඉධ සකසඤ්ඤී හොති, සො තතො අමුත්‍ර තතො අමුත්‍ර අනුපුබ්බෙන සඤ්ඤග්ගං ඵුසති. තස්ස සඤ්ඤග්ගෙ ඨිතස්ස එවං හොති. ‘චෙතයමානස්ස මෙ පාපියො, අචෙතයමානස්ස මෙ සෙය්‍යො අහඤ්චෙව ඛො පන චෙතෙය්‍යං අභිසඞ්ඛරෙය්‍යං, ඉමා ච මෙ සඤ්ඤා නිරුජ්ඣෙය්‍යුං, අඤ්ඤා ච ඔළාරිකා සඤ්ඤා උප්පජ්ජෙය්‍යුං යන්නූනාහං න චෙව චෙතෙය්‍යං න ච අභිසඞ්ඛරෙය්‍ය’න්ති. සො න චෙව චෙතෙති න ච අභිසඞ්ඛරොති තස්ස අචෙතයතො අනභිසඞ්ඛරොතො[2] තා චෙව සඤ්ඤා නිරුජ්ඣන්ති අඤ්ඤා ච ඔළාරිකා සඤ්ඤා න උප්පජ්ජන්ති සො නිරොධං ඵුසති. එවං ඛො පොට්ඨපාද අනුපුබ්බාභිසඤ්ඤානිරොධසම්පජානසමාපත්ති හොතී”ති.

“එවං ඛො පොට්ඨපාදා”ති.

“එකඤ්ඤෙව[3] නු ඛො භන්තෙ භගවා සඤ්ඤග්ගං පඤ්ඤපෙති උදාහු පුථූ’පි සඤ්ඤග්ගෙ පඤ්ඤපෙතී?”ති

“එකම්පි ඛො අහං පොට්ඨපාද[4] සඤ්ඤග්ගං පඤ්ඤපෙමි. පුථූ’පි සඤ්ඤග්ගෙ පඤ්ඤපෙමී”ති

“යථාකථං පන භන්තෙ භගවා එකම්පි සඤ්ඤග්ගං පඤ්ඤපෙති? පුථූපි සඤ්ඤග්ගෙ පඤ්ඤපෙති?”ති

“යථා යථා ඛො පොට්ඨපාද නිරොධං ඵුසති, තථා තථා’හං[5] සඤ්ඤග්ගං පඤ්ඤපෙමි. එවං ඛො අහං පොට්ඨපාද එකම්පි සඤ්ඤග්ගං පඤ්ඤපෙමි, පුථූ’පි සඤ්ඤග්ගෙ පඤ්ඤපෙමී”ති.

“සඤ්ඤා නු ඛො භන්තෙ පඨමං උප්පජ්ජති, පච්ඡා ඤාණං? උදාහු ඤාණං පඨමං උප්පජ්ජති, පච්ඡා සඤ්ඤා? උදාහු සඤ්ඤා ච ඤාණඤ්ච අපුබ්බං අචරිමං උප්පජ්ජන්ති?”ති

1. භගවතා ධම්මං දෙසිතං අනුජානාමීති, සයා 2 නාභිසඞ්ඛරොතො, මජසං
3 එකං යෙව (සෙසුපි පොත්ථකෙසු) 4 පොට්ඨපාද අහං, සයා.
5 තථා අහං, සයා

"වහන්ස, මෙය නැත් ම ය. (නො ඇසූ විරූ ම ය) පොට්ඨපාදය, යම් මහණෙක් මෙහි ස්වකසංඥා ඇත්තේ (තමාගේ ප්‍රථමධ්‍යාන සංඥායෙන් සංඥාවත්) වේ ද, හේ එයින් මතුමත්තෙහි දෙවෙනි ධ්‍යානයට ද, එයිනුත් මත්තෙහි තෙවෙනි ධ්‍යානයට ද යි මෙසේ පිළිවෙළින් (ගොස්) කෙළවර සංඥාග්‍රය (ආකිඤ්චඤ්ඤායතන සමාපත්තිය) ලබයි. සංඥාග්‍රයෙහි සිටි ඔහුට 'සිතන්නා වූ (=දහන් සමවදනා වූ) මාගේ ඒ ක්‍රියාව ලාමක ය. නො සිතන (දහන් නොසමවදන) මාගේ ඒ නොසමවැදීම උතුම් මම වූ කලී සිතන්නෙම් නම් (පුන පුනා දහන් සමවදින්නෙම් නම්), මතු සමවත් පිණිස අභිසංස්කාර කරන්නෙම් නම් (කමටහන් වඩන්නෙම් නම්), මාගේ මේ සංඥාවෝත් නිරුද්ධ වන්නාහ. අන් ඖදාරික (භවාංග) සංඥාවෝත් උපදනාහ එබැවින් මම නො සිතන්නෙම් වීම් නම්, අභිසංස්කාර නො කරන්නෙම් වීම් නම්, යෙහෙකැ'යි මෙසේ සිතෙක් වෙයි. හේ නො ද සිතයි (දහන් නො සමවදී) අභිසංස්කාර නො කෙරෙයි. (මතු සමවත් පිණිස කමටහන් නො වඩයි) නො සිතන අභිසංස්කාර නො කරන ඔහුගේ ඒ සංඥාවෝ ද නිරුද්ධ වෙත් අන් ඖදාරික සංඥාවෝ ද පහළ නො වෙත් එසේ වූ හේ නිරෝධය ස්පර්ශ කෙරෙයි. (සංඥාවෙදයිතනිරෝධය ලබයි) පොට්ඨපාදය, මෙසේ වනාහි අනුපුබ්බාභිසඤ්ඤානිරොධසම්පජානසමාපත්තිය (පිළිවෙළින් සංඥානිරෝධයට සමවැදීම) වේ' යැ යි වහන්ස, මෙසේ ම මම භාග්‍යවතුන් වහන්සේ වදාළා දනිම්"යි පොට්ඨපාද තෙම කී ය.

"පොට්ඨපාදය, එසේ ම යැ"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

[පොට්ඨපාද:] "වහන්ස, භාග්‍යවතුන් වහන්සේ එක ම සංඥාග්‍රයක් පණවන සේක් ද? නැතහොත් බොහෝ සංඥාග්‍රයනුත් පණවන සේක් ද?".

[භාග්‍යවතුන් වහන්සේ.] "පොට්ඨපාදය, මම් එක් සංඥාග්‍රයකුත් පණවමි. බොහෝ සංඥාග්‍රත් පණවමි".

[පොට්ඨපාද.] "වහන්ස, භාග්‍යවතුන් වහන්සේ කෙසේ නම් එක ම සංඥාග්‍රයකුත් පණවන සේක් ද? බොහෝ සංඥාග්‍රත් පණවන සේක් ද?".

[භාග්‍යවතුන් වහන්සේ] "පොට්ඨපාදය, යම් යම් පරිද්දෙකින් (යම් යම් කසිණාදි අරමුණෙකින් හෝ යම් යම් ප්‍රථමධ්‍යානාදි ධ්‍යානයෙකින්) මහණ තෙම නිරෝධය ස්පර්ශ කෙරේ ද, එසේ එසේ (ඒ ඒ කසිණාදියෙන් ඒ ඒ ධ්‍යානයෙන් මම් එක් සංඥාග්‍රයක් පණවමි බොහෝ සඥාග්‍රත් පණවමි"

[පොට්ඨපාද:] "වහන්ස, (නිරෝධයෙන් නැඟී සිටුනාහට අර්හත්ඵලසංඥාව පළමු වත් ප්‍රත්‍යවෙක්ෂාඥානය පසු වත් උපදී ද? නැත හොත් ප්‍රත්‍යවෙක්ෂාඥානය පළමු වත් අර්හත්ඵලසංඥාව පසු වත් උපදී ද? නොහොත් අර්හත්ඵලසංඥාවත් ප්‍රත්‍යවෙක්ෂාඥානයත් යන දෙක ම ඉදිරි පසු නො ව එක්විට ම උපදී ද?".

"සඤ්ඤා ඛො පොට්ඨපාද පඨමං උප්පජ්ජති පච්ඡා ඤාණං සඤ්ඤුප්පාදා ච පන ඤාණුප්පාදො හොති සො එවං පජානාති: ඉදප්පච්චයා කිර මෙ ඤාණං උදපාදීති ඉමිනා[1] ඛො එතං පොට්ඨපාද පරියායෙන වෙදිතබ්බං, යථා සඤ්ඤා පඨමං උප්පජ්ජති පච්ඡා ඤාණං, සඤ්ඤුප්පාදා ච පන ඤාණුප්පාදො හොතී"ති

"සඤ්ඤා නු ඛො භන්තෙ පුරිසස්ස අත්තා? උදාහු අඤ්ඤා සඤ්ඤා, අඤ්ඤා අත්තා?"ති.

"කිං පන[2] ත්වං පොට්ඨපාද අත්තානං පච්චෙසී?"ති.

"ඔළාරිකං ඛො අහං භන්තෙ අත්තානං පච්චෙමි රූපිං චාතුම්මහාභූතිකං[3] කබළීකාරාහාරභක්ඛන්ති"[4].

"ඔළාරිකො ච හි තෙ පොට්ඨපාද අත්තා අභවිස්ස රූපී චාතුම්මහාභූතිකො[3] කබළීකාරාහාරභක්ඛො,[4] එවං සන්තං ඛො තෙ පොට්ඨපාද අඤ්ඤා' ච[5] සඤ්ඤා භවිස්සති,[6] අඤ්ඤා අත්තා[7] තදමිනාපෙතං[8] පොට්ඨපාද පරියායෙන වෙදිතබ්බං, යථා අඤ්ඤා'ව සඤ්ඤා භවිස්සති, අඤ්ඤා අත්තා

තිට්ඨතෙවායං[9] පොට්ඨපාද ඔළාරිකො අත්තා රූපී චාතුම්මහාභූතිකො කබළීකාරාහාරභක්ඛො අථ ඉමස්ස පුරිසස්ස අඤ්ඤා'ව සඤ්ඤා උප්පජ්ජන්ති[10] අඤ්ඤා'ව සඤ්ඤා නිරුජ්ඣන්ති[11] ඉමිනා[12] ඛො එතං පොට්ඨපාද පරියායෙන වෙදිතබ්බං, යථා අඤ්ඤා'ව සඤ්ඤා භවිස්සති, අඤ්ඤා අත්තා"ති

"මනොමයං ඛො අහං භන්තෙ අත්තානං පච්චෙමි සබ්බඞ්ගපච්චඞ්ගිං[13] අහීනින්ද්‍රියන්ති".

"මනොමයො ච හි තෙ පොට්ඨපාද අත්තා අභවිස්ස සබ්බඞ්ගපච්චඞ්ගී අහීනින්ද්‍රියො, එවං සන්තම්පි ඛො තෙ පොට්ඨපාද අඤ්ඤා'ව සඤ්ඤා භවිස්සති, අඤ්ඤා අත්තා තදමිනාපෙතං පොට්ඨපාද පරියායෙන වෙදිතබ්බං, යථා අඤ්ඤා'ව සඤ්ඤා භවිස්සති, අඤ්ඤා අත්තා".

"තිට්ඨතෙවායං පොට්ඨපාද මනොමයො අත්තා සබ්බඞ්ගපච්චඞ්ගී අහීනින්ද්‍රියො අථ ඉමස්ස පුරිසස්ස අඤ්ඤා'ව සඤ්ඤා උප්පජ්ජන්ති, අඤ්ඤා'ව සඤ්ඤා නිරුජ්ඣන්ති ඉමිනාපි ඛො එතං පොට්ඨපාද පරියායෙන වෙදිතබ්බං, යථා අඤ්ඤා'ව සඤ්ඤා භවිස්සති, අඤ්ඤා අත්තා'ති".

---

1 ඉමිනා ච ඛො එතං, මජසං ඉමිනාපෙතං, PTS 2 කිං, සිමු
3 චාතුම්මහාභූතිකං, මජසං 4 කබළිකාරාහාරං, සතා 5. ච, සතා
6 අභවිස්ස, සිමු 7 අත්තාති, සිමු 8 තදමිනා, PTS
9 තිට්ඨතෙ ච, අයං 10. උප්පජ්ජති, සතා. 11 නිරුජ්ඣති, සතා
12 ඉමිනාපි ඛො, PTS. 13 පච්චඞ්ගං, සතා

[භාග්‍යවත්හු·] "පොට්ඨපාදය, අර්හත්ඵලසංඥාව වනාහි පළමු ව උපදී ප්‍රත්‍යවේක්ෂාඥානය පසු ව උපදී අර්හත්ඵලසංඥාවගේ ද ඉපැද්මෙන් ප්‍රත්‍යවේක්ෂාඥානයාගේ ඉපැද්ම වේ. හෙ තෙම මේ අර්හත්ඵලසමාධිසංඥ හෙතුයෙන් 'මට ප්‍රත්‍යවේක්ෂාඥානය උපනැ'යි දන ගනී පොට්ඨපාදය, 'සංඥාව පළමු ව ද ඥානය පසු ව ද උපදී සංඥාවගේ ඉපැද්මෙන් වනාහි ඥානයාගේ ඉපැද්ම වේ' ය යනු මෙසේ මෙ කරුණිනුත් දත යුතු".

[පොට්ඨපාද·] "වහන්ස, සංඥාව පුරුෂයාගේ ආත්මය ද ? නැතහොත් සංඥාව අනෙකෙකුත් ආත්මය වෙන එකෙකුත් වේ ද ?".

[භාග්‍යවත්හු] "පොට්ඨපාදය, තෝ කුමක් නම් ආත්මය කොට සලකහි ද ?".

[පොට්ඨපාද;] "වහන්ස, සතර මහාභූතයන්ගෙන් නිපන් කබලීකාර ආහාරය බුදිනා රූපවත් වූ ඖදාරික දයක් ආත්ම කොට සලකමි".

[භාග්‍යවත්හු·] "පොට්ඨපාදය, තාගේ ආත්මය සතර මහාභූතයන්ගෙන් නිපන් කබලීකාර ආහාරය බුදිනා රූපවත් ඖදාරික දයෙක් වන්නේ නම්, මෙසේ ඇති කල්හි තොපට සංඥාව අනෙකෙකුත් ආත්මය වෙන එකෙකුත් වන්නේ ය පොට්ඨපාදය, මෙ කරුණිනුත් 'සංඥාව අනෙකෙකුත් ආත්මය වෙන එකෙකුත් වන්නේ ය' යන මෙය දත යුතු".

පොට්ඨපාදය, සතර මහාභූතයන්ගෙන් උපන් රූපවත් වූ කබලීකාර ආහාර බුදිනා ඒ මේ ආත්මය සිටිවා වැලි පුරුෂයාට අන්‍ය වූ ම සංඥාවෝ උපදිත් අන්‍ය වූ ම සංඥාවෝ නිරුද්ධ වෙත් පොට්ඨපාදයෙනි, 'සංඥාව අනෙකෙක් ම වන්නේ ය, ආත්මය වෙන එකෙක් ම වන්නේ ය' යන මෙය මෙ කරුණිනුත් දත යුතු"

[පොට්ඨපාද] "වහන්ස, මම් ආත්මය සියලු අඟපසඟ ඇති, නො පිරිහුණු ඉඳුරන් ඇති මනොමය දයක් කොට සලකමි"

[භාග්‍යවත්හු] "පොට්ඨපාදය, තාගේ ආත්මය සියලු අඟපසඟ ඇති, නොපිරිහුණු ඉඳුරන් ඇති මනොමය දයෙක් වන්නේ නම්, එසේ ඇති කල්හි ද තාහට සංඥාව අනෙකෙක් ම ආත්මය වෙන එකෙක් ම වන්නේ ය පොට්ඨපාදය, මෙ කරුණිනුත් 'සංඥාව අනෙකෙකුත් ආත්මය වෙන එකෙකුත් වන්නේ ය' යන මෙය දත යුතු".

පොට්ඨපාදය, සියලු අඟපසඟ ඇති, නොපිරිහුණු ඉඳුරන් ඇති මේ මනොමය ආත්මය සිටිවා වැලි මේ පුරුෂයාට අන්‍ය වූ ම සංඥාවෝ උපදිත් අන්‍ය වූ ම සංඥාවෝ නිරුද්ධ වෙත් පොට්ඨපාදයෙනි, 'සංඥාව අනෙකෙක් ම ද ආත්මය වෙන එකෙක් ම ද වන්නේ ය' යන මෙය මෙ කරුණිනුත් දත යුතු".

"කිං පන භන්තෙ තං ජීවං තං සරීරං. ඉදමෙව සච්චං මොඝ-මඤ්ඤන්ති ?".

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං 'තං ජීවං තං සරීරං ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති"

"කිං පන භන්තෙ අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරං. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති?".

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරං. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති".

"කිං පන භන්තෙ හොති තථාගතො පරම්මරණා. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති ?".

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං. 'හොති තථාගතො පරම්මරණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති".

"කිං පන භන්තෙ න හොති තථාගතො පරම්මරණා. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති ?".

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං 'න හොති තථාගතො පරම්මරණා. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති".

"කිං පන භන්තෙ හොති ච න හොති ච තථාගතො පරම්මරණා ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති ?"

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං 'හොති ච න හොති ච තථාගතො පරම්මරණා. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති"

"කිං පන භන්තෙ නෙව හොති න න හොති තථාගතො පරම්මරණා 'ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති ?".

"එතම්පි ඛො පොට්ඨපාද මයා අබ්‍යාකතං 'නෙව හොති න න හොති තථාගතො පරම්මරණා. ඉදමෙව සච්චං මොඝමඤ්ඤන්ති".

[පොට්ඨපාද:] "වහන්ස, කිමෙක් ද? ජීවයත් ශරීරයත් එකෙක් ම ද? මෙය ම සත්‍ය ද? සෙස්ස මිථ්‍යා ද?".

[භාග්‍යවත්හු:] "පොට්ඨපාදය, 'ජීවයත් ශරීරයත් එකෙක් ම ය, මෙය ම සත්‍ය ය, සෙසු සියල්ල මිථ්‍යා ය' යන මෙය ද මා විසින් නො-පවසන ලදී"

[පොට්ඨපාද:] "වහන්ස, කිමෙක් ද? ජීවයත් ශරීරයත් වෙන් වෙන් වූ දෙදෙනෙක් ද? මෙය ම සත්‍ය ද? සෙසු සියල්ල මිථ්‍යා ද?".

[භාග්‍යවත්හු] "පොට්ඨපාදය, 'ජීවයත් ශරීරයත් වෙන් වෙන් වූ දෙදෙනෙකැ යි, මෙය ම සත්‍ය යැ යි, අන් සියල්ල මිථ්‍යා යැ' යි මෙය ද මා විසින් නො පවසන ලදී'

[පොට්ඨපාද] "වහන්ස, සත්ත්ව (ආත්ම) තෙම මරණින් මත්තෙහි වේ ද? මෙය ම සත්‍ය ද? (මෙයට විරුද්ධ) සෙසු සියල්ල මිථ්‍යා ද?".

[භාග්‍යවත්හු] "පොට්ඨපාදය, සත්ත්ව (ආත්ම) තෙම මරණින් මත්තෙහි වේ යැ යි, මෙය ම සත්‍ය යැ යි, සෙසු සියල්ල මිථ්‍යා'යි මෙය ද මා විසින් නො පවසන ලදී".

[පොට්ඨපාද.] "වහන්ස, කිමෙක් ද? සත්ත්ව (ආත්ම) තෙම මරණින් මතු නො වේ ද? මෙය ම සත්‍ය ද? සෙසු සියල්ල මිථ්‍යා ද?".

[භාග්‍යවත්හු] පොට්ඨපාදය, 'සත්ත්ව (ආත්ම) තෙම මරණින් මතු නො වේ ය, මෙය ම සත්‍ය ය, සෙසු සියල්ල මිථ්‍යා ය' යන මෙය ද මා විසින් නො පවසන ලදී"

[පොට්ඨපාද] "වහන්ස, කිම, තථාගත (සත්ත්ව) තෙම මරණින් මතු වන්නේත් නොවන්නේත් වේ ද? මෙය ම සත්‍ය ද? සෙස්ස මිථ්‍යා ද?".

[භාග්‍යවත්හු.] "පොට්ඨපාදය, 'තථාගත (සත්ත්ව) තෙම මරණින් මතු වන්නේත් නො වන්නේත් වේ මෙය ම සත්‍ය ය, සෙස්ස මිථ්‍යා ය' යන මෙය ද මා විසින් නො පවසන ලදී"

[පොට්ඨපාද] "වහන්ස, කිමෙක් ද? තථාගත (සත්ත්ව) තෙම මරණින් මතු නො ම වන්නේත් නො ම නොවන්නේත් වේ ද? මෙය ම සත්‍ය ද? සෙස්ස මිථ්‍යා ද?"

[භාග්‍යවත්හු.] "පොට්ඨපාදය, තථාගත තෙම මරණින් මතු නො ම වන්නේත් නො ම නොවන්නේත් වේ යැ යි ද, මෙය ම සත්‍ය යැ යි සෙස්ස මිථ්‍යා යැ යි ද යන මෙයත් මා විසින් නො පවසන ලදී".

එවං වුත්තෙ පොට්ඨපාදො පරිබ්බාජකො තෙ පරිබ්බාජකෙ එතදවොච: "අහම්පි ඛො භො න කිඤ්චි සමණස්ස ගොතමස්ස එකංසිකං ධම්මං දෙසිතං ආජානාමි· 'සස්සතො ලොකො'ති වා 'අසස්සතො ලොකො'ති වා -පෙ- 'නෙව හොති න න හොති තථාගතො පරම්මරණා'ති වා. අපි ච සමණො ගොතමො භූතං තච්ඡං තථං පටිපදං පඤ්ඤපෙති[1] ධම්මට්ඨිතං[2] ධම්මනියාමකං[3]. භූතං ඛො පන තච්ඡං තථං පටිපදං පඤ්ඤපෙන්තස්ස ධම්මට්ඨිතං ධම්මනියාමකං කථං හි නාම මාදිසො විඤ්ඤූ සමණස්ස ගොතමස්ස සුභාසිතං සුභාසිතතො නාබ්භනුමොදෙය්‍ය'? ති.

අථ ඛො ද්වීහතීහස්ස අච්චයෙන චිත්තො ච හත්ථිසාරිපුත්තො පොට්ඨපාදො ච පරිබ්බාජකො යෙන භගවා තෙනුපසඞ්කමිංසු උපසඞ්කමිත්වා චිත්තො හත්ථිසාරිපුත්තො භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි පොට්ඨපාදො පන පරිබ්බාජකො භගවතා සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරාණීයං[4] වීතිසාරෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො පොට්ඨපාදො පරිබ්බාජකො භගවන්තං එතදවොච: තදා මං භන්තෙ තෙ පරිබ්බාජකා අචිරපක්කන්තස්ස භගවතො සමන්තතො වාචාසන්නිතොදකෙන සඤ්ජම්භරිං අකංසු· එවමෙව පනායං භවං පොට්ඨපාදො යඤ්ඤදෙව සමණො ගොතමො භාසති, තං තදෙවස්ස අබ්භනුමොදති 'එවමෙතං භගවා, එවමෙතං සුගතා'ති න ඛො පන මයං කිඤ්චි සමණස්ස ගොතමස්ස එකංසිකං ධම්මං දෙසිතං ආජානාම: 'සස්සතො ලොකොති' වා 'අසස්සතො ලොකො'ති වා, 'අන්තවා ලොකො'ති වා, 'අනන්තවා ලොකො'ති වා, 'තං ජීවං තං සරීරන්ති'වා 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා, 'හොති තථාගතො පරම්මරණා'ති වා, 'න හොති තථාගතො පරම්මරණා'ති වා, 'හොති ච න හොති ච තථාගතො පරම්මරණා'ති වා, 'නෙව හොති න න හොති තථාගතො පරම්මරණාති'වා ති. එවං වුත්තාහං භන්තෙ තෙ පරිබ්බාජකෙ එතදවොචං: "අහම්පි ඛො භො න කිඤ්චි සමණස්ස ගොතමස්ස එකංසිකං ධම්මං දෙසිතං ආජානාමි 'සස්සතො ලොකො'ති වා, 'අසස්සතො ලොකො'ති වා -පෙ- 'නෙව හොති න න හොති තථාගතො පරම්මරණා'ති වා අපි ච සමණො ගොතමො භූතං තච්ඡං තථං පටිපදං පඤ්ඤපෙති[1] ධම්මට්ඨිතං[5] ධම්මනියාමකං[6] භූතං ඛො පන තච්ඡං තථං පටිපදං පඤ්ඤපෙන්තස්ස ධම්මට්ඨිතං[5] ධම්මනියාමකං[6] කථං හි නාම මාදිසො විඤ්ඤූ සමණස්ස ගොතමස්ස සුභාසිතං සුභාසිතතො නාබ්භනුමොදෙය්‍ය?" ති

1 පඤ්ඤපෙති, කොසුම් 2 ධම්මට්ඨිතතං, සිමු 3 ධම්මනියාමතං, සිමු
4 සාරණීයං, මජසං සංරඤ්ජනීයං (මහායාන පොත්ථි)
5 ධම්මට්ඨිතං, PTS ධම්මට්ඨිතතං, සිමු
6 ධම්මනියාමතං, සිමු ධම්මනියාමකං PTS (තදුපපාදකං, ටීකා)

මෙසේ කී කල්හි පොට්ඨපාද පිරිවැජි තෙම ''භවත්නි, ලෝකය ශාශ්වත යැ' යි හෝ 'ලෝකය අශාශ්වත යැ' යි හෝ 'සත්ත්ව (ආත්ම) තෙම මරණින් මතු නො ම වන්නේත් වේ, නො ම නොවන්නේත් වේ යැ'යි හෝ මහණ ගොයුම් වහන්සේ විසින් ඒකාන්ත කොට දෙසන ලද කිසි දහමක් මමත් නො දනිමි එතෙකුදු වුවත් මහණ ගොයුම් වහන්සේ ධර්මස්ථිත වූ ලොවුතුරු දහම් (උපදවන,) ඒකාන්තයෙන් ලොවුතුරු දහම් සපයන, ඒකාන්තයෙන් විද්‍යමාන, සත්‍ය වූ අවිපරීත පිළිවෙතක් (මඟක්) පණවන සේක, ලොවුතුරු දහම් උපදවන, ඒකාන්තයෙන් ලොවුතුරු දහම් සපයන, ඒකාන්තයෙන් විද්‍යමාන සත්‍ය සැබෑ පිළිවෙතක් පණවන මහණ ගොයුම් වහන්සේගේ සුභාෂිත වචනය සුභාෂිත විසින් මා වැනි සිහිනුවණැතියෙක් කෙසේ නම් සතුටින් පිළිගත නො හෙන්නේ දැ?'' යි ඒ පිරිවැජියනට කී ය

ඉක්බිත්තෙන් දෙතුන් දිනක් ඇවෑමෙන් ඇත්සැරියුත් චිත්‍ර නමැත්තෙක් ද පොට්ඨපාද පරිව්‍රාජක ද භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹුණහ එළැඹ ඇත්සැරියුත් චිත්‍ර තෙම භාග්‍යවතුන් වහන්සේ වැඳ එකත්පස් වැ හුන්නේ ය පොට්ඨපාද පිරිවැජි තෙම භාග්‍යවතුන් වහන්සේ හා සතුටු විය සතුටට කරුණු වූ සිතැ රැඳැවියැ යුතු වූ (සිහි කටයුතු වූ) කථාව කොට නිමවා, එකත්පස් වැ හුන්නේ ය එකත්පස් වැ හුන් පොට්ඨපාද පිරිවැජි තෙම භාග්‍යවතුන් වහන්සේට මෙය සැළ කෙළේ ය ''වහන්ස, එදා භාග්‍යවතුන් වහන්සේ නික්ම වැඩි නොබෝ වේලායෙහි ඒ පිරිවැජියෝ මට ''මේ භවත් පොට්ඨපාද තෙම මහණගොයුමන් කියන කියන දැය එසේ ය, භාග්‍යවතුන් වහන්ස, එසේ ය, සුගතයන් වහන්සැ' යි කියමින් සතුටින් පිළිගනී 'ලොව (ආත්මය) ශාශ්වත යැ යි හෝ ලොව අශාශ්වත යැ' යි හෝ 'ලොව අන්තවත් යැ' යි හෝ අනන්ත යැ' යි හෝ ජීවයත් ශරීරයත් එකෙක් ම යැ යි හෝ ජීවයත් ශරීරයත් වෙන් වෙන් දෙකෙකැ යි හෝ ආත්මය මරණින් මතු වෙතැ යි හෝ සත්ත්වයා (ආත්මය) මරණින් මතු නො වෙතැ යි හෝ ආත්මය මරණින් මතු වන්නේත් නොවන්නේත් වේ යැ යි හෝ ආත්මය මරණින් මතු නො ම වන්නේත් නො ම නොවන්නේත් වෙයි හෝ මහණ ගොයුම්හු ඒකාන්ත කොට දෙසූ කිසි දහමක් අපි නො දනුම්හ' යි කියමින් වචන නැමැති අඬයටියෙන් හාත්පසින් මට පුන පුනා ඇන්නාහ වහන්ස, ඔවුන් විසින් එසේ කියනු ලැබූ මම් ඒ පිරිවැජියනට 'භවත්නි, ලොව ශාශ්වත යැ යි හෝ ආත්මය මරණින් මතු නො ම වන්නේත් නො ම නොවන්නේත් වේ යැ යි හෝ මහණ ගොයුමන් වහන්සේ ඒකාන්ත කොට දෙසූ කිසි දහමක් මමත් නො දනිමි එහෙත් මහණ ගොයුමන් වහන්සේ ලොවුතුරු දහම් උපදවන, ඒකාන්තයෙන් ලොවුතුරු දහම් සපයන, ඒකාන්තයෙන් විද්‍යමාන, සත්‍ය වූ අවිපරීත පිළිවෙතක් පණවන සේක ඒකාන්තයෙන් ලොවුතුරු දහම් උපදවන ඒකාන්තයෙන් ලොවුතුරු දහම් සපයන, ඒකාන්තයෙන් විද්‍යමාන, සත්‍ය වූ අවිපරීත පිළිවෙතක් පණවන මහණ ගොයුමන් වහන්සේගේ සුභාෂිත වචනය සුභාෂිත විසින් සිහි නුවණැති මා වැන්නෙක් කෙසේ නම් සතුටින් නොපිළිගනු හැකි වන්නේ දැ!' යි කීමි.''

සබ්බෙව ඛො එතෙ පොට්ඨපාද පරිබ්බාජකා අන්ධා අචක්ඛුකා. ත්වං යෙව නෙසං එකො චක්ඛුමා. එකංසිකා'පි හි ඛො පොට්ඨපාද මයා ධම්මා දෙසිතා පඤ්ඤත්තා. අනෙකංසිකා'පි හි ඛො පොට්ඨපාද මයා ධම්මා දෙසිතා පඤ්ඤත්තා.

කතමෙ ච තෙ පොට්ඨපාද මයා අනෙකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා? 'සස්සතො ලොකො'ති වා ඛො පොට්ඨපාද මයා අනෙකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො 'අසස්සතො ලොකො'ති වා ඛො පොට්ඨපාද මයා අනෙකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො 'අන්තවා ලොකො'ති වා ඛො පොට්ඨපාද -පෙ- 'අනන්තවා ලොකො'ති වා ඛො පොට්ඨපාද -පෙ- 'තං ජීවං තං සරීරන්ති' වා ඛො පොට්ඨපාද -පෙ- 'අඤ්ඤං ජීවං අඤ්ඤං සරීරන්ති' වා ඛො පොට්ඨපාද -පෙ- 'හොති තථාගතො පරම්මරණා'ති වා ඛො පොට්ඨපාද -පෙ- 'න හොති තථාගතො පරම්මරණා'ති වා ඛො පොට්ඨපාද -පෙ- 'හොති ච න ච හොති තථාගතො පරම්මරණා'ති වා ඛො පොට්ඨපාද -පෙ- 'නෙව හොති න න හොති තථාගතො පරම්මරණා'ති වා ඛො පොට්ඨපාද මයා අනෙකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො.

කස්මා ච තෙ පොට්ඨපාද මයා අනෙකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා? න හෙතෙ පොට්ඨපාද අත්ථසංහිතා න ධම්මසංහිතා න ආදිබ්‍රහ්මචරියකා න නිබ්බිදාය න විරාගාය න නිරොධාය න උපසමාය න අභිඤ්ඤාය න සම්බොධාය න නිබ්බානාය සංවත්තන්ති තස්මා තෙ මයා අනෙකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා

කතමෙ ච තෙ පොට්ඨපාද මයා එකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා? 'ඉදං දුක්ඛ'න්ති ඛො පොට්ඨපාද මයා එකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො 'අයං දුක්ඛසමුදයො'ති ඛො පොට්ඨපාද මයා එකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො 'අයං දුක්ඛනිරොධො'ති ඛො පොට්ඨපාද මයා එකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො 'අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති ඛො පොට්ඨපාද මයා එකංසිකො ධම්මො දෙසිතො පඤ්ඤත්තො.

කස්මා ච තෙ පොට්ඨපාද මයා එකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා? එතෙ පොට්ඨපාද අත්ථසංහිතා, එතෙ ධම්මසංහිතා, එතෙ ආදිබ්‍රහ්මචරියකා, එතෙ නිබ්බිදාය විරාගාය නිරොධාය උපසමාය අභිඤ්ඤාය සම්බොධාය නිබ්බානාය සංවත්තන්ති තස්මා තෙ මයා එකංසිකා ධම්මා දෙසිතා පඤ්ඤත්තා.

[එවිට භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක]

"පොට්ඨපාදය, ඒ සියලු පිරිවැජියෝ නුවණැස් නැතියෝ ය, අන්ධයෝ ය. ඔවුන් අතුරෙහි සුභාෂිත - දුර්භාෂිත දන්නා නුවණැස් ඇතියේ තො ම ය. පොට්ඨපාදය, එකාන්ත කොට මා විසින් දෙසූණු පැණැවූ දහම් ද ඇත පොට්ඨපාදය, එකාන්ත නො කොට මා විසින් දෙසූණු පැණැවූ දහම් ද ඇත.

පොට්ඨපාදය, මා විසින් එකාන්ත නොකොට දෙසුණු පැණැවූ ඒ දහම්හු කවරහ? පොට්ඨපාදය, ලොව (ආත්මය) ශාශ්වත යැ සි හෝ එකාන්ත නො කොට මා විසින් දහම් දෙසන ලදි, පණවන ලදි පොට්ඨපාදය, ලොව (ආත්මය) අශාශ්වත යැ සි හෝ එකාන්ත නො කොට දහම් දෙසන ලදි, පණවන ලදි පොට්ඨපාදය, ලොව (ආත්මය) අන්තවත් යැ සි කියා හෝ ජීවයත් ශරීරයත් එකෙක් මැ යැ සි කියා හෝ අනන්ත යැසි කියා හෝ ලොව (ආත්මය) ජීවයත් ශරීරයත් වෙන් වෙන් අදකෙක් මැ සි කියා හෝ තථාගතයා (ආත්මය) මරණින් මතු වෙයි කියා හෝ තථාගතයා (ආත්මය) මරණින් මතු නො වෙයි කියා හෝ තථාගතයා (ආත්මය) මරණින් මතු වන්නේත් නො වන්නේත් වෙයි කියා හෝ තථාගතයා (ආත්මය) මරණින් මතු නො ම වන්නේත් නො ම නොවන්නේත් වෙයි කියා හෝ මා විසින් එකාන්ත නො කොට දහම් දෙසන ලද්දේ, පණවන ලද්දේ වෙයි

පොට්ඨපාදය, කවර හෙයින් මා විසින් ඒ දහම්හු එකාන්ත කොට නො දෙසන ලද්දහු ද, නො පණවන ලද්දහු ද? යත්· පොට්ඨපාදය, මේ (ලොව ශාශ්වත ය යන ආදී වූ) දෘෂ්ටිහු දෙලෝවැඩ හෝ අත්වැඩ පර වැඩ හෝ අසලෝ නො වෙති ලොවුතුරු දහම් අසලෝ නො වෙති. සසුන් බඹසරට ආදිය වූ අධිශීලශික්‍ෂාමාත්‍ර ද නො වෙති සසරවටැ කලකිරෙනු පිණිස, සසරැ නො ඇලෙනු පිණිස, දුක් නසනු පිණිස, දුක් සංහිඳුවනු පිණිස, සසරදුක් පසක් කරනු පිණිස, සසරවට අවබොධ කරනු පිණිස, අමා මහනිවන් සාක්‍ෂාත් කරනු පිණිස නො පවත්නාහ එ හෙයින් මා විසින් ඒ දහම්හු එකාන්ත කොට නො දෙසන ලදහ, නො පණවන ලදහ.

පොට්ඨපාදය, මා විසින් එකාන්ත කොට දෙසන ලද පණවන ලද ඒ දහම්හු කවරහු ද? පොට්ඨපාදය, 'මේ දුකැ'සි කියා ම මා විසින් එකාන්ත කොට ධර්මය දෙසන ලද්දේ ය, පණවන ලද්දේ ය මේ දුක් හටගැන්මේ හේතු යැ' සි කියා ම මා විසින් එකාන්ත කොට ධර්මය දෙසන ලද්දේ ය, පණවන ලද්දේ ය පොට්ඨපාදය, 'මේ දුක්නැස්ම යැ' සි කියා ම මා විසින් එකාන්ත කොට ධර්මය දෙසන ලද්දේ ය, පණවන ලද්දේ ය පොට්ඨ-පාදය, 'මේ දුක් නැස්මට යන පිළිවෙතැ' සි කියා ම මා විසින් එකාන්ත කොට ධර්මය දෙසන ලද්දේ ය, පණවන ලද්දේ ය

පොට්ඨපාදය, කවර හෙයින් මා විසින් ඒ ධර්මයෝ එකාන්ත කොට දෙසන ලදහු ද, පණවන ලදහු ද යත් පොට්ඨපාදය, මොහු තමන් අනුන් දෙපසගේ ම අභිවෘද්ධිය ඇසුරු කළාහු වෙත් මොහු ලොවුතුරු දහම් ඇසුරු කළාහු වෙත් මොහු ආදිබ්‍රහ්මචර්‍ය්‍යක (මාර්ගබ්‍රහ්මචර්‍ය්‍යාගේ පූර්ව භාගප්‍රතිපත්හු) වෙති මොහු සසර කලකිරෙනු පිණිස, සසරැ නොඇල්ම පිණිස, සසර දුක් නසනු පිණිස, සසර දුක් සංහිඳෙනු පිණිස, විශිෂ්ටඥානය පිණිස, සත්‍යාවබොධය පිණිස නිවන් පසක් කරනු පිණිස පවතිත් එහෙයින් මා විසින් ඒ ධර්මයෝ එකාන්ත කොට දෙසන ලදහ, පණවන ලදහ.

සන්ති ඛො පොට්ඨපාද එකෙ සමණබ්‍රාහ්මණා එවංවාදිනො එවංදිට්ඨිනො: 'එකන්තසුඛී අත්තා හොති අරොගො පරම්මරණා'ති. ත්‍යාහං උපසඞ්කමිත්වා එවං වදාමි· 'සච්චං කිර තුම්හෙ ආයස්මන්තො එවංවාදිනො එවංදිට්ඨිනො 'එකන්තසුඛී අත්තා හොති, අරොගො පරම්මරණා'ති? තෙ චෙ මෙ එවං පුට්ඨා 'ආමා'ති[1] පටිජානන්ති, ත්‍යාහං එවං වදාමි· 'අපි පන තුම්හෙ ආයස්මන්තො එකන්තසුඛං ලොකං ජානං පස්සං විහරථා'ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති ත්‍යාහං එවං වදාමි 'අපි ච පන තුම්හෙ ආයස්මන්තො එකං වා රත්තිං එකං වා දිවසං උපඩ්ඪං වා රත්තිං උපඩ්ඪං වා දිවසං එකන්තසුඛිං අත්තානං සම්පජානාථා?' ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති, ත්‍යාහං එවං වදාමි 'අපි පන තුම්හෙ ආයස්මන්තො ජානාථ. 'අයං මග්ගො අයං පටිපදා එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියායා?' ති. ඉති පුට්ඨා 'නො' ති වදන්ති ත්‍යාහං එවං වදාමි 'අපි පන තුම්හෙ ආයස්මන්තො යා තා දෙවතා එකන්තසුඛං ලොකං උපපන්නා, තාසං භාසමානානං සද්දං සුණාථ· 'සුපටිපන්නාත්ථ මාරිසා, උජුපටිපන්නාත්ථ මාරිසා එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියාය. මයම්පි හි මාරිසා එවම්පටිපන්නා එකන්තසුඛං ලොකං උපපන්නා'ති? ඉති පුට්ඨා 'නො' ති වදන්ති.

තං කිං මඤ්ඤසි පොට්ඨපාද, "නනු එවං සන්තෙ තෙසං සමණබ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති

"අද්ධා ඛො භන්තෙ එවං සන්තෙ තෙසං සමණබ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති.

"සෙය්‍යථාපි පොට්ඨපාද පුරිසො එවං වදෙය්‍ය· 'අහං යා ඉමස්මිං ජනපදෙ ජනපදකල්‍යාණී, තං ඉච්ඡාමි, තං කාමෙමී' ති තමෙනං එවං වදෙය්‍යුං· අම්භො පුරිස යං ත්වං ජනපදකල්‍යාණිං ඉච්ඡසි කාමෙසි, ජානාසි තං ජනපදකල්‍යාණිං ඛත්තියී වා බ්‍රාහ්මණී වා වෙස්සී වා සුද්දී වා? ති. ඉති පුට්ඨො 'නො'ති වදෙය්‍ය, තමෙනං එවං වදෙය්‍යුං: අම්භො පුරිස යං ත්වං ජනපදකල්‍යාණිං ඉච්ඡසි කාමෙසි, ජානාසි තං ජනපදකල්‍යාණිං එවන්නාමා එවංගොත්තා'ති වා, දීඝා වා රස්සා වා මජ්ඣිමා වා, කාළී වා සාමා වා මඞ්ගුරච්ඡවී වා'ති, 'අමුකස්මිං ගාමෙ වා නිගමෙ වා නගරෙ වා'ති? ඉති පුට්ඨො 'නො'ති වදෙය්‍ය, තමෙනං එවං වදෙය්‍යුං අම්භො පුරිස යං ත්වං න ජානාසි න පස්සසි, තං ත්වං ඉච්ඡසි කාමෙසී?'ති. ඉති පුට්ඨො 'ආමා' ති වදෙය්‍ය.

තං කිං මඤ්ඤසි පොට්ඨපාද, නනු එවං සන්තෙ තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති.

"අද්ධා ඛො භන්තෙ එවං සන්තෙ තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති.

---

1. ආමොති, PTS

පොට්ඨපාදය, 'ආත්මය මරණින් මතු එකාන්තයෙන් සුවපත් වේ යැ යි, නිත්‍ය වේ යැ'යි මෙබඳු වාද ඇති, මෙබඳු දෘෂ්ටි ඇති ඇතැම් මහණ බමුණු කෙනෙක් ඇත මම ඔවුන් කරා එළැඹ, 'ආයුෂ්මත්නි, ආත්මය මරණින් මතු එකාන්තයෙන් සුවපත් වේ, නිත්‍ය වේ යැ'යි තෙපි මෙබඳු වාද ඇත්තෝ ය, මෙබඳු දෘෂ්ටි ඇත්තෝ ය යනු සැබෑ දැ? යි මෙසේ විචාරමි. මෙසේ විචාරන ලද ඔහු මට 'එසේ යැ' යි පිළිණ ගෙරෙත් නම්, 'ආයුෂ්මත්නි, තෙපි එකාන්ත සුව ඇති ලොකය (අසෝ දෙසැ ඇතැ යි) දන්නාහු දක්නාහු වසවූ දැ?'යි ඔවුන් පිළිවිසිමි. මෙසේ පුළුවුස්නා ලද්දාහු 'නැතැ'යි කියත්. ඔවුනට මම් 'ආයුෂ්මත්නි' තෙපි එක් රැයක් හෝ එක් දහවලක් හෝ අඩරැයක් හෝ අඩදහවලක් හෝ එකාන්තයෙන් සුවපත් වූ ආත්ම-යක් දනිවූ දැ?' යි මෙසේ කියමි මෙසේ විචාරන ලද ඔහු 'නැතැ'යි කියත් ඔවුනට මම් 'ආයුෂ්මත්නි, එකාන්ත සුව ඇති ලොව පසක් කිරීමට මේ මඟ ය, මේ පිළිවෙත යැ යි තෙපි දනිවූ දැ?'යි මම් කියමි. මෙසේ විචාරන ලද්දාහු 'නො දනිමු' යි ඔහු කියත් ඔවුනට මම් 'ආයුෂ්මත්නි, එකාන්ත සුව ඇති ලොවැ උපන් යම් දෙවතා කෙනෙක් වෙත් නම්, ඔවුන් 'නිදුකාණනි, එකාන්ත සුව ඇති ලොව පසක් කරනු පිණිස, සුපිළිපන්නහු වවූ. නිදුකාණනි, ඍජු ව පිළිපන්නාහු වවූ. නිදුකාණනි, අපි ද මෙසේ පිළිපන්නමෝ එකාන්ත සුව ඇති ලොවට පැමිණියම්හ'යි කියන්නවුන්ගේ වචනය අසවූ දැ?' යි මෙසේ පිළිවිසිමි මෙසේ මා විසින් විචාරන ලද ඔහු 'එ වැන්නක් නො ඇසූමු' යි කියත්.

[භාග්‍යවත්හු] ''පොට්ඨපාදය, ඒ කිමැ යි සිතයි ද? මෙසේ ඇති කල්හි ඒ මහණබමුණන්ගේ වචනය ප්‍රතිහරණ නැති එකෙක් (ප්‍රතිපාක්ෂිකයන්ගේ නිග්‍රහයට ගොදුරු එකෙක්) නො වේ ද?''

[පොට්ඨපාද] ''වහන්ස, මෙසේ ඇති කල්හි එකාන්තයෙන් ඒ මහණබමුණන්ගේ වචනය ප්‍රතිහරණ නැති එකෙක් ය.

[භාග්‍යවත්හු] ''පොට්ඨපාදය, යම්සේ පුරුෂයෙක් 'මේ දනව්වෙහි යම් දනවුකැලණක් වේ නම් ඇය පතමි ඇය කැමැත්තෙමි' යි කියන්නේ ද, ඔහුට අන්‍යයෝ 'එම්බා පුරුෂය, තෝ යම් දනවුකැලණක පතයි නම්, කැමැත්තෙහි නම්, ඕ කැත්කතක් නො හොත් බමුණුකතක් හෝ වෛශ්‍යකතක් හෝ සුදුරුකතක් යැ යි ඇය දන්නෙහි දැ?'' යි මෙසේ කියන්නාහු ද, මෙසේ පුළුවුස්නා ලැබූ හෙ තෙමේ 'නො දනිමි' යි කියන්නේ ය අන්හු ඔහුට 'එම්බා පුරුෂය, තෝ යම් දනවුකැලණක පතයි නම්, කැමැත්තෙහි නම්, 'ඒ දනවුකැලණ මෙ නමැත්තී යැ යි මෙගොත් ඇත්තී යැ යි හෝ කළු හෝ හෙළලු හෝ පඬුවන් සිවිය ඇත්තීයැයි හෝ, අසෝ ගමැ හෝ නියම්ගමැ හෝ නුවරැ හෝ වෙසෙත්තී යැ යි දනුදැ?' යි මෙසේ කියන්නාහු නම්, මෙසේ විචාරන ලද හේ 'එය නො දනිමි' යි කියන්නේ ය ඔහුට අන්හු 'එම්බා පුරුෂය, යම් ස්ත්‍රියක තෝ නො දන්නෙහි නම්, නො දක්නෙහි නම්, තෝ ඇය පතයි ද? ඇය කැමැත්තෙහි දැ?' යි කියන්නාහු නම්, මෙසේ විචාරන ලද්දේ 'එසේ' යැ යි හේ කියන්නේ ය

''පොට්ඨපාදය, එය කිමැ යි සිතයි ද? මෙසේ ඇති කලැ ඒ පුරුෂයාගේ වචනය ප්‍රතිහරණ නැතියෙක් නො වන්නේ ද?''

[පොට්ඨපාද] ''වහන්ස, මෙසේ ඇති කලැ ඒ පුරුෂයාගේ වචනය එකාන්තයෙන් ප්‍රතිහරණ නැතියෙක් වෙයි.''

"එවමෙව ඛො පොට්ඨපාද යෙ තෙ සමණබ්‍රාහ්මණා එවංවාදිනො එවංදිට්ඨිනො 'එකන්තසුඛී අත්තා හොති අරොගො පරම්මරණා' ති, ත්‍යාහං උපසඞ්කමිත්වා එවං වදාමි: සච්චං කිර තුම්හෙ ආයස්මන්තො එවංවාදිනො එවංදිට්ඨිනො 'එකන්තසුඛී අත්තා හොති අරොගො පරම්මරණා'ති?" තෙ චෙ[1] මෙ එවං පුට්ඨා 'ආමා'ති පටිජානන්ති, ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ ආයස්මන්තො එකන්තසුඛං ලොකං ජානං පස්සං විහරථා"ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති

ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ ආයස්මන්තො එකං වා රත්තිං එකං වා දිවසං උපඩ්ඪං වා රත්තිං උපඩ්ඪං වා දිවසං එකන්තසුඛිං අත්තානං සම්පජානාථා'ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති

ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ අයස්මන්තො ජානාථ 'අයං මග්ගො අයං පටිපදා එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියායා' ති ඉතිපුට්ඨා 'නො'ති වදන්ති.

ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ ආයස්මන්තො යා තා දෙවතා එකන්තසුඛං ලොකං උපපන්නා, තාසං භාසමානානං සද්දං සුණාථ· සුපටිපන්නාත්ථ මාරිසා, උජුපටිපන්නාත්ථ මාරිසා, එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියාය. මයම්පි හි මාරිසා, එවං පටිපන්නා එකන්තසුඛං ලොකං උපපන්නා'ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති

තං කිං මඤ්ඤසි පොට්ඨපාද, නනු එවං සන්තෙ තෙසං සමණ-බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති.

"අද්ධා ඛො භන්තෙ තෙසං සමණබ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති

සෙය්‍යථාපි පොට්ඨපාද පුරිසො චාතුම්මහාපථෙ නිස්සෙණිං කරෙය්‍ය පාසාදස්ස ආරොහණාය, තමෙනං එවං වදෙය්‍යුං අම්භො පුරිස යස්ස ත්වං පාසාදස්ස ආරොහණාය නිස්සෙණිං කරොසි, ජානාසි තං පාසාදං පුරත්ථිමාය වා දිසාය දක්ඛිණාය වා දිසාය පච්ඡිමාය වා දිසාය උත්තරාය වා දිසාය, උච්චො වා නීචො වා මජ්ඣිමො වා?ති. ඉති පුට්ඨො 'නො'ති වදෙය්‍ය තමෙනං එවං වදෙය්‍යුං අම්භො පුරිස යං ත්වං න ජානාසි න පස්සසි, තස්ස ත්වං පාසාදස්ස ආරොහණාය නිස්සෙණිං කරොසී?"ති. ඉති පුට්ඨො 'ආමා'ති වදෙය්‍ය.

තං කිං මඤ්ඤසි පොට්ඨපාද, නනු එවං සන්තෙ තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති.

"අද්ධා ඛො භන්තෙ එවං සන්තෙ තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති

1 ච PTS

[භාග්‍යවත්හු ] "පොට්ඨපාදය, එසේ ම යම් මහණ කෙනෙක් බමුණු කෙනෙක් ආත්මය මරණින් මත්තෙහි එකාන්ත සුව ඇත්තේ සදාභාවී වේ යැ යි මෙබඳු වාද ඇතියෝ මෙබඳු දෘෂ්ටි ඇතියෝ වෙත් ද, මම් ඔවුන් කරා එළැඹ, 'ආයුෂ්මත්නි, තෙපි ආත්මය මරණින් මත්තෙහි එකාන්ත සුව ඇත්තේ සදාභාවී වේ යැ යි මෙබඳු වාද ඇතියහු ද? මෙබඳු දෘෂ්ටි ඇතියහු දැ?' යි මෙසේ අසමි මා විසින් මෙසේ විචාරන ලද ඔහු 'එසේ යැ' යි ඉදිත් පිළිත කරන්නාහු නම්, 'ආයුෂ්මත්නි, තෙපි එකාන්ත සුව ඇති ලෝකයක් දන්නාහු දක්නාහු වසවු දැ?' යි මම් ඔවුන් පුළුවුසිමි එසේ විචාරන ලද ඔහු 'නැතැ' යි කියත්

"ආයුෂ්මත්නි, තෙපි එක් රැයක් හෝ අඩරැයක් හෝ අබදහවලක් හෝ එකාන්තයෙන් සුව ඇති ආත්මයක් දනිවු දැ?" යි මෙසේ ඔවුන් විචාරමි. මෙසේ විචාරන ලද ඔහු 'නො දනුම්හ' යි කියත්.

ආයුෂ්මත්නි, එකාන්ත සුව ඇති ලොව පසක් කරනුවට මඟ මේ යැ, පිළිවෙත මේ යැ'යි තෙපි දනිවු දැ? යි මෙසේ ඔවුන් විචාරමි. මෙසේ විචාරන ලද ඔහු 'නො දනුම්හ' යි කියත්.

"ආයුෂ්මත්නි, එකාන්ත සුව ඇති ලොවට උත්පත්ති විසින් පැමිණි යම් දෙවතා කෙනෙක් වෙත් නම්, ඔවුන් 'නිදුකාණනි, එකාන්ත සුව ඇති ලොව පසක් කරනුවට සුපිළිපන්නහු වවු, සෘජු ව පිළිපන්නහු වවු නිදුකාණනි, අපි දු මෙසේ පිළිපන්නමෝ එකාන්ත සුව ඇති ලොවට උත්පත්ති විසින් පැමිණියම්හ' යි කියන්නවුන්ගේ හඬ අසවු දැ?" යි මෙසේ ඔවුන් විචාරමි මෙසේ විචාරන ලද්දාහු (එසේ වූ හඬක්) නො ඇසීම්හ" යි ඔහු කියත්

පොට්ඨපාදය, එය කිමැ යි සිතයි ද? ඒ මහණබමුණුවරුන්ගේ වචනය ප්‍රතිහරණ නැතියෙක් නො වෙයි ද?"

[පොට්ඨපාද ] "වහන්ස, මෙසේ ඇති කලැ ඒ මහණ බමුණන්ගේ වචනය එකාන්තයෙන් ප්‍රතිහරණ නැතියෙක් වෙයි."

[භාග්‍යවත්හු ] "පොට්ඨපාදය, යම්සේ පුරුෂයෙක් පහයකට නඟිනු වස් සිවුමං හන්දියෙකැ හිණක් බඳින්නේ ද, අන්හු ඔහුට 'එම්බා පුරුෂය, තෝ යම් පහයකට නඟිනු වස් හිණක් කෙරෙහි නම්, ඒ පහය පෙර දිගැ හෝ පැසිම් දිගැ හෝ දකුණු දිගැ හෝ උතුරු දිගැ හෝ වේ යැ යි දනිහි දැ?' යි කියන්නාහු ද, මෙසේ විචාරන ලද හෙ තෙම නො දනිමි'යි කියන්නේ ය. (එ විට) ඔහු 'එම්බා පුරුෂය, තෝ යමක් නො දන්නෙහි නම්, නො දක්නෙහි නම්, එසේ වූ පහයකට නැඟිනුවට හිණක් කෙරෙයි දැ?' යි මෙසේ ඒ පුරුෂයා පුළුවුස්නාහ මෙසේ විචාරන ලද හේ තෙමේ 'එසේ යැ' යි කියන්නේ ය.

පොට්ඨපාදය, එය කිමැ යි සිතයි ද? මෙසේ ඇති කලැ ඒ පුරුෂයාගේ වචනය ප්‍රතිහරණ නැතියෙක් නො වේ ද"

[පොට්ඨපාද ] "වහන්ස, මෙසේ ඇති කල්හි ඒ පුරුෂයාගේ වචනය ප්‍රතිහරණ නැතියෙක් වෙයි."

"එවමෙව ඛො පොට්ඨපාද යෙ තෙ සමණබ්‍රාහ්මණා එවංවාදිනො එවංදිට්ඨිනො 'එකන්තසුඛී අත්තා හොති අරොගො පරම්මරණා' ති ත්‍යාහං උපසඞ්කමිත්වා එවං වදාමි. සච්චං කිර තුම්හෙ ආයස්මන්තො එවංවාදිනො එවංදිට්ඨිනො 'එකන්තසුඛී අත්තා හොති අරොගො පරම්මරණා'ති?" තෙ චෙ මෙ එවං පුට්ඨා 'ආමො'ති පටිජානන්ති, ත්‍යාහං එවං වදාමි. අපි පන තුම්හෙ ආයස්මන්තො එකන්තසුඛං ලොකං ජානං පස්සං විහරථා' ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති, ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ ආයස්මන්තො එකං වා රත්තිං එකං වා දිවසං උපඩ්ඪං වා රත්තිං උපඩ්ඪං වා දිවසං එකන්තසුඛිං අත්තානං සම්පජානාථා' ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති. ත්‍යාහං එවං වදාමි· අපි පන තුම්හෙ ආයස්මන්තො ජානාථ 'අයං මග්ගො අයං පටිපදා එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියායාති?' ඉති පුට්ඨා 'නො'ති වදන්ති ත්‍යාහං එවං වදාමි අපි පන තුම්හෙ ආයස්මන්තො යා තා දෙවතා එකන්තසුඛං ලොකං උපපන්නා, තාසං දෙවතානං භාසමානානං සද්දං සුණාථ 'සුපටිපන්නාත්ථ මාරිසා, උජුපටිපන්නාත්ථ මාරිසා, එකන්තසුඛස්ස ලොකස්ස සච්ඡිකිරියාය මයම්පි හි මාරිසා එවං පටිපන්නා එකන්තසුඛං ලොකං උපපන්නා'ති ඉති පුට්ඨා 'නො'ති වදන්ති.

"තං කිම්මඤ්ඤසි පොට්ඨපාද, නනු එවං සන්තෙ තෙසං සමණබ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති

"අද්ධා ඛො භන්තෙ එවං සන්තෙ තෙසං සමණබ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති.

"තයො ඛො'මෙ පොට්ඨපාද අත්තපටිලාභා ඔළාරිකො අත්තපටිලාභො, මනොමයො අත්තපටිලාභො, අරූපො අත්තපටිලාභො' ති.

කතමො ච පොට්ඨපාද ඔළාරිකො අත්තපටිලාභො? රූපී චාතුම්මහාභූතිකො කබලීකාරාහාරභක්ඛො, අයං ඔළාරිකො අත්තපටිලාභො.

කතමො මනොමයො අත්තපටිලාභො? රූපී මනොමයො සබ්බඞ්ගපච්චඞ්ගී අහීනින්ද්‍රියො, අයං මනොමයො අත්තපටිලාභො

කතමො ච අරූපො අත්තපටිලාභො? අරූපී සඤ්ඤාමයො, අයං අරූපො අත්තපටිලාභො.

[භාග්‍යවත්හු] "පොට්ඨපාදය, එසේ ම 'ආත්මය මරණින් මත්තෙහි ඒකාන්ත සුව ඇත්තේ සදානාවී වේ යැ' යි මෙබඳු වාද ඇති මෙබඳු දෘෂ්ටි ඇති යම් මහණබමුණු කෙනෙක් ඇත් ද, ඔවුන් කරා එළැඹ 'ආයුෂ්මත්නි, තෙපි ආත්මය මරණින් මතු ඒකාන්ත සුවැත්තේ සදානාවී වේ යැ යි මෙබඳු වූ වාද ඇත්තහු ය, මෙබඳු දෘෂ්ටි ඇත්තහු ය යනු සැබෑවෙක් දැ?' යි මෙසේ විචාරමි මෙසේ මා විසින් විචාරන ලද ඔහු 'එසේ යැ' යි පිළිත කෙරෙත් 'ආයුෂ්මත්නි, තෙපි ඒකාන්ත සුව ඇති ලොවක් දන්නාහු දක්නාහු වෙසෙවු දැ? යි මෙසේ ඔවුන් පුළුවුස්මි මෙසේ පුළුවුස්නා ලද ඔහු 'එසේ දන්නමෝ දක්නමෝ නො වසමු' යි කියත්. 'ආයුෂ්මත්නි, තෙපි එක් රැයක් හෝ එක් දවලක් හෝ අඩරැයක් හෝ අඩ දවලක් හෝ ඒකාන්ත සුව ඇති ආත්මයක් දනිවු දැ? යි මෙසේ ඔවුන් පුළුවුස්මි මෙසේ පුළුවුස්නා ලද ඔහු 'නො දනුම්හ' යි කියත් 'ආයුෂ්මත්නි, ඒකාන්ත සුව ඇති ලොව පසක් කරනුවට මග මේ යැ, පිළිවෙත මේ යැ යි තෙපි දනිවු දැ?' යි මෙසේ ඔවුන් පුළුවුස්මි මෙසේ පුළුවුස්නා ලද්දහු 'නො දනුම්හ' යි ඔහු කියත් 'ආයුෂ්මත්නි, ඒකාන්ත සුව ඇති ලොවකට උත්පත්ති වශයෙන් පැමිණි යම් දෙවතා කෙනෙක් වෙත් නම්, 'නිදුකාණනි, ඒකාන්ත සුව ඇති ලොව පසක් කරනුවට සුපිළි-පන්නහු වවු, සෘජු ම පිළිපන්නහු වවු නිදුකාණනි, අපි දු මෙසේ පිළිපන්නමෝ ඒකාන්ත සුව ඇති ලොවට පැමිණියම්හ' යි මෙසේ කියන්-නවුන් හඬ අසවු දැ?' යි මෙසේ ඔවුන් පුළුවුස්මි. මෙසේ මා විසින් පුළුවුස්නා ලද ඔහු 'එවැන්නක් නො අසම්හ' යි කියත්.

පොට්ඨපාදය, එය කිමැ යි සිතයි ද? මෙසේ ඇති කල්හි ඒ මහණ-බමුණන්ගේ වචනය නැතියෙක් ප්‍රතිහරණ වනුයේ නො වේ ද?"

[පොට්ඨපාද:] "වහන්ස, මෙසේ ඇති කල්හි ඒකාන්තයෙන් ඒ මහණ-බමුණන්ගේ වචනය ප්‍රතිහරණ නැතියෙක් වෙයි"

[භාග්‍යවත්හු:] "පොට්ඨපාදය, ඖදාරික වූ ආත්මප්‍රතිලාභය, මනො-මය වූ ආත්මප්‍රතිලාභය, අරූප ආත්මප්‍රතිලාභය යැ යි මේ ආත්මභාව-ප්‍රතිලාභ තුනෙකි

පොට්ඨපාදය, ඖදාරික ආත්මප්‍රතිලාභය කවරේ යැ? රූපවත් වූ සතර මහාභූතයන්ගෙන් පහළ වූ, කබලීකාරාහාරය අනුභව කරන යමෙක් වේ ද, මෙය ඖදාරික ආත්මභාවප්‍රතිලාභ යැ

මනොමය ආත්මප්‍රතිලාභය කවරේ යැ? රූපවත් වූ ධ්‍යාන සිතින් නිපන්, සියලු අඟපසඟින් යුත්, නොපිරිහුණු ඉඳුරන් ඇති යමෙක් වේ ද, මෙය මනොමය ආත්මප්‍රතිලාභ යැ.

අරූපාත්මප්‍රතිලාභය කවරේ යැ? රූපවත් නොවූ සංඥාමය වූ යම් ආත්මභාවයෙක් වේ ද, මේ අරූපාත්මප්‍රතිලාභ යැ.

පරෙ චෙ පොට්ඨපාද අම්හෙ එවං පුච්ඡෙය්‍යුං 'කතමො පන සො ආවුසො ඔළාරිකො අත්තපටිලාභො යස්ස තුම්හෙ පහාණාය ධම්මං දෙසෙථ යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා'ති තෙසං මයං එවං පුට්ඨා එවං බ්‍යාකරෙය්‍යාම "අයං වා සො ආවුසො ඔළාරිකො අත්තපටිලාභො යස්ස මයං පහානාය ධම්මං දෙසෙම යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා" ති.

පරෙ චෙ පොට්ඨපාද අම්හෙ එවං පුච්ඡෙය්‍යුං· 'කතමො පන සො ආවුසො මනොමයො අත්තපටිලාභො, යස්ස තුම්හෙ පහානාය ධම්මං දෙසෙථ යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා'ති. තෙසං මයං පුට්ඨා එවං බ්‍යාකරෙය්‍යාම· "අයං වා සො ආවුසො මනොමයො අත්තපටිලාභො යස්ස මයං පහානාය ධම්මං දෙසෙම යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා" ති.

පරෙ චෙ පොට්ඨපාද අම්හෙ එවං පුච්ඡෙය්‍යුං: 'කතමෙං පන සො ආවුසො අරූපො අත්තපටිලාභො යස්ස තුම්හෙ පහානාය ධම්මං දෙසෙථ යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා'ති. තෙසං මයං එවං පුට්ඨා එවං බ්‍යාකරෙය්‍යාම· අයං වා සො ආවුසො අරූපො අත්තපටිලාභො, යස්ස මයං පහානාය ධම්මං දෙසෙම යථාපටිපන්නානං වො සඞ්කිලෙසිකා ධම්මා පහීයිස්සන්ති, වොදානියා ධම්මා අභිවඩ්ඪිස්සන්ති, පඤ්ඤාපාරිපූරිං වෙපුල්ලත්තඤ්ච දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහරිස්සථා' ති.

තං කිමඤ්ඤසි පොට්ඨපාද, නනු එවං සන්තෙ සප්පාටිහිරකතං භාසිතං සම්පජ්ජතී? ති.

1. විහරිස්සතීති. සිමු විහරිස්සථාති PTS.

පොට්ඨපාදය, 'යම්සේ පිළිපන්නාවූ තොපගේ සිත කෙලෙසන දහම්හු පහ වන්නාහු ද, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු ද, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තෙපි තුමූ ම වෙසෙසින් දැන පසක් කොට ලැබ වසන්නහු ද, එසේ යමක්හුගේ ප්‍රහාණය පිණිස හවත්හු දම් දෙසත් නම්, ඇවැත්නි, ඒ ඖදාරික ආත්මප්‍රතිලාභය කවරේ දැ?' යි අන්හු මෙසේ අප විචාරන්නාහු නම්, මෙසේ ඔවුන් විසින් විචාරන ලද අපි 'ඇවැත්නි, අපි යමක්හුගේ ප්‍රහාණය පිණිස දම් දෙසමෝ ද යම්සේ පිළිපන්නාවූ තොපගේ සිත කෙලෙසන දහම්හු පහ වන්නාහු ද, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු ද, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තෙපි තුමූ ම වෙසෙසින් දැන පසක් කොට ලැබ වසන්නහු ද, ඇවැත්නි, ඒ ඖදාරික ආත්මප්‍රතිලාභය මේ යැ' යි මෙසේ හෙළි කොට කියන්නමු

පොට්ඨපාදය, 'යම්සේ පිළිපන්නාවූ තොපගේ සිත කෙලෙසන දහම්හු පහ වන්නාහු ද, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු ද, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තුමූ ම වෙසෙසින් දැන පසක් කොට ලැබ වසන්නහු ද, ඇවැත්නි, එසේ යමක්හුගේ ප්‍රහාණය පිණිස හවත්හු දහම් දෙසත්නම්, ඒ මනෝමය ආත්මප්‍රතිලාභය කවරේ දැ? යි අන්හු මෙසේ අප විචාරන්නාහු නම්, එසේ ඔවුන් විසින් පුළුවුස්නා ලද අපි "ඇවැත්නි, අපි යමක්හුගේ ප්‍රහාණය පිණිස දහම් දෙසමෝ නම්, යම්සේ පිළිපන්නාවූ තොපගේ සිත කෙලෙසන දහම්හු ප්‍රහීණවන්නාහු නම්, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු නම්, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තුමූ ම වෙසෙසි නුවණින් දැන පසක් කොට ලැබ වසන්නාහු නම්, මේ ඒ මනෝමයආත්මප්‍රතිලාභය වේ යැ" යි මෙසේ හෙළි කොට කියන්නමු

ඉදින් පොට්ඨපාදය, 'යම්සේ පිළිපන්නාවූ තොපගේ සිත කෙලෙසන දහම්හු පහ වන්නාහු නම්, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු නම්, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තුමූ වෙසෙසි නුවණින් දැන පසක් කොට ලැබ වසන්නහු නම්, ඇවැත්නි, එසේ යමක්හුගේ ප්‍රහාණය පිණිස දහම් දෙසවූ නම්, ඒ අරූප ආත්ම-ප්‍රතිලාභය කවරේ දැ?' යි මෙසේ අන්හු අප විචාරන්නාහු නම්, එසේ ඔවුන් විසින් පුළුවුස්නා ලද අපි "ඇවැත්නි, යමක්හුගේ ප්‍රහාණය පිණිස අපි දහම් දෙසමෝ ද, යම් බඳු ව පිළිපන්නවුන්ගේ සිත කෙලෙසන දහම්හු පහ වන්නාහු නම්, සිත පිරිසිදු කරන දහම්හු වෙසෙසින් වැඩෙන්නාහු නම්, ප්‍රඥාවගේ පිරීමත් විපුල බවත් මෙ අත්බව්හි ම තුමූ ම වෙසසි නුවණින් දැන පසක් කොට ලැබ වසන්නහු ද, මේ ඒ අරූප ආත්මප්‍රතිලාභය වේ යැ" යි මෙසේ හෙළි කොට කියන්නමු

පොට්ඨපාදය, එය කිමැයි සිතහි ද, මෙසේ ඇති කල්හි අප වචනය ප්‍රතිහරණ සහිතයෙක් වන්නේ නො වේ ද?

යස්මිං භන්තෙ සමයෙ මනොමයො අත්තපටිලාභො හොති, මොඝස්ස තස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො හොති, මොඝො අරූපො අත්තපටිලාභො මනොමයො ව අත්තපටිලාභො තස්මිං සමයෙ සච්චො හොති

යස්මිං භන්තෙ සමයෙ අරූපො අත්තපටිලාභො හොති, මොඝස්ස තස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො හොති, මොඝො මනොමයො අත්තපටිලාභො අරූපො'වස්ස අත්තපටිලාභො තස්මිං සමයෙ සච්චො හොතී'' ති

''යස්මිං චිත්ත සමයෙ ඔළාරිකො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ මනොමයො අත්තපටිලාභො'ති සඞ්ඛං ගච්ඡති, න 'අරූපො අත්තපටිලාභො ති සඞ්ඛං ගච්ඡති ඔළාරිකො අත්තපටිලාභො' ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති

යස්මිං චිත්ත සමයෙ මනොමයො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ 'ඔළාරිකො අත්තපටිලාභො'ති සඞ්ඛං ගච්ඡති, න 'අරූපො අත්තපටිලාභො'ති සඞ්ඛං ගච්ඡති. මනොමයො අත්තපටිලාභො' ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති

යස්මිං චිත්ත සමයෙ අරූපො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ 'ඔළාරිකො අත්තපටිලාභො' ති සඞ්ඛං ගච්ඡති න 'මනොමයො අත්තපටිලාභො' ති සඞ්ඛං ගච්ඡති 'අරූපො අත්තපටිලාභො' ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති

සචෙ තං චිත්ත එවං පුච්ඡෙය්‍යුං· අහොසි ත්වං අතීතමද්ධානං, න ත්වං නාහොසි? භවිස්සසි ත්වං අනාගතමද්ධානං, න ත්වං න භවිස්සසි? අත්ථි ත්වං එතරහි, න ත්වං නත්ථීති එවං පුට්ඨො ත්වං චිත්ත කින්ති බ්‍යාකරෙය්‍යාසී?'' ති.

''සචෙ මං භන්තෙ එවං පුච්ඡෙය්‍යුං: අහොසි ත්වං අතීතමද්ධානං න ත්වං න භවිස්සසි? අත්ථි ත්වං එතරහි, න ත්වං නත්ථී?'ති එවං පුට්ඨො 'අහං භන්තෙ එවං බ්‍යාකරෙය්‍යං· අහොසාහං[1] අතීතමද්ධානං, නාහං න අහොසිං භවිස්සාමහං අනාගතමද්ධානං, නාහං න භවිස්සාමි අත්ථාහං එතරහි, නාහං නත්ථීති එවං පුට්ඨො 'අහං භන්තෙ එවං බ්‍යාකරෙය්‍යන්ති.''

සචෙ පන තං චිත්ත එවං පුච්ඡෙය්‍යුං· යො තෙ අහොසි අතීතො අත්තපටිලාභො සොව[2] තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අනාගතො, මොඝො පච්චුප්පන්නො? යො තෙ[3] භවිස්සති අනාගතො අත්තපටිලාභො, සොව තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අතීතො, මොඝො පච්චුප්පන්නො අත්තපටිලාභො සොව තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අතීතො, මොඝො අනාගතො? ති එවං පුට්ඨො ත්වං චිත්ත කින්ති බ්‍යාකරෙය්‍යාසී?'' ති

---

1 අහොසහං, 2 සොයෙව, (සයාම) 3 යො වා තෙ, PTS

වහන්ස, යම් කාලෙක මනොමය ආත්මප්‍රතිලාභය වේ නම්, එ කලැ ඔහුගේ ඖදාරික ආත්මප්‍රතිලාභය නැති වෙයිද ? අරූපාත්මප්‍රතිලාභයත් නැති වෙයි ද? එ කල්හි ඔහුගේ මනොමය ආත්මප්‍රතිලාභය ම ඇති වෙයි ද?

වහන්ස, යම් කාලෙක අරූප ආත්මප්‍රතිලාභය වේ නම්, එ කල්හි ඔහුගේ ඖදාරික ආත්මප්‍රතිලාභය හිස් වේ ද? මනොමය ආත්මප්‍රතිලාභයත් හිස් වේ ද? එ කල්හි ඔහුගේ අරූප ආත්මප්‍රතිලාභය ම ඇති වෙයි ද?

[භාග්‍යවත්හු] "චිත්‍රය, යම් කාලෙක ඖදාරික ආත්මප්‍රතිලාභයවේ ද, එ කල්හි 'මනොමය ආත්මප්‍රතිලාභය' යි ව්‍යවහාරයට නො යෙයි. 'අරූප ආත්මප්‍රතිලාභය' යි ද ව්‍යවහාරයට නො යෙයි එ කල්හි 'මනොමය ආත්මප්‍රතිලාභය' යි ම ව්‍යවහාරයට යෙයි

චිත්‍රය, යම් කාලෙක මනොමය ආත්මප්‍රතිලාභය වේ ද, එ කලැ 'ඖදා-රික ආත්මප්‍රතිලාභයැ' යි ව්‍යවහාරයට නො යෙයි. 'අරූප ආත්ම-ප්‍රතිලාභයැ' යි ද ව්‍යවහාරයට නො යෙයි එ කල්හි 'මනොමය ආත්ම-ප්‍රතිලාභය' යි ම ව්‍යවහාරයට යෙයි

චිත්‍රය, යම් කාලෙක අරූප ආත්මප්‍රතිලාභය වේ ද, එ කලැ 'ඖදාරික ආත්මප්‍රතිලාභය' යි ව්‍යවහාරයට නො යෙයි. 'මනොමය ආත්මප්‍රතිලාභය' යි ව්‍යවහාරයට නො යෙයි 'අරූප ආත්මප්‍රතිලාභය' යි ම එ කලැ ව්‍යවහාරයට යෙයි

චිත්‍රය, 'තෝ අතීත කාලයෙහි වූයෙහි ද? තෝ නො ම නො වූයෙහි ද? තෝ අනාගත කාලයෙහි වන්නෙහි ද? තෝ නො ම නො වන්නෙහි ද? තෝ දැන් ඇත් ද? නො ම නැද්ද?' යි ඉදින් මෙසේ තා විචාරන්නාහු නම්, චිත්‍රය, මෙපරිද්දෙන් විචාරන ලද තෝ කෙසේ නම් විසඳන්නෙහි ද ?"

[චිත්‍ර] "වහන්ස, ඉදින් අත්හු 'තෝ අතීත කාලයෙහි වූයෙහි ද? තෝ නො ම නො වූයෙහි ද? තෝ අනාගත කාලයෙහි වන්-නෙහි ද? තෝ නො ම නො වන්නෙහි ද? තෝ දැන් ඇද්ද? තෝ නො ම නැද්ද?" යි මෙසේ විචාරන්නාහු නම්, මෙ පරිද්දෙන් විචාරන ලද මම් මෙසේ විසඳන්නෙමි "අතීත කාලයෙහි මම් වීමි, නො ම නො වීමි අනාගත කාලයෙහි වන්නෙමි, නො ම නො වන්නෙමි දැන් මම් ඇත නො ම නැතැ" යි මෙසේ පුළුවුස්නා ලද මම් මෙ පරිද්දෙන් විසඳන්නෙමි "

[භාග්‍යවත්හු] "චිත්‍රය, තට යම් අතීත ආත්මප්‍රතිලාභයෙක් වී නම්, තගේ ඒ ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අනාගත ආත්මප්‍රතිලාභය අසත්‍ය (හිස්) ද? වර්තමාන ආත්මප්‍රතිලාභයත් අසත්‍ය ද? තට යම් අනා-ගත ආත්මප්‍රතිලාභයෙක් වන්නේ නම්, තගේ ඒ ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අතීත ආත්මප්‍රතිලාභය හිස් ද? වර්තමාන ආත්මප්‍රතිලාභයත් හිස් ද? තගේ දැන් යම් ආත්මප්‍රතිලාභයෙක් ඇත් නම්, තගේ ඒ ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අතීත ආත්මප්‍රතිලාභය හිස් ද? අනාගත ආත්මප්‍රතිලාභයත් හිස් දැ?" යි මෙසේ අන්‍යයෝ තා විචාරන්නාහු නම්, මෙසේ පුළුවුස්නා ලද තෝ කෙසේ නම් විසඳන්නෙහි ද?"

සචෙ පන මං භන්තෙ එවං පුච්ඡෙය්‍යුං· යො තෙ අහොසි අතීතො අත්තපටිලාභො, සොව තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අනාගතො, මොඝො පච්චුප්පන්නො? යො තෙ භවිස්සති අනාගතො අත්තපටිලාභො, සොව තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අතීතො, මොඝො පච්චුප්පන්නො? යො තෙ එතරහි පච්චුප්පන්නො අත්තපටිලාභො, සොව තෙ අත්තපටිලාභො සච්චො, මොඝො අතීතො, මොඝො අනාගතො? ති එවං පුට්ඨො අහං භන්තෙ එවං බ්‍යාකරෙය්‍යං· යො මෙ අහොසි අතීතො අත්තපටිලාභො, සොව මෙ අත්තපටිලාභො තස්මිං සමයෙ සච්චො අහොසි, මොඝො අනාගතො, මොඝො පච්චුප්පන්නො. යො[1] මෙ භවිස්සති අනාගතො අත්තපටිලාභො, සොව මෙ අත්තපටිලාභො තස්මිං සමයෙ සච්චො භවිස්සති, මොඝො පච්චුප්පන්නො. යො මෙ එතරහි පච්චුප්පන්නො අත්තපටිලාභො, සොව මෙ අත්තපටිලාභො සච්චො, මොඝො අතීතො, මොඝො අනාගතො? ති. එවං පුට්ඨො අහං භන්තෙ එවං බ්‍යාකරෙය්‍යන්ති

‘‘එවමෙව ඛො චිත්ත යස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ මනොමයො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති න අරූපො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති ඔළාරිකො අත්තපටිලාභො’ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති යස්මිං චිත්ත සමයෙ මනොමයො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති න අරූපො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති මනොමයො අත්තපටිලාභො’ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති යස්මිං චිත්ත සමයෙ අරූපො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති, න මනොමයො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති අරූපො අත්තපටිලාභො’ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති

සෙය්‍යථාපි චිත්ත ගවා ඛීරං, ඛීරම්හා දධි, දධිම්හා නවනීතං, නවනීතම්හා සප්පි, සප්පිම්හා සප්පිමණ්ඩො, යස්මිං සමයෙ ඛීරං හොති, නෙව තස්මිං සමයෙ දධීති සඞ්ඛං ගච්ඡති. න නවනීතන්ති සඞ්ඛං ගච්ඡති න සප්පීති සඞ්ඛං ගච්ඡති, න සප්පිමණ්ඩොති සඞ්ඛං ගච්ඡති ඛීරං ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති යස්මිං සමයෙ දධි හොති -පෙ- නවනීතං හොති -පෙ- සප්පි හොති -පෙ- යස්මිං සමයෙ සප්පිමණ්ඩො හොති, නෙව තස්මිං සමයෙ ඛීරන්ති සඞ්ඛං ගච්ඡති. න දධීති සඞ්ඛං ගච්ඡති. න නවනීතන්ති සඞ්ඛං ගච්ඡති. ‘සප්පිමණ්ඩො’ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති. එවමෙව ඛො චිත්ත යස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො හොති -පෙ- යස්මිං චිත්ත සමයෙ මනොමයො අත්තපටිලාභො හොති -පෙ- යස්මිං චිත්ත සමයෙ අරූපො අත්තපටිලාභො හොති, නෙව තස්මිං සමයෙ ඔළාරිකො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති න මනොමයො අත්තපටිලාභො’ති සඞ්ඛං ගච්ඡති ‘අරූපො අත්තපටිලාභො’ත්වෙව තස්මිං සමයෙ සඞ්ඛං ගච්ඡති

---

1 යො ච, ස්‍යා යො වා, PTS

[චිත්‍ර] "වහන්ස, අන්‍යයෝ මා බණවා 'තට යම් අතීත ආත්මප්‍රති-ලාභයෙක් වී නම්, තගේ ඒ ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අනාගත ආත්ම-ප්‍රතිලාභය හිස් ද? වර්තමාන ආත්මප්‍රතිලාභයත් හිස් ද? තගේ යම් අනාගත ආත්මප්‍රතිලාභයෙක් වන්නේ නම්, තගේ ඒ අනාගත ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අතීත ආත්මප්‍රතිලාභය හිස් ද? වර්තමාන ආත්මප්‍රතිලාභයත් හිස් ද? තගේ දූන් යම් ආත්මප්‍රතිලාභයෙක් ඇත් නම් තගේ ඒ ආත්මප්‍රතිලාභය ම සත්‍ය ද? අතීත ආත්මප්‍රතිලාභය හිස් ද? අනාගත ආත්මප්‍රතිලාභයත් හිස් දූ" යි මෙසේ විචාරන්නාහු නම්, මෙසේ විචාරන ලද මම් 'මගේ යම් අතීත ආත්මප්‍රතිලාභයෙක් වී නම් එය ම එ සමයෙහි සත්‍ය ය. අනාගත ආත්මප්‍රතිලාභය හිස් ය වර්තමාන ආත්මප්‍රතිලාභය ද හිස් ය. මගේ යම් අනාගත ආත්මප්‍රතිලාභයෙක් වන්නේ නම්, එ කල්හි මගේ එ අත්බව ම සත්‍ය වන්නේ ය අතීත ආත්මප්‍රතිලාභය හිස් වන්නේ ය වර්තමාන ආත්මප්‍රතිලාභය ද හිස් වන්නේ ය මගේ දූන් යම් වර්තමාන ආත්මප්‍රතිලාභ-යෙක් ඇද්ද, එය ම සත්‍ය ය අතීත ආත්මප්‍රතිලාභය හිස් ය අනාගත ආත්මප්‍රතිලාභයත් හිස් යැ' යි මෙසේ විසඳන්නෙම් වහන්ස, මේ යටකී පරිදි විචාරන ලදුයෙම් මෙ පරිද්දෙන් විසඳන්නෙම්".

[භාග්‍යවත්හු] "චිත්‍රය, එසේ ම යම් කලෙක ඖදාරික ආත්ම-ප්‍රතිලාභය වේ නම්, එකල්හි 'මනොමය ආත්මප්‍රතිලාභයැ' යි ව්‍යවහාරයට නො යෙයි. අරූප ආත්මප්‍රතිලාභයැ යි ද ව්‍යවහාරයට නො යෙයි ඖදාරික ආත්මප්‍රතිලාභයැ යි ම එකල්හි ව්‍යවහාරයට යෙයි. චිත්‍රය, යම් කලෙක මනොමය ආත්මප්‍රතිලාභය වේ ද, චිත්‍රය, එ කල්හි ඖදාරික ආත්ම-ප්‍රතිලාභයැ යි ව්‍යවහාරයට නො යෙයි අරූප ආත්මප්‍රතිලාභයැ යි ද ව්‍යවහාරයට නො යෙයි මනොමය ආත්මප්‍රතිලාභයැ යි ම එ සමයෙහි ව්‍යවහාරයට යෙයි චිත්‍රය, යම් කලෙක අරූප ආත්මප්‍රතිලාභය වේ ද, එ කලැ ඖදාරික ආත්මප්‍රතිලාභ යැ යි ව්‍යවහාරයට නො යෙයි මනො-මය ආත්මප්‍රතිලාභයැ යි ද ව්‍යවහරයට නො යෙයි අරූප ආත්මප්‍රති-ලාභයැ යි ම එ කලැ ව්‍යවහාරයට යෙයි.

චිත්‍රය, දෙන ගෙන් කිරිත්, කිරෙන් දිහිත්, දිහියෙන් වෙඬරුත්, වෙඬරුයෙන් ගිතෙලුත්, ගිතෙලින් ගීමඬත් යම්සේ වේ ද, යම් කලෙක කිරි වේ නම් එ කල්හි දිහි යැ යි ව්‍යවහාරයට නො යේ ද, වෙඬුරැ යි ව්‍යවහාරයට නො යේ ද, ගිතෙලැ යි ව්‍යවහාරයට නො යේ ද, ගිමඬැ යි ව්‍යවහාරයට නො යේ ද, කිරි යැ යි ම එකලැ ව්‍යවහාරයට යේ ද; යම් කලෙක දිහි වේ නම් වෙඬරු වේ නම් ගිතෙල් වේ නම් යම් කලෙක ගිමඬ වේ නම්, එ කලැ කිරැ යි වහරට නො යේ ද, දිහි යැ යි වහරට නො යේ ද, වෙඬුරැ යි වහරට නො යේ ද, ගිතෙලැ යි වහරට නො යේ ද, ගීමඬැ යි ම එ කලැ වහරට යේ ද, චිත්‍රය, එසේ ම යම් කලෙක ඖදාරික ආත්මප්‍රතිලාභය වේ ද චිත්‍රය, යම් කලෙක මනොමය ආත්මප්‍රතිල භය වේ ද චිත්‍රය, යම් කලෙක අරූප ආත්ම-ප්‍රතිලාභය වේ ද, එ සමයෙහි ඖදාරික ආත්මප්‍රලාභයැ යි වහරට නො යෙයි මනොමය ආත්මප්‍රතිලාභයැ' යි ද වහරට නො යෙයි. අරූප ආත්මප්‍රතිලාභයැ යි ම එකල්හි වහරට යෙයි.

ඉමා[1] ඛො චිත්ත ලොකසමඤ්ඤා ලොකනිරුත්තියො ලොකවොහාරා ලොකපඤ්ඤත්තියො යාහි තථාගතො වොහරති අපරාමසන්ති

එවං වුත්තෙ පොට්ඨපාදෙ පරිබ්බාජකො භගවන්තං එතදවොච: අභික්කන්තං භන්තෙ අභික්කන්තං භන්තෙ සෙය්‍යථාපි භන්තෙ නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය 'චක්ඛුමන්තො රූපානි දක්ඛින්තී'ති, එවමෙව භන්තෙ භගවතා අනෙකපරියායෙන ධම්මො පකාසිතො. එසාහං භන්තෙ භගවන්තං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච. උපාසකං මං භන්තෙ භගවා[2] ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතන්ති

චිත්තො පන හත්ථිසාරිපුත්තො භගවන්තං එතදවොච: අභික්කන්තං භන්තෙ අභික්කන්තං භන්තෙ සෙය්‍යථාපි භන්තෙ නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය 'චක්ඛුමන්තො රූපානි දක්ඛින්තී'ති, එවමෙව භන්තෙ භගවතා අනෙකපරියායෙන ධම්මො පකාසිතො එසාහං භන්තෙ භගවන්තං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච ලභෙය්‍යාහං භන්තෙ භගවතො සන්තිකෙ පබ්බජ්ජං, ලභෙය්‍යං උපසම්පදන්ති

අලත්ථ ඛො චිත්තො හත්ථිසාරිපුත්තො භගවතො සන්තිකෙ පබ්බජ්ජං. අලත්ථ උපසම්පදං අචිරූපසම්පන්නො ඛො පනායස්මා චිත්තො හත්ථිසාරිපුත්තො එකො වූපකට්ඨො අප්පමත්තො විහරන්තො න චිරස්සෙව යස්සත්ථාය කුලපුත්තා සම්මදෙව අගාරස්මා අනගාරියං පබ්බජන්ති තදනුත්තරං බ්‍රහ්මචරියපරියොසානං දිට්ඨෙව ධම්මෙ සයං අභිඤ්ඤා සච්ඡිකත්වා උපසම්පජ්ජ විහාසි ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායා'ති අබ්භඤ්ඤාසි අඤ්ඤතරො ච ඛො පනායස්මා චිත්තො හත්ථිසාරිපුත්තො අරහතං අහොසීති

**පොට්ඨපාදසුත්තං නිට්ඨිතං නවමං.**

1 ඉතිමා, PTS

2. භගවා ස්‍යා, භවං ගොතමො, සීමු.

චිත්‍රය, තථාගත තෙමේ තෘෂ්ණාමානදෘෂ්ටීන් පරාමර්ශන නො කරනුයේ "ඔළාරිකො අත්තපටිලාභො" යන ආදි යම් සංඥාවන්ගෙන් ව්‍යවහාර කෙරේ ද, ඒ ඖදාරික ආත්මප්‍රතිලාභාදීහු ලොවැ සංඥාමාත්‍රයෝ ය, ලොවැ වචනපථමාත්‍රයෝ ය, ලොවැ ව්‍යවහාර මාත්‍රයෝ ය, ලොවැ නාමප්‍රඥප්ති-මාත්‍රයෝ ය.

65. භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ කල්හි පොට්ඨපාද පිරිවැජි තෙම "වහන්ස, අභික්‍රාන්ත යැ වහන්ස, අභික්‍රාන්ත යැ. වහන්ස, යම්සේ යැටිකුරු කොට තබන ලද්දක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, මුළා වූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියන් රූප දකිති' සි අඳුරෙහි තෙල්පහනක් දරන්නේ හෝ වේ ද, එපරිද්දෙන් ම භාග්‍යවතුන් වහන්සේ විසින් නොයෙක් කරුණින් දහම් පැවැසිණ. වහන්ස, ඒ මම් භාග්‍යවතුන් වහන්සේ ද ධර්මය ද භික්ෂුසඞ්ඝයා ද සරණ යෙමි වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මා අද පටන් කොට දිවිහිමියෙන් සරණ ගිය උවසකු කොට සලකන සේක් වා" සි භාග්‍යවතුන් වහන්සේට සැළ කෙළේ ය

ඇත්සැරිපුත් චිත්‍ර වූ කලී 'වහන්ස, අභික්‍රාන්ත යැ. වහන්ස, අභික්‍රාන්ත යැ. වහන්ස, යම්සේ යැටිකුරු කොට තබන ලද්දක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු දෑයක් විවෘත කරන්නේ හෝ වේ ද, මංමුළා වූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියන් රූප දකිති' සි අඳුරෙහි තෙල්පානක් දරන්නේ හෝ වේ ද, එ පරිද්දෙන් ම භාග්‍ය-වතුන් වහන්සේ විසින් නොයෙක් කරුණින් දහම් පැවසිණ වහන්ස, ඒ මම් භාග්‍යවතුන් වහන්සේ ද ධර්මය ද භික්ෂුසඞ්ඝයා ද සරණ යෙමි. වහන්ස, මම් භාග්‍යවතුන් වහන්සේ වෙතැ පැවිද්දත් උපසපුවත් ලබම් වා" සි කී ය

ඇත්සැරිපුත් චිත්‍ර තෙම භාග්‍යවතුන් වහන්සේ වෙතැ පැවිද්ද ලදුයේ ම ය, උපසපුවත් ලදුයේ ම ය ඇත්සැරිපුත් ආයුෂ්මත් චිත්‍ර තෙම උපසපුව ලත් නොබෝ කල් ඇත්තේ ම, එකලා වූයේ, ගණයා කෙරෙන් වෙන් වූයේ, නො පමා වූයේ, කෙලෙස් තවන වැරුත්තේ, නිවන් කරා මෙහෙයූ සිතැති වැ වසනුයේ, යමක් පිණිස කුලපුත්හු මොනොවට ම ගිහිගෙන් නික්මැ සසුන් වදිත් ද, ඒ නිරුත්තර වූ මාර්ගබ්‍රහ්මචර්‍ය්‍යාවසානය (රහත්ඵලය) මෙ අත්බව්හි මැ තෙමේ ම වෙසෙසි නුවණින් දැන පසක් කොට ලැබැ විසී ය. 'පුනර්ජන්මය ක්ෂීණ විය, මඟබඹසර වැසැ නිමැවිණ, කටයුතු දෑ කරනු ලැබී ය මේ පිණිස තවත් කළ යුත්තෙක් නැතැ' සි වෙසෙසින් දැන ගත්තේය ආයුෂ්මත් හස්තිශාරිපුත්‍ර චිත්‍ර ද රහතුන්ගෙන් එක්තරා නමෙක් වී ය.

නවවනු පොට්ඨපාද සූත්‍රය නිමියේ ය.

# 10

# සුභසුත්තං

1 එවං මෙ සුතං එකං සමයං ආයස්මා ආනන්දො සාවත්ථියං විහරති ජෙතවනෙ අනාථපිණ්ඩිකස්ස ආරාමෙ අචිරපරිනිබ්බුතෙ භගවති තෙන ඛො පන සමයෙන සුභො මාණවො තොදෙය්‍යපුත්තො සාවත්ථියං පටිවසති කෙනචිදෙව කරණීයෙන

2 අථ ඛො සුභො මාණවො තොදෙය්‍යපුත්තො අඤ්ඤතරං මාණවකං ආමන්තෙසි· එහි ත්වං මාණවක, යෙන සමණො ආනන්දො තෙනුපසඞ්කම, උපසඞ්කමිත්වා මම වචනෙන සමණං ආනන්දං අප්පාබාධං අප්පාතඞ්කං ලහුට්ඨානං බලං ඵාසුවිහාරං පුච්ඡ “සුභො මාණවො තොදෙය්‍යපුත්තො භවන්තං ආනන්දං අප්පාබාධං අප්පාතඞ්කං ලහුට්ඨානං බලං ඵාසුවිහාරං පුච්ඡතී”ති. එවං ච වදෙහි “සාධු කිර භවං ආනන්දො යෙන සුභස්ස මාණවස්ස තොදෙය්‍යපුත්තස්ස නිවෙසනං තෙනුපසඞ්කමතු අනුකම්පං උපාදායා” ති

3 ‘එවං භො’ති ඛො සො මාණවකො සුභස්ස මාණවස්ස තොදෙය්‍යපුත්තස්ස පටිස්සුත්වා යෙනායස්මා ආනන්දො තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා ආයස්මතා ආනන්දෙන සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරණීයං[1] වීතිසාරෙත්වා එකමන්තං නිසීදි එකමන්තං නිසින්නො ඛො සො මාණවකො ආයස්මන්තං ආනන්දං එතදවොච· සුභො මාණවො තොදෙය්‍යපුත්තො භවන්තං ආනන්දං අප්පාබාධං අප්පාතඞ්කං ලහුට්ඨානං බලං ඵාසුවිහාරං පුච්ඡති එවං ච වදෙති “සාධු කිර භවං ආනන්දො යෙන සුභස්ස මාණවස්ස තොදෙය්‍යපුත්තස්ස නිවෙසනං තෙනුපසඞ්කමතු අනුකම්පං උපාදායා” ති

4 එවං වුත්තෙ ආයස්මා ආනන්දො තං මාණවකං එතදවොච· අකාලො ඛො මාණවක. අත්ථි මෙ අජ්ජ භෙසජ්ජමත්තා පීතා අප්පෙවනාම ස්වෙපි උපසඞ්කමෙය්‍යාම කාලඤ්ච සමයඤ්ච උපාදායාති. ‘එවං භො’ති ඛො සො මාණවකො ආයස්මතො ආනන්දස්ස පටිස්සුත්වා උට්ඨායාසනා යෙන සුභො මාණවො තොදෙය්‍යපුත්තො තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා සුභං මාණවං තොදෙය්‍යපුත්තං එතදවොච· “අවොචුම්හ[2] ඛො මයං භොතො වචනෙන තං භවන්තං ආනන්දං· සුභො මාණවො තොදෙය්‍යපුත්තො භවන්තං ආනන්දං අප්පාබාධං අප්පාතඞ්කං ලහුට්ඨානං බලං ඵාසුවිහාරං පුච්ඡති එවං ච වදෙති ‘සාධු කිර භවං ආනන්දො යෙන සුභස්ස මාණවස්ස තොදෙය්‍යපුත්තස්ස නිවෙසනං තෙනුපසඞ්කමතු අනුකම්පං උපාදායා’ ති එවං වුත්තෙ භො සමණො ආනන්දො මං එතදවොච ‘අකාලො ඛො මාණවක අත්ථි මෙ අජ්ජ භෙසජ්ජමත්තා පීතා. අප්පෙව නාම ස්වෙපි උපසඞ්කමෙය්‍යාම කාලඤ්ච සමයඤ්ච උපාදායා” ති ‘එත්තාවතාපි ඛො භො කතමෙව එතං, යතො ඛො සො භවං[3] ආනන්දො ඔකාසමකාසි ස්වාතනායපි උපසඞ්කමනායා” ති

---

1 කථං සංරඤ්ජනීයං (මහායානගණෙච්ඡු)

2 අවොචුම්හා, සීමු    2 ඛො සො භවං, PTS

# 10

# ශුභසූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදි එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ පිරිනිවී නොබෝ කල්හි අනඳ තෙරණුවෝ සැවැත්නුවර නිසා දෙව්රම් නම් වූ අනේපිඬුසිටුහු අරමෙහි වෙසෙති එ සමයෙහි තොදෙය්‍ය බමුණහු පුත් වූ ශුභ මාණව තෙම කිසි කටයුත්තෙකින් සැවැත්නුවරැ වෙසෙයි

2. එකලැ තොදෙය්‍ය බමුණහු පුත් ශුභ මාණව තෙම එක්තරා මාණවකයකු බණවා, "මාණවකය, මෙහි එන්නැ. අනඳ මහණහු කරා එළැඹෙන්නැ එළැඹැ "ශුභ මාණව තෙමේ පින්වත් අනඳ වහන්දූ අල්පාබාධ නියා, නීරොග නියා, හැල්ලු පැවැතුම් ඇති නියා, කාබල ඇති නියා, සුවපහසු විහරණ ඇති නියා විචාරා" යි මා බසින් පින්වත් අනඳ වහන්දූ අල්පාබාධ නියා විචාරන්නැ "පින්වත් අනඳ තෙරණුවෝ අනුකම්පා සඳහා තොදෙය්‍ය බමුණහු පුත් ශුභමාණවයාගේ ගෙය කරා වඩිත් වා එසේ වඩිතොත් ඒ ඉතා මැනැවැ" යි මෙසේත් කියන්නැ යි ඇණැවී ය.

3. 'එසේ යැ භවතැ' යි කියා ම ඒ මාණවක තෙම තොදෙය්‍ය බමුණහු පුත් ශුභ මාණවයාට පිළිවදන් දී අනඳ තෙරුන් කරා එළැඹියේ ය. එළැඹැ අනඳ තෙරුන් හා සතුටු විය සතුටට කරුණු වූ සිහි රැඳැවියැ යුතු වූ කථා නිමවා පසෙකැ හිඳැ ගත. පසෙකැ හුන් ම ඒ මාණවක තෙම "තොදෙය්‍ය බමුණහු පුත් ශුභ මාණව භවත් අනඳ වහන්දූ අල්පාබාධ නියා, නීරොග නියා, හැල්ලු පැවැතුම් ඇති නියා, කාබල ඇති නියා, සුඛ විහරණ ඇති නියා විචාරයි 'පින්වත් අනඳ වහන්දූ තොදෙය්‍ය බමුණහු පුත් ශුභ මාණවයාගේ ගෙය කරා එළැඹෙත් වා එසේ එළැඹෙතොත් ඒ ඉතා මැනැවැ යි මෙසේත් කියා" යැ යි අනඳ තෙරුනට සැළ කෙළේ ය

4 මෙසේ කී කලැ අනඳ තෙරණුවෝ ඒ මාණවකයාට "මාණවකය, දැන් නොකල් ම ය අද මා ස්වල්ප බෙහෙදක් පිවා ඇත කල් වේලා සලකා සෙට වත් එළැඹෙන්නමෝ වේ දූ" යි වදාළහ 'එසේ යැ පින්වතැ'යි කියා ම ඒ මාණවක තෙම අනඳ තෙරුනට පිළිවදන් දී හුනස්නෙන් නැගී තොදෙය්‍ය පුත් ශුභ මාණවයා වෙත ගියේ ය ගොස් තොදෙය්‍ය පුත් ශුභ මාණවයාට 'තොදෙය්‍ය පුත් ශුභ මාණව තෙම පින්වත් අනඳ වහන්දූ අල්පාබාධ නියා, නීරොග නියා, හැල්ලු පැවැතුම් ඇති නියා, කාබල ඇති නියා, සුඛ විහරණ ඇති නියා, විචාරයි පින්වත් අනඳ වහන්දූ අනුකම්පා කොට තොදෙය්‍ය බමුණු පුත් ශුභ මාණවයාගේ ගෙට වඩිත් වා එසේ වඩිතොත් ඉතා මැනැවැයි මෙසේත් කියා"යැ යි භවත්හුගේ වචනයෙන් ඒ පින්වත් අනඳ වහන්දූට සැළ කළම්හ භවත, අප එසේ සැළ කළ කල්හි අනඳ වහන්දූ මට "මාණවකය, දැන් නොකල් ම ය අද මා ස්වල්ප බෙහෙදක් පිවා ඇත කල් වේලා සලකා සෙට වත් එළැඹෙන්නමෝ වේ දූ' යි වදාළහ" යි කීයේ ය "භවත, යම් හෙයෙකින් පින්වත් අනඳ වහන්දූ හෙට වත් මෙහි එළැඹෙන්නට අවකාශ කළෝ ද, මෙතෙකින් මත් මේ (අප නිමන්ත්‍රණය පිළිගැන්ම) කරන ලද්දේ මැ යැ" යි ශුභ මාණව කී ය.

5. අථ ඛො ආයස්මා ආනන්දො තස්සා රත්තියා අච්චයෙන පුබ්බණ්හසමයං නිවාසෙත්වා පත්තචීවරං ආදාය චෙතකෙන භික්ඛුනා පච්ඡාසමණෙන යෙන සුභස්ස මාණවස්ස තොදෙය්‍යපුත්තස්ස නිවෙසනං තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා පඤ්ඤත්තෙ ආසනෙ නිසීදි අථ ඛො සුභො මාණවො තොදෙය්‍යපුත්තො යෙනායස්මා ආනන්දො තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා ආයස්මතා ආනන්දෙන සද්ධිං සම්මොදි සම්මොදනීයං කථං සාරණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදි

6. එකමන්තං නිසින්නො ඛො සුභො මාණවො තොදෙය්‍යපුත්තො ආයස්මන්තං ආනන්දං එතදවොච "භවං හි ආනන්දො තස්ස භොතො ගොතමස්ස දීඝරත්තං උපට්ඨාකො සන්තිකාවචරො සමීපචාරී භවං එතං ආනන්දො ජානෙය්‍ය යෙසං සො භවං ගොතමො ධම්මානං වණ්ණවාදී අහොසි, යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසි. කතමෙසානං ඛො භො ආනන්ද ධම්මානං සො භවං ගොතමො වණ්ණවාදී අහොසි? කත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසී?" ති

7 "තිණ්ණං ඛො මාණව ඛන්ධානං සො භගවා වණ්ණවාදී අහොසි, එත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසි. කතමෙසං තිණ්ණං? අරියස්ස සීලක්ඛන්ධස්ස අරියස්ස සමාධික්ඛන්ධස්ස අරියස්ස පඤ්ඤාක්ඛන්ධස්ස. ඉමෙසං ඛො මාණව තිණ්ණං ඛන්ධානං සො භගවා වණ්ණවාදී අහොසි. එත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසී" ති.

8 "කතමො පන සො භො ආනන්ද අරියො සීලක්ඛන්ධො යස්ස සො භවං ගොතමො වණ්ණවාදී අහොසි, යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසී?" ති

9 "ඉධ මාණව තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා. සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණ බ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති. සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං. පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති.

5. ඉක්බිත්තෙන් අනඳ තෙරණුවෝ එ රැය ඇවෑමෙන් පෙරවරුයෙහි හැඳ පෙරෙව පාසිවුරු ගෙන පසුමහණකු වූ චේතක භික්ෂුවු කැටුව තොදෙය්‍ය පුත් ශුභ මාණවයාගේ ගෙය කරා එළැඹියහ එළැඹ පණවන ලද අස්නෙහි හිඳ ගත්හ එ කල්හි ම තොදෙය්‍ය පුත් ශුභ මාණව තෙම අනඳ තෙරුන් කරා එළැඹියේ ය එළැඹ අනඳ තෙරුන් හා සතුටු විය. සතුටට කරුණු වූ සිහි කටයුතු වූ කතා කොට නිමවා එක් පසෙක හිඳ ගත

6. එක් පසෙක හිඳ ගත් ම තොදෙය්‍ය පුත් ශුභ මාණව තෙම අනඳ තෙරුනට මෙය කී ය· "පින්වත් අනඳ වහන්ද වූ කලි ඒ භවත් ගෞතමයන් වහන්සේට දික් කලක් උපස්ථායක වූ, වෙත ම ගැවැසුණු, ළඟ ම හැසුරුණු කෙනෙක ඒ භවද්ගෞතමයන් වහන්සේ යම් දහම් කෙනෙ-කුන්ගේ ගුණ කියන සුලු වූසේක් ද, යම් දහමෙක්හි මේ ජනසමූහයා ගැන්වූ සේක් ද, පිවිස්වූ සේක්ද, පිහිටුවූ සේක් ද, එය පින්වත් අනඳ වහන්ද දත්නාහ පින්වත් අනඳ තෙරුනි, ඒ භවද් ගෞතමයන් වහන්සේ කවර නම් දහම් කෙනෙකුන්ගේ ගුණ කියන සුලු වූ සේක් ද? කවර නම් දහමෙක්හි මේ ජනමුළුව ගැන්වූ සේක් ද? පිවිස්වූ සේක් ද?" පිහිටුවූ සේක්ද?

7. (එ විට අනඳ තෙරණුවෝ මෙසේ වදාළහ) "මාණවය, ඒ භාග්‍ය වතුන් වහන්සේ ස්කන්ධ තුනෙක ගුණ වදරන සුලු වූ සේක. එහි ම මේ දනමුළුව ගැන්වූ සේක, පිවිස්වූ සේක, පිහිට්වූ සේක. කවර ස්කන්ධ තුනෙක ද? යත්: ආර්‍ය්‍යශීලස්කන්ධයත් ආර්‍ය්‍යසමාධිස්කන්ධයත් ආර්‍ය්‍ය ප්‍රඥාස්කන්ධයත් යන තුනේ ය. මාණවය, ඒ භාග්‍යවතුන් වහන්සේ මේ තුන් ස්කන්ධයන්ගේ ගුණ වදරන සුලු වූ සේක. මෙහි ම මේ දනමුළුව ගැන්වූ සේක, පිවිස්වූ සේක, පිහිට්වූ සේක"

8 [ශුභ මාණව] "පින්වත් අනඳ තෙරුනි, ඒ භවද්ගෞතමයන් වහන්සේ යම් දහමකුන්ගේ ගුණ වදරන සුලු වූ සේක් නම්, යම් දහමෙක්හි මේ ජනතාව ගැන්වූ සේක් නම්, පිවිස්වූ සේක් නම්, පිහිටිවූ සේක් නම්, ඒ ආර්‍ය්‍ය ශීලස්කන්ධය කවරේ යැ?"

9 [අනඳ තෙරණුවෝ:] "මාණවය, මෙහි අර්හත් වූ සම්‍යක්සම්බුද්ධ වූ විද්‍යාචරණසම්පන්න වූ සුගත වූ ලෝකවිත් වූ නිරුත්තර පුරුෂදම්‍යසාරථි වූ දෙව්මිනිස්නට ශාස්තෘ වූ බුද්ධ වූ භගවත් වූ තථාගත තෙමේ ලොව පහළ වෙයි හේ දෙවියන් සහිත වූ මරුන් සහිත වූ බඹුන් සහිත වූ මේ ලෝකය ද, මහණ බමුණන් සහිත, සම්මත දෙවියන් (රජුන්) හා සෙසු මිනිසුන් හා සහිත සත්‍වප්‍රජාව ද තෙමේ විශිෂ්ට නුවණින් දැන, ප්‍රත්‍යක්ෂ කොට, ඔවුනට අවබෝධ කරවයි හේ දහම් දෙසනුයේ ආදියෙහි භද්‍රක (නිවරද) කොට, මධ්‍යයෙහි භද්‍රක (නිවරද) කොට, අවසන භද්‍රක (නිවරද) කොට, අර්ථ සහිත කොට, ව්‍යංජන සහිත කොට, සර්වප්‍රකාරයෙන් පරිපූර්ණ කොට, දහම් දෙසයි (එසේ දෙසනුයේ ශික්ෂාත්‍රයයෙන් සංගෘහීත වූ) පරිශුද්ධ ශාසනබ්‍රහ්මචර්‍ය්‍යය ප්‍රකාශ කෙරෙයි.

16 පිසුණං වාචං[1] පහාය පිසුණාය වාචාය පටිවිරතො හොති ඉතො සුත්වා න අමුත්‍ර අක්ඛාතා ඉමෙසං භෙදාය අමුත්‍ර වා සුත්වා න ඉමෙසං අක්ඛාතා අමූසං භෙදාය ඉති භින්නානං වා සන්ධාතා, සංහිතානං වා අනුප්පදාතා[2] සමග්ගාරාමො[3] සමග්ගරතො සමග්ගනන්දී සමග්ගකරණිං වාචං භාසිතා හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

17. ඵරුසං වාචං[4] පහාය ඵරුසාය වාචාය පටිවිරතො හොති. යා සා වාචා නෙලා කණ්ණසුඛා පෙමනීයා[5] හදයඞ්ගමා පොරී බහුජනකන්තා බහුජනමනාපා, තථාරූපං[6] වාචං භාසිතා හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

18 සම්ඵප්පලාපං පහාය සම්ඵප්පලාපා පටිවිරතො හොති කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී. නිධානවතිං වාචං භාසිතා හොති කාලෙන සාපදෙසං පරියන්තවතිං අත්ථසංහිතං. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

19 බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති ඒකභත්තිකො හොති රත්තූපරතො පටිවිරතො විකාලභොජනා නච්චගීතවාදිතවිසූක-දස්සනා පටිවිරතො හොති මාලාගන්ධවිලෙපනධාරණමණ්ඩනවිභූසනට්ඨානා පටිවිරතො හොති. උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ජාතරූප-රජතපටිග්ගහණා පටිවිරතො හොති. ආමකධඤ්ඤපටිග්ගහණා පටිවිරතො හොති. ආමකමංසපටිග්ගහණා පටිවිරතො හොති. ඉත්ථිකුමාරිකපටිග්ගහණා පටිවිරතො හොති. දාසිදාසපටිග්ගහණා පටිවිරතො හොති. අජෙළක-පටිග්ගහණා පටිවිරතො හොති කුක්කුටසූකරපටිග්ගහණා පටිවිරතො හොති හත්ථිගවස්සවළවාපටිග්ගහණා පටිවිරතො හොති ඛෙත්තවත්ථුපටිග්ගහණා පටිවිරතො හොති දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති. කයවික්කයා පටිවිරතො හොති. තුලාකූටකංසකූටමානකූටා පටිවිරතො හොති. උක්කොටනවඤ්චනනිකතිසාචියොගා පටිවිරතො හොති. ඡෙදනවධබන්ධනවිපරාමොසආලොපසහසාකාරා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

## චූලසීලං නිට්ඨිතං.

---

1 පිසුණාවාචං, PTS 2 අප්පදාතා, PTS 3 සමග්ගාරාමො, මජසං. 4 ඵරුසාවාචං, PTS 5. පෙමනීයා, මජසං 6 එවරූපිං PTS

16 හේ කේලාම් කීම දුරු ලා, කේලාම් කීමෙන් වැළැක්කේ වේ මෙ තැනින් අසා මොවුන් (ඔවුන්ගෙන්) බිඳුවනු පිණිස එතැන්හි නො කියනසුලු වූයේ, එ තැනින් අසා ඔවුන් (මොවුන්ගෙන්) බිඳුවනු පිණිස මෙ තන්හි නො කියනසුලු වූයේ, මෙසේ බිඳුණවුන් ගළපන්නේ (සමග කරන්නේ) ද, එකට ගැළැපුණවුන් (සමගියට පැමිණියවුන්) හට රුකුල් දෙන්නේ ද වෙයි සමගියෙන් සිටින්නවුන් හා වාසය කැමැත්තේ, සමගියෙන් වසන්නවුනට කැමැත්තේ, සමග වැ සිටින්නවුනට සතුටු වනුයේ, සමගිය ඇති කරන බස් කියන්නේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

17 හේ රළු බිණුම් දුරුලා, රළු බස් දෙඩුමෙන් වැළැක්කේ වෙයි නිදොස්, කන්කලු, පෙම් උපදවන, පහසුවෙන් සිතැ වැදගන්නා, නොගැමි, බොහෝ දෙනාට ප්‍රිය, බොහෝ දෙනාගේ මන වඩන යම් බසෙක් වේ ද, එබඳු වූ බස් කියන්නේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

18 හේ බොල් හිස් දෙඩැවිලි හැරලා, බොල් දෙඩැවිල්ලෙන් වැළැක්කේ වෙයි සුදුසු කාලවේලායෙහි කථා කරන සුලු වූයේ, ඇත්ත ම කියන සුලු වූයේ, වැඩ සලසන බසක් ම කියනසුලු වූයේ, නව ලොවුතුරුදහම් ඇසුරු කොට ම කියනසුලු වූයේ, හික්මීම ඇති කරන බසක් ම කියන සුලු වූයේ, සිතැ තබා ගන්නට සුදුසු වූ, කාරුණ්‍ය සහිත වූ, ඉමක් කොනක් ඇති (ප්‍රමාණවත් වූ), දෙලෝ වැඩ හා සම්බන්ධ වූ ම බසක් සුදුසු කාලයෙහි කියන්නේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

19 හේ බීජසමූහ (පැළ වන දෑ) ද, භූතසමූහ (පැළ වුණු දෑ) ද සිඳු-මෙන් බිඳුමෙන් වැළැක්කේ වෙයි රෑ බොජුනෙන් වැළැක්කේ, එක් වේලේ වළඳන බත් ඇත්තේ, නොකල්බොජුනෙන් වැළැක්කේ වෙයි. නටනු ගනු වයනු විසුළුදසුන් යන මෙයින් වැළැක්කේ වෙයි ඇඟැ අඩු තැන් පිරවීමට, ඇඟ සැරසීමට කරුණු වන මල්ගඳවිලෙවුන් දැරීමෙන් වැළැක්කේ වෙයි පමණ ඉක්මි උසසුන් ද, නොකැප වූ මහඅසුන්ද යන දෙකින් ම වැළැක්කේ වෙයි රන් රිදී මසු කහවණු පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි අමු ධාන්‍ය පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි අමු මස් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි ස්ත්‍රීන් කුමාරිකාවන් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි දැසිදසුන් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි. එළුවන් බැටළුවන් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි කුකුළන් හූරන් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි ඇතුන් අසුන් වෙළෙඹුන් ගෙරින් පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි කෙත්වතු පිළිගැන්මෙන් වැළැක්කේ වෙයි ගිහියනට දූත මෙහෙවර කිරීමෙහි ද ගෙන්ගෙට පණිවුඩ පණත් ගෙන යැමෙහි ද යෙදීමෙන් වැළැක්කේ වෙයි වෙළෙඳ ගනුදෙනුයෙන් වැළැක්කේ වෙයි හොරතරාදියෙන් කිරුමෙන්, බොරු රන් පෑමෙන්, හොර මිනුම්වලින් මිනුමෙන් වැළැක්කේ වෙයි අල්ලස් ගෙන හිමියන් නොහිමි කිරීමෙන්, නානා උපායයෙන් අනුන් රැවැටුමෙන්, අගනා දෑයට හුරු නො අගනා දෑයක් පෙන්නා කරන මායායෙන්, මෙ කී නොකී හැම කෛරාටික කම්වලින් ම වැළැක්කේ වෙයි අත් පා ආදිය සිඳීමෙන් ද, මැරීමෙන් ද, රැනැන් ආදියෙන් බැඳීමෙන් ද, සැහැසිකම් කිරීමෙන් ද වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වෙයි

චූලශීලය නිමියේ ය.

24. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං උච්චාසයනමහාසයනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: ආසන්දිං පල්ලඞ්කං ගොනකං චිත්තකං පටිකං පටලිකං තූලිකං විකතිකං උද්දලොමිං එකන්තලොමිං කට්ඨිස්සං කොසෙය්‍යං කුත්තකං හත්ථත්ථරං අස්සත්ථරං රථත්ථරං අජිනප්පවෙණිං කාදලිමිගපවර-පච්චත්ථරණං සඋත්තරච්ඡදං උභතොලොහිතකූපධානං ඉති වා ඉති එවරූපා උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

25 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජ-නානි භුඤ්ජිත්වා තෙ එවරූපං මණ්ඩනවිභූසනට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: උච්ඡාදනං පරිමද්දනං නහාපනං සම්බාහනං ආදාසං අඤ්ජනං මාලාවිලෙපනං මුඛචුණ්ණකං මුඛලෙපනං හත්ථබන්ධං සිඛාබන්ධං දණ්ඩකං නාළිකං ඛග්ගං ඡත්තං චිත්‍රුපාහනං උණ්හීසං මණිං වාලබීජනිං ඔදාතානි වත්ථානි දීඝදසානි ඉති වා ඉති එවරූපා මණ්ඩනවිභූසනට්ඨානානු-යොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

26 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං තිරච්ඡානකථං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: රාජකථං චොරකථං මහාමත්තකථං සෙනාකථං භයකථං යුද්ධකථං අන්නකථං පානකථං වත්ථකථං සයනකථං මාලාකථං ගන්ධකථං ඤාතිකථං යානකථං ගාමකථං නිගමකථං නගරකථං ජනපදකථං ඉත්ථි-කථං පුරිසකථං [කුමාරකථං කුමාරිකථං] සූරකථං විසිඛාකථං කුම්භට්ඨාන-කථං පුබ්බපෙතකථං නානත්තකථං ලොකක්ඛායිකං සමුද්දක්ඛායිකං ඉතිභවාභවකථං ඉති වා ඉති එවරූපාය තිරච්ඡානකථාය පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

27. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විග්ගාහිකකථං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: න ත්වං ඉමං ධම්මවිනයං ආජානාසි අහං ඉමං ධම්මවිනයං ආජානාමි. කිං ත්වං ඉමං ධම්මවිනයං ආජානිස්සසි? මිච්ඡාපටිපන්නො ත්වමසි. අහමස්මි සම්මාපටිපන්නො සංහිතං මෙ, අසංහිතං තෙ. පුරෙ වචනීයං පච්ඡා අවච පච්ඡා වචනීයං පුරෙ අවච ආචිණ්ණං තෙ විපරාවත්තං. ආරොපිතො තෙ වාදො. නිග්ගහිතො ත්වමසි. චර වාදප්පමොක්ඛාය නිබ්බෙ-ඨෙහි වා සචෙ පහොසීති ඉති වා ඉති එවරූපාය විග්ගාහිකකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

24 යම්සේ ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, දික්සඟළා පුටු ය, පලඟය, මහකොඳුපලසය, විය්මනෙත් විසිතුරු කළ එළුලොම්මුවා ඇතිරිය, එළුලොම්මුවා සුදු ඇතිරිය, ගනමල් යෙදූ එළුලොම් ඇතිරිය, තිලිය (පුළුන් මෙත්තය), සිංහරූපාදිරූපාවලින් විසිතුරු කළ එළුලොම් ඇතිරිය, දෙපැත්තේ ම ලොම් ඇති එළුලොම්මුවා ඇතිරිය, එක් පැත්තේ පමණක් ලොම් ඇති එළුලොම්මුවා ඇතිරිය, රත්කසුකම් කළ පසතුරුණ, කොසෙය්‍ය හුයින් වියූ ඇතිරිය, අසු පිටැ එළන ඇතිරිය, රියැ එළන ඇතිරිය, ඇඳට සරි ලන සේ අඳුන් දිවිසමින් මසා කළ ඇතිරිය, කෙහෙල්මුවසමින් කළ මහඟු පසතුරුණ, ඉස්දෙර පාමුල රත්කත්වයින් තබා ඇති රතු උඩුවියන් සහිත මහඟු යහන යන මෙබඳු වූ උස් යහන් මහ යහන් පරිහරණය කිරීමෙහි යෙදී වෙසෙද්ද, මහ තෙමේ මේ හෝ මෙ බඳු වූ උස් යහන් මහ යහන් පරිභොගයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

25. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, සුවඳසුණුයෙන් ඇඟ ඉලීම, අත්පාඇඟි මනා සටහන් ගන්වනුවට තෙල් ගා මැඩීම, සුවඳ දියෙන් නැවීම, උරහිස්ඇඟි මස් වැඩෙනුවට මුගුරින් තැළීම, කැඩපතින් මුහුණ බැලීම, අලංකාර වශයෙන් අඳුන් ගෑම, මල් පැළැඳීම හා විලෙවුන් දැරීම, මුවසුණු මුව-විලෙවුන් දැරීම, හස්තාභරණ දැරීම, හිසැ කුඩුම්බිය බැඳීම, විසිතුරු සැරයටි දැරීම, විසිතුරු බෙහෙත්නළ දැරීම, කඩු දැරීම, විසිතුරු කුඩ දැරීම, විසිතුරු පාවහන් දැරීම, නලල්පට බැඳීම, සිළුමිණ පැළැඳීම, විසිතුරු සෙමර වල්විදුනා දැරීම, දික් දවලු ඇති සුදු රෙදි හැඳීම ආදි ඇඟ අඩු තැන් පිරවීමටත් ඇඟ සැරසීමටත් කරුණු වන දෑ පරිභොග කිරීමෙහි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු දෑ පරිභොග කිරීමෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

26 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, රාජකථා, චෝරකථා, මහාමාත්‍යකථා, සේනාකථා, භයකථා, යුද්ධකථා, ආහාරකථා, පානකථා, වස්ත්‍රකථා, ශයනකථා, මාලාකථා, ගන්ධකථා, ඥාතිකථා, යානකථා, ග්‍රාමකථා, නිගමකථා, නගරකථා, ජනපදකථා, ස්ත්‍රීකථා, පුරුෂකථා, කුමාරකථා, කුමාරිකථා, ශූරකථා, වීථිකථා, කුම්භස්ථානකථා, නානාත්වකථා, ලොකාඛ්‍යායිකා කථා, සමුද්‍රාඛ්‍යායිකාකථා, භූතිභවාභවකථා යන මේ බඳු වූ තිරශ්චීන කථාවන්හි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ මෙයින් අන්‍ය වූ හෝ මෙ බඳු කථාවලින් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

27 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, ‘‘තෝ මේ දහම් විනය නො දනිහි මම් මේ දහම් විනය දනිමි ‘මේ දහම් විනය කිම’යි තෝ දනිහි ද? තෝ වරදවා පිළිපන්නෙහි මම් මැනැවින් පිළිපන්නෙම් වෙමි. මා බස කරුණු සහිත ය තා බස කරුණු රහිත ය තෝ පළමුයෙන් කියැ යුත්ත පසු වැ කියෙහි ය පසු වැ කියැ යුත්ත පළමුයෙන් කියෙහි ය තා කලක් ම පුහුණු කළ දෑය මගේ එක් වචනයෙන් ම පෙරළී ගියේ ය මා විසින් තට දොස් නැගිණ මා විසින් නිගන්නා ලද්දෙහි මා නැඟූ දොසින් මිදෙන්නට හැසිරෙව (ඒ ඒ තැන ගොස් උගනුව) හැකි නම් එය විසඳව’’ යන ආදීන් මේ බඳු වූ උනුන් බැණ දොඩා ගැනුම්හි යෙදෙත් ද, ඒ මහණ තෙමේ මේ කී හෝ අන් මෙබඳු වූ හෝ බැණුම්දොඩුම්වලින් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

32 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං "රඤ්ඤං නිය්‍යානං භවිස්සති රඤ්ඤං අනිය්‍යානං භවිස්සති අබ්භන්තරානං රඤ්ඤං උපයානං භවිස්සති බාහිරානං රඤ්ඤං අපයානං භවිස්සති බාහිරානං රඤ්ඤං උපයානං භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං අපයානං භවිස්සති අබ්භන්තරානං රඤ්ඤං ජයො භවිස්සති. බාහිරානං රඤ්ඤං පරාජයො භවිස්සති, බාහිරානං රඤ්ඤං ජයො භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං පරාජයො භවිස්සති ඉති ඉමස්ස ජයො භවිස්සති. ඉමස්ස පරාජයො භවිස්සති" ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

33. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං "චන්දග්ගාහො භවිස්සති සූරියග්ගාහො භවිස්සති. නක්ඛත්තග්ගාහො භවිස්සති. චන්දිමසූරියානං පථගමනං භවිස්සති. චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති නක්ඛත්තානං පථගමනං භවිස්සති නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති උක්කාපාතො භවිස්සති. දිසාඩාහො භවිස්සති භූමිචාලො භවිස්සති දෙවදුන්දුභි භවිස්සති චන්දිම-සූරියනක්ඛත්තානං උග්ගමනං ඔගමනං සංකිලෙසං වොදානං භවිස්සති එවංවිපාකො චන්දග්ගාහො භවිස්සති. එවංවිපාකො සූරියග්ගාහො භවිස්සති. එවංවිපාකං චන්දිමසූරියානං පථගමනං භවිස්සති, එවංවිපාකං චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති. එවංවිපාකං නක්ඛත්තානං පථගමනං භවිස්සති. එවංවිපාකං නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති එවංවිපාකො උක්කා-පාතො භවිස්සති එවංවිපාකො දිසාඩාහො භවිස්සති. එවංවිපාකො භූමිචාලො භවිස්සති එවංවිපාකො දෙවදුන්දුභි භවිස්සති එවංවිපාකං චන්දිමසූරිය නක්ඛත්තානං උග්ගමනං ඔගමනං සංකිලෙසං වොදානං භවිස්සති". ඉතිවා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

34. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං "සුබ්බුට්ඨිකා භවිස්සති දුබ්බුට්ඨිකා භවිස්සති සුභික්ඛං භවිස්සති දුබ්භික්ඛං භවිස්සති ඛෙමං භවිස්සති භයං භවිස්සති. රොගො භවිස්සති ආරොග්‍යං භවිස්සති මුද්දා ගණනා සංඛානං කාවෙය්‍යං ලොකායතං" ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

32 යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, "අසෝ දිනැ අසෝ නැකැතින් (සුදුසු සඳහා) සිය නුවරින් අසෝ රජුන්ගේ නික්මීම වන්නේ ය අසෝ නැකැතින් පෙරළා සිය නුවරට ඊම වන්නේ ය අසෝ නැකැතින් පිටතැ සිටින සතුරු රජුන් හමු වන්නට රට තුළ උන් රජුන්ගේ යෑම වන්නේ ය අසෝ නැකැතින් පිටතැ සිටින සතුරු රජුන්ගේ ඉවත් වැ යෑම වන්නේ ය අසෝ නැකැතින් රට තුළැ සිටින රජුන් කරා පිටතැ සිටින සතුරු රජුන්ගේ පැමිණීම වන්නේ ය. අසෝ නැකැතින් ඇතුළතැ සිටින රජුන්ගේ ඉවත් වැ යෑම වන්නේ ය රට ඇතුළතැ සිටින රජුනට ජය වන්නේ ය පිටතැ සිටින සතුරු රජුනට පරාජය වන්නේ ය පිටතැ සිටින සතුරු රජුනට ජය වන්නේ ය රට තුළැ සිටින රජුනට පරාජය වන්නේ යැ" යි මෙසේ 'මොහුට ජය වන්නේ ය මොහුට පරාජය වන්නේ යැ' යි කියමින් මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මෙ බඳු වූ මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ

33. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, "අසෝ දිනැ චන්ද්‍රග්‍රහණය වන්නේ ය. අසෝ දිනැ සූර්‍ය්‍යග්‍රහණය වන්නේ ය අසෝ දිනැ සඳ හිරු දෙදෙනා නිසි මඟින් යෑම වන්නේ ය අසෝ දිනැ ඔවුන් නොමඟින් යෑම වන්නේ ය. අසෝ දිනැ නැකත්තරුන් නිසිමඟින් යෑම වන්නේය අසෝ දිනැ ඔවුන් නොමඟින් යෑම වන්නේ ය අසෝ දිනැ උල්කාපතනය වන්නේ ය. දිග්දාහය වන්නේ ය. භූමිකම්පනය වන්නේ ය වැසි නැති වැ අහස් ගෙරවීම වන්නේ ය සඳහිරුන්ගේ ද නකත් තරුන්ගේ ද උදාව බැසීම කෙලෙසීම පිරිසිදුබව වන්නේ ය චන්ද්‍රග්‍රහණය ලොවට මෙබඳු පල ගෙනැ දෙන්නේ ය. සූර්‍ය්‍යග්‍රහණය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය නක්ෂත්‍රග්‍රහණය මේබඳු පල ගෙනැ දෙන්නේ ය සඳ හිරුන් නිසි මඟින් යෑම මේබඳු පල ගෙනැ දෙන්නේ ය සඳ හිරුන් දෙදෙනාගේ නොමඟින් යෑම මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය. නකත්තරුවල පථගමනය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය ඔවුන්ගේ උත්පථගමනය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය උල්කාපතනය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය දිග්දාහය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය භූමිකම්පනය මේබඳු පල ගෙනැ දෙන්නේ ය වැසි නැති වැ අහස්ගෙරවුම මෙබඳු පල දෙන්නේ ය සඳහිරුන්ගේ ද නකත් තරුවල ද උදාවත් බැසීමත් කෙලෙසීමත් පිරිසිදු වීමත් මෙ බඳු පල දෙන්නේ යැ" යි කියනුවෝ, මෙ බඳු තිරශ්චීන විද්‍යායෙන්, මෙ බඳු මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවිකායෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

34 යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, "මෙ සමයෙහි වැසි වස්නේ ය. මෙ සමයෙහි නියං වන්නේ ය මෙ සමයෙහි රට සුභික්ෂ වන්නේ ය. මෙ සමයෙහි රට දුර්භික්ෂ වන්නේ ය මෙ සමයෙහි රටට උවදුරු වන්නේ ය මෙ සමයෙහි රටට බිය වන්නේ ය මෙ කලැ රෝග වන්නේ ය. මෙ කලැ රෝග නැති බව වන්නේ යැ" යි පලාපල කීම ද, මුද්‍රාව (අඟිලි පුරුක්හි සංඥා තබා ගිණීම) ද, ගණනාව (එක දෙක යන ආදීන් ගිණීම) ද, කාව්‍යශාස්ත්‍රය, ලෝකායතශාස්ත්‍රය යන මේ හෝ මෙ බඳු තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

35 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං ආවාහනං විවාහනං සංවදනං විවදනං සංකිරණං විකිරණං සුභගකරණං දුබ්භගකරණං විරුද්ධගබ්භකරණං ජිව්හානිත්ථම්භනං හනුසංහනනං හත්ථාභිජප්පනං හනුජප්පනං කණ්ණ-ජප්පනං ආදාසපඤ්හං කුමාරිපඤ්හං දෙවපඤ්හං ආදිච්චුපට්ඨානං මහතු-පට්ඨානං අබ්භුජ්ජලනං සිරිව්හායනං ඉති වා ඉති එවරූපාය තිරච්ඡාන-විජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

36. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං. සන්තිකම්මං පණිධිකම්මං භූතකම්මං භූරිකම්මං වස්සකම්මං වොස්සකම්මං වත්ථුකම්මං වත්ථුපරිකිරණං ආචමනං නහාපනං ජුහනං වමනං විරෙචනං උද්ධවිරෙචනං අධොවිරෙචනං සීසවිරෙචනං කණ්ණතෙලං නෙත්තතප්පනං නත්ථුකම්මං අඤ්ජනං පච්චඤ්ජනං සාලාකියං සල්ලකත්තියං දාරකතිකිච්ඡා මූලභෙසජ්ජානං අනුප්පදානං ඔසධීනං පටිමොක්ඛො ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

37. ස ඛො සො මාණව භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො සෙය්‍යථාපි මාණව ඛත්තියො මුද්ධාවසිත්තො නිහතපච්චාමිත්තො න කුතොචි භයං සමනුපස්සති යදිදං පච්චත්ථිකතො, එවමෙව ඛො මාණව භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො සො ඉමිනා අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො අජ්ඣත්තං අනවජ්ජසුඛං පටිසංවෙදෙති. එවං ඛො මාණව භික්ඛු සීලසම්පන්නො හොති

38. අයං ඛො සො මාණව අරියො සීලක්ඛන්ධො යස්ස සො භගවා වණ්ණවාදී අහොසි යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨා-පෙසි. අත්ථි චෙවෙත්ථ උත්තරිං කරණීයන්ති."

35 යම්සේ ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, ආවාහ සඳහා නකත් කීම, විවාහ සඳහා නකත් කීම, මෙත් වූ අඹුසැමියන් එක් වන්නට නකත් කීම, අඹුසැමියන් වෙන් වන්නට නකත් කීම, දුන් ණය රැස් කිරීමට නකත් කීම, මුදල් ණයට පොලියට දීමට නකත් කීම, සෞභාග්‍යය ඇති වනුවට යන්ත්‍ර මන්ත්‍රාදිය කැරැ දීම, කිම් පැලු වන්නට හඳි හූනියම් කිරීම, නැසෙන්නට යන දරු ගබ් රැකෙන්නට පිළියම් කිරීම, දිවගුලු බැඳීම, මන්ත්‍රාදියේ බලයෙන් හනු තද කිරීම, අත් පෙරැළෙන්නට මතුරු දැපීම, හනු පෙරැළෙන්නට මතුරු දැපීම, කන් අගුලු වැටෙන්නට මතුරු දැපීම, කැඩපතෙහි දෙවතාවෙශය කොට ප්‍රශ්න ඇසීම, කුමරියක ලවා පේන කියැවීම, දෙව්දූස්සක ලවා පේන කියැවීම, ජීවිකා පිණිස හිරු පිදීම, මහබඹු පිදීම, මතුරු දපා මුවින් ගිනිජල් විහිදුවීම, මතුරු දපා සිරිකත කැඳැවීම යන මේ හෝ අන් මෙ බඳු වූ තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ

36. යම්සේ ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, ශාන්තිකම්, ප්‍රණිධිකම්, භූරිකම්, පණ්ඩකයා පිරිමියකු කිරීම, පිරිමියා පණ්ඩකයකු කිරීම, වාස්තුකම්, වාස්තු පරිකිරණ, මතුරු දපා මුව දෙවුම, මතුරු දපා අනුන් නැවීම, සෙත් පතා ගිනි පිදීම, ගිහියනට වමන කැරැවීම, බඩ විරේක කැරැවීම, ලය විරේකයට බෙත් දීම, වස්ති කිරීම ශීර්ෂවිරේචන බෙත් දීම, කන් ලෙඩට තෙල් පිසැ දීම, ගිහියන් සඳහා ඇස පටලයට සිසිල ගන්වන නෙත්තෙල් පිසීම, ගිහියනට නස්‍ය දීම, ක්‍ෂාරම් අඳුන් සාදා දීම, ඇස සිසිල ගන්වන අඳුන් සාදා දීම, ගිහියන්ගේ ඇසැ උල්ඇන ලෙඩට බෙත් කිරීම, ගිහියනට ශල්‍ය කර්ම කිරීම, ළදරුවන්ගේ ලෙඩට පිළියම් කිරීම, මුල් බෙහෙත් දීම (කායචිකිත්සාව) ක්‍ෂාරම් බෙත් බැඳ වණ සුව වූ පසු ඒවා ගලවා දැමීම යැ" යි මේ ඈදි වූ හෝ මෙබඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

37 මාණවය, ඒ මහණ තෙමේ මෙසේ ශීලසම්පන්න වූයේ, ශීල-සංවරහේතුයෙන් කිසි ම එක ද අසංවරතායෙකින් පහළ විය හැකි බියක් නො දකී මානවය, ක්‍ෂත්‍රියාභිෂෙකයෙන් අභිෂෙක ලත්, වැනැසූ සතුරන් ඇති ක්‍ෂත්‍රියයෙක් කිසි ම එක ද සතුරකුගෙන් විය හැකි බියක් යම්සේ නො දක්තේ ද, එසේ ම මහණ තෙමේ මෙ පරිද්දෙන් ශීලසම්පන්න වූයේ, ශීලසංවරහේතුයෙන් කිසි ම එක ද අසංවරයෙකින් විය හැකි බියක් නො දකී හේ මේ ආර්‍ය ශීලස්කන්ධයෙන් සමන්විත වූයේ සිය සතන්හි නිදොස් වූ කායික චෛතසික සුවය විඳී මාණවය මෙසේ මහණ තෙමේ ශීලසම්පන්න වේ

38. මාණවය, ඒ භාග්‍යවතුන් වහන්සේ යමක්හුගේ ගුණ වදාරන සුලු වූ සේක් ද, යමෙකු මේ ජනතාව ගැන්වූ සේක් ද, පිවිස්වූ සේක් ද, පිහිටවූ සේක් ද, මේ ඒ ආර්‍ය ශීලස්කන්ධය යැ. වැලි මෙහි මෙයින් මත්තෙහි කටයුතු දැ ඇත්තේම ය."

39. "අච්ඡරියං භො ආනන්ද, අබ්භුතං භො ආනන්ද, සො'පායං භො ආනන්ද අරියො සීලක්ඛන්ධො පරිපුණ්ණො නො අපරිපුණ්ණො. එවම්පරිපුණ්ණඤ්චාහං භො ආනන්ද අරියං සීලක්ඛන්ධං ඉතො බහිද්ධා අඤ්ඤෙසු සමණබ්‍රාහ්මණෙසු න සමනුපස්සාමි එවම්පරිපුණ්ණඤ්ච භො ආනන්ද අරියං සීලක්ඛන්ධං ඉතො බහිද්ධා අඤ්ඤෙ සමණබ්‍රාහ්මණා අත්තනි සමනුපස්සෙය්‍යුං, තෙ තාවතකෙනෙව අත්තමනා අස්සු 'අලමෙත්තාවතා, කතමෙත්තාවතා, අනුප්පත්තො නො සාමඤ්ඤත්ථො, නත්ථි නො කිඤ්චි උත්තරිං කරණීය'න්ති අථ ච පන භවං ආනන්දො එවමාහ: අත්ථි චෙවෙත්ථ උත්තරිං කරණීය"න්ති

**පඨමභාණවාරං.**

40. "කතමො පන සො භො ආනන්ද අරියො සමාධික්ඛන්ධො යස්ස සො භවං ගොතමො වණ්ණවාදී අහොසි යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසී?" ති.

41 කථඤ්ච මාණව භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති? ඉධ මාණව භික්ඛු චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙතං චක්ඛුන්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣා දොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති රක්ඛති චක්ඛුන්ද්‍රියං චක්ඛුන්ද්‍රියෙ සංවරං ආපජ්ජති සොතෙන සද්දං සුත්වා -පෙ- ඝානෙන ගන්ධං ඝායිත්වා -පෙ- ජිව්හාය රසං සායිත්වා -පෙ- කායෙන ඵොට්ඨබ්බං ඵුසිත්වා -පෙ- මනසා ධම්මං විඤ්ඤාය න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙතං මනින්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣාදොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති රක්ඛති මනින්ද්‍රියං මනින්ද්‍රියෙ සංවරං ආපජ්ජති සො ඉමිනා අරියෙන ඉන්ද්‍රියසංවරෙන සමන්නාගතො අජ්ඣත්තං අබ්‍යාසෙකසුඛං පටිසංවෙදෙති එවං ඛො මාණව භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති.

39 [ශුභ] "පින්වත් ආනන්ද තෙරුනි, ආශ්චර්ය යැ, පින්වත් ආනන්ද තෙරුනි, අද්භූත යැ පින්වත් ආනන්ද තෙරුනි, මේ ආර්‍ය්‍යශීලස්කන්ධය ද පරිපූර්ණ යැ අපරිපූර්ණ නො වේ පින්වත් ආනන්ද තෙරුනි, මෙසේ පිරිපුන් ආර්‍ය්‍යශීලස්කන්ධයක් මෙයින් බැහැරැ අන් මහණබමුණන් කෙරෙහි නො දකිමි ආනන්ද තෙරුනි, මෙසේ පිරිපුන් ආර්‍ය්‍යශීලස්කන්ධයක් මෙයින් බැහැරැ අන් මහණබමුණෝ තමන් කෙරෙහි දක්නාහු නම්, ඔහු "මේ පමණෙකින් ම සෑහෙයි මෙ පමණකින් ම කටයුතු සම්පූර්ණ විය අප විසින් මහණදම්හි ඵලය ලද්දේ ය අප විසින් මත්තෙහි කටයුතු වූ කිසිත් ඉතිරි වැ නැතැ"යි එ තෙකින් ම සතුටු සිතැති වන්නාහ එතෙකුදු වුවත් පින්වත් ආනන්ද තෙරණුවෝ 'මෙහි මෙයින් මත්තෙහිත් කටයුතු දෑ ඇතැ' යි මෙසේ වදාළහ '

## පළමු බණවරය

40 [ශුභ:] පින්වත් ආනන්ද තෙරුනි, ඒ පින්වත් ගෞතමයන් වහන්සේ යමක්හුගේ ගුණ වදරනසුලු වූ සේක් නම්, යමෙක්හි මේ ජනතාව ගැන්වූ සේක් නම්, පිවිස්වූ සේක් නම්, පිහිටවූ සේක් නම්, ඒ ආර්‍ය්‍ය සමාධිස්කන්ධය කවරේ යැ?"

41 [ආනන්දතෙරනු.] "මාණවය මහණ තෙමේ කෙසේ නම් ඉඳුරන්හි වැසූ දොර ඇත්තේ වේ ද යත් මාණවය මෙ සස්නෙහි මහණ තෙමේ ඇසින් රූපයක් දැක ශුභාදිවශයෙන් එහි ලකුණු නො ගන්නේ වේ ශුභාදිවශයෙන් අත්පා ආදි අවයවයන්ගේ ආකාර සිතට නො ගන්නේ වේ යම් කරුණෙකින් චක්ෂුරින්ද්‍රිය වසා නොගෙන වසන්නහුගේ චිත්තසන්තානය විෂම ලෝභ දොම්නස් ආදි ලාමක අකුශල ස්වභාවයෝ ලුහුබඳනාහු ද ඒ චක්ෂුරින්ද්‍රියයාගේ සංවරය පිණිස ගේ පිළිපදී. චක්ෂුරින්ද්‍රියය රකී චක්ෂුරින්ද්‍රියයෙහි සංවරයට පැමිණේ. කනින් හඬ අසා නාසායෙන් ගඳ ආඝ්‍රාණය කොට දිවෙන් රස ආස්වාදය කොට කයින් ස්ප්‍රෂ්ටව්‍යය (ඇඟට හැපෙන දෑ) ස්පර්ශ කොට සිතින් ධර්මාලම්බන දැන, ශුභාදිවශයෙන් එහි ලකුණු ගන්නේ නො වේ ශුභාදිවශයෙන් අත් පා ආදි අවයවයන්ගේ ආකාර සිතට ගන්නේ නො වේ. යම් කරුණෙකින් ශ්‍රොත්‍රේන්ද්‍රියය ඝ්‍රාණේන්ද්‍රියය ... ජිහ්වේන්ද්‍රියය කායේන්ද්‍රියය මනඉන්ද්‍රියය සංවර කොට නොගෙන වසන්නහුගේ චිත්තසන්තානයට විෂමලෝභ දොම්නස් ආදි ලාමක අකුශල ස්වභාවයෝ අනුබඳනාහු ද, ඒ ශ්‍රොත්‍රේන්ද්‍රියයාගේ ඝ්‍රාණේන්ද්‍රියයාගේ . ජිහ්වේන්ද්‍රියයාගේ කායේන්ද්‍රියයාගේ . මනඉන්ද්‍රියයාගේ සංවරය පිණිස පිළිපදී ශ්‍රොත්‍ර ... ඝ්‍රාණ ජිහ්වා කාය මනඉන්ද්‍රියය රකී එහි සංවරයට පැමිණේ හේ මෙ ආර්‍ය්‍ය වූ ඉන්ද්‍රියසංවරයෙන් සමන්විත වූයේ සිය සතන්හි අව්‍යාසෙකසුඛය (කෙලෙසුන්ගෙන් මිශ්‍ර නොවීමෙන් වූ පිරිසිදු අධිචිත්තසුඛය) විඳී මාණවය, මෙසේ වනාහි මහණ තෙමේ ඉන්ද්‍රියයන්හි වැසූ දොර ඇත්තේ වේ.

46. සෙය්‍යථාපි මාණව පුරිසො ඉණං ආදාය කම්මන්තෙ පයොජෙය්‍ය, තස්ස තෙ කම්මන්තා සමිජ්ඣෙය්‍යුං, සො යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තීකරෙය්‍ය, සියා චස්ස උත්තරිං අවසිට්ඨං දාරභරණාය, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ ඉණං ආදාය කම්මන්තෙ පයොජෙසිං තස්ස මෙ තෙ කම්මන්තා සමිජ්ඣිංසු සො'හං යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තී අකාසිං. අත්ථි ච මෙ උත්තරිං අවසිට්ඨං දාරභරණායා"ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

47. සෙය්‍යථාපි මාණව පුරිසො ආබාධිකො අස්ස දුක්ඛිතො බාළ්හගිලානො, භත්තං චස්ස නච්ඡාදෙය්‍ය, න චස්ස කායෙ බලමත්තා, සො අපරෙන සමයෙන තම්හා ආබාධා මුච්චෙය්‍ය, භත්තඤ්චස්ස ඡාදෙය්‍ය, සියා චස්ස කායෙ බලමත්තා, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ ආබාධිකො අහොසිං දුක්ඛිතො බාළ්හගිලානො. භත්තං ච මෙ නච්ඡාදෙසි න චස්ස මෙ ආසි කායෙ බලමත්තා සො'මහි එතරහි තම්හා ආබාධා මුත්තො භත්තඤ්ච මෙ ඡාදෙති. අත්ථි ච මෙ කායෙ බලමත්තා"ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

48 සෙය්‍යථාපි මාණව පුරිසො බන්ධනාගාරෙ බද්ධො අස්ස, සො අපරෙන සමයෙන තම්හා බන්ධනාගාරා මුච්චෙය්‍ය සොත්ථිනා අබ්බයෙන, න චස්ස කිඤ්චි භොගානං වයො, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ බන්ධනාගාරෙ බද්ධො අහොසිං සො'මහි එතරහි තම්හා බන්ධනාගාරා මුත්තො සොත්ථිනා අබ්බයෙන. නත්ථි ච මෙ කිඤ්චි භොගානං වයො"ති. සො තතොනිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

49 සෙය්‍යථාපි මාණව පුරිසො දාසො අස්ස අනත්තාධීනො පරාධීනො න යෙනකාමඞ්ගමො, සො අපරෙන සමයෙන තම්හා දාසබ්‍යා මුච්චෙය්‍ය අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමඞ්ගමො, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ දාසො අහොසිං අනත්තාධීනො පරාධීනො න යෙනකාමඞ්ගමො සො'මහි එතරහි තම්හා දාසබ්‍යා මුත්තො අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමඞ්ගමො"ති සො තතොනිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

50 සෙය්‍යථාපි මාණව පුරිසො සධනො සභොගො කන්තාරද්ධානමග්ගං පටිපජ්ජෙය්‍ය දුබ්භික්ඛං සප්පටිභයං, සො අපරෙන සමයෙන තං කන්තාරං නිත්ථරෙය්‍ය, සොත්ථිනා ගාමන්තං අනුපාපුණෙය්‍ය ඛෙමං අප්පටිභයං, තස්ස එවමස්ස: "අහං ඛො පුබ්බෙ සධනො සභොගො කන්තාරද්ධානමග්ගං පටිපජ්ජිං දුබ්භික්ඛං සප්පටිභයං සො'මහි එතරහි තං කන්තාරං නිත්ථිණ්ණො සොත්ථිනා ගාමන්තං අනුප්පත්තො ඛෙමං අප්පටිභය"න්ති. සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

46 මාණවය, යම්සේ පුරුෂයෙක් ණය මුදලක් ගෙන කර්මාන්ත කරන්නේ ද, ඔහුගේ ඒ කර්මාන්ත සමෘද්ධ වන්නේ නම්, හේ යම් පරණ ණය මුදල් වී නම්, ඒ සියල්ල ගෙවා අවසන් කරන්නේ ද, මන්තෙහි ඉතිරි වූ යමක් ඇත් නම් එය අඹුදරුවන් රක්නා පිණිස වන්නේ ද, එසේ වූ ඔහුට "මම් පළමුයෙන් ණයට මුදල් ගෙන කර්මාන්ත කෙළෙමි ඒ මගේ කර්මාන්ත සමෘද්ධ විය ඒ මම්, යම් පරණ ණය මුදල් වී නම් එය ගෙවා අවසන් කෙළෙමි අඹුදරුවන් රක්නට වැඩිපුර ඉතිරි වූ මුදලෙක් ද මට ඇතැ" යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ ණයනැතිබව කාරණ කොට ගෙන සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද-

47 මාණවය, යම් සේ පුරුෂයෙක් රෝගී වූයේ, දුකට පැමිණියේ, දැඩි ලෙස ගිලන් වන්නේ ද, ඔහුට බතුත් නො රිසියෙන්නේ ද, ඔහුගේ ඇඟපත ශක්ති පමණකුත් නො වන්නේ ද, හේ මෑත කාලයෙහි ඒ ආබාධයෙන් මිදෙන්නේ නම්, ඔහුට බතුත් රිසියෙන්නේ නම්, ඔහු ඇඟපත ශක්තිය ද වන්නේ නම්, "මම් වූ කලී පෙර දුකට පත්, දැඩි ගිලන් බව් ඇති ලෙඩෙක් වීමි මට අහර ද රිසි නො වී ය මා ඇඟපත ශක්තිය ද නො වී ය ඒ මම් දැන් ඒ ලෙඩින් මිදුණෙම් වෙමි ඒ මට අහර ද රිසියෙයි මා ඇඟපත ශක්තිය ද ඇතැ" යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ නම්, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පමිණෙන්නේ ද-

48 මාණවය, යම් සේ පුරුෂයෙක් හිරගෙහි බැඳුණේ වන්නේ ද, හේ පසු කලෙක ධනය වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදෙන්නේ ද, (ඒ හේතුයෙන්) ඔහුගේ කිසි භොගවිනාශයෙක් නො වන්නේ ද, "මම් වූ කලී පෙර හිර ගෙහි බැඳුණෙම් වීමි ඒ මම් දැන් ධන වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදුණෙම් වෙමි මගේ භොගයනට කිසි විනාශයෙක් ද නැතැ" යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේද, සොම්නසට පැමිණෙන්නේ ද –

49. මාණවය, යම්සේ තමා අයත් පැවැතුම් නැති, අනුන් අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යන්නට අවසර නැති දාස පුරුෂයෙක් වන්නේ ද, හේ මෑත භාගයෙහි තමා අයත් පැවැතුම් ඇතියේ, පරා අයත් පැවැතුම් නැතියේ, නිදහස් වූයේ, කැමැති අතෙක යා හැකි වූයේ, ඒ දාසභාවයෙන් මිදෙන්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලී පෙර තමා අයත් පැවැතුම් නැති, පර අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යා නො හැකි දාසයෙක් වීමි. ඒ මම් දැන් ඒ දාසභාවයෙන් මිදුණෙම්, තමා අයත් පැවැතුම් ඇතියෙම්, පර අයත් පැවැතුම් නැතියෙම්, නිදහස් වූයෙම් කැමැති අතෙක යා හැකියෙම් වෙමි" යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද-

50 මාණවය, යම්සේ ධනවත් වූ භොගසම්පත් ඇති පුරුෂයෙක් දුර්ලභ ආහාර ඇති, උවදුරු ඇති, දිය නැති දික් මඟකට බස්නේ ද, හේ පසු කලෙක සුවසේ ඒ නිරුදක පෙදෙස ඉක්මැ යන්නේ ද, උවදුරු නැති විපත් නැති ගම්මානයකට බස්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලී පෙර ධන ඇතියෙම්, භොගසම්පත් ඇතියෙම්, දිය නැති, ආහාරදුර්ලභ, ප්‍රතිභය සහිත දික් මඟකට බටුයෙමි ඒ මම් දැන් සුවසේ ඒ කාන්තාරය තරණය කෙළෙම් නිරුපද්‍රැත භයරහිත ගමකට පැමිණියෙම් වෙමි" යි සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද-

57 සෙය්‍යථාපි මාණව උදකරහදො උබ්භිදොදකො, තස්ස නෙවස්ස පුරත්ථිමාය දිසාය උදකස්ස ආයමුඛං, න දක්ඛිණාය දිසාය උදකස්ස ආයමුඛං, න පච්ඡිමාය දිසාය උදකස්ස ආයමුඛං, න උත්තරාය දිසාය උදකස්ස ආයමුඛං, දෙවො ච න කාලෙන කාලං සම්මා ධාරං අනුප්පවෙච්ඡෙය්‍ය, අථ ඛො තම්හා ච උදකරහදා සීතා වාරිධාරා උබ්භිජ්ජිත්වා තමෙව උදකරහදං සීතෙන වාරිනා අභිසන්දෙය්‍ය පරිසන්දෙය්‍ය පරිපූරෙය්‍ය පරිප්ඵරෙය්‍ය, නාස්ස කිඤ්චි සබ්බාවතො උදකරහදස්ස වාරිනා සීතෙන අප්ඵුටං අස්ස, එවමෙව ඛො මාණව භික්ඛු ඉමමෙව කායං සමාධිජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති

58 යම්පි මාණව භික්ඛු විතක්කවිචාරානං වූපසමා අජ්ඣත්තං සම්පසාදනං චෙතසො එකොදිභාවං අවිතක්කං අවිචාරං සමාධිජං පීතිසුඛං දුතියං ඣානං උපසම්පජ්ජ විහරති, සො ඉමමෙව කායං සමාධිජෙනපීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස සමාධිජෙන පීතිසුඛෙන අප්ඵුටං හොති ඉදම්පි'ස්ස හොති සමාධිස්මිං

59. පුන ච පරං මාණව භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො සම්පජානො සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති යන්තං අරියා ආචික්ඛන්ති 'උපෙක්ඛකො සතිමා සුඛවිහාරී'ති, තං තතියං ඣානං උපසම්පජ්ජ විහරති සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

60 සෙය්‍යථාපි මාණව උප්පලිනියං වා පදුමිනියං වා පුණ්ඩරීකිනියං වා අප්පෙකච්චානි උප්පලානි වා පදුමානි වා පුණ්ඩරීකානි වා උදකෙ ජාතානි උදකෙ සංවඩ්ඪානි උදකානුග්ගතානි අන්තොනිමුග්ගපොසීනි, තානි යාව චග්ගා යාව ච මූලා සීතෙන වාරිනා අභිසන්නානි පරිසන්නානි පරිපූරානි පරිප්ඵුටානි, නාස්ස කිඤ්චි සබ්බාවතං උප්පලානං වා පදුමානං වා පුණ්ඩරීකානං වා සීතෙන වාරිනා අප්ඵුටං අස්ස, එවමෙව ඛො මාණව භික්ඛු ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

57. මාණවය, යම්සේ යටැ උල්පතින් මතු වන දිය ඇති ගැඹුරු විලෙක් වේ ද, එයට පෙරදිගින් දිය ඇතුළු වන මගෙක් නො වන්නේ ද, දකුණු දෙසින් ද දිය ඇතුළු වන මගෙක් නොවන්නේ ද, පැසිම් දිගින් ද දිය ඇතුළු වන මගෙක් නොවන්නේ ද, උතුරු දෙසින් ද දිය වැද ගන්නා මගෙක් නො වන්නේ ද, වැස්ස ද කලින් කලැ සුදුසු පරිදි නො වසින්නේ ද, එතෙකුදු වුවත් ඒ විලෙන් සිහිල් දිය දහර මතු වී ඒ විල ම සිහිල් දියෙන් තෙමන්නේ ද,' හැම පරිදි තෙමන්නේ ද, පුරා ලන්නේ ද, හැම තැන ම වැද ගෙන පැතිරැ සිටින්නේ ද, ඒ මුළු විලෙහි සිසිල් දිය පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො මැත් ද, මාණවය, එසේ ම මහණ තෙමේ මේ කරජ කය ම සමාධියෙන් උපන් ප්‍රීති සුඛයෙන් තෙමසි, හැම තැන ම තෙත් කෙරෙසි, පුරා ලසි, හැම තැන ම පැතිරැ වැද ගනී. ඔහුගේ ඒ සියලු කයේ සමාධියෙන් උපන් ප්‍රීතිසුඛය පැතිර වැද නොගත් කිසි ද තැනෙක් නො වෙසි.

58 මාණවය, මහණ තෙම විතර්කවිචාරයන් සංසිඳීමෙන් තමා කෙරෙහි පැහැදීම ඇති කරන, සිතැ එකඟ බව ඇති, විතර්කරහිත විචාරරහිත, සමාධියෙන් පහළ වූ, ප්‍රීතිය හා සුඛවේදනාව හා ඇති යම් දෙවෙනි ධ්‍යානයකට පැමිණැ වෙසේ ද, හේ මේ කය ම සමාධියෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමසි හැම තැන ම තෙත් කෙරෙසි, පුරා ලසි හැම තැන ම පැතිරැ වැදැ ගනී ඔහුගේ ඒ සියලු කයැ සමාධියෙන් උපන් ප්‍රීතිසුඛය පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙසි මේ ද ඔහුගේ සමාධියෙක් වෙසි

59 නැවැත ද (අනෙකක් කියමි) මාණවය, මහණ තෙමේ ප්‍රීතියෙහි ද විරාගයෙන් (පහ වීමෙන්, සංසිඳීමෙන්), උපෙක්ෂක වැ, සිහියෙන් හා නුවණින් හා යුක්ත වැ වෙසෙසි (දහත්) සුවය ද කයින් විඳී. ආර්‍යයෝ යම් ධ්‍යානයක් හෙතු කොට ගෙන ධ්‍යානලාභියා ඇරැබැ 'උපේක්ෂාව ඇත්තේ, සිහි ඇත්තේ, සුඛවිහරණ ඇත්තේ යැ' යි කියත් ද, හේ (එසේ වූ) ඒ තෙවෙනි ධ්‍යානයට පැමිණ වෙසේ හේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමසි, හැම පරිදි තෙත් කෙරෙයි, පුරා ලසි, හැම තැන ම පැතිර වැදැ ගනී ඔහුගේ කයෙහි ඒ නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිර නොගත් කිසි ද තැනෙක් නො වෙසි

60 මාණවය, යම්සේ උපුල් විලෙක හෝ පියුම් විලෙක හෝ පඬෙර විලෙක හෝ ඇතැම් උපුල් හෝ පියුම් හෝ පඬෙර හෝ දියෙහි උපන්නේ, දියෙහි වැඩුණේ, දියෙන් නොනැගුණේ, දිය තුළැ ම ගිලී වැඩෙනුයේ ද, ඒ හැම අග දක්වාත් මුල් දක්වාත් සිසිල් දියෙන් තෙමුණේ, හැම පරිදි තෙත් වූයේ, පිරී ගියේ, හැම තැන් ම පැතිරැ වැද ගත්තේ වේ ද, ඒ විලෙහි සියලු උපුල්වලැ හෝ පියුම්වලැ හෝ පඬෙරවලැ හෝ සිසිල් දිය පැතිරැ නොගත් තැනෙක් නො වන්නේ ද, මාණවය, එසේ ම මහණ තෙමේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමසි, හාත්පසින් තෙමසි, පුරා ලසි, හැම පරිදි පැතිරැ වැද ගනී ඔහුගේ සියලු කයෙහි නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙසි.

61 යම්පි මාණව භික්ඛු පීතියා ච විරාගා උපෙක්ඛකො ච විහරති සතො සම්පජානො සුඛඤ්ච කායෙන පටිසංවෙදෙති, යං තං අරියා ආචික්ඛන්ති උපෙක්ඛකො සතිමා සුඛවිහාරීති තං තතියං ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති, ඉදම්පි'ස්ස හොති සමාධිස්මිං.

62 පුන ච පරං මාණව භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛා-සතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති සෙය්‍යථාපි මාණව පුරිසො ඔදාතෙන වත්ථෙන සසීසං පාරුපිත්වා නිසින්නො අස්ස, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස ඔදාතෙන වත්ථෙන අප්ඵුටං අස්ස, එවමෙව ඛො මාණව භික්ඛු ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති.

63. යම්පි මාණව භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛාසතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති, සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති, නාස්ස කිඤ්චි සබ්බා-වතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති, ඉදම්පි'ස්ස හොති සමාධිස්මිං. අයං ඛො සො මාණව අරියො සමාධික්ඛන්ධො යස්ස සො භගවා වණ්ණවාදී අහොසි, යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසි අත්ථි චෙවෙත්ථ උත්තරිං කරණීයන්ති.

64. "අච්ඡරියං භො ආනන්ද අබ්භුතං භො ආනන්ද. සො චායං භො ආනන්ද අරියො සමාධික්ඛන්ධො පරිපුණ්ණො නො අපරිපුණ්ණො එවං පරිපුණ්ණඤ්චාහං භො ආනන්ද අරියං සමාධික්ඛන්ධං ඉතො බහිද්ධා අඤ්ඤෙසු සමණබ්‍රාහ්මණෙසු න සමනුපස්සාමි එවං පරිපුණ්ණඤ්ච භො ආනන්ද අරියං සමාධික්ඛන්ධං ඉතො බහිද්ධා අඤ්ඤෙ සමණබ්‍රාහ්මණා අත්තනි සමනුපස්සෙය්‍යුං, තෙ තාවතකෙනෙව අත්තමනා අස්සු අලමෙත්තා-වතා, කතමෙත්තාවතා, අනුප්පත්තො නො සාමඤ්ඤත්ථො, නත්ථි නො කිඤ්චි උත්තරිං කරණීයන්ති

61. මාණවය, මහණ තෙම ප්‍රීතිය ද හැරලීමෙන් උපෙක්ෂාව ඇත්තේ සිහි ඇති වැ නුවණ ඇති වැ වෙසේ. සුවයත් නාම කයින් විඳී 'උපෙක්ෂා ඇත්තේ සිහි ඇත්තේ සුව වුසුම් ඇත්තේ යැ' යි ආර්යයෝ 'යමක්හු දක්වත් නම්, ඒ තෙවෙනි ධ්‍යානය ලැබ වෙසේ හේ නිෂ්ප්‍රීතික සුඛයෙන් මේ කය ම තෙමයි, කය මුළුල්ල ම තෙත් කෙරෙයි, පුරා ලයි, පැතිරැ වැද ගනී ඔහුගේ සියලු කයෙහි නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ වැද නො ගත් කිසි ද තැනෙක් නො වෙයි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ සමාධියෙක් වෙයි.

62 නැවැත ද (අනෙකක් කියමි) මාණවය, මහණ තෙමේ සුඛ වේදනාව ද දුරැලීමෙන්, දුඃඛ වේදනාව ද දුරැලීමෙන්, පළමු කොට ම සොම්නස් දොම්නස් දෙදෙනාගේ පහ වීමෙන්, දුක් ද නොවූ, සුව ද නොවූ, උපෙක්ෂා ස්මෘති යන මොවුන්ගේ පිරිසිදු බව ඇති සතර වන ධ්‍යානය ලැබ වෙසෙයි හේ මේ කය ම පිරිසිදු ප්‍රභාස්වර සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි ඔහුගේ සියලු කයෙහි පිරිසිදු වූ ප්‍රභාස්වර වූ සිතින් පැතිරැ වැද නො ගෙන සිටි කිසි ද තැනෙක් නො වෙයි. මාණවය, යම්සේ පුරුෂයෙක් සුදු වතින් හිසින් වටා පෙරෙවැ හුන්නේ වේ නම්, ඔහුගේ කයෙහි සුදු වතින් වැද නොගත් (නො වැසුණ) කිසි ද තැනෙක් නො වන්නේ ද, මාණවය, එසේ ම මහණ තෙම මේ කය ම පිරිසිදු වූ ප්‍රභාස්වර වූ සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි. ඔහු කයැ පිරිසිදු පබසරසිතින් වැද ගෙන නොසිටි කිසි ද තැනෙක් නො වෙයි.

63 මාණවය, මහණ තෙම සුඛ වේදනාව ද දුක් වේදනාව ද පහ කිරීමෙන් පළමුවෙන් ම සොම්නස් දොම්නසුන් පහ වැ යැමෙන්, දුක් ද නොවූ සුව ද නො වූ, උපෙක්ෂාවත් ස්මෘතියත් යන මොවුන්ගේ පිරිසිදු බව ඇති යම් සිවුවන දහන් ලැබැ වෙසෙයි, එසින් හෙ තෙම මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරැ ගෙන හුන්නේ වෙයි, ඔහුගේ සියලු කයෙහි පිරිසිදු පබසර සිතින් පැතිරැ නොගත් කිසිත් ද තැනෙක් නො වෙයි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ සමාධියෙක් වෙයි. මාණවය, භාග්‍යවතුන් වහන්සේ යමක්හුගේ ගුණ වදාරන සුලු වූ සේක් ද, යමෙක්හි මේ ජනතාව ගැන්වූ සේක් ද, පිවිස්වූ සේක් ද, පිහිටිවූ සේක් ද, ඒකාන්තයෙන් මේ ඒ ආර්ය සමාධිස්කන්ධය යැ වැලි මෙහි මෙසින් මත්තෙහි කටයුතු දෑ ද ඇත."

64 [ශුභ] "භවත් අනඳ තෙරුනි, ආශ්චර්ය ය භවත් අනඳ තෙරුනි, අද්භූත ය ඒ මේ සමාධිස්කන්ධය පරිපූර්ණ ය, අපරිපූර්ණ නො වේ භවත් අනඳ තෙරුනි, මෙසේ පරිපූර්ණ වූ ආර්ය සමාධිස්කන්ධයක් මෙයින් පිටත්හි අන් මහණබමුණන් කෙරෙහි නො දකිමි භවත් අනඳ තෙරුනි, මෙසේ පරිපූර්ණ ද වූ ආර්ය සමාධිස්කන්ධයක් මෙයින් පිටත්හි මහණ බමුණෝ තමන් කෙරෙහි දක්නාහු නම්, ඔහු එපමණෙකින් ම 'මෙතෙකින් සෑහෙයි (මෙ තෙක් ම ඇත), මෙතෙකින් සියලු කටයුතු දෑ කොට නිමැවිණැ' යි සතුටු සිතැති වන්නාහ

65. අථ ච පන භවං ආනන්දො එවමාහ අත්ථි චෙවෙත්ථ උත්තරිං කරණීයන්ති. කතමො පන සො භො ආනන්ද අරියො පඤ්ඤාක්ඛන්ධො, යස්ස සො භවං ගොතමො වණ්ණවාදී අහොසි යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසී?''ති

66. ''පුන ච පරං මාණව සො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති: අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දනභෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති.

67. සෙය්‍යථාපි මාණව මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො තත්‍රස්ස සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං වා. තමෙනං චක්ඛුමා පුරිසො හත්ථෙ කරිත්වා පච්චවෙක්ඛෙය්‍ය: අයං ඛො මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො. තත්‍රිදං සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං වා''ති. එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො එවං පජානාති: අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දනභෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති.

68 යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- එවං පජානාති -පෙ- ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

65. එහෙත් භවත් අනඳ තෙරණුවෝ 'මෙහි මත්තෙහි ද කටයුතු දෑ ඇතැ'යි මෙසේ වදාරති භවත් අනඳ තෙරුනි, ඒ පින්වත් ගොයුමාණන් වහන්සේ යමක්හුගේ ගුණ වදාරන සුලු වූ සේක් නම්, යමෙකැ මේ ජනතාව මොනොවට ගැන්වූ සේක්, පිවිස්වූ සේක්, පිහිට්වූ සේක් වූහු නම් ඒ ආර්‍ය ප්‍රඥස්කන්ධය කවරේ ද?"

66 [ආනන්ද:] "තව ද (අනෙකක් කියමි) මාණවය, ඒ මහණ තෙමේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කිලිටි නැති වූ කල්හි, පහ වූ චිත්තොපක්ලේශ ඇති කල්හි, මෘදු වූ කල්හි, විදර්ශනාභාවනාවට යෝග්‍ය කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනා ඥානය පිණිස, (පරිකර්ම) සිත එයට අභිමුඛ කෙරෙයි, ඒ අතට නමා හරියි හේ "මාගේ මේ කය වූ කලී රූපවත් ය, සතර මහාභූතයන් ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍ර-ශොණිතයෙන් උපන්නේ ය, බත් කොමු ආදී අහරින් වැඩුණේ ය, අනිස බව ද දුගඳ හරනුවට සුවඳ විලෙවුන් ඉලිය යුතු බව ද, ලෙඩ දුරුලනුවට පිරිමැදුම් ආ කළ යුතු බව ද, එසේ කළ ද බිඳෙන බව ද, විසිරෙන බව ද යන මේ දූ සවභාව කොටැත්තේ ය. මගේ මේ සිත ද මෙහි ලැග්ගේ ය, මෙහි බැඳුණේ යැ" යි මෙසේ දැන ගනී.

67. මාණවය, යම්සේ සොඳුරු වූ, පිරිසිදු ආකරයෙක පහල වූ, අටැස් වූ මොනොවට පිරියම් කළ, සියුම් වූ වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, ධොවනාදි සියලු ආකාරයෙන් යුත් වෛරෘම්ණෙක් වන්නේ ද, එහි නිල්වත් වූ හෝ රත්වත් වූ හෝ රන්වන් වූ හෝ සුදුවත් වූ හෝ පඬුවත් හෝ හුයෙක් අවුනන ලද්දේ වන්නේ ද, එය ඇස් ඇති පුරුෂයෙක් අතෙහි කොට, "මේ වූ කලී සොඳුරු වූ, පිරිසිදු ආකරයෙහි උපන්, අටැස් වූ මොනොවට පිරියම් කළ, සියුම් වූ, වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, සියලු ධොවනාදි ආකාරයෙන් සම්පූර්ණ වූ වෛරෘම්ණෙක මෙහි නිල්වත් වූ හෝ රත්වත් වූ හෝ රන්වන් වූ හෝ සුදුවත් වූ හෝ මේ හුයෙක් අවුනන ලදුයේ වේ යැ"යි සලකා බලන්නේ ද, මාණවය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාධිගත කල්හි පිරිසිදු කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් පටපත් වූ කල්හි, උපක්ලේශයන් පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනාඥානය පිණිස සිත අභිමුඛ කෙරෙයි, ඒ අතට නමා හරියි හෙ තෙම "මාගේ මේ කය වූ කලී රූපී ය, සතර මහාභූතයන්ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍රශොණිතයෙන් නිපන්නේ ය. බත් කොමු ආදී අහරින් වැඩුණේ ය අනිස බව ද දුගඳ හරනට සුවඳ විලෙවුන් ඉලිය යුතු බව ද ලෙඩ දුරුලනුවට පිරිමැදුම් ආ කළ යුතු බව ද ඒ කලත් බිඳෙන බව ද විසිරෙන බව ද යන මේ දූ සවභාව කොටැත්තේ ය, මාගේ මේ සිත ද මෙහි ලැග ගත්තේ ය, මෙහි බැඳුණේ යැ"යි මෙසේ දැන ගනී.

68. මාණවය, මහණ මෙසේ සිත සමාධිගත කල්හි 'මාගේ මේ සිත ද මෙහි ලැග ගත්තේ ය. මෙහි බැඳුණේ යැ' යි මෙසේ දනී යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි.

69. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මතීයෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං.

70. සෙය්‍යථාපි මාණව පුරිසො මුඤ්ජම්හා ඉසිකං පවාහෙය්‍ය, තස්ස එවමස්ස. අයං මුඤ්ජො අයං ඉසිකා. අඤ්ඤො මුඤ්ජො අඤ්ඤා ඉසිකා මුඤ්ජම්හා ත්වෙව ඉසිකා පබ්බාළ්හා'ති සෙය්‍යථාපි වා පන මාණව පුරිසො අසිං කොසියා පවාහෙය්‍ය, තස්ස එවමස්ස: අයං අසි අයං කොසි, අඤ්ඤො අසි අඤ්ඤා කොසි, කොසියා ත්වෙව අසි පබ්බාළ්හා 'ති. සෙය්‍යථාපි වා පන මාණව පුරිසො අහිං කරණ්ඩා උද්ධරෙය්‍ය, තස්ස එවමස්ස· අයං අහි අයං කරණ්ඩො, අඤ්ඤො අහි අඤ්ඤො කරණ්ඩො කරණ්ඩා ත්වෙව අහි උබ්භතො'ති එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං

71. යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ-පෙ-අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

72 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති එකො'පි හුත්වා බහුධා හොති බහුධාපි හුත්වා එකො හොති, ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ පඨවියා'පි උම්මුජ්ජනිමුජ්ජං කරොති, සෙය්‍යථාපි උදකෙ උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථාපි පඨවියං. ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො ඉමෙ'පි චන්දිමසූරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරාමසති පරිමජ්ජති. යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති.

69  හේ මෙසේ සිත සමාහිත වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් නොමැති වූ කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ (ඍද්ධි ඉපැදීමට යොග්‍ය වූ) කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, මනෝමය ශරීරයක් මවා පෑනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ මේ සිරුරෙන් රූපී වූ, සියලු අඟපසඟින් යුත්, විකල නො වූ ඉඳුරන් ඇති මනෝමය ශරීරයක් මවා පායි

70  මාණවය, යම්සේ පුරුෂයෙක් මුදුතණගසෙකින් තණකූර (=තණ බඩය) ඇද මැත් කරන්නේ ද, ඔහුට 'මේ මුදුතණගස ය, මේ එහි තණබඩ ය, තණගස එකෙකි, එහි බඩය අනෙකෙකි, මුදුතණ ගස කෙරෙන් ම එහි කූර (බඩය) මැත් කරන ලද්දේ යැ' යි මෙසේ සිතෙක් වන්නේ ද– මාණවය, යම්සේ පුරුෂයෙක් කඩුවක් කොපුවෙන් ඇද මැත් කරන්නේ ද, ඔහුට 'මේ කඩුව ය, මේ කොපුව ය; කඩුව එකෙක, කොපුව අනෙකෙක කොපුයෙන් ම කඩුව ඇද මැත් කරන ලද්දේ යැ'යි මෙසේ සිතෙක් වන්නේ ද– මාණවය, යම්සේ වනාහි පුරුෂයෙක් නයකු සැවෙයෙන් ඇද වෙන් කරන්නේ ද, ඔහුට 'මේ නයා ය, මේ සැව ය, නයා එකෙක, සැවය අනෙකෙක සැවය කෙරෙන් ම නයා ඇද වෙන් කරන ලද්දේ යැ'යි මෙසේ සිතෙක් වන්නේ ද– මාණවය, එපරිද්දෙන් ම මහණ තෙම මෙසේ සිත සමාධිගතවැ පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පත් කල්හි, මනෝමය ශරීරයක් මවා පෑනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ මේ ශරීරයෙන් රූපී වූ මනෝමය වූ සියලු අඟපසඟින් යුත් වූ අවිකල ඉඳුරන් ඇති අන් සිරුරක් මවා පායි

71  මාණවය, මහණ තෙම මෙසේ සිත සමාධිගත කල්හි පිරිසිදු වූ කල්හි රූපී වූ මනෝමය වූ සියලු අඟපසඟින් යුත් වූ අවිකල ඉඳුරන් ඇති අන් සිරුරක් මවා පායි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි

72  හේ මෙසේ සිත සමාහිත කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය(=ඍද්ධියට යොග්‍ය) කල්හි, ස්ථිර කල්හි, නිශ්චලත්වයට පැමිණි කල්හි, ඍද්ධිවිධඥානය පිණිස (අභිඥාපාදක) පරිකර්ම සිත මෙහෙයයි, නැඹුරු කෙරෙයි. හේ අනෙකවිධ වූ ඍද්ධිවිධය (ඍද්ධි කොට්ඨාසය) නැවත නැවත අනුභව කෙරෙයි (හෙවත් නාම කයින් ස්පර්ශ කෙරෙයි, ප්‍රත්‍යක්ෂ කෙරෙයි, ලබයි ) පියෙවියෙන් එකෙක් වැ සිටැ ද (ඍද්ධි බලයෙන්) බහු ප්‍රකාර ද වී යළි දු එකෙක් වෙයි තමාගේ ප්‍රකට බව කෙරෙයි (පෙනීසිටී) අප්‍රකට බව කෙරෙයි (නොපෙනී සිටියි) බිත්තියෙන් පිටතට, පවුරෙන් පිටතට, පර්වතයෙන් පිටතට, අහසෙහි මෙන් කිසිවෙක නො ගැටෙනුයේ මැදින් විනිවිද ගෙන යෙයි දියෙහි මෙන් පොළොවෙහි ද යටට බැසීම (ගිලී) උඩට නැඟීම (මතු වීම) කෙරෙයි නොබිදෙන (යට නො බස්නා) දියෙහි පොළොවෙහි සේ යයි පක්ෂ ඇති සකුණයකු මෙන් අහසෙහි ද පලඟින් (=ඌරුබද්ධාසනයෙන්) යෙයි මෙසා මහර්ද්ධි ඇති මහත් අනුභාව ඇති මේ සඳ හිරු දෙදෙනා ද, අතින් පරාමර්ශන කෙරෙයි (=අල්ලයි), (ඔබමොබ අත යවා) පිරිමදියි, බ්‍රහ්මලොව තෙක් ද (සියල්ල) කයින් වශයෙහි පවත්වයි

73. සෙය්‍යථාපි මාණව දක්ඛො කුම්භකාරො වා කුම්භකාරන්තෙවාසී වා සුපරිකම්මකතාය මත්තිකාය යං යදෙව භාජනවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

74. සෙය්‍යථා වා පන මාණව දක්ඛො දන්තකාරො වා දන්තකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං දන්තස්මිං යං යදෙව දන්තවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

75 සෙය්‍යථා වා පන මාණව දක්ඛො සුවණ්ණකාරො වා සුවණ්ණකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං සුවණ්ණස්මිං යං යදෙව සුවණ්ණවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය-

76. එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති එකො'පි හුත්වා බහුධා හොති -පෙ- යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති

77. යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ-පෙ-යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය.

78 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච

79. සෙය්‍යථාපි මාණව පුරිසො අද්ධානමග්ගප්පටිපන්නො, සො සුණෙය්‍ය භෙරිසද්දම්පි මුදිඞ්ගසද්දම්පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දම්පි, තස්ස එවමස්ස: භෙරිසද්දො ඉති'පි මුදිඞ්ගසද්දො ඉති'පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දො ඉති'පි. එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච.

73 මාණවය, යම්සේ දක්‍ෂ කුඹලෙක් හෝ කුඹලක්හුගේ අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ (=සකස් කළ) මැටියෙන් යම් යම් භාජන විශෙෂයක් කැමැත්තේ නම්, ඒ ඒ දූය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද–

74. මාණවය, යම්සේ දක්‍ෂ දන්තකාරයෙක් (ඇත් දතින් විසිතුරු රූ ඈ කරන්නෙක්) හෝ දන්තකාරයක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ දතෙහි යම් යම් දන්තවිකෘතියක් තමා කැමැති නම්, ඒ ඒ දූ ම කරන්නේ ද නිපදවන්නේ ද –

75 මාණවය, යම්සේ දක්‍ෂ රන්කරුවෙක් හෝ රන්කරුවක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ රනෙහි යම් යම් සවර්ණ විකෘතියක් තමා කැමැත්තේ නම්, එය එය ම කරන්නේ ද, නිපදවන්නේ ද –

76 එසේ ම මාණවය, මහණ මෙසේ සිත සමාහිත කල්හි පිරිසිදු කල්හි පයීවදන කල්හි අංගණ රහිත කල්හි උපකෙලශ පහවූ කල්හි මෘදුවූ කල්හි කර්මණ්‍ය කල්හි සථිත කල්හි අචල බවට පැමිණි සිටි කල්හි සෘද්ධිවිධය පිණිස සිත යොමු කෙරෙයි, නමා ලයි. හේ ‘එකෙක් වැ බොහෝ පරිදි වේ . බඹ ලොව තෙක් ද කයින් වශය පවත්වයි යන අනෙකවිධ සෘද්ධිවිධ අනුභව කෙරෙයි.

77. මාණවය, මහණ මෙසේ සිත සමාහිත කල්හි බඹලොව දක්වා ද කයින් වශය පවත්වයි, අනෙකවිධ සෘද්ධිවිධ අනුභව කෙරේ යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥවෙක් වේ

78 හේ මෙසේ සිත සමාහිත කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, සථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍යශ්‍රොත්‍ර-ධාතුව පිණිස (=දිවකන් නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි, හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්මවා සිටි දිව කනින් දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුරු වූ ද ලං වූ ද යන ද්විවිධ ශබ්ද ම අසයි.

79. මාණවය, යම්සේ මිනිසෙක් දික් මඟකට පිළිපන්නේ ද, හේ බෙර හඬත් මිහිඟුබෙර හඬත් පණාබෙර හඬත් ගැටබෙර හඬත් යම් සේ අසන්නේ ද, ඒ අසන ඔහුට ‘මේ බෙර හඬැයි කියාත් මේ මිහිඟුබෙර හඬැ යි කියාත් මේ සක් හඬ යැ, මේ පණාබෙර හඬ යැ, මේ ගැටබෙර හඬ යැ යි කියාත් මෙසේ සිතෙක් වන්නේ ද, මාණවය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය (කර්මක්‍ෂම) වූ කල්හි, සථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍ය-ශ්‍රොත්‍රධාතුව පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්මි දිවකන්නුවණින් දිව්‍ය වූත් මානුෂක වූත් දුරු වූත් ලඟැ වූත් ද්විවිධ ශබ්ද අසයි.

80. යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

81 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති· සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති. වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති. සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති. මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති. අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති. සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති. සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති. විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති.

82. සෙය්‍යථාපි මාණව, ඉත්ථී වා පුරිසො වා දහරො වා යුවා මණ්ඩනකජාතිකො ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදකපත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය, අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය, එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති· සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති. වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති. සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති. වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති. සඞ්ඛිත්තං වා චිත්තං -පෙ- වික්ඛිත්තං වා චිත්තං -පෙ- මහග්ගතං වා චිත්තං -පෙ- අමහග්ගතං වා චිත්තං -පෙ- සඋත්තරං වා චිත්තං -පෙ- අනුත්තරං වා චිත්තං -පෙ- සමාහිතං වා චිත්තං -පෙ- අසමාහිතං වා චිත්තං -පෙ- විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

80 මාණවය, ඒ මහණ මෙසේ සිත සමාහිතව වූ කල්හි, පිරිසිදු වූ කල්හි දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුර වූ ද ළඟ වූ ද දවිවිධ ශබ්ද අසයි යන යමෙක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වේ

81. හේ මෙසේ සිත එකඟ වූ කල්හි, පිරිසිදු වූ කල්හි, දිප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, චේතස්පර්යඥානය පිණිස (=අනුන්ගේ සිත පිරිසිඳ දත්නා නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සත්ත්වයන්ගේ අන් පුද්ගලයන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනියි රාග සහිත සිත රාග සහිත සිතැ යි ද දනියි රාග රහිත සිත රාග රහිත සිතැ යි ද දනියි ද්වේෂ සහිත සිත ද්වේෂ සහිත සිතැයි ද දනී. ද්වේෂ රහිත සිත ද්වේෂරහිත සිතැ යි ද දනී මෝහ සහිත සිත මෝහ සහිත සිතැ යි ද දනී. මෝහරහිත සිත මෝහරහිත සිතැ යි ද දනී සංක්ෂිප්ත (=හැකුළුණු) සිත හැකුළුණු සිතැ යි ද දනී වික්ෂිප්ත (=විසුරුණු) සිත විසුරුණු සිතැ යි ද දනී මහද්ගත සිත මහද්ගත සිතැ යි ද දනී අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද දනී සොත්තර සිත සොත්තර සිතැ යි ද දනී අනුත්තර සිත අනුත්තර සිතැ යි ද දනී සමාහිත සිත සමාහිත සිතැ යි ද දනී අසමාහිත සිත අසමාහිත සිතැ යි ද දනී විමුක්ත (=මිදුණු) සිත විමුක්ත සිතැ යි ද දනී. අවිමුක්ත (=නොමිදුණු) සිත අවිමුක්ත සිතැ යි ද දනී.

82. මාණවය, යම්සේ සැරසෙන සුලු ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ළදරුවෙක් හෝ තරුණයෙක් හෝ පිරිසිදු දිප්තිමත් කැඩපතෙක හෝ පහන් දිය බඳුනෙක හෝ සිය මුවසටහන පිරික්සා බලන්නේ තල-කැලැල් ආදි දොස් ඇති තැන් සදොස් තැනැ යි දන්නේ ද, එ කී දොස් නැති තැන දොස් නැතැ යි දන්නේ ද – මාණවය, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත කල්හි, පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති කල්හි, උපකෙලශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පරසිත් දත්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සතුන්ගේ, අන් පුගුලන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනි සරාග සිත සරාග සිතැ යි ද දනී විතරාග සිත විතරාග සිතැ යි ද දනී. සද්වේෂ සිත සද්වේෂ සිතැ යි ද දනී විතද්වේෂ සිත විතද්වේෂ සිතැ යි ද දනී සමෝහ සිත සමෝහ සිතැ යි ද දනී, විතමෝහ සිත විතමෝහ සිතැ යි ද දනී සංක්ෂිප්ත සිත සංක්ෂිප්ත සිතැ යි ද දනී වික්ෂිප්ත සිත වික්ෂිප්ත සිතැ යි ද දනී. මහද්ගත සිත මහද්ගත සිතැ යි ද අමහද්ගත සිත අමහද්ගත සිතැ යි ද සොත්තර සිත සොත්තර සිතැ යි ද . අනුත්තර සිත අනුත්තර සිතැ යි ද සමාහිත සිත සමාහිත සිතැ යි ද .. අසමාහිත සිත අසමාහිත සිතැ යි ද විමුක්ත සිත විමුක්ත සිතැ යි ද අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි ද දනී.

89. එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා. තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති

90 යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

91. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසවසමුදයො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවාපි චිත්තං විමුච්චති භවාසවාපි චිත්තං විමුච්චති අවිජ්ජාසවාපි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති පජානාති

89 මාණවය, එ පරිදි ම එ මහණ තෙමේ මෙසේ සිත සමාහිත කල්හි පිරිසිදු කල්හි දීප්තිමත් කල්හි කෙලෙස් නැති කල්හි උපක්ලේශ පහ වූ කල්හි මෘදු කල්හි කර්මක්ෂම කල්හි ස්ථිත කල්හි නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උත්පත්ති දක්නා නුවණ ලබනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ මානුෂක විෂයය ඉක්ම පිරිසිදු වූ දිවැසින් "අහෝ මේ භවත් සත්හු කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්යයනට උපවාද කළහ, මිසදිටුවහ, මිසදිටු වශයෙන් ගත් ව්‍රත ඇතියහ ඒ මොහු කා බුන් මරණින් මතු, සැපයෙන් පහ වූ, දුෂ්ට කර්මයෙන් උපන් ගතිය වූ, තමනට තමන් අවශ ව වැටෙන තැන වූ නිරයට වත්හ එහෙත් මේ භවත් සත්ත්වයෝ වූ කලි කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃසුචරිතයෙන් සමන්විතයහ, ආර්යයනට උපවාද නො කළහ, සම්දිටු ගත්හ, සම්දිටු විසින් ගත් ශිලාදිය ඇත්හ මොහු කා බුන් මරණින් මතු ශොභන ගති ඇති සග ලොවට වත්නාහ'යි මෙසේ මරණාසන්න වූ ද, එකෙණෙහි පිළිසඳ ගත්තාවූ ද, පහත් වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නො මනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියා වූ ද, දුගතියට පැමිණියා වූ ද කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගිය සත්ත්වයන් දකී මෙසේ පිරිසිදු වූ, මානුෂක විෂයය ඉක්මැ පැවැති දිවැසින්, හීන ප්‍රණීත, සුවර්ණ දුර්වර්ණ සුගත දුර්ගත සත්ත්වයන් දකී කර්ම වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකී

90 මාණවය, මහණ තෙම මෙසේ සිත සමාහිත කල්හි පිරිසිදු කල්හි සුගත දුර්ගත වූ කර්ම වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සතුන් දකී යන යමෙක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි

91 හේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ උපක්ලේශ පහ වැ මෘදු වැ කර්මක්ෂම වැ ස්ථිත වැ නිශ්චල බවට පැමිණැ සිටි කල්හි, ආස්‍රවයන්ගේ ක්ෂයය (විනාශය) පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු ද කෙරෙයි (එසේ වූ) හෙ තෙමේ 'මේ දුකැ' යි ඇති සැටියෙන් දනී, 'මේ දුක් ඉපැද්මට කාරණයැ' යි ඇති සැටියෙන් දනී. 'මේ දුක් වැනැස්මැ' යි (නිවනැ' යි) ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මට යන පිළිවෙතැ'යි ඇති සැටියෙන් දනී. 'මොහු ආස්‍රවයෝ යැ'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවයන් ඉපැද්මට කරුණැ'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවනිරොධයැ' යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවනිරොධගාමිනී ප්‍රතිපත්ති යැ'යි ඇති සැටියෙන් දනී මෙසේ දන්නා මෙසේ දක්නා ඔහුගේ සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ ඔහු සිත භවාස්‍රවය කෙරෙන් ද මිදේ, (ඔහු) සිත අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ (එසේ සිත) මිදුණු කල්හි 'මා සිත ආස්‍රව කෙරෙන් මිදුණේ යැ' යි (ප්‍රත්‍යවෙක්ෂණ) ඥානය වේ භවොත්පත්තිය ක්ෂීණ විය (හෙවත් නැවැත භවයෙහි නොඋපදනා ස්වභාවයට පැමිණියෙමි), 'මහ බඹසර වැස නිමැවිණි (සිවු සස්හි සතර මඟින් කළ යුතු සොළොස් වැදෑරුම්) කිස කොටැ නිමැවිණි මේ බව පිණිස (=මේ ක්ලේශක්ෂයය පිණිස) යළි දු කටයුතු දෑයෙක් නැතැ'යි හේ දනී.

සෙය්‍යථාපි මාණව පබ්බතසඞ්ඛෙපෙ උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො, තත්ථ චක්ඛුමා පුරිසො තීරෙ ඨිතො පස්සෙය්‍ය සිප්පිසම්බුකම්පි සක්ඛරකඨලම්පි මච්ඡගුම්බම්පි චරන්තම්පි තිට්ඨන්තම්පි, තස්ස එවමස්ස· අයං ඛො උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො තත්‍රිමෙ සිප්පිසම්බුකා'පි සක්ඛරකඨලා'පි මච්ඡගුම්බා'පි චරන්ති'පි තිට්ඨන්ති'පීති, එවමෙව ඛො මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසවසමුදයො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති.

92 තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති භවාසවා'පි චිත්තං විමුච්චති අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති. ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති පජානාති. යම්පි මාණව භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- කතං කරණීයං නාපරං ඉත්ථත්තායා'ති පජානාති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

93. අයං ඛො මාණව සො අරියො පඤ්ඤාක්ඛන්ධො යස්ස සො භගවා වණ්ණවාදී අහොසි, යත්ථ ච ඉමං ජනතං සමාදපෙසි නිවෙසෙසි පතිට්ඨාපෙසි. නත්ථි චෙවෙත්ථ උත්තරිං කරණීයන්ති.

94. අච්ඡරියං භො ආනන්ද, අබ්භුතං භො ආනන්ද, සො චායං භො ආනන්ද අරියො පඤ්ඤාක්ඛන්ධො පරිපුණ්ණො එවමපරිපුණ්ණො, නාහං භො ආනන්ද අරියං පඤ්ඤාක්ඛන්ධං ඉතො බහිද්ධා අඤ්ඤෙසු සමණබ්‍රාහ්මණෙසු න සමනුපස්සාමි නත්ථි චෙත්ථ උත්තරිං කරණීයන්ති අභික්කන්තං භො ආනන්ද, අභික්කන්තං භො ආනන්ද, සෙය්‍යථාපි භො ආනන්ද, නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය, පටිච්ඡන්නං වා විවරෙය්‍ය, මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය, අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛුමන්තො රූපානි දක්ඛින්තීති, එවමෙව ඛො භොතා ආනන්දෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො එසාහං භො ආනන්ද, භගවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච උපාසකං මං භවං ආනන්දො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතන්ති

සුභසුත්තං නිට්ඨිතං දසමං.

මාණවය, යම්සේ කඳු මුදුනෙක වූ, පහන් වූ, වෙසෙසින් පහන් වූ, නොකැලඹුණු (=බොර නො වූ) දිය විලෙක් වන්නේ ද, එහි ඉවුරෙහි ඇස් ඇති මිනිසෙක් සිටියේ, එහි තුළ හැසිරෙන්නා වූත් සිටුනා වූත් ඉප්පිබෙල්ලනුත් සක්බෙල්ලනුත් කැටකැබිලිතිත් මත්ස්‍යසමූහයාත් දක්නේ ද, (එසේ දක්නා) ඔහුට "මේ දියවිල පහන් ය, වෙසෙසින් පහන් ය, නො කැලඹුණේ ය මෙහි මේ සිප්පිහුත් සක්බෙල්ලෝත් කැට කැබිලිතිත් මත්ස්‍යසමූහයෝත් හැසිරෙත්තෝත් සිටිත්තෝත් වෙති" යි මෙසේ සිතෙක් වන්නේ ද, මාණවය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වැ දීප්තිමත් වැ නිකෙලෙස් වැ උපකෙලශ පහ වැ මෘදු වැ කර්මණ්‍ය වැ ස්ථිත වැ නිශ්චලතාවට පැමිණි කල්හි, ආස්‍රවක්‍ෂයඥානය පිණිස සිත යොමු කෙරෙයි, නැමුරු කෙරෙයි හේ 'මේ දුකැ'යි ඇති සැටියෙන් දනී, 'මේ දුකට කරුණැ'යි ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මැ'යි ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මට යන පිළිවෙතැ'යි ඇති සැටියෙන් දනී. 'මොහු ආස්‍රවයහ'යි ඇති සැටියෙන් දනී මේ ආස්‍රව-සමුදය යැ (ආස්‍රව ඉපැදීමට කරුණැ)'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රව-නිරොධයැ'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවනිරොධයට පැමිණෙන පිළිවෙතැ'යි ඇති සැටියෙන් දනී.

92 මෙසේ දන්නා මෙසේ දක්නා ඔහුගේ සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ, භවාස්‍රවය කෙරෙන් ද මිදේ, අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ මිදුණු කල්හි 'මිදුණේ යැ'යි දැනීම වේ. "භවෝත්පත්තිය ක්‍ෂීණ විය මාර්ගබ්‍රහ්ම-චර්‍ය්‍යය වැස නිමවන ලද්දේ ය, (සිවු සස්හි සිවු මඟින්) කළයුතු (සොළොස් වැදෑරුම්) කෘත්‍යය කොටැ නිමැවිණ. මෙ රහත්බව පිණිස (=මේ කෙලශ-ක්‍ෂයය පිණිස) කළ යුතු අන් කිසිත් නැතැ"යි හේ දනී මාණවය, මහණ තෙම මෙසේ සිත සමාධිගත කල්හි ශුද්ධ වූ කල්හි කළ යුතු දෑ කොට නිමැවිණ. මෙය පිණිස තවත් කටයුතු දෑයෙක් නැතැ යි දනී යන යමෙක් ඇද්ද, මෙය ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි.

93 මාණවය, ඒ භාග්‍යවතුන් වහන්සේ යමෙක ගුණ වදාරන සුළු වූ සේක් වූහු නම්, යමෙක මේ ජනතාව මොනොවට ගැන්වූ සේක් පිවිස්වූ සේක් වූහු නම්, මේ ඒ ප්‍රඥාස්කන්ධය යි මෙහි ලා මෙයින් මත්තෙහි කටයුත්තෙක් නැත "

94 [ශුභ] "භවත් අනඳ තෙරුනි, ධර්ම දෙශනාව අභිකාන්ත ය. භවත් අනඳ තෙරුනි, ධර්ම දෙශනාව අභිකාන්ත ය භවත් අනඳතෙරුනි, යම්සේ යැටිකුරු කොට තැබූ (මුහුණින් නැමූ) බඳුනක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු දෑයක් වැසුම් හැර දක්වන්නේ හෝ වේ ද, මං මුළා වූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියන් රූප දකිතැ'යි අඳුරෙහි තෙල් පහනක් දල්වන්නේ හෝ වේ ද, වහන්ස, එපරිද්දෙන් ම භවත් අනඳ තෙරුන් විසින් මට නොයෙක් අයුරින් ධර්මය පැවැසිණ. භවත් අනඳ තෙරුනි, ඒ මම් භාග්‍යවත් ගෞතමයන් වහන්සේ ද ධර්මය ද භික්‍ෂුසංඝයා ද සරණ යෙමි -අද පටන් දිවිහිමි කොට සරණ ගිය උවසක්හු කොට භවත් අනඳ තෙරණුවෝ මා සලකත් වා".

දසවනු ශුභසූත්‍රය නිමියේ ය.

# 11

# කෙවඩ්ඪ සුත්තං

1. එවං මෙ සුතං: එකං සමයං භගවා නාළන්දායං විහරති පාවාරිකම්බවනෙ. අථ ඛො කෙවඩ්ඪො ගහපතිපුත්තො යෙන භගවා තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා භගවන්තං අභිවාදෙත්වා එකමන්තං නිසීදි. එකමන්තං නිසින්නො ඛො කෙවඩ්ඪො ගහපතිපුත්තො භගවන්තං එතදවොච 'අයං භන්තෙ නාළන්දා ඉද්ධා චෙව ඵීතා ච, බහුජනා ආකිණ්ණමනුස්සා, භගවති අභිප්පසන්නා. සාධු භන්තෙ භගවා එකං භික්ඛුං සමාදිසතු යො උත්තරිමනුස්සධම්මා ඉද්ධිපාටිහාරියං කරිස්සති. එවායං නාළන්දා භිය්යොසොමත්තාය භගවති අභිප්පසීදිස්සතී'ති

2. එවං වුත්තෙ භගවා කෙවඩ්ඪං ගහපතිපුත්තං එතදවොච. න ඛො අහං කෙවඩ්ඪ භික්ඛූනං එවං ධම්මං දෙසෙමි 'එථ තුම්හෙ භික්ඛවෙ ගිහීනං ඔදාතවසනානං උත්තරිමනුස්සධම්මා ඉද්ධිපාටිහාරියං කරොථා'ති

3. දුතියම්පි ඛො කෙවඩ්ඪො ගහපතිපුත්තො භගවන්තං එතදවොච. නාහං භන්තෙ භගවන්තං ධංසෙමි අපි ච එවං වදාමි. 'අයං භන්තෙ නාළන්දා ඉද්ධා චෙව ඵීතා ච, බහුජනා ආකිණ්ණමනුස්සා, භගවති අභිප්පසන්නා සාධු භන්තෙ භගවා එකං භික්ඛුං සමාදිසතු යො උත්තරිමනුස්සධම්මා ඉද්ධිපාටිහාරියං කරිස්සති. එවායං නාළන්දා භිය්යොසොමත්තාය භගවති අභිප්පසීදිස්සතී'ති. දුතියම්පි ඛො භගවා කෙවඩ්ඪං ගහපතිපුත්තං එතදවොච: න ඛො අහං කෙවඩ්ඪ භික්ඛූනං එවං ධම්මං දෙසෙමි 'එථ තුම්හෙ භික්ඛවෙ ගිහීනං ඔදාතවසනානං උත්තරිමනුස්සධම්මා ඉද්ධිපාටිහාරියං කරොථා'ති

4 තතියම්පි ඛො කෙවඩ්ඪො ගහපතිපුත්තො භගවන්තං එතදවොච: නාහං භන්තෙ භගවන්තං ධංසෙමි. අපි ච එවං වදාමි. 'අයං භන්තෙ නාළන්දා ඉද්ධා චෙව ඵීතා ච, බහුජනා ආකිණ්ණමනුස්සා, භගවති අභිප්පසන්නා සාධු භන්තෙ භගවා එකං භික්ඛුං සමාදිසතු යො උත්තරිමනුස්සධම්මා ඉද්ධිපාටිහාරියං කරිස්සති. එවායං නාළන්දා භිය්යොසොමත්තාය භගවති අභිප්පසීදිස්සතී'ති

---

1 කෙවට්ටො සිමු

# 11

# කෙවඩ්ඪ සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදි. එක් සමයෙක භාග්‍යවතුන් වහන්සේ නාලන්‍දා නුවරට නොදුරු තොලං තන්හි වූ පාවාරික අඹවෙනෙහි වැඩ වසන සේක එ කල්හි කෙවඩ්ඪ නම් ගැහැවිපුත් භාග්‍යවතුන් වහන්සේ කරා එළැඹියේ ය එළැඹ භාග්‍යවතුන් වහන්සේ සාදර ව වැඳ පසෙක හුන්නේ ය. පසෙක හුන්නා වූ ම කෙවඩ්ඪ ගැහැවිපුත් තෙම "වහන්ස, මේ නාලන්‍දා නගරිය සමෘද්ධ ය, සපීත ය (නන් වැදෑරුම් භාණ්ඩයෙන් පිරුණේ ය), බොහෝ ජනයා ඇත්තේ ය, ගැවැසුණු මිනිසුන් ඇත්තේ ය, භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි වෙසෙසින් පැහැදුණේ ය වහන්ස, යාච්ඤා කරමි, යමෙක් උතුරුමිනිස්දහමින් ඉද්ධිපෙළහර කරන්නේ නම්, එසේ වූ එක් මහණකුට භාග්‍යවතුන් වහන්සේ අණ කරන සේක් වා මෙසේ මේ නාලන්‍දාව වඩාලාත් භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි පහදින්නේ යැ" යි භාග්‍යවතුන් වහන්සේට මෙය සැල කෙළේ ය

2 මෙසේ කී කල්හි භාග්‍යවතුන් වහන්සේ කෙවඩ්ඪ ගැහැවිපුතු බණවා, "කෙවඩ්ඪය, 'මහණෙනි, තෙපි (මෙසේ) එවූ සුදුවත් හඳින ගිහිනට උතුරුමිනිස්දහමින් පෙළහර කරවු' යැ යි මහණුනට මෙසේ දහම් නො දෙසමි" යි වදාළ සේක

3 දෙවෙනි වර ද කෙවඩ්ඪ ගැහැවිපුත් තෙම "වහන්ස, මේ නාලන්‍දා නගරිය සමෘද්ධ ය, සපීත ය බොහෝ ජනයා ඇත්තේ ය මිනිසුන්ගෙන් ගැවැසුණේ ය භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි වෙසෙසින් පැහැදුණේ ය වහන්ස, යාච්ඤා කරමි, යමෙක් උතුරු මිනිස් දහමින් ඉද්ධිපෙළහර කරන්නේ නම්, එසේ වූ එක් මහණකුට භාග්‍යවතුන් වහන්සේ අණ කරන සේක් වා මෙසේ මේ නාලන්‍දාව වඩාලාත් භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි පහදින්නේ යැ යි භාග්‍යවතුන් වහන්සේට මෙය සැල කෙළේ ය දෙවෙනි වර ද භාග්‍යවතුන් වහන්සේ කෙවඩ්ඪ ගැහැවිපුතුට, "කෙවඩ්ඪය, 'මහණෙනි, තෙපි (මෙසේ) එවූ සුදුවත් හඳනා ගිහිනට උතුරුමිනිස් දහමින් පෙළහර කරවු' යි මහණුනට මෙසේ දහම් නො දෙසමි" යි වදාළ සේක

4 තෙවෙනි වර ද කෙවඩ්ඪ ගැහැවිපුත්, "වහන්ස, මම භාග්‍යවතුන් වහන්සේ (ගුණ නසා) පහත හෙළනුයෙම් නො වෙමි වැලි දු මේ නාලන්‍දා නුවර සමෘද්ධ ය, සපීත ය බොහෝ ජනයා ඇත්තේ ය මිනිසුන්ගෙන් ගැවැසුණේ ය භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි වෙසෙසින් පැහැදුණේ ය වහන්ස, යාච්ඤා කරමි, යමෙක් උතුරුමිනිස්දහමින් ඉද්ධිපෙළහර කරන්නේ නම්, එසේ වූ එක් මහණකුට භාග්‍යවතුන් වහන්සේ අණ කරන සේක් වා මෙසේ මේ නාලන්දාව වඩාලාත් භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි පහදින්නේ යැ යි සිතා ම මෙසේ කියමි" යි මේ වචන කී ය.

5. "තීණි ඛො ඉමානි කෙවඩ්ඪ පාටිහාරියානි මයා සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදිතානි. කතමානි තීණි? ඉද්ධිපාටිහාරියං ආදෙසනාපාටිහාරියං. අනුසාසනීපාටිහාරියන්ති. කතමඤ්ච කෙවඩ්ඪ ඉද්ධිපාටිහාරියං? ඉධ කෙවඩ්ඪ භික්ඛු අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති: එකො'පි හුත්වා බහුධා හොති බහුධා පි හුත්වා එකො හොති ආවිභාවං තිරොභාවං, තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ. පඨවියාපි උම්මුජ්ජනිමුජ්ජං කරොති සෙය්‍යථාපි උදකෙ උදකෙ'පි අභිජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි පඨවියං ආකාසෙ'පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො. ඉමෙ'පි චන්දිමසුරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරිමසති පරිමජ්ජති. යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති.

6. තමෙනං අඤ්ඤතරො සද්ධො පසන්නො පස්සති තං භික්ඛුං අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොන්තං: එකම්පි හුත්වා බහුධා හොන්තං, බහුධාපි හුත්වා එකං හොන්තං, ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානං ගච්ඡන්තං සෙය්‍යථාපි ආකාසෙ, පඨවියාපි උම්මුජ්ජනිමුජ්ජං කරොන්තං සෙය්‍යථාපි උදකෙ, උදකෙ'පි අභිජ්ජමානෙ ගච්ඡන්තං සෙය්‍යථාපි පඨවියං, ආකාසෙ'පි පල්ලඞ්කෙන කමන්තං සෙය්‍යථාපි පක්ඛී සකුණො, ඉමෙ'පි චන්දිමසුරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරිමසන්තං පරිමජ්ජන්තං, යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙන්තං,

7 තමෙනං සො සද්ධො පසන්නො අඤ්ඤතරස්ස අස්සද්ධස්ස අප්පසන්නස්ස ආරොචෙති: අච්ඡරියං වත භො අබ්භුතං වත භො සමණස්ස මහිද්ධිකතා මහානුභාවතා අමාහං භික්ඛුං අද්දසං අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොන්තං: එකම්පි හුත්වා බහුධා හොන්තං, බහුධාපි හුත්වා එකම්පි හොන්තං -පෙ- යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙන්තන්ති. තමෙනං සො අස්සද්ධො අප්පසන්නො තං සද්ධං පසන්නං එවං වදෙය්‍ය: අත්ථි ඛො භො ගන්ධාරී නාම විජ්ජා. තාය සො භික්ඛු අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති: එකො'පි හුත්වා බහුධා හොති -පෙ- යාව බ්‍රහ්මලොකා'පි කායෙන වසං වත්තෙතීති තං කිං මඤ්ඤසි කෙවඩ්ඪ? අපි නු සො අස්සද්ධො අප්පසන්නො තං සද්ධං පසන්නං එවං වදෙය්‍යා"ති. "වදෙය්‍ය භන්තෙ" ති "ඉමං ඛො අහං කෙවඩ්ඪ ඉද්ධිපාටිහාරියෙ ආදීනවං සම්පස්සමානො ඉද්ධිපාටිහාරියෙන අට්ටියාමි හරායාමි ජිගුච්ඡාමි.

1 එකො'පි. (සිමු. PTS)

5. (එවිට භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ සේක·) "කෙවඩ්ඪය, මා විසින් ම වෙසෙසින් දැන පසක් කොට දෙසන ලද මේ ප්‍රාතිහාර්‍ය තුනෙකි කවර තුනෙක් දැ? යත්· ඍද්ධිප්‍රාතිහාර්‍යය, ආදේශනාප්‍රාතිහාර්‍යය, අනුශාසනප්‍රාතිහාර්‍යය යන තුන ය. කෙවඩ්ඪය, ඍද්ධිප්‍රාතිහාර්‍යය කවර යැ? කෙවඩ්ඪය, මෙහි මහණ පියෙවියෙන් එකෙක් වැ ම සිටැ බොහෝ පරිදි වෙයි. එසේ බොහෝ වැ සිටැ යළි දු එකෙක් වෙයි පැනෙන බවට යෙයි. නොපැනෙන බවට ද යෙයි බිත්තියෙන් පිටතට ද පවුරෙන් පිටතට ද පව්වෙන් පිටතට ද අහසෙහි මෙන් නො ගැටනුයේ විනිවිද යෙයි. පොළොවෙහි ද දියෙහි මෙන් ගිලීම මතු වීම කෙරෙයි. පොළොවෙහි සේ නොබිඳෙන දියෙහි (දිය නොබිඳැ) යෙයි අහසෙහි ද පියාපත් ඇති ලිහිණියකු මෙන් පලඟින් යෙයි. මේසා මහ ඉර්දුමත් මේසා මහ තෙදවත් සඳ හිරු දෙදෙනා පවා අත්ලෙන් සපශී කෙරෙයි, පිරිමදියි. බඹලොව දක්වා ද කයින් වශය පවත්වයි. නොයෙක් වැදෑරුම් ඍද්ධිවිධ පසක් කෙරෙයි.

6. සැදැහැති පැහැදුණු එක්තරා පුරුෂයෙක්, පියෙවියෙන් එකකු ව සිට බොහෝ පරිදි වන, බොහෝ පරිදි වැ යළි දු එකකු වන, පැනෙන බවට නොපැනෙන බවට යන, අහසෙහි මෙන් බිත්තියෙන් පිටතට ද පවුරෙන් පිටතට ද නොගැටෙමින් විනිවිද යන, පොළොවෙහි ද දියෙහි මෙන් ගිලීම මතු වීම කරන, පොළොවෙහි සේ නොබිඳෙන දියෙහි යන, අහසෙහි ද පියාපත් ඇති ලිහිණියකු මෙන් පලඟින් යන, මේසා මහ ඉර්දුමත් මේසා මහතෙදැති සඳහිරු දෙදෙනා අත ගාන, පිරිමදින, බඹලොව දක්වා ද කයින් වශය පවත්වන, මෙසේ නොයෙක් වැදෑරුම් ඉර්දුකොටස් පසක් කරන එ මහණහු දකී

7. ඒ සැදැහැති පහන් පුරුෂයා සැදැහැ නැති නොපහන් පුරුෂයකුට 'භවත, මේ මහණහුගේ මහඉර්දුමත්බව මහතෙදවත්බව අසිරිමත් ය, පුදුම ය පියෙවියෙන් එකකු වැ සිට බොහෝ පරිදි වැ යළි එකකු වන බඹලොව දක්වාත් කයින් වශය පවත්වන, මෙසේ නොයෙක් වැදෑරුම් ඍද්ධිවිධ පසක් කරන අසෝ මහණහු මම දිටිමි' යි කියයි. එ විට ඒ සැදැහැ ඇති පහන් පුඟුලාට ඒ සැදැහැ නැති නොපහන් පුඟුල් තෙම "භවත, ගාන්ධාරී නම් විද්‍යාවෙක් ඇත ඒ මහණ ඒ විදුයෙන් එකෙක් වැ සිට බොහෝ පරිදි වෙයි බඹලොව තෙක් ද කයින් වශය පවත්වයි යන මෙසේ වූ නොයෙක් වැදෑරුම් ඍද්ධිවිධය පසක් කෙරේ යැ" යි කියන්නේ ය කෙවඩ්ඪය, ඒ කිමැ යි සිතහි දැ? ඒ සැදැහැ නැති නොපහන් තැනැත්තේ ඒ සැදැහැ ඇති පහන් තැනැත්තහුට මෙසේ කියන්නේ දැ?" "එසේ කියන්නේ ය වහන්සැ" කෙවඩ්ඪ කී ය "කෙවඩ්ඪය, මම ඉර්දුපෙළ-හරෙහි මේ දෙස දක්නෙම් ඉර්දුපෙළහරින් පෙළුණකු බඳු වෙමි, ලජ්ජිත වෙමි, එයට පිළිකුල් කෙරෙමි.

8 කතමඤ්ච කෙවඩ්ඪ ආදෙසනාපාටිහාරියං? ඉධ කෙවඩ්ඪ භික්ඛු පරසත්තානං පරපුග්ගලානං චිත්තම්පි ආදිසති චෙතසිකම්පි ආදිසති විතක්කිතම්පි ආදිසති විචාරිතම්පි ආදිසති· එවම්පි තෙ මනො, ඉත්ථම්පි තෙ මනො, ඉතිපි තෙ චිත්තන්ති තමෙනං අඤ්ඤතරො සද්ධො පසන්නො පස්සති තං භික්ඛුං පරසත්තානං පරපුග්ගලානං චිත්තම්පි ආදිසන්තං චෙතසිකම්පි ආදිසන්තං විතක්කිතම්පි ආදිසන්තං විචාරිතම්පි ආදිසන්තං· එවම්පි තෙ මනො, ඉත්ථම්පි තෙ මනො, ඉති'පි තෙ චිත්තන්ති තමෙනං සො සද්ධො පසන්නො අඤ්ඤතරස්ස අස්සද්ධස්ස අප්පසන්නස්ස ආරොචෙති අච්ඡරියං වත භො අබ්භුතං වත භො සමණස්ස මහිද්ධිකතා මහානුභාවතා අමාහං භික්ඛුං අද්දසං පරසත්තානං පරපුග්ගලානං චිත්තම්පි ආදිසන්තං චෙතසිකම්පි ආදිසන්තං විතක්කිතම්පි ආදිසන්තං විචාරිතම්පි ආදිසන්තං· එවම්පි තෙ මනො, ඉත්ථම්පි තෙ මනො, ඉති'පි තෙ චිත්තන්ති. තමෙනං සො අස්සද්ධො අප්පසන්නො තං සද්ධං පසන්නං එවං වදෙය්‍ය අත්ථි ඛො භො මණිකා නාම විජ්ජා තාය සො භික්ඛු පරසත්තානං පරපුග්ගලානං චිත්තම්පි ආදිසති, චෙතසිකම්පි ආදිසති, විතක්කිතම්පි ආදිසති, විචාරිතම්පි ආදිසති එවම්පි තෙ මනො, ඉත්ථම්පි තෙ මනො, ඉතිපි තෙ චිත්තන්ති තං කිං මඤ්ඤසි කෙවඩ්ඪ? අපි නු සො අස්සද්ධො අප්පසන්නො තං සද්ධං පසන්නං එවං වදෙය්‍යා?'' ති ''වදෙය්‍ය භන්තෙ''ති ඉමං ඛො අහං කෙවඩ්ඪ ආදෙසනා පාටිහාරියෙ ආදීනවං සම්පස්සමානො ආදෙසනාපාටිහාරියෙන අට්ටියාමි හරායාමි ජිගුච්ඡාමි

9. කතමඤ්ච කෙවඩ්ඪ අනුසාසනීපාටිහාරියං? ඉධ කෙවඩ්ඪ භික්ඛු එවමනුසාසති: එවං විතක්කෙථ, මා එවං විතක්කයිත්ථ, එවං මනසිකරොථ, මා එවං මනසාකත්ථ, ඉදං පජහථ, ඉදං උපසම්පජ්ජ විහරථාති ඉදම්පි වුච්චති කෙවඩ්ඪ අනුසාසනීපාටිහාරියං

10 පුන ච පරං කෙවඩ්ඪ ඉධ තථාගතො ලොකෙ උප්පජ්ජති අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා සො ඉමං ලොකං සදෙවකං සමාරකං සබ්‍රහ්මකං සස්සමණබ්‍රාහ්මණිං පජං සදෙවමනුස්සං සයං අභිඤ්ඤා සච්ඡිකත්වා පවෙදෙති සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ඣෙකල්‍යාණං පරියොසානකල්‍යාණං සාත්ථං සබ්‍යඤ්ජනං කෙවලපරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසෙති.

8 කෙවඩ්ඪය, ආදෙශනාප්‍රාතිහාර්යය කවර යැ? කෙවඩ්ඪය, මෙහි මහණ තෙම 'තා මනස මෙසේත් වෙයි, මෙබඳුත් වෙයි තාගේ සිතීමත් මෙ බඳු වේ'යැ යි අන් සතුන්ගේ අන් පුඟුලන්ගේ සිත ද හෙළි කොට කියයි චෛතසික (සිතැ සොම්නස හෝ දෙම්නස) ද හෙළි කොට කියයි. (නෙක්ඛම්ම විතක්කාදි) කල්පනා කළ දෑ ද, (සිත මෙ නම් අරමුණෙහි හැසිරේ යැ යි) සිත හැසිරෙන අරමුණ ද හෙළි කොට කියයි 'තා මනස මෙසේත් වෙයි, තා මනස මෙබඳුත් වෙයි. තාගේ සිතත් මෙබඳු වේ'යැ යි මෙසේ අන් සතුන්ගේ අන් පුඟුලන්ගේ සිත ද හෙළි කොට කියන, චෛතසිකය ද හෙළි කොට කියන, සිත හැසිරීම ද හෙළි කොට කියන, ඒ මහණහු සැදැහැති පැහැදුණු එක්තරා පුඟුලෙක් දකී ඒ සැදැහැති පැහැදුණු පුඟුල් තෙම එක්තරා සැදැහැ නැති නොපහන් පුඟුලකුට 'පින්වත, මහණ වහන්දෑගේ මහඉර්ධිමත්බව මහතෙදැතිබව ඒකාන්තයෙන් අසිරිමත් ය, ඒකාන්තයෙන් පුදුම ය 'තා මනස මෙසේත් වෙයි, තා මනස මෙබඳුත් වෙයි තා සිත මෙබඳුත් වේ යැ' යි මෙසේ අසෝ මහණහු අන් සතුන් අන් පුඟුලන් සිත ද හෙළි කොට කියන්නාහු, චෛතසිකය ද හෙළි කොට කියන්නාහු, කල්පනාව ද හෙළි කොට කියන්නාහු, සිතැ හැසිරීම ද හෙළි කොට කියන්නාහු දිටිමි' යි සැළ කෙරෙයි ඒ සැදැහැති පැහැදුණු පුඟුලාට ඒ සැදැහැ නැති නො පැහැදුණු පුඟුල් තෙම 'භවත, මණිකා (චින්තාමණි) නම් විද්‍යාවෙක් ඇත් ම ය ඒ මහණ 'තා මනස මෙසේත් වෙයි, තා මනස මෙබඳුත් වෙයි තා සිත මෙබඳුත් වේ' යැ යි මෙසේ ඒ විද්‍යායෙන් අන් සතුන්ගේ අන් පුඟුලන්ගේ සිත කියයි, චෛතසිකය ද කියයි, විතර්කය ද කියයි, විචාරචිචාරිතය ද කියා යැ යි මෙසේ කියන්නේ ය. ඒ කිමැ යි සිතහි ද? ඒ සැදැහැ නැති නොපැහැදුණු තැනැත්තේ ඒ සැදැහැති පහන් තැනැත්තහුට මෙසේ කියන්නේ ද?'' ''කියන්නේ ය, වහන්සැ''යි (කෙවඩ්ඪ කී ය) 'කෙවඩ්ඪය, මම් ආදෙශනාප්‍රාතිහාර්යයාගේ මේ දොස දක්නෙමි, ආදෙශනාප්‍රාතිහාර්යයෙන් පෙළුණකු බඳු වෙමි, ලජ්ජිත වෙමි, එයට පිළිකුල් කරමි

9 කෙවඩ්ඪය, අනුශාසනප්‍රාතිහාර්යය කවර යැ? කෙවඩ්ඪය, මෙ සස්නැ මහණ තෙම 'මෙසේ කල්පනා කරවු, මෙසේ කල්පනා නො කරවු, මෙසේ මෙනෙහි කරවු, මෙසේ නො මෙනෙහි කරවු, මෙය පහ කරවු, මෙය ලැබ වසවු'යි මෙසේ අනුශාසනා කරයි කෙවඩ්ඪය, මේ අනුශාසනප්‍රාතිහාර්ය යැ යි කියනු ලැබේ

10 කෙවඩ්ඪය, තව ද අනෙකක් කියමි මෙහි අර්හත් වූ සම්‍යක්-සම්බුද්ධ වූ විද්‍යාචරණසම්පන්න වූ සුගත වූ ලොකවිත් වූ නිරුත්තර පුරුෂ-දම්‍යසාරථි වූ දෙව්මිනිස්නට ශාස්තෘ වූ බුද්ධ වූ භගවත් වූ තථාගත තෙමේ ලොවැ පහළ වෙයි හේ දෙවියන් සහිත වූ මරුන් සහිත වූ මෙ ලොකය ද, මහණබමුණන් සහිත, සම්මත දෙවියන් (රජුන්) හා සෙසු මිනිසුන් හා සහිත සත්ත්වප්‍රජාව ද තෙමේ විශිෂ්ට නුවණින් දැන, ප්‍රත්‍යක්ෂ කොට, ඔවුනට අවබොධ කරවයි. හේ දහම් දෙසනුයේ ආදියෙහි භද්‍රක (නිවරද) කොට, මධ්‍යයෙහි භද්‍රක කොට, අවසානයෙහි භද්‍රක කොට, අර්ථ සහිත කොට, ව්‍යංජන සහිත කොට, සර්වප්‍රකාරයෙන් පරිපූර්ණ කොට, දහම් දෙසයි (එසේ දෙසනුයේ ශික්ෂාත්‍රයයෙන් සංගෘහිත වූ) ශාසනබ්‍රහ්මචර්යය ප්‍රකාශ කෙරෙයි.

11 තං ධම්මං සුණාති ගහපති වා ගහපතිපුත්තො වා අඤ්ඤතරස්මිං වා කුලෙ පච්චාජාතො. සො තං ධම්මං සුත්වා තථාගතෙ සද්ධං පටිලභති. සො තෙන සද්ධාපටිලාභෙන සමන්නාගතො ඉති පටිසංචික්ඛති 'සම්බාධො ඝරාවාසො රජාපථො[1] අබ්භොකාසො පබ්බජ්ජා. නයිදං සුකරං අගාරං අජ්ඣාවසතා එකන්තපරිපුණ්ණං එකන්තපරිසුද්ධං සඞ්ඛලිඛිතං බ්‍රහ්මචරියං චරිතුං. යන්නූනාහං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජෙය්‍ය'න්ති. සො අපරෙන සමයෙන අප්පං වා භොගක්ඛන්ධං පහාය මහන්තං වා භොගක්ඛන්ධං පහාය අප්පං වා ඤාතිපරිවට්ටං පහාය මහන්තං වා ඤාතිපරිවට්ටං පහාය කෙසමස්සුං ඔහාරෙත්වා කාසායානි වත්ථානි අච්ඡාදෙත්වා අගාරස්මා අනගාරියං පබ්බජති. සො එවං පබ්බජිතො සමානො පාතිමොක්ඛසංවරසංවුතො විහරති ආචාරගොචරසම්පන්නො, අණුමත්තෙසු වජ්ජෙසු භයදස්සාවී, සමාදාය සික්ඛති සික්ඛාපදෙසු කායකම්මෙන සමන්නාගතො කුසලෙන, පරිසුද්ධාජීවො සීලසම්පන්නො ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො භොජනෙ මත්තඤ්ඤූ සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො සන්තුට්ඨො.

12. කථඤ්ච කෙවඩ්ඪ භික්ඛු සීලසම්පන්නො හොති? ඉධ කෙවඩ්ඪ භික්ඛු පාණාතිපාතං පහාය පාණාතිපාතා පටිවිරතො හොති නිහිතදණ්ඩො නිහිතසත්ථො ලජ්ජී දයාපන්නො. සබ්බපාණභූතහිතානුකම්පී විහරති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. අදින්නාදානං පහාය අදින්නාදානා පටිවිරතො හොති දින්නාදායී දින්නපාටිකඞ්ඛී අථෙනෙන සුචිභූතෙන අත්තනා විහරති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. අබ්‍රහ්මචරියං පහාය බ්‍රහ්මචාරී හොති ආරාචාරී[2] විරතො මෙථුනා ගාමධම්මා. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. මුසාවාදං පහාය මුසාවාදා පටිවිරතො හොති සච්චවාදී සච්චසන්ධො ථෙතො[3] පච්චයිකො අවිසංවාදකො ලොකස්ස. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. පිසුණං වාචං[4] පහාය පිසුණාය වාචාය පටිවිරතො හොති. ඉතො සුත්වා න අමුත්‍ර අක්ඛාතා ඉමෙසං භෙදාය අමුත්‍ර වා සුත්වා න ඉමෙසං අක්ඛාතා අමූසං භෙදාය ඉති භින්නානං වා සන්ධාතා, සහිතානං වා අනුප්පදාතා[5] සමග්ගාරාමො[6] සමග්ගරතො සමග්ගනන්දී සමග්ගකරණිං වාචං භාසිතා හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. ඵරුසං වාචං[7] පහාය ඵරුසාය වාචාය පටිවිරතො හොති.

1 රජොපථො, කාළුව  2 අනාචාරී, මජසං  3 ථෙතො, සයා.
4 පිසුණාවාචං, PTS  5 අප්පදාතා, PTS  6 සමග්ගාරාමා, මජසං.
7 ඵරුසාවාචං, PTS.

11 ගෘහපතියෙක් හෝ ගෘහපතිපුත්‍රයෙක් හෝ අන් එක්තරා කුලයෙක උපන්නෙක් හෝ ඒ ධර්මය අසයි හේ ඒ දහම් අසා තථාගත බුදුරජුන් කෙරෙහි සැදැහැ ඇති කෙරෙයි. හේ ඒ ශ්‍රද්ධාලාභයෙන් සමන්විත වූයේ, 'ගිහිගෙයි විසීම සම්බාධයෙකි, රජස්පථයෙකි පැවිද්ද (සම්බාධ නැති) අභ්‍යවකාශය (එළි මහත) වැන්න ගිහිගෙයි වසන්නහු විසින් ඒකාන්තයෙන් පිරිසිදු කොට, ශංඛලිඛිතයක් සේ කොටමේ බඹසර සරන්නට පහසු නො වේ (එබැවින්) මම් කෙහෙරවුලු බහවා, කසාවත් හැඳ පෙරෙවැ, ගිහිගෙන් පැවිදිබිමට වදනෙම් නම් යෙහෙකැ'යි මෙසේ නුවණින් සලකයි. හේ පසු කලෙක අල්ප වූ හෝ සම්පත් රැස හැර, මහත් වූ හෝ සම්පත් රැස හැර, මඳ වූ හෝ නෑපිරිස හැර, මහත් වූ හෝ නෑපිරිස හැර, කෙහෙරවුලු බහවා, කසාවත් හැඳ පෙරෙවැ, ගිහිගෙන් පැවිදිබිමට වදී හේ මෙසේ පැවිදි වූයේ ම ප්‍රාතිමොක්ෂසංවරයෙන් සමන්විත වූයේ, ආචාරයෙන් හා ගොචරයෙන් හා යුක්ත වූයේ, ස්වල්පමාත්‍ර වූ ද වරදෙහි බිය දක්නේ, නිවරද වූ කායවාක්කර්මයෙන් සමන්විත වූයේ, එහෙයින් ම පිරිසිදු ආජීව ඇතියේ, සිල්වත් වූයේ, ඉන්ද්‍රියයන්හි වැසූ දොර ඇතියේ, බොජුන්හි පමණ දන්නේ, (සත් තන්හි) සිහියෙන් හා නුවණින් හා යුක්ත වූයේ, සිවුපසයෙහි තුන්වැදෑරුම් සතුටින් සතුටු වූයේ, ශික්ෂාපදයන්හි සමාදන් වැ ගෙන හික්මෙයි.

12. මහණ තෙමේ කෙසේ නම් සිල්වත් වේ දැ? යත්. කෙවඩ්ඪය, මෙහි මහණ තෙමේ ප්‍රාණඝාතය හැර දමා, ප්‍රාණඝාතයෙන් වෙසෙසින් වැළැක්කේ වෙයි බහා තැබූ දඬුමුගුරු ඇත්තේ (දඬුමුගුරු නො දරන්නේ), බහා තැබූ ආයුධ ඇත්තේ (ආයුධ නො දරන්නේ), පවට පිළිකුල් කරන්නේ, මෛත්‍රියට පැමිණියේ (මෛත්‍රියෙන් යුක්ත වූයේ), සියලු සතුන් කෙරෙහි හිතානුකම්පා ඇති වැ වෙසේ මේ ද ඔහුගේ එක් ශීලයෙක් වේ. හේ අදත්තාදානය හැර ලා, නොදුන් දෑ ගැන්මෙන් වැළැක්කේ වෙයි. දුන් දෑය ම පිළිගන්නාසුලු වූයේ, දුන් දෑය ම කැමැති වැ ඉවසනසුලු වූයේ, නොසොර වූ පිරිසිදු සියින් යුතු වැ වෙසේ මේ ද ඔහුගේ ශීලයෙක් වේ හේ අබ්‍රම්සර දුරු ලා බඹසර සරන්නේ වෙයි ගැමිදහමක් වූ මෛවුන්දමින් දුරු වැ හැසිරෙන්නේ, එයින් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ හේ බොරු කීම දුරු ලා, බොරු කීමෙන් වැළැක්කේ වෙයි. ඇත්ත කියනසුලු වූයේ, ඇත්තෙන් ඇත්ත ගළපා කියන්නේ, තහවුරු වැ පිහිටි කථා ඇත්තේ, ඇදැහිය යුතු කථා ඇත්තේ, ලොව නො රවටන්නේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ හේ කේලාම් කීම දුරු ලා, කේලාම් කීමෙන් වැළැක්කේ වේ මෙ තැනින් අසා මොවුන් (ඔවුන්ගෙන්) බිඳුවනු පිණිස එතන්හි නො කියනසුලු වූයේ, එ තැනින් අසා ඔවුන් (මොවුන්ගෙන්) බිඳුවනු පිණිස මෙ තන්හි නො කියනසුලු වූයේ, මෙසේ බිඳුණවුන් ගළපන්නේ (සමඟ කරන්නේ) ද, එකට ගැළැපුණවුන් (සමගියට පැමිණියවුන්) හට රුකුල් දෙන්නේ ද වෙයි සමගියෙන් සිටින්නවුන් හා වාසය කැමැත්තේ, සමගියෙන් වසන්නවුනට කැමැත්තේ, සමඟ වැ සිටින්නවුනට සතුටු වනුයේ, සමගිය ඇති කරන බස් කියන්නේ වෙයි මෙ ද ඔහුගේ ශීලයෙක් වේ. හේ රළු බිණුම දුරු ලා, රළු බස් දෙඩුමෙන් වැළැක්කේ වෙයි.

යා සා වාචා නෙලා කණ්ණසුඛා පෙමනීයා[1] හදයඞ්ගමා පොරී බහුජනකන්තා බහුජනමනාපා, තථාරූපිං[2] වාචං භාසිතා හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං. සම්ඵප්පලාපං පහාය සම්ඵප්පලාපා පටිවිරතො හොති කාලවාදී භූතවාදී අත්ථවාදී ධම්මවාදී විනයවාදී නිධානවතිං වාචං භාසිතා හොති කාලෙන සාපදෙසං පරියන්තවතිං අත්ථසංහිතං ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

13 බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති එකභත්තිකො හොති රත්තූපරතො පටිවිරතො විකාලභොජනා නච්චගීතවාදිතවිසූක-දස්සනා පටිවිරතො හොති මාලාගන්ධවිලෙපනධාරණමණ්ඩනවිභූසනට්ඨානා පටිවිරතො හොති. උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ජාතරූප-රජතපටිග්ගහණා පටිවිරතො හොති. ආමකධඤ්ඤපටිග්ගහණා පටිවිරතො හොති ආමකමංසපටිග්ගහණා පටිවිරතො හොති ඉත්ථිකුමාරිකපටිග්ගහණා පටිවිරතො හොති දාසිදාසපටිග්ගහණා පටිවිරතො හොති. අජෙළක-පටිග්ගහණා පටිවිරතො හොති කුක්කුටසූකරපටිග්ගහණා පටිවිරතො හොති. හත්ථිගවාස්සවළවාපටිග්ගහණා පටිවිරතො හොති ඛෙත්තවත්ථුපටිග්ගහණා පටිවිරතො හොති දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති. කයවික්කයා පටිවිරතො හොති. තුලාකූටකංසකූටමානකූටා පටිවිරතො හොති උක්කොටනවඤ්චනනිකතිසාචියොගා පටිවිරතො හොති. ඡෙදනවධබන්ධනවිපරාමොසආලොපසහසාකාරා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

14 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං බීජගාමභූතගාමසමාරම්භං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථිදං· මූලබීජං ඛන්ධබීජං ඵළුබීජං අග්ගබීජං බීජබීජමෙව පඤ්චමං ඉති වා ඉති එවරූපා බීජගාමභූතගාමසමාරම්භා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

1. පෙමනියා, මජසං  2 එවරූපිං, PTS

නිදොස්, කන්කලු, පෙම් උපදවන, පහසුවෙන් සිතැ වැදගන්නා, නොගැමි, බොහෝ දෙනාට ප්‍රිය, බොහෝ දෙනාගේ මන වඩන යම් බසෙක් වේ ද, එබඳු වූ බස් කියන්නේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ. හේ බොල් හිස් දෙඩැවිලි හැරලා, බොල් දෙඩැවිල්ලෙන් වැලැක්කේ වෙයි සුදුසු කාලවේලායෙහි කථා කරන සුලු වූයේ, ඇත්ත ම කියනසුලු වූයේ, වැඩ සලසන බසක් ම කියනසුලු වූයේ, නව ලොවුතුරුදහම් ඇසුරු කොට ම කියනසුලු වූයේ, හික්මීම ඇති කරන බසක් ම කියනසුලු වූයේ, සිතැ තබා ගන්නට සුදුසු වූ, කරුණු සහිත වූ, ඉමක් කොනක් ඇති (ප්‍රමාණ-වත් වූ), දෙලෝ වැඩ හා සම්බන්ධ වූ ම බසක් සුදුසු කාලයෙහි කියන්නේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

13 හේ බීජසමූහ (පැල වන දෑ) ද, භූතසමූහ (පැල වූණු දෑ) ද සිඳී-මෙන් බිඳීමෙන් වැලැක්කේ වෙයි රෑ බොජුනෙන් වැලැක්කේ, එක් වේලේ වළඳන බත් ඇත්තේ, නොකල්බොජුනෙන් වැලැක්කේ වෙයි. නටනු ගනු වයනු විසුළුදසුන් යන මෙයින් වැලැක්කේ වෙයි ඇඟැ අඩු තැන් පිරැවීමට, ඇඟ සැරැසීමට කරුණු වන මල්ගඳවිලෙවුන් දැරීමෙන් වැලැක්කේ වෙයි පමණ ඉක්මි උසසුන් ද, නොකැප වූ මහඅසුන් ද යන දෙකින් ම වැලැක්කේ වෙයි රන් රිදී මසු කහවණු පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි අමු ධාන්‍ය පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි අමු මස් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි ස්ත්‍රීන් කුමාරිකාවන් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි දැසිදසුන් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි එළුවන් බැටළුවන් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි කුකුළන් හූරන් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි ඇතුන් අසුන් වෙළෙඹුන් ගෙරින් පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි කෙත්වතු පිළිගැන්මෙන් වැලැක්කේ වෙයි ගිහියනට දූත මෙහෙවර කිරීමෙහි ද ගෙන් ගෙට පණිවුඩ පණත් ගෙන යැමෙහි ද යෙදීමෙන් වැලැක්කේ වෙයි වෙළෙඳ ගනුදෙනුයෙන් වැලැක්කේ වෙයි හොරතරාදියෙන් කිරුමෙන්, බොරු රන් පැමෙන්, හොර මිනුම්වලින් මිනුමෙන් වැලැක්කේ වෙයි අල්ලස් ගෙන හිමියන් නොහිමි කිරීමෙන්, නානා උපායයෙන් අනුන් රැවැටීමෙන්, අගනා දෑයට හුරු නොඅගනා දෑයක් පෙන්නා කරන මායාවෙන්, මෙ කී නොකී හැම කෛරාටික කම්වලින් ම වැලැක්කේ වෙයි අත් පා ආදිය සිඳීමෙන් ද, මැරීමෙන් ද, රැහැන් ආදියෙන් බැඳීමෙන් ද, සැහැසිකම් කිරීමෙන් ද වැලැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වෙයි

14 යම්සේ සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, මූලබීජ ද (හිඟුරු ආදි පැල වන මුල් ද), ස්කන්ධ බීජ ද (නුග ආදි පැල වන කඳ ද), පරුබීජ ද (උක් උණ බට ආදි පැල වන පුරුක් ද), අග්‍රබීජ ද (ඉරිවේරිය ආදි පැල වන දලු ද), පස් වනු බීජබීජ ද (වී ආදී පැල වන ඇට ද) යන මෙ කී බීජසමූහ ද (පැල වන දෑ ද) භූතසමූහ ද (පැල වූණු දෑ ද) පෙළීමෙහි (සිඳුම් බිඳුම් තැළුම් යැ යි) කියන ලද සමාරම්භයෙහි යෙදුණෝ වෙසෙත් ද, හෙ තෙමේ මේ නෝ මෙ බඳු වූ බීජ-ග්‍රාමභූතග්‍රාමසමාරම්භයෙන් වැලැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

15. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං සන්නිධිකාරපරිභොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: අන්නසන්නිධිං පානසන්නිධිං වත්ථසන්නිධිං යාන-සන්නිධිං සයනසන්නිධිං ගන්ධසන්නිධිං ආමිසසන්නිධිං ඉති වා ඉති එවරූපා සන්නිධිකාරපරිභොගා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

16 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විසූකදස්සනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං· නච්චං ගීතං වාදිතං පෙක්ඛං අක්ඛානං පාණිස්සරං වෙතාලං කුම්භථූනං සොභනකං චණ්ඩාලං වංසං ධොපනකං හත්ථියුද්ධං අස්සයුද්ධං මහිසයුද්ධං උසභයුද්ධං අජයුද්ධං මෙණ්ඩයුද්ධං කුක්කුටයුද්ධං වට්ටකයුද්ධං දණ්ඩයුද්ධං මුට්ඨියුද්ධං නිබ්බුද්ධං උය්‍යොධිකං බලග්ගං සෙනාබ්‍යූහං අණීකදස්සනං ඉති වා ඉති එවරූපා විසූකදස්සනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

17 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං ජූතප්පමාදට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: අට්ඨපදං දසපදං ආකාසං පරිහාරපථං සන්තිකං ඛලිකං ඝටිකං සලාකාහත්ථං අක්ඛං පඞ්ගචීරං වඞ්කකං මොක්ඛචිකං චිඞ්ගුලකං පත්තාළ්හකං රථකං ධනුකං අක්ඛරිකං මනෙසිකං යථාවජ්ජං. ඉති වා ඉති එවරූපා ජූතප්පමාදට්ඨානානුයොගා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

18 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං උච්චාසයනමහාසයනං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං: ආසන්දිං පල්ලඞ්කං ගොනකං චිත්තකං පටිකං පටලිකං තූලිකං විකතිකං උද්දලොමිං එකන්තලොමිං කට්ඨිස්සං කොසෙය්‍යං කුත්තකං හත්ථත්ථරං අස්සත්ථරං රථත්ථරං අජිනප්පවෙණිං කාදලිමිගපවර-පච්චත්ථරණං සඋත්තරච්ඡදං උභතොලොහිතකූපධානං ඉති වා ඉති එවරූපා උච්චාසයනමහාසයනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

15 යම්සේ ඇතැම් භවත් මහණබමුණු කෙනෙක් සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, කන දෑ රැස් කොට තබා ගැන්ම, බොන දෑ රැස් කොට තබා ගැන්ම, වස්ත්‍ර රැස් කොට තබා ගැන්ම, (රිය ගැල් ආදිය ද පාවහන් ආදිය ද යන) යාන රැස් කොට තබා ගැන්ම, ඉහතැ කී දෑ හැර (තවත් තල සහල් ඈ වුව මනා) පසය රැස් කොට තබා ගැන්ම යන මෙසේ වූ සන්නිධිකාරපරිභොගයෙහි (පසය රැස් කොට තබා ගෙන වැළැඳීමෙහි) යෙදී වෙසෙත් ද, හෙ තෙමේ මේ හෝ මෙබඳු වූ හෝ සන්නිධිකාර පරිභොගයෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

16 යම්සේ සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, නැටුම් ගැයුම් වැයුම්, නටසමජ්ජා (නළුවන් සමූහයක් එක් වැ ජනසමූහයා ඉදිරියේ දක්වන නැටුම්), ආඛ්‍යාන (මහාභාරතාදිය කීම හෝ ඇසීම), පාණිස්සර (අතින් ලොහොබෙර ගැසුම හෝ අත්තල ගැසුම), වේතාල (දඹුමුවා තාලම්පට ගැසීම හෝ මතුරැ දපා මළසිරුරු නැඟිටුවීම), කුම්භථූන (සිවුරස් බෙර වැයුම), ශොභනක (රංගබලිකරණය හෙවත් රඟමඬුල්ලෙහි දී දෙවතාවතට ස්තොත්‍ර වශයෙන් නාන්දිගීත ගායනය හෝ ප්‍රතිභානචිත්‍ර කිරීම), සණ්ඩෙවූන් කෙළිය (හෝ අයොගුඩක්‍රීඩාව), උණගස් ඔසොවා ගෙන කරන ක්‍රීඩාව, අස්ථිධාවනය (මළවුන්ගේ ඇට සෝදා සුවඳ කවා තබා නකත්සෙමෙහි ඒ වටා සිට උත්සව කිරීම), ඇත්පොර, අස්පොර, මීයුපොර, ගොන්පොර, එළුපොර, බැටෙළුපොර, කුකුළුපොර, වටුපොර, පොලුහරඹ, මිටුයුද, මල්ලපොර, යුද පවත්නා තැන් දක්නට යෑම, බලසෙන් ගණිනා තැන් දක්නට යෑම යන මෙබඳු විසුළු දස්නෙහි යෙදී වෙසෙත් ද, හෙ තෙමේ මේ හෝ මෙබඳු වූ විසුළු දස්නෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

17 යම්සේ සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, අටපාකෙළිය, දසපාකෙළිය, අහස්දූකෙළිය, මඬුලු පැනුම, සන්තිකා ක්‍රීඩාව, දදුකෙළිය, කල්ලි ගැසුම, සලාඅත්කෙළිය, ගුලකෙළිය, කොළතලා පිඹුම, කෙළිනඟුලින් හෑම, තරණම් ගැසුම, කත්තංගුරුවා කෙළිය, කොළනැළියෙන් වැලි ඈ මැනුම, ක්‍රීඩාරථ පැදවීම, කුඩා දුන්නෙන් විදීම, ඇකිරිකෙළිය (පිටේ හෝ අහසේ අකුරු ඇඳ ඒ කියැවීම), සිතූ දෑය කීමේ ක්‍රීඩාව, විකෘතාංගානුකරණය (කනුන් කොරුන් යන ආදීන් සේ ඉරියවු පැවැත්වීම) යන මෙබඳු වූ පමාවට කරුණු වූ දූකෙළියෙහි යෙදී වෙසෙත් ද, හෙ තෙමේ මේ හෝ මෙ බඳු වූ පමාවට කරුණු වූ දූකෙළියෙහි යෙදීමෙන් වැළැක්කෝ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

18 යම්සේ ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, දික්සඟළා පුටුය, පළඟය, මහකොඳුපලසය, වියමනෙන් විසිතුරු කළ එළුලොම්මුවා ඇතිරිය, එළුලොම්මුවා සුදු ඇතිරිය, ගනමල් යෙදූ එළුලොම් ඇතිරිය, තිළිය (පුළුන් මෙත්තය), සිංහරූපාදි රූපවලින් විසිතුරු කළ එළුලොම් ඇතිරිය, දෙපැත්තේ ම ලොම් ඇති එළුලොම්මුවා ඇතිරිය, එක් පැත්තේ පමණක් ලොම් ඇති එළුලොම්මුවා ඇතිරිය, රන්කසුකම් කළ පසතුරුණ, කොසෙය්‍ය හුයින් වියූ ඇතිරිය, ඇතු පිට එළන ඇතිරිය, අසු පිටැ එළන ඇතිරිය, රියැ එළන ඇතිරිය, ඇඳට සරිලන සේ අඳුන් දිවිසමින් මසා කළ ඇතිරිය, කෙහෙල්මුවසමින් කළ මහඟු පසතුරුණ, ඉස්දෙර පාමුල රත්කන්විසින් තබා ඇති රතු උඩුවියන්සහිත මහඟු යහන යන මෙබඳු වූ උස්යහන් මහයහන් පරිහරණය කිරීමෙහි යෙදී වෙසෙද්ද, හෙ තෙමේ මේ හෝ මෙ බඳු වූ උස්යහන් මහයහන් පරිභොගයෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

19 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං මණ්ඩනවිභූසනට්ඨානානුයොගං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං උච්ඡාදනං පරිමද්දනං නහාපනං සම්බාහනං ආදාසං අඤ්ජනං මාලාවිලෙපනං මුඛචුණ්ණකං මුඛලෙපනං හත්ථබන්ධං සිඛාබන්ධං දණ්ඩකා නාළිකා ඛග්ගං ඡත්තං චිත්‍රූපාහනං උණ්හීසං මණිං වාලබීජනිං ඕදාතානි වත්ථානි දීඝදසානි ඉති වා ඉති එවරූපා මණ්ඩනවිභූසනට්ඨානානුයොගා පටිවිරතො හොති ඉමම්පි'ස්ස හොති සීලස්මිං

20 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං තිරච්ඡානකථං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං රාජකථං චොරකථං මහාමත්තකථං සෙනාකථං භයකථං යුද්ධකථං අන්නකථං පානකථං වත්ථකථං සයනකථං මාලාකථං ගන්ධකථං ඤාතිකථං යානකථං ගාමකථං නිගමකථං නගරකථං ජනපදකථං ඉත්ථිකථං පූරිසකථං [කුමාරකථං කුමාරිකථං] සූරකථං විසිඛාකථං කුම්භට්ඨානකථං පුබ්බපෙතකථං නානත්තකථං ලොකක්ඛායිකං සමුද්දක්ඛායිකං ඉතිභවාභවකථං. ඉති වා ඉති එවරූපාය තිරච්ඡානකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

21 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං විග්ගාහිකකථං අනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං න ත්වං ඉමං ධම්මවිනයං ආජානාසි අහං ඉමං ධම්මවිනයං ආජානාමි. කිං ත්වං ඉමං ධම්මවිනයං ආජානිස්සසි? මිච්ඡාපටිපන්නො ත්වමසි. අහමස්මි සම්මාපටිපන්නො සංහිතං මෙ, අසංහිතං තෙ පුරෙ වචනීයං පච්ඡා අවච පච්ඡා වචනීයං පුරෙ අවච ආචිණ්ණං තෙ විපරාවත්තං ආරොපිතො තෙ වාදො. නිග්ගහිතො ත්වමසි චර වාදප්පමොක්ඛාය නිබ්බෙඨෙහි වා සචෙ පහොසීති ඉති වා ඉති එවරූපාය විග්ගාහිකකථාය පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

22 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපං දූතෙය්‍යපහිණගමනානුයොගමනුයුත්තා විහරන්ති, සෙය්‍යථීදං රඤ්ඤං රාජමහාමත්තානං ඛත්තියානං බ්‍රාහ්මණානං ගහපතිකානං කුමාරානං "ඉධ ගච්ඡ අමුත්‍රාගච්ඡ ඉදං හර අමුත්‍ර ඉදං ආහරු"ති ඉති වා ඉති එවරූපා දූතෙය්‍යපහිණගමනානුයොගා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

19 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, සුවඳසුණුයෙන් ඇඟ ඉලීම, අත්පාඇඟි මිනා සටහන් ගත්වනුවට තෙල් ගා මැඩීම, සුවඳ දියෙන් නැවීම, උරහිස්ඇති මස් වැඩෙනුවට මුගුරින් තැළීම, කැඩපතින් මුහුණ බැලීම, අලංකාර වශයෙන් අඳුන් ගෑම, මල් පැළැඳීම හා විලෙවුන් දැරීම, මුවසුණු මුව-විලෙවුන් දැරීම, හස්තාභරණ දැරීම, හිසැ කුඩුම්බිය බැඳීම, විසිතුරු සැරයටි දැරීම, විසිතුරු බෙහෙත්නළ දැරීම, කඩු දැරීම, විසිතුරු කුඩ දැරීම, විසිතුරු පාවහන් දැරීම, නලල්පට බැඳීම, සිළුමිණ පැළැඳීම, විසිතුරු සෙමෙර වල්විදුනා දැරීම, දික් දවලු ඇති සුදු රෙදි හැඳීම යන ආදි ඇඟ අඩු තැන් පිරවීමටත් ඇඟ සැරසීමටත් කරුණු වන දෑ පරිභොග කිරීමෙහි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු දෑ පරිභොග කිරීමෙන් වැළැක්කේ වෙසි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

20. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා රාජකථා චෞරකථා මහාමාත්‍යකථා සේනාකථා භයකථා යුද්ධකථා ආහාරකථා පානකථා වස්ත්‍රකථා ශයනකථා මාලාකථා ගන්ධකථා ඥාතිකථා යානකථා ග්‍රාමකථා නිගමකථා නාගරකථා ජනපදකථා ස්ත්‍රීකථා පුරුෂකථා කුමාරකථා කුමාරිකථා ශූරකථා විථිකථා කුම්භස්ථානකථා නානාත්වකථා ලොකාඛ්‍යායිකා කථා සමුද්‍රාඛ්‍යායිකාකථා ඉතිභවාභවකථා යන මෙ බඳු වූ තිරශ්චීන කථාවන්හි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ මෙයින් අන්‍ය වූ හෝ මෙ බඳු කථාවලින් වැළැක්කෝ වෙසි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

21 යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, "තෝ මේ දහම් විනය නො දනිහි මම් ම මේ දහම් විනය දනිම් මේ දහම් විනය කිමැ යි තෝ දනිහි ද? තෝ වරදවා පිළිපන්නෙහි මම් මැනැවින් පිළිපන්නෙම් වෙමි මා බස කරුණු සහිත ය. තා බස කරුණු රහිත ය තෝ පළමුයෙන් කියැ යුත්ත පසු වැ කීයෙහි ය. පසු වැ කියැ යුත්ත පළමුයෙන් කීයෙහි ය. තා කලක් ම පුහුණු කළ දෑය මගේ එක් වචනයෙන් ම පෙරළී ගියේ ය මා විසින් තට දොස් නැගිණ. මා විසින් නිගන්නා ලද්දෙහි. මා නැඟූ දොසින් මිදෙන්නට හැකිරෙව (ඒ ඒ තැන ගොස් උගනුව). හැකි නම් එය විසඳව" යන ආදීන් මෙ බඳු වූ උනුන් බැණ දොඩා ගැනුම්හි යෙදෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ අන් මෙබඳු වූ හෝ බැණදොඩාගැන්මෙන් වැළැක්කෝ වෙසි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

22. යම්සේ සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා "මෙහි යන්නැ. අසෝ තැනට එන්නැ මෙය ගෙනැ යන්නැ. අසෝ තැනට මෙය ගෙනෙන්නැ"යි කළ නියොග පිළිගෙන, රජුන්ගේ රජමහඇමැතියන්ගේ ක්ෂත්‍රියයන්ගේ බමුණන්ගේ ගැහැවියන්ගේ රජ-කුමරුවන්ගේ මෙ බඳු දූත මෙහෙවරෙහි පණිවුඩ ගෙන යෑමෙහි යෙදී වෙසෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී හෝ අන් මෙ වැනි වූ හෝ දූත මෙහෙවරින් පණිවුඩ ගෙන යෑමෙන් වැළැක්කෝ වෙසි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

23. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ කුහකා ච හොන්ති ලපකා ච නෙමිත්තිකා ච නිප්පෙසිකා ච ලාභෙන ච ලාභං නිජිගිංසිතාරො. ඉති වා ඉති එවරූපා කුහනලපනා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

24. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං අඞ්ගං නිමිත්තං උප්පාතං සුපිනං ලක්ඛණං මූසිකච්ඡින්නං අග්ගිහොමං දබ්බිහොමං ථුසහොමං තණ්ඩුලහොමං සප්පි-හොමං තෙලහොමං මුඛහොමං ලොහිතහොමං අඞ්ගවිජ්ජා වත්ථුවිජ්ජා ඛත්ත-විජ්ජා සිවවිජ්ජා භූතවිජ්ජා භූරිවිජ්ජා අහිවිජ්ජා විසවිජ්ජා විච්ඡිකවිජ්ජා මූසිකවිජ්ජා සකුණවිජ්ජා වායසවිජ්ජා පක්කජ්ඣානං සරපරිත්තානං මිග-චක්කං ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

25 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං: මණිලක්ඛණං වත්ථලක්ඛණං දණ්ඩලක්ඛණං අසිලක්ඛණං උසුලක්ඛණං ධනුලක්ඛණං ආවුධලක්ඛණං ඉත්ථිලක්ඛණං පුරිසලක්ඛණං කුමාරලක්ඛණං කුමාරිලක්ඛණං දාසලක්ඛණං දාසිලක්ඛණං හත්ථිලක්ඛණං අස්සලක්ඛණං මහිසලක්ඛණං උසභලක්ඛණං ගොලක්ඛණං අජලක්ඛණං මෙණ්ඩලක්ඛණං කුක්කුටලක්ඛණං වට්ටකලක්ඛණං ගොධා-ලක්ඛණං කණ්ණිකාලක්ඛණං කච්ඡපලක්ඛණං මිගලක්ඛණං ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

26. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථීදං "රඤ්ඤං නිය්‍යානං භවිස්සති රඤ්ඤං අනිය්‍යානං භවිස්සති අබ්භන්තරානං රඤ්ඤං උපයානං භවිස්සති. බාහිරානං රඤ්ඤං අපයානං භවිස්සති බාහිරානං රඤ්ඤං උපයානං භවිස්සති. අබ්භන්තරානං රඤ්ඤං අපයානං භවිස්සති. අබ්භන්තරානං රඤ්ඤං ජයො භවිස්සති. බාහිරානං රඤ්ඤං පරාජයො භවිස්සති, බාහිරානං රඤ්ඤං ජයො භවිස්සති, අබ්භන්තරානං රඤ්ඤං පරාජයො භවිස්සති ඉති ඉමස්ස ජයො භවිස්සති. ඉමස්ස පරාජයො භවිස්සති." ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

23. යම්සේ සමහර භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, කුහකකම් කරන්නෝ වෙත් ද, ලාභසත්කාර පතා අනුන් සිත් ඇදෙන සේ වූ චාටු බස් දොඩන්නෝ වෙත් ද, සිවු පසය ලබනු සඳහා කයින් හෝ බසින් ඇඟැවීම් කරන්නෝ වෙත් ද, ලාභාපෙක්‍ෂායෙන් අනුනට ගරහන්නෝ වෙත් ද, ලාභයෙන් ලාභය සොයන්නෝ වෙත් ද, ඒ මහණ තෙමේ මෙ කී ද මෙ බඳු වූ ද කුහනලපනවලින් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

24. යම්සේ ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, අංගශාස්ත්‍රය, නිමිත්තශාස්ත්‍රය, උත්පාතලක්‍ෂණය, ස්වප්නශාස්ත්‍රය, ලක්‍ෂණශාස්ත්‍රය, මූෂිකච්ඡින්නවිද්‍යාව, අග්නිහෝමය, දර්විහෝමය, තුෂහෝමය, කණහෝමය, තණ්ඩුලහෝමය, සර්පිර්හෝමය, තෛලහෝමය, මුඛහෝමය, ලෝහිතහෝමය, අංගවිද්‍යාව, වාස්තුවිද්‍යාව, ක්‍ෂත්‍රවිද්‍යාව, ශිවවිද්‍යාව, භූතවිද්‍යාව, භූරිවිද්‍යාව, අහිවිද්‍යාව, විෂවිද්‍යාව, වෘශ්චිකවිද්‍යාව, මූෂිකවිද්‍යාව, ශාකුනවිද්‍යාව, වායසවිද්‍යාව, පක්වධ්‍යානය, ශරපරිත්‍රාණය, මෘගපක්‍ෂය යන මෙ කී හෝ මෙබඳු වූ හෝ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මෙ කී ද මෙ බඳු වූ ද තිරශ්චීනවිද්‍යායෙන් මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වෙයි

25 යම්සේ ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, මිණිලකුණු, වත්ලකුණු, දඬුලකුණු, කඩුලකුණු, ඊලකුණු, දුනුලකුණු, අවිලකුණු, ඉත්තිරිලකුණු, පුරිස්ලකුණු. කුමරලකුණු, කුමරිලකුණු, දස්ලකුණු, දසිලකුණු, ඇත්ලකුණු, අස්ලකුණු, මීහුලකුණු, වෘෂභලකුණු, ගොන්ලකුණු, එළුලකුණු, බැටළුලකුණු, කුකුළුලකුණු, වටුලකුණු, ගොයිලකුණු, කැණිලකුණු, කසුබුලකුණු, මුවලකුණු යන ආදි මෙ බඳු තිරශ්චීන විද්‍යායෙන්, මෙ බඳු මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මෙ කී ද මෙබඳු වූ ද තිරශ්චීන විද්‍යායෙන් මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

26. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, "අසෝ දිනැ අසෝ නැකැතින් (යුද සඳහා) සිය නුවරින් අසෝ රජුන්ගේ නික්මීම වන්නේ ය අසෝ නැකැතින් පෙරළා සිය නුවරට ඒම වන්නේ ය. අසෝ නැකැතින් පිටතැ සිටිනා සතුරු රජුන් හමුවන්නට රට තුළ හුන් රජුන්ගේ යෑම වන්නේ ය. අසෝ නැකැතින් පිටතැ සිටිනා සතුරු රජුන්ගේ ඉවත් වැ යෑම වන්නේ ය අසෝ නැකැතින් රට තුළැ සිටිනා රජුන් කරා පිටතැ සිටිනා සතුරු රජුන්ගේ පැමිණීම වන්නේ ය. අසෝ නැකැතින් ඇතුළතැ සිටිනා රජුන්ගේ ඉවත් වැ යෑම වන්නේ ය රට ඇතුළතැ සිටිනා රජුනට ජය වන්නේ ය. පිටතැ සිටිනා සතුරු රජුනට පරාජය වන්නේ ය. පිටතැ සිටිනා සතුරු රජුනට ජය වන්නේ ය රට තුළැ සිටිනා රජුනට පරාජය වන්නේ යැ" යි මෙසේ 'මොහුට ජය වන්නේ ය මොහුට පරාජය වන්නේ යැ' යි කියමින් මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මෙ බඳු වූ මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි. මේ ද ඔහුගේ ශීලයෙක් වේ

27. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථිදං: “චන්දග්ගාහො භවිස්සති සූරියග්ගාහො භවිස්සති. නක්ඛත්තග්ගාහො භවිස්සති. චන්දිමසූරියානං පථගමනං භවිස්සති. චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති. නක්ඛත්තානං පථගමනං භවිස්සති නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති උක්කාපාතො භවිස්සති. දිසාඩාහො භවිස්සති භූමිචාලො භවිස්සති දෙවදුන්දුභි භවිස්සති චන්දිමසූරියනක්ඛත්තානං උග්ගමනං ඔගමනං සංකිලෙසං වොදානං භවිස්සති එවංවිපාකො චන්දග්ගාහො භවිස්සති එවංවිපාකො සූරියග්ගාහො භවිස්සති. එවංවිපාකං චන්දිමසූරියානං පථගමනං භවිස්සති එවංවිපාකං චන්දිමසූරියානං උප්පථගමනං භවිස්සති. එවංවිපාකං නක්ඛත්තානං පථගමනං භවිස්සති. එවංවිපාකං නක්ඛත්තානං උප්පථගමනං භවිස්සති එවංවිපාකො උක්කාපාතො භවිස්සති එවංවිපාකො දිසාඩාහො භවිස්සති එවංවිපාකො භූමිචාලො භවිස්සති එවංවිපාකො දෙවදුන්දුභි භවිස්සති එවංවිපාකං චන්දිමසූරියනක්ඛත්තානං උග්ගමනං ඔගමනං සඞ්කිලෙසං වොදානං භවිස්සති”. ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

28. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකා කප්පෙන්ති, සෙය්‍යථිදං. “සුබ්බුට්ඨිකා භවිස්සති දුබ්බුට්ඨිකා භවිස්සති සුභික්ඛං භවිස්සති දුබ්භික්ඛං භවිස්සති ඛෙමං භවිස්සති. භයං භවිස්සති. රොගො භවිස්සති. ආරොග්‍යං භවිස්සති. මුද්දා ගණනා සංඛානං කාවෙය්‍යං ලොකායතං” ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන පටිවිරතො හොති ඉදම්පි'ස්ස හොති සීලස්මිං

29 යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථිදං: ආවාහනං විවාහනං සංවදනං විවදනං සංකිරණං විකිරණං සුභගකරණං දුබ්භගකරණං විරුද්ධගබ්භකරණං ජිව්හානිබන්ධනං හනුසංහනනං හත්ථාභිජප්පනං හනුජප්පනං කණ්ණජප්පනං ආදාසපඤ්හං කුමාරිපඤ්හං දෙවපඤ්හං ආදිච්චුපට්ඨානං මහතුපට්ඨානං අබ්භුජ්ජලනං සිරිව්හායනං ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං.

27. යම්සේ වනාහි ඇතැම් භවත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, “අසෝ දිනැ චන්‍ද්‍රග්‍රහණය වන්නේ ය. අසෝ දිනැ සූර්‍ය්‍යග්‍රහණය වන්නේ ය අසෝ දිනැ සඳ හිරු දෙදෙනා තිසි මගින් යෑම වන්නේ ය අසෝ දිනැ ඔවුන් නොමගින් යෑම වන්නේ ය. අසෝ දිනැ නකත්තරුන් නිසිමගින් යෑම වන්නේය අසෝ දිනැ ඔවුන් නොමගින් යෑම වන්නේ ය අසෝ දිනැ උල්කාපතනය වන්නේ ය දිග්දාහය වන්නේ ය භූමිකම්පනය වන්නේ ය වැසි නැති වැ අහස් ගෙරවුම් වන්නේ ය සඳහිරුන්ගේ ද නකත් තරුන්ගේ ද උදාව බැසීම කෙලෙසීම පිරිසිදුබව වන්නේ ය. චන්‍ද්‍රග්‍රහණය ලොවට මෙබඳු පල ගෙනැ දෙන්නේ ය. සූර්‍ය්‍යග්‍රහණය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය. නක්‍ෂත්‍රග්‍රහණය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය සඳ හිරුන් නිසි මගින් යෑම මෙබඳු පල ගෙනැ දෙන්නේ ය සඳ හිරුන් දෙදෙනාගේ නොමගින් යෑම මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය. නකත්තරුවල පථගමනය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය ඔවුන්ගේ උත්පථගමනය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය උල්කාපතනය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය. දිග්දාහය මෙ බඳු පල ගෙනැ දෙන්නේ ය භූමිකම්පනය මෙබඳු පල ගෙනැ දෙන්නේ ය වැසි නැති වැ අහස්ගෙරවුම් මෙබඳු පල දෙන්නේ ය සඳහිරුන්ගේ ද නකත්තරුවල ද උදාවත් බැසීමත් කෙලෙසීමත් පිරිසිදු වීමත් මෙ බඳු පල දෙන්නේ යැ” යි කියනුවෝ, මෙ බඳු තිරශ්චීනවිද්‍යායෙන්, මෙ බඳු මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවිකායෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ.

28. යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, “මෙ සමයෙහි වැසි වස්නේ ය මෙ සමයෙහි නියං වන්නේ ය මෙ සමයෙහි රට සුභික්‍ෂ වන්නේ ය මෙ සමයෙහි රට දුර්භික්‍ෂ වන්නේ ය මෙ සමයෙහි රටට උවදුරු වන්නේ ය මෙ සමයෙහි රටට බිය වන්නේ ය මෙ කලැ රොග වන්නේ ය. මෙ කලැ රොග නැති බව වන්නේ යැ” යි පලාපල කීම ද, මුද්‍රාව (ඇඟිලි පුරුක්හි සංඥා තබා ගිණීම) ද, ගණනාව (එක දෙක යන ආදීන් ගිණීම) ද, කාව්‍යශාස්ත්‍රය, ලොකායතශාස්ත්‍රය යන මේ හෝ මෙ බඳු තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මෙ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

29 යම්සේ වනාහි ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, ආවාහ සඳහා නකත් කීම, විවාහ සඳහා නකත් කීම, වෙන් වූ අඹුසැමියන් එක් වන්නට නකත් කීම, අඹුසැමියන් වෙන් වන්නට නකත් කීම, දුන් ණය රැස් කිරීමට නකත් කීම, මුදල් ණයට පොලියට දීමට නකත් කීම, සෞභාග්‍යය ඇති වනුවට යන්ත්‍ර මන්ත්‍රාදිය කැරැ දීම, බිම් පාලු වන්නට හදි හූනියම් කිරීම, නැසෙන්නට යන දරු ගබ් රැකෙන්නට පිළියම් කිරීම, දිවගුලු බැඳීම, මන්ත්‍රාදියෙන් බලයෙන් හනු තද කිරීම, අත් පෙරළෙන්නට මතුරු දපීම, හනු පෙරළෙන්නට මතුරු දපීම, කන් අගුලු වැටෙන්නට මතුරු දපීම, කැඩපතෙහි දෙවතාවේශ කොට ප්‍රශ්න ඇසීම, කුමරියක ලවා පේන කියැවීම, දෙවදාසක ලවා පේන කියැවීම, ජීවිකා පිණිස හිරු පිදීම, මහබඹු පිදීම, මතුරු දපා මුවින් ගිනිජල් විහිදුවීම, මතුරු දපා සිරිකත කැඳැවීම යන මේ හෝ අන් මෙ බඳු වූ තිරශ්චීන විද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කේ වෙයි මේ ද ඔහුගේ ශීලයෙක් වේ

30. යථා වා පනෙකෙ භොන්තො සමණබ්‍රාහ්මණා සද්ධාදෙය්‍යානි භොජනානි භුඤ්ජිත්වා තෙ එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවෙන ජීවිකං කප්පෙන්ති, සෙය්‍යථිදං: සන්තිකම්මං පණිධිකම්මං භූතකම්මං භූරිකම්මං වස්සකම්මං වොස්සකම්මං වත්ථුකම්මං වත්ථුපරිකිරණං ආචමනං නහාපනං ජුහනං වමනං විරෙචනං උද්ධංවිරෙචනං අධොවිරෙචනං සීසවිරෙචනං කණ්ණතෙලං නෙත්තතප්පනං නත්ථුකම්මං අඤ්ජනං පච්චඤ්ජනං සාලාකියං සල්ලකත්තියං දාරකතිකිච්ඡා මූලභෙසජ්ජානං අනුප්පදානං ඔසධීනං පටිමොක්ඛො. ඉති වා ඉති එවරූපාය තිරච්ඡානවිජ්ජාය මිච්ඡාජීවා පටිවිරතො හොති. ඉදම්පි'ස්ස හොති සීලස්මිං

31. ස ඛො සො කෙවඩ්ඪ භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො. සෙය්‍යථාපි මාණව ඛත්තියො මුද්ධාවසිත්තො නිහතපච්චාමිත්තො, න කුතොචි භයං සමනුපස්සති යදිදං පච්චත්ථිකතො. එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු එවං සීලසම්පන්නො න කුතොචි භයං සමනුපස්සති යදිදං සීලසංවරතො. සො ඉමිනා අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො අජ්ඣත්තං අනවජ්ජසුඛං පටිසංවෙදෙති. එවං ඛො කෙවඩ්ඪ භික්ඛු සීලසම්පන්නො හොති.

32 කථඤ්ච කෙවඩ්ඪ භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති? ඉධ කෙවඩ්ඪ භික්ඛු චක්ඛුනා රූපං දිස්වා න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙනං චක්ඛුන්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣාදොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති. රක්ඛති චක්ඛුන්ද්‍රියං. චක්ඛුන්ද්‍රියෙ සංවරං ආපජ්ජති සොතෙන සද්දං සුත්වා -පෙ- ඝාණෙන ගන්ධං ඝායිත්වා -පෙ- ජිව්හාය රසං සායිත්වා -පෙ- කායෙන ඵොට්ඨබ්බං ඵුසිත්වා -පෙ- මනසා ධම්මං විඤ්ඤාය න නිමිත්තග්ගාහී හොති නානුබ්‍යඤ්ජනග්ගාහී යත්වාධිකරණමෙනං මනින්ද්‍රියං අසංවුතං විහරන්තං අභිජ්ඣාදොමනස්සා පාපකා අකුසලා ධම්මා අන්වාස්සවෙය්‍යුං, තස්ස සංවරාය පටිපජ්ජති, රක්ඛති මනින්ද්‍රියං මනින්ද්‍රියෙ සංවරං ආපජ්ජති සො ඉමිනා අරියෙන ඉන්ද්‍රියසංවරෙන සමන්නාගතො අජ්ඣත්තං අබ්‍යාසෙකසුඛං පටිසංවෙදෙති එවං ඛො කෙවඩ්ඪ භික්ඛු ඉන්ද්‍රියෙසු ගුත්තද්වාරො හොති.

30 යම්සේ ඇතැම් පින්වත් මහණබමුණෝ සැදැහැයෙන් දුන් බොජුන් වළඳා, ශාන්තිකම්, ප්‍රණිධිකම්, භූරිකම්, පණ්ඩකයා පිරිමියකු කිරීම, පිරිමියා පණ්ඩකයකු කිරීම, වාස්තුකම්, වාස්තු පරිකිරණ, මතුරා දපා මුව දෙවුම, මතුරා දපා අනුන් නෑවීම, සෙත් පතා ගිනි පිදීම, ගිහියනට වමන කරවීම, බඩ විරේක කරවීම, ළය විරේකයට බේත් දීම, වස්ති කිරීම ශීර්ෂවිරේචන බේත් දීම, කන් ලෙඩට තෙල් පිසා දීම, ගිහියන් සඳහා ඇස පටලයට සිසිල ගන්වන නෙත්තෙල් පිසීම, ගිහියනට නස්‍ය දීම, කාරම් අඳුන් සාදා දීම, ඇස සිසිල ගන්වන අඳුන් සාදා දීම, ගිහියන්ගේ ඇසැ ඵල්ඇත ලෙඩට බේත් කිරීම, ගිහියනට ශල්‍ය කම් කිරීම, ළදරුවන්ගේ ලෙඩට පිළියම් කිරීම, මුල් බෙහෙත් දීම (කායචිකිත්සාව) කාරම් බේත් බැඳ වණ සුව වූ පසු ඒවා ගලවා දැම්ම යැ'' යි මේ ඈඳි වූ හෝ මෙබඳු වූ තිරශ්චීනවිද්‍යායෙන්, මිථ්‍යාආජීවයෙන් දිවි පවත්වත් ද, ඒ මහණ තෙමේ මේ හෝ මෙ බඳු වූ තිරශ්චීන විද්‍යාෙයන්, මිථ්‍යාජීවයෙන් වැළැක්කෝ වෙයි මේ ද ඔහුගේ සීලයෙක් වේ.

31. කෙවඩ්ඪය, ඒ මහණ තෙමේ මෙසේ සීලසම්පන්න වූයේ, සීල-සංවරහෙතුයෙන් කිසි ම එක ද අසංවරතායෙකින් පහළ විය හැකි බියක් නො දකී. කෙවඩ්ඪය, ක්‍ෂත්‍රියාභිෂෙකයෙන් අභිෂෙක ලත්, වැනැසූ සතුරන් ඇති ක්‍ෂත්‍රියයෙක් කිසි ම එක ද සතුරකුගෙන් විය හැකි බියක් යම්සේ නො දක්නේ ද, එසේ ම මහණ තෙමේ මෙ පරිද්දෙන් සීලසම්පන්න වූයේ, සීලසංවරහෙතුයෙන් කිසි ම එක ද අසංවරයෙකින් විය හැකි බියක් නො දකී හේ මේ ආර්‍ය්‍ය සීලසකන්ධයෙන් සමන්විත වූයේ සිය සතන්හි නිදොස් වූ කායික චෛතසික සුඛය විඳී. කෙවඩ්ඪය, මෙසේ මහණ තෙමේ සීලසම්පන්න වේ

32 ''කෙවඩ්ඪය, මහණ තෙමේ කෙසේ නම් ඉඳුරන්හි වැසූ දෙර ඇත්තේ වේ ද යත්· කෙවඩ්ඪය, මෙ සස්නෙහි මහණ තෙමේ ඇසින් රූපයක් දැක ශුභාදිවශයෙන් එහි ලකුණු නො ගන්නේ වේ. ශුභාදිවශයෙන් අත්පා ආදි අවයවයන්ගේ ආකාර සිතට නො ගන්නේ වේ යම් කරුණෙකින් චක්‍ෂුරින්‍ද්‍රිය වසා නොගෙන වසන්නහුගේ චිත්තසන්තානය විෂමලෝභ දොම්නස් ආදි ලාමක අකුශල සවභාවයෝ ලුහුබඳනාහු ද ඒ චක්‍ෂුරින්‍ද්‍රියයාගේ සංවරය පිණිස හේ පිළිපදී. චක්‍ෂුරින්‍ද්‍රියය රකී චක්‍ෂුරින්‍ද්‍රියයෙහි සංවරයට පැමිණේ. කනින් හඬ අසා . නාසායෙන් ගඳ ආඝ්‍රාණය කොට දිවෙන් රස ආස්වාදය කොට. . කයින් ස්ප්‍රෂ්ටව්‍යය (ඇඟට හැපෙන දෑ) ස්පර්ශ කොට සිතින් ධර්මාලම්බන දැන, ශුභාදිවශයෙන් එහි ලකුණු ගන්නේ නො වේ ශුභාදිවශයෙන් අත් පා ආදි අවයවයන්ගේ ආකාර සිතට ගන්නේ නො වේ යම් කරුණෙකින් ශ්‍රොත්‍රෙන්‍ද්‍රියය ඝ්‍රාණෙන්‍ද්‍රියය .... ජිහ්වෙන්‍ද්‍රියය කායෙ-න්‍ද්‍රියය . මනඉන්‍ද්‍රියය සංවර කොට නොගෙන වසන්නහුගේ චිත්ත-සන්තානය විෂමලෝභ දොම්නස් ආදි ලාමක අකුශල සවභාවයෝ ලුහුබඳ-නාහු ද, ඒ ශ්‍රොත්‍රෙන්‍ද්‍රියයාගේ ඝ්‍රාණෙන්‍ද්‍රියයාගේ .. ජිහෙවින්‍ද්‍රියයාගේ කායෙන්‍ද්‍රියයාගේ ... මනඉන්‍ද්‍රියයාගේ සංවරය පිණිස පිළිපදී ශ්‍රොත්‍ර ... ඝ්‍රාණ ... ජිහ්වා .. කාය මනඉන්‍ද්‍රියය රකී එහි සංවරයට පැමිණේ හේ මේ ආර්‍ය්‍ය වූ ඉන්‍ද්‍රියසංවරයෙන් සමන්විත වූයේ සිය සතන්හි අව්‍යා-සෙකසුඛය (කෙලෙසුන්ගෙන් මිශ්‍ර නොවීමෙන් වූ පිරිසිදු අධිචිත්තසුඛය) විඳී. කෙවඩ්ඪය, මෙසේ වනාහි මහණ තෙමේ ඉන්‍ද්‍රියයන්හි වැසූ දෙර ඇත්තේ වේ.

33 කථඤ්ච කෙවඩ්ඪ භික්ඛු සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො හොති? ඉධ කෙවඩ්ඪ භික්ඛු අභික්කන්තෙ පටික්කන්තෙ සම්පජානකාරී හොති ආලොකිතෙ විලොකිතෙ සම්පජානකාරී හොති සමිඤ්ජිතෙ පසාරිතෙ සම්පජානකාරී හොති. සඞ්ඝාටිපත්තචීවරධාරණෙ සම්පජානකාරී හොති. අසිතෙ පීතෙ ඛායිතෙ සායිතෙ සම්පජානකාරී හොති උච්චාරපස්සාවකම්මෙ සම්පජානකාරී හොති ගතෙ ඨිතෙ නිසින්නෙ සුත්තෙ ජාගරිතෙ භාසිතෙ තුණ්හීභාවෙ සම්පජානකාරී හොති එවං ඛො කෙවඩ්ඪ භික්ඛු සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො හොති.

34 කථඤ්ච කෙවඩ්ඪ භික්ඛු සන්තුට්ඨො හොති? ඉධ කෙවඩ්ඪ භික්ඛු සන්තුට්ඨො හොති කායපරිහාරියෙන චීවරෙන කුච්ඡිපරිහාරියෙන පිණ්ඩපාතෙන. සො යෙන යෙනෙව පක්කමති සමාදායෙව පක්කමති සෙය්‍යථාපි කෙවඩ්ඪ පක්ඛී සකුණො යෙන යෙනෙව ඩෙති සපත්තභාරො'ව ඩෙති, එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු සන්තුට්ඨො හොති කායපරිහාරියෙන චීවරෙන කුච්ඡිපරිහාරියෙන පිණ්ඩපාතෙන සො යෙන යෙනෙව පක්කමති සමාදායෙව පක්කමති එවං ඛො කෙවඩ්ඪ භික්ඛු සන්තුට්ඨො හොති.

35 සො ඉමිනා ච අරියෙන සීලක්ඛන්ධෙන සමන්නාගතො ඉමිනා ච අරියෙන ඉන්ද්‍රියසංවරෙන සමන්නාගතො ඉමිනා ච අරියෙන සතිසම්පජඤ්ඤෙන සමන්නාගතො ඉමාය ච අරියාය සන්තුට්ඨියා සමන්නාගතො විවිත්තං සෙනාසනං භජති අරඤ්ඤං රුක්ඛමූලං පබ්බතං කන්දරං ගිරිගුහං සුසානං වනපත්ථං අබ්භොකාසං පලාලපුඤ්ජං සො පච්ඡාභත්තං පිණ්ඩපාතපටික්කන්තො නිසීදති පල්ලඞ්කං ආභුජිත්වා උජුං කායං පණිධාය පරිමුඛං සතිං උපට්ඨපෙත්වා.

36 සො අභිජ්ඣං ලොකෙ පහාය විගතාභිජ්ඣෙන චෙතසා විහරති අභිජ්ඣාය චිත්තං පරිසොධෙති බ්‍යාපාදපදොසං පහාය අබ්‍යාපන්නචිත්තො විහරති සබ්බපාණභූතහිතානුකම්පී බ්‍යාපාදපදොසා චිත්තං පරිසොධෙති ථිනමිද්ධං පහාය විගතථිනමිද්ධො විහරති ආලොකසඤ්ඤී සතො සම්පජානො ථිනමිද්ධා චිත්තං පරිසොධෙති. උද්ධච්චකුක්කුච්චං පහාය අනුද්ධතො විහරති අජ්ඣත්තං වූපසන්තචිත්තො උද්ධච්චකුක්කුච්චා චිත්තං පරිසොධෙති විචිකිච්ඡං පහාය තිණ්ණවිචිකිච්ඡො විහරති අකථංකථී කුසලෙසු ධම්මෙසු. විචිකිච්ඡාය චිත්තං පරිසොධෙති.

33 කෙවඩ්ඪය, මහණ තෙමේ කෙසේ නම් ස්මෘතිසම්ප්‍රජානනයෙන් (සිහි නුවණින්) සමන්විත වේ ද යත්· කෙවඩ්ඪය, මෙ සස්නෙහි මහණ තෙමේ ඉදිරියට යෑමෙහි පෙරළා ඊමෙහි මනා නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි ඉදිරි බැලීමෙහි, අනුදික් බැලීමෙහි (වට පිට බැලීමෙහි) මනා නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි අත් පා ආදිය හැකිළීමෙහි, දිගු කිරීමෙහි නුවණින් දැන ම (එය) කරනුයේ වෙයි. සඟළසිවුර ද පාත්‍රය ද සෙසු සිවුරු ද දැරීමෙහි නුවණින් දැන ම කරන්නේ වෙයි. ආහාර ගැන්මෙහි, පැන් පීමෙහි, පිටිකැවිලි ආදිය කෑමෙහි, මී ආදිය රස විඳීමෙහි නුවණින් දැන ම කරනුයේ වෙයි. මළ මූ පහ කිරීමෙහි නුවණින් දැන ම කරනුයේ වෙයි ගමනෙහි සිටීමෙහි හිඳීමෙහි නිදීමෙහි කථා කිරීමෙහි නොබිණීමෙහි නුවණින් දැන ම කරනුයේ වෙයි කෙවඩ්ඪය, මෙසේ එනාහි මහණ තෙම සිහි නුවණින් සමන්විත වෙයි.

34. කෙවඩ්ඪය, කෙසේ නම් මහණ තෙමේ ලද පමණෙහි සතුටු වේ ද යත්: කෙවඩ්ඪය, මෙ සස්නෙහි මහණ තෙමේ කායපරිහරණයට ප්‍රමාණ වූ සිවුරින් ද කුක්ෂිපරිහරණයට ප්‍රමාණ වූ ආහාරයෙන් ද සතුටු වෙයි. හේ යම් යම් තැනකට නික්මැ යේ ද, අට පිරිකර පමණක් ගෙන ම නික්මෙයි කෙවඩ්ඪය, (පියා හඹනුවට තරම්) අත්තටු ඇති කුරුලු තෙමේ යම් යම් තැනක පියා හඹා යේ නම්, පියාපත් බර සහිත ව ම යම් සේ පියා හඹා ද, එසේ ම ඒ මහණ තෙමේ කායපරිහරණයට ප්‍රමාණ වූ සිවුරින් ද කුක්ෂිපරිහරණයට ප්‍රමාණ වූ ආහාරයෙන් ද සතුටු වෙයි හේ යම් යම් තැනකට යේ ද, පා සිවුරු (ආදි අට පිරිකර පමණක්) රැගෙන ම යෙයි කෙවඩ්ඪය, මෙසේ වනාහි මහණ තෙමේ ලද පසයෙහි සතුටු වේ.

35. කෙවඩ්ඪය, ඒ මහණ තෙමේ මේ ආර්‍ය ශීලස්කන්ධයෙන් ද සමන්විත වූයේ, මේ ආර්‍ය ඉන්ද්‍රියසංවරයෙන් ද සමන්විත වූයේ, මේ ආර්‍ය ස්මෘතිසම්ප්‍රජානනයෙන් ද සමන්විත වූයේ, මේ ආර්‍ය සන්තුෂ්ටියෙන් ද සමන්විත වූයේ, අරණ්‍ය වෘක්ෂමූල පර්වත කඳුරැලි ගිරිගුහා සොහොන් වනපෙත් (වනප්‍රස්ථ) අභ්‍යවකාශ (එළිමහන්) පිදුරුලෙන් යන මෙ කී ජනශූන්‍ය කිසි සෙනස්නක් භජනය කෙරෙයි හේ පිඩු සෙවීමෙන් පෙරළා ආයේ, පසුබත් සෙමෙහි පලක් බැඳ උඩු කය කෙළින් පිහිටුවා කමටහනට යොමු කොට සිහි එළවා හිඳී

36 හේ ලොවැ (පඤ්ච උපාදානස්කන්ධය කෙරෙහි) ඇල්ම හැර විෂ්කම්භණප්‍රහාණයෙන් (යට පත් කිරීමෙන්) පහ වූ අභිජ්ඣායෙන් ශූන්‍ය සිතින් වෙසෙයි අභිජ්ඣාව කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි ව්‍යාපාද ප්‍රද්වේෂය (ක්‍රොධය) හැර, ව්‍යාපාද රහිත සිතැත්තේ, සියලු පණ ඇති සතුන් කෙරේ හිතානුකම්පා ඇති වැ වෙසෙයි ක්‍රොධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි ස්ත්‍යානමිද්ධය හැර, පහ වූ ස්ත්‍යානමිද්ධය ඇත්තේ, දව රෑ දෙක්හි ම දුටු එළිය හඳුනනු හැකි පිරිසිදු සංඥා ඇත්තේ, සිහියෙනුත් නුවණිනුත් යුක්ත වූයේ වෙසෙසි ස්ත්‍යානමිද්ධය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි උදහසත් (සිත නොසංසුන්බවත්) කුකුසත් (කළ නො කළ දැයෙහි පසුතැවිල්ලත්) සිතින් දුරු ලා, අනුද්ධත වැ (නොසංසුන් බැවින් තොර වැ), සංසිඳුණු ස්වකීය චිත්තසන්තානය ඇත්තේ, උදහස් කුකුස් දෙක කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි සැකය දුරු ලා, පහ වූ සැක ඇත්තේ, කුසල් දහම්හි සැක නො කරනුයේ, සැකය කෙරෙන් සිත පිරිසිදු කෙරෙයි.

37. සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො ඉණං ආදාය කම්මන්තෙ පයොජෙය්‍ය, තස්ස තෙ කම්මන්තා සමිජ්ඣෙය්‍යුං, සො යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තීකරෙය්‍ය, සියා චස්ස උත්තරිං අවසිට්ඨං දාරභරණාය, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ ඉණං ආදාය කම්මන්තෙ පයොජෙසිං. තස්ස මෙ තෙ කම්මන්තා සමිජ්ඣිංසු. සො'හං යානි ච පොරාණානි ඉණමූලානි තානි ච බ්‍යන්තීඅකාසිං. අත්ථි ච මෙ උත්තරිං අවසිට්ඨං දාරභරණායා"ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

38. සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො ආබාධිකො අස්ස දුක්ඛිතො බාළ්හගිලානො, භත්තං චස්ස නච්ඡාදෙය්‍ය, න චස්ස කායෙ බලමත්තා, සො අපරෙන සමයෙන තම්හා ආබාධා මුච්චෙය්‍ය, භත්තඤ්චස්ස ඡාදෙය්‍ය, සියා චස්ස කායෙ බලමත්තං, තස්ස එවමස්ස: "අහං ඛො පුබ්බෙ ආබාධිකො අහොසිං දුක්ඛිතො බාළ්හගිලානො. භත්තං ච මෙ නච්ඡාදෙසි න චස්ස මෙ ආසි කායෙ බලමත්තා. සො'මහි එතරහි තම්හා ආබාධා මුත්තො භත්තඤ්ච මෙ ඡාදෙති. අත්ථි ච මෙ කායෙ බලමත්තා"ති. සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

39. සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො බන්ධනාගාරෙ බද්ධො අස්ස, සො අපරෙන සමයෙන තම්හා බන්ධනාගාරා මුච්චෙය්‍ය සොත්ථිනා අබ්බයෙන, න චස්ස කිඤ්චි භොගානං වයො, තස්ස එවමස්ස: "අහං ඛො පුබ්බෙ බන්ධනාගාරෙ බද්ධො අහොසිං. සො'මහි එතරහි තම්හා බන්ධනාගාරා මුත්තො සොත්ථිනා අබ්බයෙන. නත්ථි ච මෙ කිඤ්චි භොගානං වයො" ති. සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

40. සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො දාසො අස්ස අනත්තාධීනො පරාධීනො න යෙනකාමංගමො, සො අපරෙන සමයෙන තම්හා දාසබ්‍යා මුච්චෙය්‍ය අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමංගමො, තස්ස එවමස්ස "අහං ඛො පුබ්බෙ දාසො අහොසිං අනත්තාධීනො පරාධීනො න යෙනකාමංගමො. සො'මහි එතරහි තම්හා දාසබ්‍යා මුත්තො අත්තාධීනො අපරාධීනො භුජිස්සො යෙනකාමංගමො"ති සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං, අධිගච්ඡෙය්‍ය සොමනස්සං–

37. කෙවඩ්ඪය, යම්සේ පුරුෂයෙක් ණය මුදලක් ගෙන කර්මාන්ත කරන්නේ ද, ඔහුගේ ඒ කර්මාන්ත සමෘද්ධ වන්නේ නම්, හේ යම් පරණ ණය මුදල් වී නම්, ඒ සියල්ල ගෙවා අවසන් කරන්නේ ද, මින්තෙහි ඉතිරි වූ යමක් ඇත් නම්, එය අඹුදරුවන් රක්නා පිණිස වන්නේ ද, එසේ වූ ඔහුට "මම් පළමුයෙන් ණයට මුදල් ගෙන කර්මාන්ත කෙළෙමි. ඒ මාගේ කර්මාන්ත සමෘද්ධ විය ඒ මම්, යම් පරණ ණය මුදල් වී නම්, එය ගෙවා අවසන් කෙළෙමි අඹුදරුවන් රක්නට වැඩිපුර ඉතිරි වූ මුදලෙක් ද මට ඇතැ" යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ ණය නැතිබව කරණ කොට ගෙන සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද–

38 කෙවඩ්ඪය, යම් සේ පුරුෂයෙක් රෝගී වූයේ, දුකට පැමිණියේ, දැඩි ලෙස ගිලන් වන්නේ ද, ඔහුට බතුත් නො රිසියෙන්නේ ද, ඔහුගේ ඇඟපත ශක්ති පමණකුත් නො වන්නේ ද, හේ මෑත කාලයෙහි ඒ ආබාධයෙන් මිදෙන්නේ නම්, ඔහුට බතුත් රිසියෙන්නේ නම්, ඔහු ඇඟපත ශක්තිය ද වන්නේ නම්, "මම් වූ කලී පෙර දුකට පත්, දැඩි ගිලන්බව් ඇති ලෙඩෙක් විමි මට අහර ද රිසි නො වි ය මා ඇඟපත ශක්තිය ද නො වි ය ඒ මම් දැන් ඒ ලෙඩින් මිදුණෙම් වෙමි. ඒ මට අහර ද රිසියෙයි මා ඇඟපත ශක්තිය ද ඇතැ" යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ නම්, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පමිණෙන්නේ ද–

39. කෙවඩ්ඪය, යම් සේ පුරුෂයෙක් හිරගෙහි බැඳුණේ වන්නේ ද, හේ පසු කලෙක ධනය වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදෙන්නේ ද, (ඒ හෙතුයෙන්) ඔහුගේ කිසි භොගවිනාශයෙක් නො වන්නේ ද, "මම් වූ කලී පෙර හිර ගෙහි බැඳුණෙම් විමි ඒ මම් දැන් ධන වියදම් නො කොට පහසුවෙන් ඒ හිර ගෙන් මිදුණෙම් වෙමි. මාගේ භොගයනට කිසි විනාශයෙක් ද නැතැ" යි ඔහුට මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද –

40. කෙවඩ්ඪය, යම්සේ තමා අයත් පැවැතුම් නැති, අනුන් අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යන්නට අවසර නැති දස පුරුෂයෙක් වන්නේ ද, හේ මෑත භාගයෙහි තමා අයත් පැවැතුම් ඇතියේ, පරා අයත් පැවැතුම් නැතියේ, නිදහස් වූයේ, කැමැති අතෙක යෑ හැකි වූයේ, ඒ දසභාවයෙන් මිදෙන්නේ ද. එසේ වූ ඔහුට "මම් වූ කලී පෙර තමා අයත් පැවැතුම් නැති, පර අයත් පැවැතුම් ඇති, කැමැති අතෙක යෑ නො හැකි දසයෙක් විමි. ඒ මම් දැන් ඒ දසභාවයෙන් මිදුණෙමි, තමා අයත් පැවැතුම් ඇතියෙමි, පර අයත් පැවැතුම් නැතියෙමි, නිදහස් වූයෙමි කැමැති අතෙක යෑ හැකියෙම් වෙමි" යි මෙසේ සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද–

41. සෙය්‍යථාපි කෙවඩ්ඩ පුරිසො සධනො සභොගො කන්තාරද්ධාන-
මග්ගං පටිපජ්ජෙය්‍ය දුබ්භික්ඛං සප්පටිභයං, සො අපරෙන සමයෙන තං
කන්තාරං නිත්ථරෙය්‍ය, සොත්ථිනා ගාමන්තං අනුපාපුණෙය්‍ය ඛෙමං
අප්පටිභයං, තස්ස එවමස්ස “අහං ඛො පුබ්බෙ සධනො සභොගො
කන්තාරද්ධානමග්ගං පටිපජ්ජිං දුබ්භික්ඛං සප්පටිභයං සො’ම්හි එතරහි
තං කන්තාරං නිත්ථිණ්ණො සොත්ථිනා ගාමන්තං අනුප්පත්තො ඛෙමං අප්පටි-
භයං”න්ති. සො තතො නිදානං ලභෙථ පාමොජ්ජං අධිගච්ඡෙය්‍ය සොමනස්සං-

42. එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු යථා ඉණං යථා රොගං යථා
බන්ධනාගාරං යථා දාසබ්‍යං යථා කන්තාරද්ධානමග්ගං, එවං ඉමෙ පඤ්ච
නීවරණෙ අප්පහීණෙ අත්තනි සමනුපස්සති. සෙය්‍යථාපි කෙවඩ්ඩ ආනණ්‍යං,
යථා ආරොග්‍යං, යථා බන්ධනා මොක්ඛං, යථා භුජිස්සං, යථා ඛෙමන්තභූමිං,
එවමෙව ඛො මාණව භික්ඛු ඉමෙ පඤ්ච නීවරණෙ පහීණෙ අත්තනි
සමනුපස්සති

43. තස්සිමෙ පඤ්ච නීවරණෙ පහීණෙ අත්තනි සමනුපස්සතො
පාමොජ්ජං ජායති පමුදිතස්ස පීති ජායති. පීතිමනස්ස කායො පස්ස-
ම්භති පස්සද්ධකායො සුඛං වෙදෙති. සුඛිනො චිත්තං සමාධියති.

44. සො විවිච්චෙව කාමෙහි විවිච්ච අකුසලෙහි ධම්මෙහි සවිතක්කං
සවිචාරං විවෙකජං පීතිසුඛං පඨමං ඣානං උපසම්පජ්ජ විහරති. සො
ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති
පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන
පීතිසුඛෙන අප්ඵුටං හොති

45. සෙය්‍යථාපි කෙවඩ්ඩ දක්ඛො න්හාපකො වා න්හාපකන්තෙවාසී වා
කංසථාලෙ න්හානීයචුණ්ණානි ආකිරිත්වා උදකෙන පරිප්ඵොසකං පරි-
ප්ඵොසකං සන්නෙය්‍ය, සායං න්හානීයපිණ්ඩි ස්නෙහානුගතා ස්නෙහපරෙතා
සන්තරබාහිරා ඵුටා ස්නෙහෙන න ච පග්ඝරණී, එවමෙව ඛො කෙවඩ්ඩ
භික්ඛු ඉමමෙව කායං විවෙකජෙන පීතිසුඛෙන අභිසන්දෙති පරිසන්දෙති
පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස විවෙකජෙන
පීතිසුඛෙන අප්ඵුටං හොති.

41 කෙවඩ්ඪය, යම්සේ ධනවත් වූ භොගසම්පත් ඇති පුරුෂයෙක් දුර්ලභ ආහාර ඇති, උවදුරු ඇති, දිය නැති දික් මඟකට බස්නේ ද, හේ පසු කලෙක සුවසේ ඒ නිරුදක පෙදෙස ඉක්මැ යන්නේ ද, උවදුරු නැති විපත් නැති ගම්මානයකට බස්නේ ද, එසේ වූ ඔහුට "මම් වූ කලි පෙර ධන ඇතියෙම්, භොගසම්පත් ඇතියෙම්, දිය නැති, ආහාරදුර්ලභ, ප්‍රතිභය සහිත දික් මඟකට බටුයෙමි. ඒ මම් දැන් සුවසේ ඒ කාන්තාරය තරණය කෙළෙමි. නිරුපද්‍රැත භයරහිත ගමකට පැමිණියෙම් වෙමි"යි සිතෙක් වන්නේ ද, හේ ඒ කරුණින් සතුට ලබන්නේ ද, සොම්නසට පැමිණෙන්නේ ද-

42 කෙවඩ්ඪය, එසේ ම මහණ තෙමේ ණයක් මෙන් ලෙඩක් මෙන් හිරගෙයක් මෙන් වහල්බවක් මෙන් දිය නැති දික්මඟක් මෙන් (පිළි-වෙළින්) මේ පහ නොවූ නීවරණ පස තමා කෙරෙහි දකී මාණවය, ණය නැති බව යම්සේ ද, ලෙඩ නැති බව යම්සේ ද, හිරගෙන් මිදුණුබව යම්සේ ද, නිවහල්බව යම්සේ ද, උවදුරු නැති බිම යම්සේ ද, එසේ ම (පිළිවෙළින්) මේ පහ වූ නීවරණ පස (හෙවත් නීවරණ පසේ දුරු වීම) තමා කෙරෙහි දකී

43. තමා කෙරෙහි පහ වූ මේ නීවරණ පස දක්නා ඔහුට සතුට උපදී සතුටු වූවහුට ප්‍රීතිය උපදී සිතැ ප්‍රීතිය ඇත්තහුගේ නාමකය සංහිඳේ සංහුන් නාමකය ඇත්තේ සුව විඳී සුවැතියහු සිත සමාහි-ගත වේ (එකඟ වේ)

44 හේ කාමයන්ගෙන් වෙන් ව ම, සෙසු අකුසල් දහමුන්ගෙන් ද වෙන් ව ම, විතර්කසහිත, විචාරසහිත, විවෙකයෙන් (නීවරණ පහ වීමෙන්) උපන් ප්‍රීතියත් සුවයත් ඇති පළමු ධ්‍යානය ලැබ වෙසේ. හේ මේ කරජකය ම විවෙකයෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි, මුළුල්ල ම තෙමයි, පුරා ලයි, මුළුල්ල ම ස්පර්ශ කෙරෙයි සියලු අඟ පසඟ ඇති ඔහු මුළු කයෙහි ඒ විවෙකජයෙන් උපන් ප්‍රීතිසුඛයෙන් පැතිරැ වැද නොගත් (නොපහස්නා ලද) කිසි ද තැනෙක් නො වෙයි

45. කෙවඩ්ඪය, යම්සේ කපුවෙක් (කිලිභෙක්) හෝ කපුවකුගේ (කිලිභකුගේ) අතැවැස්සෙක් හෝ ලොහොතලියෙක නාන සුණු බහා දිය ඉස ඉස පිඩු කරන්නේ ද, ඒ නාන සුණුපිඩ කාවැදුණු දිය ඇත්තේ, හැම තැන ම දියෙන් යුක්ත වූයේ, ඇතුළත පිටත මුළුල්ල ම දියෙන් පැතිරැ ගියේ, දිය නො වගුරුවන්නේත් වේ ද, කෙවඩ්ඪය, එසේ ම මහණ තෙමේ මේ කරජකය ම විවෙකයෙන් උපන් ප්‍රීතිසුඛයෙන් තෙමයි, මුළුල්ල ම තෙමයි, පුරා ලයි, මුළුල්ල ම ස්පර්ශ කෙරෙයි ඔහුගේ සියලු අඟ පසඟ ඇති මුළු කයෙහි විවෙකජ ප්‍රීතිසුඛයෙන් පැතිර වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි

සො ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති

49. සෙය්‍යථාපි කෙවඩ්ඩ උප්පලිනියං වා පදුමිනියං වා පුණ්ඩරීකිනියං වා අප්පෙකච්චානි උප්පලානි වා පදුමානි වා පුණ්ඩරීකානි වා උදකෙ ජාතානි උදකෙ සංවඩ්ඪානි උදකානුග්ගතානි අන්තො නිමුග්ගපොසීනි, තානි යාව චග්ගා යාව ච මූලා සීතෙන වාරිනා අභිසන්නානි පරිසන්නානි පරිපූරානි පරිප්ඵුටානි, නාස්ස කිඤ්චි සබ්බාවතං උප්පලානං වා පදුමානං වා පුණ්ඩරීකානං වා සීතෙන වාරිනා අප්ඵුටං අස්ස, එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු ඉමමෙව කායං නිප්පීතිකෙන සුඛෙන අභිසන්දෙති පරිසන්දෙති පරිපූරෙති පරිප්ඵරති නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස නිප්පීතිකෙන සුඛෙන අප්ඵුටං හොති.

50 පුන ච පරං කෙවඩ්ඩ භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛා-සතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති. සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති සෙය්‍යථාපි කෙවඩ්ඩ පුරිසො ඔදාතෙන වත්ථෙන සසීසං පාරුපිත්වා නිසින්නො අස්ස, නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස ඔදාතෙන වත්ථෙන අප්ඵුටං අස්ස, එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොති. නාස්ස කිඤ්චි සබ්බාවතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති යම්පි කෙවඩ්ඩ භික්ඛු සුඛස්ස ච පහානා දුක්ඛස්ස ච පහානා පුබ්බෙව සොමනස්සදොමනස්සානං අත්ථඞ්ගමා අදුක්ඛමසුඛං උපෙක්ඛාසතිපාරිසුද්ධිං චතුත්ථං ඣානං උපසම්පජ්ජ විහරති, සො ඉමමෙව කායං පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන ඵරිත්වා නිසින්නො හොයි, නාස්ස කිඤ්චි සබ්බා-වතො කායස්ස පරිසුද්ධෙන චෙතසා පරියොදාතෙන අප්ඵුටං හොති· ඉදම්පි'ස්ස හොති සමාධිස්මිං

හේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි හැම පරිදි තෙත් කෙරෙයි පුරා ලයි හැම තැන ම පැතිර වැදූ ගනී ඔහුගේ කයෙහි ඒ නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිර නොගත් කිසි ද තැනෙක් නො වෙයි

49. කෙවඩ්ඪය, යම්සේ උපුල් විලෙක හෝ පියුම් විලෙක හෝ පඬෙර විලෙක හෝ ඇතැම් උපුල් හෝ පියුම් හෝ පඬෙර හෝ දියෙහි උපන්නේ, දියෙහි වැඩුණේ, දියෙන් නොනැගුණේ, දිය තුළැ ම ගිලී වැඩෙනුයේ ද, ඒ හැම අග් දක්වාත් මුල් දක්වාත් සිසිල් දියෙන් තෙමුණේ, හැම පරිදි තෙත් වූයේ, පිරී ගියේ, හැම තැන් ම පැතිරැ වැද ගත්තේ වේ ද, ඒ විලෙහි සියලු උපුල්වලැ හෝ පියුම්වලැ හෝ පඬෙරවලැ හෝ සිසිල් දිය පැතිරැ නොගත් තැනෙක් නො වන්නේ ද, කෙවඩ්ඪය, එසේ ම මහණ තෙමේ මේ කය ම නිෂ්ප්‍රීතික සුඛයෙන් තෙමයි. හාත්පසින් තෙමයි. පුරා ලයි. හැම පරිදි පැතිරැ වැද ගනී ඔහුගේ සියලු කයෙහි නිෂ්ප්‍රීතික සුඛයෙන් පැතිරැ වැද නොගත් කිසි ද තැනෙක් නො වෙයි.

50 තැවැත ද (අනෙකක් කියමි.) කෙවඩ්ඪය, මහණ තෙමේ සුඛ වේදනාව ද දුරැ ලීමෙන්, දුඃඛ වේදනාව ද දුරැ ලීමෙන්, පළමු කොට ම සොම්නස් දොම්නස් දෙදෙනාගේ පහ වීමෙන්, දුක් ද නොවූ, සුව ද නොවූ, උපෙක්ෂා ස්මෘති යන මොවුන්ගේ පිරිසිදු බව ඇති සතර වන ධ්‍යානය ලැබ වෙසෙයි. හේ මේ කය ම පිරිසිදු ප්‍රභාස්වර සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි. ඔහුගේ සියලු කයෙහි පිරිසිදු ප්‍රභාස්වර සිතින් පැතිරැ වැද නො ගෙන සිටි කිසි ද තැනෙක් නො වෙයි කෙවඩ්ඪය, යම්සේ පුරුෂයෙක් සුදු වතින් හිසින් වටා පෙරෙවැ හුන්නේ වේ නම්, ඔහුගේ කයෙහි සුදු වතින් වැද නොගත් (නො වැසුණ) කිසි ද තැනෙක් නො වන්නේ ද, කෙවඩ්ඪය, එසේ ම මහණ තෙම මේ කය ම පිරිසිදු ප්‍රභාස්වර සිතින් පැතිරැ වැද ගෙන හුන්නේ වෙයි. ඔහු කයැ පිරිසිදු පබසර සිතින් වැද ගෙන නොසිටි කිසි ද තැනෙක් නො වෙයි. කෙවඩ්ඪය, මහණ තෙම සුඛ වේදනාව ද දුක් වේදනාව ද පහ කිරීමෙන්, පළමුවෙන් ම සොම්නස් දොම්නසුන් පහ වැ යැමෙන්, දුක් ද නොවූ සුව ද නො වූ, උපෙක්ෂාවත් ස්මෘතියත් යන මොවුන්ගේ පිරිසිදු බව ඇති සිවුවන දහන් ලැබැ වෙසෙයි එයින් හෙ තෙම මේ කය ම පිරිසිදු පබසර සිතින් පැතිරැ ගෙන හුන්නේ වෙයි ඔහුගේ සියලු කයෙහි පිරිසිදු පබසර සිතින් පැතිරැ නොගත් කිසි ද තැනෙක් නො වෙයි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ සමාධියෙක් වෙයි.

51. පුන ච පරං කෙවඩ්ඪ සො භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො එවං පජානාති· අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දන-භෙදනවිද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති

52. සෙය්‍යථාපි කෙවඩ්ඪ මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො, තත්‍රස්ස සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩු-සුත්තං වා තමෙනං චක්ඛුමා පුරිසො හත්ථෙ කරිත්වා පච්චවෙක්ඛෙය්‍ය· අයං ඛො මණි වෙළුරියො සුභො ජාතිමා අට්ඨංසො සුපරිකම්මකතො අච්ඡො විප්පසන්නො අනාවිලො සබ්බාකාරසම්පන්නො තත්‍රිදං සුත්තං ආවුතං නීලං වා පීතං වා ලොහිතං වා ඔදාතං වා පණ්ඩුසුත්තං වා'ති. එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඤාණදස්සනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො එවං පජානාති. අයං ඛො මෙ කායො රූපී චාතුම්මහාභූතිකො මාතාපෙත්තිකසම්භවො ඔදනකුම්මාසූපචයො අනිච්චුච්ඡාදනපරිමද්දනභෙදන-විද්ධංසනධම්මො ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති

53 යම්පි කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ -පෙ- එවං පජානාති -පෙ- ඉදං ච පන මෙ විඤ්ඤාණං එත්ථ සිතං එත්ථ පටිබද්ධන්ති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

51 තව ද (අනෙකක් කියමි.) කෙවඩ්ඪය, ඒ මහණ තෙමේ මෙසේ එකඟ වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කිලිටි නැති වූ කල්හි, පහ වූ චිත්තොපක්ලේශ ඇති කල්හි, මෘදු වූ කල්හි, විදර්ශනාභාවනාවට යොග්‍ය කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනාඥානය පිණිස, (පරිකර්ම) සිත එයට අභිමුඛ කෙරෙයි. ඒ අනතුරුව තමා හරියි හේ "මාගේ මේ කය වූ කලී රූපවත් ය, සතර මහාභූතයන්ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍රශොණිතයෙන් උපන්නේ ය, බත් කොමු ආදි අහරින් වැඩුණේ ය, අනිත්‍ය බව ද දුගඳ හරනුවට සුවඳ විලෙවුන් ඉළිය යුතු බව ද, ලෙඩ දුරලනුවට පිරිමැදුම් ඈ කළ යුතු බව ද, එසේ කළ ද බිඳෙන බව ද, විසිරෙන බව ද යන මේ දෑ ස්වභාව කොටැත්තේ ය මගේ මේ සිත ද මෙහි ලැග්ගේ ය, මෙහි බැඳුණේ යැ" යි මෙසේ දැන ගනී.

52. කෙවඩ්ඪය, යම්සේ සොඳුරු වූ, පිරිසිදු ආකරයෙක පහළ වූ, අටැස් වූ මොනොවට පිරියම් කළ, සියුම් වූ වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, බොවනාදි සියලු ආකාරයෙන් යුත් වෙරළුමිණෙක් වන්නේ ද, එහි නිල්වන් වූ හෝ රත්වන් වූ හෝ රත්වන් වූ හෝ සුදුවන් වූ හෝ පඬුවන් වූ හෝ හුයෙක් අවුනන ලද්දේ වන්නේ ද, එය ඇස් ඇති පුරුෂයෙක් අතෙහි කොට, "මේ වූ කලී සොඳුරු වූ, පිරිසිදු ආකරයෙහි උපන්, අටැස් වූ, මොනොවට පිරියම් කළ, සියුම් වූ, වෙසෙසින් පහන් වූ, පිවිතුරු වූ, සියලු බොවනාදි ආකාරයෙන් සම්පූර්ණ වූ වෙරළුමිණෙක. මෙහි නිල්වන් වූ හෝ රත්වන් වූ හෝ රත්වන් වූ හෝ සුදුවන් වූ හෝ මේ හුයෙක් අවුනන ලදුයේ වේ යැ"යි සලකා බලන්නේ ද, කෙවඩ්ඪය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාධිගත සිත පිරිසිදු කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් යටපත් වූ කල්හි, උපක්ලේශයන් පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, විදර්ශනාඥානය පිණිස සිත අභිමුඛ කෙරෙයි. ඒ අනතුරුව තමා හරියි හෙ තෙම "මාගේ මේ කය වූ කලී රූපී ය, සතර මහාභූතයන්ගෙන් හැදුණේ ය, මාපියන්ගේ ශුක්‍රශොණිතයෙන් නිපන්නේ ය. බත් කොමු ආදි අහරින් වැඩුණේ ය. අනිත්‍ය බව ද, දුගඳ හරනට සුවඳ විලෙවුන් ඉළිය යුතු බව ද, ලෙඩ දුරලනුවට පිරිමැදුම් ඈ කළ යුතු බව ද, ඒ කලත් බිඳෙන බව ද, විසිරෙන බව ද යන මේ දෑ ස්වභාව කොටැත්තේ ය මාගේ මේ සිත ද මෙහි ලැග ගත්තේ ය, මෙහි බැඳුණේ යැ"යි මෙසේ දැන ගනී.

53 කෙවඩ්ඪය, මහණ මෙසේ සමාහිගත සිත මාගේ මේ සිත ද මෙහි ලැග ගත්තේ ය මෙහි බැඳුණේ යැ' යි මෙසේ දනි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥවෙක් වෙයි.

54 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො මුඤ්ජම්හා ඉසිකං පවාහෙය්‍ය, තස්ස එවමස්ස: අයං මුඤ්ජො අයං ඉසිකා අඤ්ඤො මුඤ්ජො අඤ්ඤා ඉසිකා මුඤ්ජම්හා ත්වෙව ඉසිකා පබාළ්හා’ති සෙය්‍යථාපි වා පන කෙවඩ්ඪ පුරිසො අසිං කොසියා පවාහෙය්‍ය, තස්ස එවමස්ස අයං අසි අයං කොසි, අඤ්ඤො අසි අඤ්ඤා කොසි, කොසියා ත්වෙව අසි පබාළ්හා ’ති. සෙය්‍යථාපි වා පන කෙවඩ්ඪ පුරිසො අහිං කරණ්ඩා උද්ධරෙය්‍ය, තස්ස එවමස්ස අයං අහි අයං කරණ්ඩො, අඤ්ඤො අහි අඤ්ඤො කරණ්ඩො කරණ්ඩා ත්වෙව අහි උබ්භතො’ති එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ මනොමයං කායං අභිනිම්මිනාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉමම්හා කායා අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං යම්පි කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ–පෙ–අඤ්ඤං කායං අභිනිම්මිනාති රූපිං මනොමයං සබ්බඞ්ගපච්චඞ්ගිං අහීනින්ද්‍රියං, ඉදම්පි’ස්ස හොති පඤ්ඤාය

55 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති· එකො’පි හුත්වා බහුධා හොති බහුධාපි හුත්වා එකො හොති. ආවිභාවං තිරොභාවං තිරොකුඩ්ඩං තිරොපාකාරං තිරොපබ්බතං අසජ්ජමානො ගච්ඡති සෙය්‍යථාපි ආකාසෙ පඨවියා’පි උම්මුජ්ජනිම්මුජ්ජං කරොති සෙය්‍යථාපි උදකෙ උදකෙ’පි අභිජ්ජමානෙ ගච්ඡති සෙය්‍යථාපි පඨවියං ආකාසෙ’පි පල්ලඞ්කෙන කමති සෙය්‍යථාපි පක්ඛී සකුණො. ඉමෙ’පි චන්දිමසුරියෙ එවංමහිද්ධිකෙ එවංමහානුභාවෙ පාණිනා පරාමසති පරිමජ්ජති. යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති

56. සෙය්‍යථාපි කෙවඩ්ඪ දක්ඛො කුම්භකාරො වා කුම්භකාරන්තෙවාසී වා සුපරිකම්මකතාය මත්තිකාය යං යදෙව භාජනවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය–

54. හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් නොමැති වූ කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ (ඍද්ධි ඉපැදවීමට යොග්‍ය වූ) කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, මනෝමය ශරීරයක් මවා පානු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ මේ සිරුරෙන් රූපී වූ, සියලු අඟපසඟින් යුත්, විකල නො වූ ඉඳුරන් ඇති මනෝමය ශරීරයක් මවා පායි. කෙවඩ්ඩය, යම්සේ පුරුෂයෙක් මුඳුතණගසෙකින් තණකූර (=තණ බඩය) ඇද මෑත් කරන්නේ ද, ඔහුට 'මේ මුඳුතණගස ය, මේ එහි තණබඩ ය, තණ ගස එකෙකි, එහි බඩය අනෙකෙකි, මුඳුතණ ගසකෙරෙන් ම එහි කූර (බඩය) මෑත් කරන ලද්දේ යැ' යි මෙසේ සිතෙක් වන්නේ ද, කෙවඩ්ඩය, යම්සේ පුරුෂයෙක් කඩුවක් කොපුවෙන් ඇද මෑත් කරන්නේ ද, ඔහුට 'මේ කඩුව ය, මේ කොපුව ය, කඩුව එකෙක, කොපුව අනෙකෙක, කොපුයෙන් ම කඩුව ඇද මෑත් කරන ලද්දේ යැ'යි මෙසේ සිතෙක් වන්නේ ද, කෙවඩ්ඩය, යම්සේ වනාහි පුරුෂයෙක් නයකු සැවයෙන් ඇද වෙන් කරන්නේ ද, ඔහුට 'මේ නයා ය, මේ සැව ය, නයා එකෙක, සැවය අනෙකෙක, සැවය කෙරෙන් ම නයා ඇද වෙන් කරන ලද්දේ යැ'යි මෙසේ සිතෙක් වන්නේ ද, කෙවඩ්ඩය, එපරිද්දෙන් ම මහණ තෙම මෙසේ සිත සමාධිගත වැ පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පත් කල්හි, මනෝමය ශරීරයක් මවා පානු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ මේ ශරීරයෙන් රූපී වූ මනෝමය වූ සියලු අඟපසඟින් යුත් වූ අවිකල ඉඳුරන් ඇති අන් සිරුරක් මවා පායි. කෙවඩ්ඩය, මහණ තෙම මෙසේ සමාධිගත සිත පිරිසිදු වූ කල්හි රූපී වූ මනෝමය වූ සියලු අඟපසඟින් යුත් වූ අවිකල ඉඳුරන් ඇති අන් සිරුරක් මවා පායි යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි

55 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශයන් පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය(=ඍද්ධියට යොග්‍ය) කල්හි, ස්ථිර කල්හි, නිශ්චලභවයට පැමිණි කල්හි, ඍද්ධිවිධඥානය පිණිස (අභිඥපාදක) පරිකර්ම සිත මෙහෙයයි, නැඹුරු කෙරෙයි හේ අනෙකවිධ වූ ඍද්ධිවිධය (ඍද්ධි කොට්ඨාසය) නැවත නැවත අනුභව කෙරෙයි (ශරීරයෙන් නාම කායින් ස්පර්ශ කෙරෙයි, ප්‍රත්‍යක්ෂ කෙරෙයි, ලබයි) පියෙවියෙන් එකෙක් වැ සිටැ ද (ඍද්ධි බලයෙන්) බහු ප්‍රකාර ද වී යළි දු එකෙක් වෙයි තමාගේ ප්‍රකට බව කෙරෙයි (පෙනී සිටී) අප්‍රකට බව කෙරෙයි (නොපෙනී සිටියි) බිත්තියෙන් පිටතට, පවුරෙන් පිටතට, පර්වතයෙන් පිටතට, අහසෙහි මෙන් කිසිවෙක නො ගැටෙනුයේ මැදින් විනිවිද යෙයි දියෙහි මෙන් පොළො-වෙහි ද යටට බැසීම (ගිලීම), උඩට නැඟීම (මතු වීම) කෙරෙයි නො බිඳෙන (යට නො බස්නා) දියෙහි පොළොවෙහි සේ යෙයි පක්ෂ ඇති සකුණයකු මෙන් අහසෙහි ද පලඟින් (=ඌරුබද්ධාසනයෙන්) යෙයි. මෙසේ මහර්ද්ධි ඇති මහත් අනුභාව ඇති මේ සඳ හිරු දෙදෙනා ද අතින් පරාමර්ශන කෙරෙයි (=අල්ලයි), (ඔබමොබ අත යවා) පිරිමදියි. බඹලොව තෙක් ද (සියල්ල) කයින් වශයෙහි පවත්වයි

56. කෙවඩ්ඩය, යම්සේ දක්ෂ කුඹලෙක් හෝ කුඹලක්හුගේ අතවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ (=සකස් කළ) මැටියෙන් යම් යම් භාජන විශේෂයක් කැමැත්තේ නම්, ඒ ඒ දැය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද-

සෙය්‍යථා වා පන කෙවඩ්ඪ දක්ඛො දන්තකාරො වා දන්තකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං දන්තස්මිං යං යදෙව දන්තවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය, සෙය්‍යථා වා පන කෙවඩ්ඪ දක්ඛො සුවණ්ණකාරො වා සුවණ්ණකාරන්තෙවාසී වා සුපරිකම්මකතස්මිං සුවණ්ණස්මිං යං යදෙව සුවණ්ණවිකතිං ආකඞ්ඛෙය්‍ය තං තදෙව කරෙය්‍ය අභිනිප්ඵාදෙය්‍ය, එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ඉද්ධිවිධාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං ඉද්ධිවිධං පච්චනුභොති. එකො'පි හුත්වා බහුධා හොති -පෙ- යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති. යම්පි කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ-පෙ-යාව බ්‍රහ්මලොකාපි කායෙන වසං වත්තෙති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය.

57 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච සෙය්‍යථාපි කෙවඩ්ඪ පුරිසො අද්ධානමග්ගපටිපන්නො, සො සුණෙය්‍ය භෙරිසද්දම්පි මුදිඞ්ගසද්දම්පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දම්පි, තස්ස එවමස්ස. භෙරිසද්දො ඉති'පි මුදිඞ්ගසද්දො ඉති'පි සඞ්ඛපණවදෙණ්ඩිමසද්දො ඉති'පි, එවමෙව ඛො කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ දිබ්බාය සොතධාතුයා චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බාය සොතධාතුයා විසුද්ධාය අතික්කන්තමානුසිකාය උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච

58. යම්පි කෙවඩ්ඪ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- උභො සද්දෙ සුණාති දිබ්බෙ ච මානුසෙ ච යෙ දූරෙ සන්තිකෙ ච, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

කෙවඩ්ඪය, යම්සේ දක්ෂ දන්තකාරයෙක් (ඇත්දතින් විසිතුරු රූ ඈ කරන්නෙක්) හෝ දන්තකාරයක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ දතෙහි යම් යම් දන්තවිකෘතියක් තමා කැමැති නම්, ඒ ඒ දූය ම කරන්නේ ද නිපදවන්නේ ද, කෙවඩ්ඪය, යම්සේ දක්ෂ රන්කරුවෙක් හෝ රන්කරුවක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ රනෙහි යම් යම් සුවර්ණවිකෘතියක් තමා කැමැත්තේ නම්, එය.එය ම කරන්නේ ද, නිපදවන්නේ ද, එසේ ම කෙවඩ්ඪය, මහණ මෙසේ සමාහිත සිත පිරිසිදු කල්හි, පර්‍යවදාත කල්හි, අංගණ රහිත කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය කල්හි, ස්ථිත කල්හි, අචල බවට පැමිණ සිටි කල්හි ඍද්ධිවිධය පිණිස සිත යොමු කෙරෙයි, තමා ලසි ගේ එකෙක් වැ බොහෝ පරිදි වේ බඹලොව තෙක් ද කයින් වශය පවත්වයි යන අනෙකවිධ ඍද්ධිවිධ අනුභව කෙරෙයි කෙවඩ්ඪය, මහණ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි .බඹලොව දක්වා ද කයින් වශය පවත්වයි, අනෙකවිධ ඍද්ධිවිධ අනුභව කෙරේ යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වේ.

57 හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍යශ්‍රොත්‍ර-ධාතුව පිණිස (=දිවකන් නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි, හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්ම සිටි දිව කනින් දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුරු වූ ද ළං වූ ද යන ද්විවිධ ශබ්ද ම අසයි කෙවඩ්ඪය, යම්සේ මිනිසෙක් දික් මඟකට පිළිපන්නේ ද, හේ බෙර හඬත් මිහිඟුබෙර හඬත් පණාබෙර හඬත් ගැටබෙර හඬත් යම් සේ අසන්නේ ද, ඒ අසන ඔහුට මේ බෙර හඬැයි කියාත් මේ මිහිඟුබෙර හඬැ යි කියාත් මේ සක් හඬ යැ, මේ පණාබෙර හඬ යැ, මේ ගැටබෙර හඬ යැ යි කියාත් මෙසේ සිතෙක් වන්නේ ද, කෙවඩ්ඪය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය (කර්මක්ෂම) වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍ය-ශ්‍රොත්‍රධාතුව පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්ම් දිවකන්නුවණින් දිව්‍ය වූත් මානුෂක වූත් දුරු වූත් ළඟැ වූත් ද්විවිධ ශබ්ද අසයි.

59. කෙවඩ්ඪය, ඒ මහණ මෙසේ සමාධිගත වූ සිත පිරිසිදු වූ කල්හි දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුරු වූ ද ළඟැ වූ ද ද්විවිධ ශබ්ද අසයි යන යමෙක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වේ

59 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති· සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති. වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති. සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති. වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති. මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති. අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති. සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති. අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති. විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති. අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

60. සෙය්‍යථාපි කෙවඩ්ඩ ඉත්ථී වා පුරිසො වා දහරො වා යුවා මණ්ඩනකජාතිකො ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදකපත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය, අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය, එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති: සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති. වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති, සඞ්ඛිත්තං වා චිත්තං -පෙ- වික්ඛිත්තං වා චිත්තං -පෙ- මහග්ගතං වා චිත්තං -පෙ- අමහග්ගතං වා චිත්තං -පෙ- සඋත්තරං වා චිත්තං -පෙ- අනුත්තරං වා චිත්තං -පෙ- සමාහිතං වා චිත්තං -පෙ- අසමාහිතං වා චිත්තං -පෙ- විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

61 යම්පි කෙවඩ්ඩ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය.

59. ඔහු මෙසේ එකඟ වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, චේතස්පර්‍ය්‍යායඥානය පිණිස (=අනුන්ගේ සිත පිරිසිඳ දන්නා නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි. හේ අන් සත්ත්වයන්ගේ අන් පුද්ගලයන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනියි රාග සහිත සිත රාග සහිත සිතැ යි දනියි. රාග රහිත සිත රාග රහිත සිතැ යි දනියි. ද්වේෂ සහිත සිත ද්වේෂ සහිත සිතැයි දනී ද්වේෂරහිත සිත ද්වේෂරහිත සිතැ යි දනී. මෝහසහිත සිත මෝහසහිත සිතැ යි දනී මෝහරහිත සිත මෝහරහිත සිතැ යි දනී සංක්ෂිප්ත (=හැකුළුණු) සිත හැකුළුණු සිතැ යි දනී වික්ෂිප්ත (=විසුරුණු) සිත විසුරුණු සිතැ යි දනී. මහද්ගත සිත මහද්ගත සිතැ යි දනී. අමහද්ගත සිත අමහද්ගත සිතැ යි දනී සොත්තර සිත සොත්තර සිතැ යි දනී අනුත්තර සිත අනුත්තර සිතැ යි දනී සමාහිත සිත සමාහිත සිතැ යි දනී අසමාහිත සිත අසමාහිත සිතැ යි දනී විමුක්ත (=මිදුණු) සිත විමුක්ත සිතැ යි දනී අවිමුක්ත (=නොමිදුණු) සිත අවිමුක්ත සිතැ යි දනී

60. කෙවඩ්ඪය, යම්සේ සැරසෙනසුලු ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ළදරුවෙක් හෝ තරුණයෙක් හෝ පිරිසිදු දීප්තිමත් කැඩපතෙක හෝ පහන් දියබඳුනෙක හෝ සිය මුවසටහන පිරික්සා බලන්නේ තල-කැලැල් ආදි දොස් ඇති තැන් සදොස් තැනැ යි දන්නේ ද, එ කී දොස් නැති තැන දොස් නැතැ යි දන්නේ ද, කෙවඩ්ඪය, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පරසිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සතුන්ගේ, අන් පුඟුලන්ගේ සිත සියසිතින් පිරිසිඳැ දනී. සරාග සිත සරාග සිතැ යි දනී. වීතරාග සිත වීතරාග සිතැ යි දනී. සද්වේෂ සිත සද්වේෂ සිතැ යි දනී. වීතද්වේෂ සිත වීතද්වේෂ සිතැ යි දනී සමෝහ සිත සමෝහ සිතැ යි දනී, වීතමෝහ සිත වීතමෝහ සිතැ යි දනී සංක්ෂිප්ත සිත සංක්ෂිප්ත සිතැ යි දනී. වික්ෂිප්ත සිත වික්ෂිප්ත සිතැ යි දනී. මහද්ගත සිත මහද්ගත සිතැ යි . අමහද්ගත සිත අමහද්ගත සිතැ යි .. සොත්තර සිත සොත්තර සිතැ යි . අනුත්තර සිත අනුත්තර සිතැ යි සමාහිත සිත සමාහිත සිතැ යි ... අසමාහිත සිත අසමාහිත සිතැ යි . විමුක්ත සිත විමුක්ත සිතැ යි .. අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි දනී.

61. කෙවඩ්ඪය, මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු වූ කල්හි .. අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි දනී යන යමක් ඇද්ද, මේ ත් ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි.

62. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙ-නිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො අනෙක-විහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං: එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්ච'පි ජාතියො දස'පි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ 'අමුත්‍රාසිං එවං-නාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවං සුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො අමුත්‍ර උපපාදිං තත්‍රාපාසිං එවං-නාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො'ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති.

63. සෙය්‍යථාපි කෙවඩ්ඩ පුරිසො සකම්හා ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, තම්හා'පි ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, සො තම්හා ගාමා සකංයෙව ගාමං පච්චාගච්ඡෙය්‍ය, තස්ස එවමස්ස 'අහං ඛො සකම්හා ගාමා අමුං ගාමං අගච්ඡිං තත්‍ර එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං. තම්හාපි ගාමා අමුං ගාමං අගච්ඡිං තත්‍රාපි එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං සො'ම්හි තම්හා ගාමා සකංයෙව ගාමං පච්චාගතො'ති. එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං. එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්චපි ජාතියො දස'පි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ 'අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො අමුත්‍ර උපපාදිං තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො'ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙ-නිවාසං අනුස්සරති යම්පි කෙවඩ්ඩ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය.

62 හෙ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පත් කල්හි, පූර්වේ-නිවාසානුස්මෘති ඥානය (=පෙර වුසු කඳ පිළිවෙළ දක්නා නුවණ) ලබනු පිණිස සිත යොමු කෙරෙයි හේ එක් ජාතියක් ද ජාති දෙකක් ද ජාති තුනක් ද ජාති සතරක් ද ජාති පසක් ද ජාති දසයක් ද ජාති විස්සක් ද ජාති තිසක් ද ජාති සතළිසක් ද ජාති පනසක් ද ජාති සියක් ද ජාති දහසක් ද ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද, බොහෝ විවර්ත කල්ප ද, බොහෝ සංවර්ත විවර්ත කල්ප ද, "අසෝ තන්හි මෙ නම් ඇතියෙම් වීමි මෙ ගොත් ඇතියෙම් වීමි මෙ බඳු පැහැ ඇතියෙම් වීමි මෙ බඳු ආහාර ඇතියෙම් වීමි මෙ බඳු සුව දුක් විඳින්නෙම් වීමි මෙ බඳු (මෙතෙක්) ආයු කෙළවර කොට ඇතියෙම් වීමි ඒ මම එයින් සැවැ අසෝ තැන උපනිමි. එහි ද මෙ නම් ඇතියෙම් වීමි මෙ ගොත් ඇතියෙම් වීමි. මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීමි මෙ බඳු ආහාර ඇතියෙම් වීමි. මෙ බඳු සුවදුක් විඳින්නෙම් වීමි මෙතෙක් ආයු සීමාවක් ඇතියෙම් වීමි. ඒ මම් එයින් සැව මෙහි උපනිමි"යි මෙසේ අනෙකවිධ වූ පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි මෙසේ වර්ණාදි වශයෙන් ආකාර සහිත වූ නම්ගොත් විසින් උද්දෙශ සහිත වූ බහුවිධ වූ පූර්වේනිවාසය සිහි කෙරෙයි.

63. කෙවඩ්ඪය, යම්සේ පුරුෂයෙක් සිය ගමින් අන් ගමකට යන්නේ ද, ඒ ගමිනුත් අන් ගමකට යන්නේ ද, (නැවත) හේ එ ගමින් සිය ගමට ම වටාලා එන්නේ ද, එසේ වූ ඔහුට "මම වූ කලි සිය ගමින් අසෝ ගමට ගියෙමි එහි මෙසේ සිටියෙමි, මෙසේ උන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ ගමිනුත් අසෝ ගමට ගියෙමි. එහි ද මෙසේ සිටියෙමි, මෙසේ උන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ මම ඒ ගමින් සිය ගමට ම පෙරළා ආයෙම් වෙමි"යි ඔහුට මෙ බඳු සිතෙක් වන්නේ ද, කෙවඩ්ඪය, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි, දීප්ත කල්හි, කෙලෙස් රහිත කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පෙර වුසු කඳ පිළිවෙළ සිහි කරන නුවණ පිණිස සිත මොනො-වට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි. හේ 'අසෝ තන්හි මෙ නම් ඇතියෙම් වීමි, මෙ බඳු ගොත ඇතියෙම් වීමි, මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීමි, මෙ බඳු ආහාර ඇතියෙම් වීමි, මෙ බඳු සුවදුක් විඳු-නෙම් වීමි, මෙ බඳු ආයුසීමා ඇතියෙම් වීමි, ඒ මම් එයින් සැව අසෝ තැන උපනිමි. එහි ද මෙ නම් ඇතියෙම්, මෙ ගොත් ඇතියෙම්, මෙ බඳු පැහැසටහන් ඇතියෙම්, මෙ බඳු ආහාර ඇතියෙම්, මෙ බඳු සුවදුක් විඳින්නෙම් වීමි, මෙතෙක් ආයු සීමා ඇතියෙම් වීමි. ඒ මම් එයින් සැවැ මෙහි උපනිමි'යි මෙසේ එක් ජාතියක් ද, ජාති දෙකක් ද, ජාති තුනක් ද, ජාති සතරක් ද, ජාති පසක් ද, ජාති දසයක් ද, ජාති විස්සක්ද, ජාති තිසක් ද, ජාති සතළිසක් ද, ජාති පනසක් ද, ජාති සියයක් ද, ජාති දහසක් ද, ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද, බොහෝ විවර්ත කල්ප ද, බොහෝ සංවර්ත විවර්ත කල්ප ද යි මෙසේ අනෙකවිධ වූ පෙර වුසු කඳ පිළිවෙළ සිහි කෙරෙයි මෙ පරිද්දෙන් ආකාර සහිත වූ උද්දෙශ සහිත වූ පෙර වුසු නොයෙක් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි කෙවඩ්ඪය, මහණ තෙම මෙසේ සමාහිත සිත පිරිසිදු වූ කල්හි ..අනෙකවිධ වූ පෙර වුසු කඳපිළිවෙළ සිහි කෙරෙයි යන යමෙක් ඇද්ද, මෙ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි.

64. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති. 'ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති

65 සෙය්‍යථාපි කෙවඩ්ඩ මජ්ඣෙ සිංඝාටකෙ පාසාදෙ තත්‍ථ චක්ඛුමා පුරිසො ඨිතො පස්සෙය්‍ය මනුස්සෙ ගෙහං පවිසන්තෙ'පි රථියා වීථිසඤ්චරන්තෙ'පි මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නෙ'පි තස්ස එවමස්ස· එතෙ මනුස්සා ගෙහං පවිසන්ති එතෙ නික්ඛමන්ති එතෙ රථියා වීථිසඤ්චරන්ති එතෙ මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නා'ති එවමෙව ඛො කෙවඩ්ඩ භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති: ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා. තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා' ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති.

64 හේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු කල්හි, දීප්ත කල්හි, කෙලෙස් නැති කල්හි, උපක්ලේශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිර කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දර්ශනොපචාරය ඉක්මැ දක්කැ හැකි දිවැසින්, 'අහෝ! මේ භවත් සත්ත්වයෝ කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්‍ය්‍යෝපවාද කළහ, මිසදිටු වශයෙන් ගත් මිථ්‍යාව්‍රත ඇතියහ ඒ මොහු කරජකය බිඳීමෙන් මරණින් මතු සැපයෙන් පහ වූ, දුෂ්ටකර්ම හෙතුයෙන් හටගත් ගතිය වූ, (කර්මයට තමන් පරවශ බැවින්) තමනට අවශ වැ වැටෙන තැන වූ නිරයට වන්නාහ මේ භවත් සත්ත්වයෝ වූ කලී කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃසුචරිතයෙන් සමන්විතයහ, ආර්‍ය්‍යයනට උපවාද නො කළහ, සම්දිටු ගත්තාහ, සම්දිටු වශයෙන් ගත් ශීලාදිය ඇත්තාහ ඒ මොහු කාබුන් මරණින් මතු ශොභන වූ ගති ඇති සගලොවට වන්නාහ' යි මරණාසන්න වූ ද, එකෙණෙහි පිළිසිඳ ගත්තා වූ ද, හීන වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නොමනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියා වූ ද, දුගතියට පැමිණියා වූ ද, කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගියා වූ ද සත්ත්වයන් දකී මෙසේ හේ පිරිසිදු වූ, මානුෂක විෂය ඉක්මැ පැවැති දිවැසින් හීන ප්‍රණීත, සුවර්ණ දුර්වර්ණ, සුගත දුර්ගත සත්ත්වයන් දකී කර්මය වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකී

65 කෙවඩ්ඪය, යම්සේ සතර මං හන්දියෙක මහල් සහිත ගෙයෙක් වන්නේ ද, එහි උඩු මහලෙහි ඇස් ඇති පුරුෂයෙක් සිටියේ ගෙට පිවිසෙනවුනුත් ගෙන් නික්මෙනවුනුත් වීථියෙහි ඇත මෑත යන එනවුනුත්, සිව්මංහන්දිය මැද හුන්නවුනුත් දක්නේ ද, ඒ දක්නා ඔහුට "මේ මිනිස්සු ගෙට පිවිසෙත්, මේ මිනිස්සු ගෙන් නික්මෙත්, මේ මිනිස්සු වීදියෙහි ඇත මෑත යෙත්, මොහු සිව්මංහන්දිය මැද උන්නෝ වෙත් යැ" යි මෙසේ සිතෙක් වන්නේ ද, කෙවඩ්ඪය, එ පරිදි ම එ මහණ තෙමේ මෙසේ සමාහිත වූ සිත පිරිසිදු කල්හි දීප්තිමත් කල්හි කෙලෙස් නැති කල්හි උපක්ලේශ පහ වූ කල්හි මෘදු කල්හි කර්මක්ෂම කල්හි ස්ථිර කල්හි නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ ලබනු පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ මානුෂක විෂයය ඉක්මී පිරිසිදු වූ දිවැසින් "අහෝ! මේ භවත් සත්හු කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්‍ය්‍යයනට උපවාද කළහ, මිසදිටුවහ, මිසදිටු වශයෙන් ගත් ව්‍රත ඇතියහ ඒ මොහු කා බුන් මරණින් මතු, සැපයෙන් පහ වූ, දුෂ්ට කර්මයෙන් උපන් ගතිය වූ, තමනට තමන් අවශග වැ වැටෙන තැන වූ නිරයට වත්හ එහෙත් මේ භවත් සත්ත්වයෝ වූ කලී කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃසුචරිතයෙන් සමන්විතයහ, ආර්‍ය්‍යයනට උපවාද නො කළහ, සම්දිටු ගත්හ, සම්දිටු විසින් ගත් ශීලාදිය ඇත්තාහ මොහු කා බුන් මරණින් මතු ශොභන ගති ඇති සගලොවට වන්නාහ"යි මෙසේ මරණාසන්න වූ ද, එකෙණෙහි පිළිසඳ ගත්තාවූ ද, පහත් වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නො මනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියා වූ ද, දුගතියට පැමිණියා වූ ද කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගිය සත්ත්වයන් දකී මෙසේ පිරිසිදු වූ, මානුෂක විෂයය ඉක්මැ පැවැති දිවැසින් හීන ප්‍රණීත සුවර්ණ දුර්වර්ණ සුගත දුර්ගත සත්ත්වයන් දකී කම් වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකී

70. අථ ඛො සො කෙවඩ්ඪ භික්ඛු යෙන චත්තාරො මහාරාජානො තෙනුපසඞ්කමි. උපසඞ්කමිත්වා චත්තාරො මහාරාජෙ එතදවොච: කත්ථ නු ඛො ආවුසො ඉමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූති?

71. එවං වුත්තෙ කෙවඩ්ඪ චත්තාරො මහාරාජානො තං භික්ඛුං එතදවොචුං· මයම්පි ඛො භික්ඛු න ජානාම යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං? පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූති අත්ථි ඛො භික්ඛු තාවතිංසා නාම දෙවා අම්හෙහි අභික්කන්තතරා ච පණීතතරා ච තෙ ඛො එතං ජානෙය්‍යුං යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති.

72. අථ ඛො සො කෙවඩ්ඪ භික්ඛු යෙන තාවතිංසා දෙවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා තාවතිංසෙ දෙවෙ එතදවොච: කත්ථ නු ඛො ආවුසො ඉමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති? එවං වුත්තෙ කෙවඩ්ඪ තාවතිංසා දෙවා තං භික්ඛුං එතදවොචුං මයම්පි ඛො භික්ඛු න ජානාම යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං· පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති. අත්ථි ඛො භික්ඛු සක්කො නාම දෙවානමින්දො අම්හෙහි අභික්කන්තතරො ච පණීතතරො ච. සො ඛො ජානෙය්‍ය යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති

73. අථ ඛො සො කෙවඩ්ඪ භික්ඛු යෙන සක්කො දෙවානමින්දො තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා සක්කං දෙවානමින්දං එතදවොච· කත්ථ නු ඛො ආවුසො ඉමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං· පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති; එවං වුත්තෙ කෙවඩ්ඪ සක්කො දෙවානමින්දො තං භික්ඛුං එතදවොච අහම්පි ඛො භික්ඛු න ජානාමි යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති. අත්ථි ඛො භික්ඛු යාමා නාම දෙවා අම්හෙහි අභික්කන්තතරා ච පණීතතරා ච. තෙ ඛො එතං ජානෙය්‍යුං යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති.

74. අථ ඛො සො කෙවඩ්ඪ භික්ඛු යෙන යාමා දෙවා තෙනුපසඞ්කමි උපසඞ්කමිත්වා යාමෙ දෙවෙ එතදවොච· කත්ථ නු ඛො ආවුසො ඉමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති? එවං වුත්තෙ කෙවඩ්ඪ යාමා දෙවා තං භික්ඛුං එතදවොචුං. මයම්පි ඛො භික්ඛු න ජානාම යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති අත්ථි ඛො භික්ඛු සුයාමො නාම දෙවපුත්තො අම්හෙහි අභික්කන්තතරො ච පණීතතරො ච සො ඛො එතං ජානෙය්‍ය යත්ථිමෙ චත්තාරො මහාභූතා අපරිසෙසා නිරුජ්ඣන්ති, සෙය්‍යථීදං පඨවිධාතු ආපොධාතු තෙජොධාතු වායොධාතූ'ති.

70 කෙවඩ්ඩය, ඉක්බිති ඒ මහණ සිවුවරම් රජුන් කරා එළැඹියේ ය. එළැඹ "ඇවැත්නි, පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහා-භූතයෝ කොතන්හි දී නො ඉතිරි වැ නිරුද්ධ වෙත් ද?" යි විචාළේ ය.

71 කෙවඩ්ඩය, ඔහු මෙසේ විචාළ කල්හි සිවුවරම් රජදරුවෝ ඒ මහණහු බණවා, "මහණ, පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහාභූතයෝ කොතන්හි දී නො ඉතිරි ව නිරුද්ධ වෙද්දැ'යි මේ කාරණය අපි දු නො දනුම්හ මහණ, අපට වඩා පැහැසපුව ඇති, අපට වඩා උසස් වූ තෙතිස් නම් දෙව් කෙනෙක් ඇත 'පඨවි ආදි මේ සතර මහාභූතයෝ කොහි නිරුද්ධ වෙත් ද යන මෙය ඔහු නම් දන්නාහ යි සිතමු' යි කීහ

72 කෙවඩ්ඩය, ඉක්බිති ඒ මහණ තෙතිස් දෙවියන් කරා ගියේ ය ගොස් 'ඇවැත්නි, පඨවි ආපො තෙජො වායො යන මේ මහාභූත සතර කොහි දී නොඉතිරි ව නිරුද්ධ වෙත් ද?' යි විචාළේ ය කෙවඩ්ඩය, ඔහු මෙසේ විචාළ කල්හි තෙතිස් දෙවියෝ ඒ මහණ බණවා, "මහණ, පඨවි ආපො තෙජො වායො යන සතර මහාභූතයෝ කොහි දී නො ඉතිරි වැ නිරුද්ධ වෙද්ද යන මෙය අපි දු නො දනුම්හ. මහණ, අපට වඩා පැහැසපුව ඇති, අපට වඩා උතුම් වූ සක්දෙවිඳු නම් කෙනෙක් ඇත ඔහු පඨවි ආදි මේ සතර මහාභූතයන් නො ඉතිරි ව නිරුද්ධ වන තැන දනිති යි සිතම්හ'යි කිවු ය

73 කෙවඩ්ඩය, ඉක්බිති ඒ මහණ සක්දෙවිඳු කරා එළැඹියේ ය. එළැඹ 'ඇවැත්නි, පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහා-භූතයෝ කොහි දී නො ඉතිරි වැ නිරුද්ධ වෙත් ද?"යි විචාළේ ය කෙවඩ්ඩය, ඔහු මෙසේ විචාළ කල්හි සක්දෙවිඳු ඒ මහණ බණවා, 'මහණ, පඨවි ආපො තෙජො වායො යන සතර මහාභූතයෝ නො ඉතිරි වැ කොහි නිරුද්ධ වෙද්දැ' යි මම් ද නො දනිමි මහණ, අපට වඩා පැහැසපුව ද ඇති, අපට වඩා උතුම් ද වූ යාම නම් දෙව් කෙනෙක් ඇත පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහා භූතයන් නො ඉතිරි ව නිරුද්ධ වන තැන ඔවුන් දනිතැ යි සිතමි" යි කී ය.

74 කෙවඩ්ඩය, ඉක්බිති ඒ මහණ යාම දෙවියන් වෙත ගියේ ය. ගොස් 'ඇවැත්නි, පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහා-භූතයෝ නො ඉතිරි වැ කොහි දී නිරුද්ධ වෙත් ද?"යි මෙය විචාළේ ය කෙවඩ්ඩය, ඔහු මෙසේ විචාළ කල්හි යාම දෙවියෝ ඒ මහණ බණවා, "මහණ, පඨවි ආපො තෙජො වායො යන මේ සතර මහාභූතයෝ නොඉතිරි ව කොහි නිරුද්ධ වෙත් දැ"යි මෙය අපි ද නො දනුම්හ. මහණ, අපට වඩා පැහැසපුව ඇති, අපට වඩා උතුම් වූ සුයාම නම් දෙව්පුතෙක් ඇත ඔහු පඨවි ආදි මෙ සතර මහාභූතයන් නො ඉතිරි වැ නිරුද්ධ වන තැන දනිතැ'යි අපි සිතම්හ'යි කිවු ය

77. ලොහිච්චය, යම්සේ දක්‍ෂ කුඹලෙක් හෝ කුඹලක්හුගේ අතැ-වැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ (=සකස් කළ) මැටියෙන් යම් යම් භාජන විශෙෂයක් කැමැත්තේ නම්, ඒ ඒ දැය ම කරන්නේ ද, මොනොවට නිපදවන්නේ ද- ලොහිච්චය, යම්සේ දක්‍ෂ දන්තකාරයෙක් (ඇත්දතින් විසිතුරු රූ ඇ කරන්නෙක්) හෝ දන්තකාරයක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ දතෙහි යම් යම් දන්තවිකෘතියක් තමා කැමැති නම්, ඒ ඒ දැය ම කරන්නේ ද නිපදවන්නේ ද- ලොහිච්චය, යම්සේ දක්‍ෂ රන්කරුවෙක් හෝ රන්කරුවක්හු අතැවැස්සෙක් හෝ මොනොවට පිරියම් කළ රනෙහි යම් යම් සුවර්ණවිකෘතියක් තමා කැමැත්තේ නම්, එය එය ම කරන්නේ ද, නිපදවන්නේ ද- එසේ ම ලොහිච්චය, මහණ තෙම මෙසේ සමාහිත සිත පිරිසිදු කල්හි, පර්‍යවදාත කල්හි, අංගණ රහිත කල්හි, උපක්ලෙශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය කල්හි, ස්ථිත කල්හි, අචල බවට පැමිණැ සිටි කල්හි සෘද්ධිවිධය පිණිස සිත යොමු කෙරෙයි, තමා ලසි. හේ එකෙක් වැ බොහෝ පරිදි වේ බඹලොව තෙක් ද කයින් වශය පවත්වයි යන අනෙකවිධ සෘද්ධිවිධ අනුභව කෙරෙයි ලොහිච්චය, මහණ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වූ කල්හි බඹලොව දක්වා ද කයින් වශය පවත්වයි, අනෙකවිධ සෘද්ධිවිධ අනුභව කෙරේ යන යමක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥවෙක් වේ

78. ලොහිච්චය, යම් ශාස්තෘවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු මහත් ගුණවෙශෙෂයකට පැමිණේ නම්, මේ ද ලොවැ චොදනාහී නො වූ ශාස්තෘවරයෙකි යමෙක් මෙබඳු ශාස්තෘහට චොදනා කෙරේ නම්, ඒ චෝදනාව අභූත ය, අතථ්‍ය ය, අධාර්මික ය, සාවද්‍ය ය

79 හේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලෙශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍යශ්‍රොත්‍ර-ධාතුව පිණිස (=දිව්‍යකන් නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, තැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්ම සිටි දිව්‍යකනින් දිව්‍ය වූ ද මානුෂක වූ ද දුරු වූ ද, ළඟැ වූ ද දෙවිධ ශබ්ද ම අසයි. ලොහිච්චය, යම්සේ මිනිසෙක් දික් මඟකට පිළිපන්නේ ද, හේ බෙර හඬත් මිහිඟුබෙර හඬත් පණාබෙර හඬත් ගැටබෙර හඬත් යම් සේ අසන්නේ ද, ඒ අසන ඔහුට මේ බෙර හඬැයි කියාත් මේ මිහිඟුබෙර හඬැ යි කියාත් මේ සක් හඬ යැ, මේ පණාබෙර හඬ යැ, මේ ගැටබෙර හඬ යැ යි කියාත් මෙසේ සිතෙක් වන්නේ ද, ලොහිච්චය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත වූ වැ පිරිසිදු වූ කල්හි, දීප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලෙශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මණ්‍ය (කම්ක්‍ෂම) වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, දිව්‍ය-ශ්‍රොත්‍රධාතුව පිණිස සිත යොමු කෙරෙයි, තැඹුරු කෙරෙයි හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ ශ්‍රවණොපචාරය ඉක්මි දිව්‍යකන්නුවණින් දිව්‍ය වූත් මානුෂක වූත්, දුරු වූත් ළඟැ වූත් දෙවිධ ශබ්ද අසයි

80 ලොහිච්චය, ඒ මහණ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වූ කල්හි දිව්‍ය වූ ද මානුෂක වූ ද, දුරු වූ ද ළඟැ වූ ද දෙවිධ ශබ්ද අසයි යන යමෙක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥවෙක් වේ

81. යස්මිං ඛො ලොහිච්ච සත්ථරි සාවකො එවරූපං උළාරං විසෙසං අධිගච්ඡති, අයම්පි ඛො ලොහිච්ච සත්ථා යො ලොකෙ න චොදනාරහො යො ච පනෙවරූපං සත්ථාරං චොදෙති, සා චොදනා අභූතා අතච්ඡා අධම්මිකා සාවජ්ජා

82 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතො-පරියඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො පරසත්තානං පරපුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති: සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති. වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති. සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති සඞ්ඛිත්තං වා චිත්තං සඞ්ඛිත්තං චිත්තන්ති පජානාති. වික්ඛිත්තං වා චිත්තං වික්ඛිත්තං චිත්තන්ති පජානාති, මහග්ගතං වා චිත්තං මහග්ගතං චිත්තන්ති පජානාති. අමහග්ගතං වා චිත්තං අමහග්ගතං චිත්තන්ති පජානාති. සඋත්තරං වා චිත්තං සඋත්තරං චිත්තන්ති පජානාති. අනුත්තරං වා චිත්තං අනුත්තරං චිත්තන්ති පජානාති සමාහිතං වා චිත්තං සමාහිතං චිත්තන්ති පජානාති. අසමාහිතං වා චිත්තං අසමාහිතං චිත්තන්ති පජානාති. විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

83. සෙය්‍යථාපි ලොහිච්ච ඉත්ථී වා පුරිසො වා දහරො වා යුවා මණ්ඩනකජාතිකො ආදාසෙ වා පරිසුද්ධෙ පරියොදාතෙ අච්ඡෙ වා උදක-පත්තෙ සකං මුඛනිමිත්තං පච්චවෙක්ඛමානො සකණිකං වා සකණිකන්ති ජානෙය්‍ය, අකණිකං වා අකණිකන්ති ජානෙය්‍ය, එවමෙව ඛො ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ චෙතොපරිය-ඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො පරසත්තානං පර-පුග්ගලානං චෙතසා චෙතො පරිච්ච පජානාති· සරාගං වා චිත්තං සරාගං චිත්තන්ති පජානාති වීතරාගං වා චිත්තං වීතරාගං චිත්තන්ති පජානාති. සදොසං වා චිත්තං සදොසං චිත්තන්ති පජානාති වීතදොසං වා චිත්තං වීතදොසං චිත්තන්ති පජානාති සමොහං වා චිත්තං සමොහං චිත්තන්ති පජානාති වීතමොහං වා චිත්තං වීතමොහං චිත්තන්ති පජානාති සඞ්ඛිත්තං වා චිත්තං -පෙ- වික්ඛිත්තං වා චිත්තං -පෙ- මහග්ගතං වා චිත්තං -පෙ- අමහග්ගතං වා චිත්තං -පෙ- සඋත්තරං වා චිත්තං -පෙ- අනුත්තරං වා චිත්තං -පෙ- සමාහිතං වා චිත්තං -පෙ- අසමාහිතං වා චිත්තං -පෙ- විමුත්තං වා චිත්තං විමුත්තං චිත්තන්ති පජානාති අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති

84. යම්පි ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- අවිමුත්තං වා චිත්තං අවිමුත්තං චිත්තන්ති පජානාති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය

81 ලොහිච්චය, යම් ශාස්තෘවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු මහත් ගුණ වෙසෙසකට පැමිණේ නම්, ලොහිච්චය, මේ ද ලොවැ චොදනාහී නොවූ ශාස්තෘවරයෙකි යමෙක් මෙබඳු ශාස්තෘහට චොදනා කෙරේ නම්, ඒ චොදනාව අභූතය, අතථ්‍ය ය, අධාර්මික ය, සාවද්‍ය ය

82. හේ මෙසේ සිත එකඟ වැ පිරිසිදු වූ කල්හි, දිප්තිමත් වූ කල්හි, කෙලෙස් රහිත වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, චෙතස්පර්‍යායඥානය පිණිස (=අනුන්ගේ සිත පිරිසිඳ දන්නා නුවණ පිණිස) සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සත්ත්වයන්ගේ අන් පුද්ගලයන්ගේ සිත සිය සිතින් පිරිසිඳැ දනියි රාග සහිත සිත රාග සහිත සිතැ යි දනියි රාග රහිත සිත රාග රහිත සිතැ යි දනියි ද්වෙෂ සහිත සිත ද්වෙෂ සහිත සිතැයි දනී. ද්වෙෂරහිත සිත ද්වෙෂරහිත සිතැ යි දනී මොහසහිත සිත මොහසහිත සිතැ යි දනී. මොහරහිත සිත මොහරහිත සිතැ යි දනී සංක්ෂිප්ත (=හැකුළුණු) සිත හැකුළුණු සිතැ යි දනී වික්ෂිප්ත (=විසුරුණු) සිත විසුරුණු සිතැ යි දනී මහද්ගත සිත මහද්ගත සිතැ යි දනී. අමහද්ගත සිත අමහද්ගත සිතැ යි දනී සොත්තර සිත සොත්තර සිතැ යි දනී අනුත්තර සිත අනුත්තර සිතැ යි දනී සමාහිත සිත සමාහිත සිතැ යි දනී. අසමාහිත සිත අසමාහිත සිතැ යි දනී විමුක්ත (=මිදුණු) සිත විමුක්ත සිතැ යි දනී අවිමුක්ත (=නොමිදුණු) සිත අවිමුක්ත සිතැ යි දනී

83. ලොහිච්චය, යම්සේ සැරැසෙනසුලු ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ළදරුවෙක් හෝ තරුණයෙක් හෝ පිරිසිදු දීප්තිමත් කැඩපතෙක හෝ පහන් දියබඳුනෙක හෝ සිය මුවසටහන පිරික්සා බලන්නේ තල-කැලැල් ආදි දොස් ඇති තැන් සදොස් තැනැ යි දන්නේ ද, එ කී දොස් නැති තැන නිදොස් තැනැ යි දන්නේ ද, ලොහිච්චය, එ පරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති වූ කල්හි, උපක්ලේශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පරසිත් දන්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ අන් සතුන්ගේ, අන් පුග්ගලන්ගේ සිත සිය සිතින් පිරිසිඳැ දනී සරාග සිත සරාග සිතැ යි දනී වීතරාග සිත වීතරාග සිතැ යි දනී සද්වෙෂ සිත සද්වෙෂ සිතැ යි දනී වීත ද්වෙෂ සිත වීතද්වෙෂ සිතැ යි දනී සමොහ සිත සමොහ සිතැ යි දනී වීතමොහ සිත වීතමොහ සිතැ යි දනී සංක්ෂිප්ත සිත සංක්ෂිප්ත සිතැ යි දනී වික්ෂිප්ත සිත වික්ෂිප්ත සිතැයි දනී මහද්ගත සිත මහද්ගත සිතැ යි අමහද්ගත සිත අමහද්ගත සිතැ යි සොත්තර සිත සොත්තර සිතැ යි අනුත්තර සිත අනුත්තර සිතැ යි සමාහිත සිත සමාහිත සිතැ යි ... අසමාහිත සිත අසමාහිත සිතැ යි විමුක්ත සිත විමුක්ත සිතැ යි අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි දනී

84 ලොහිච්චය, මහණ තෙම මෙසේ සිත සමාහිගත වැ පිරිසිදු වූ කල්හි අවිමුක්ත සිත අවිමුක්ත සිතැ යි දනී යන යමක් ඇද්ද, මේත් ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි

85. යස්මිං ඛො ලොහිච්ච සත්ථරි සාවකො එවරූපං උළාරං විසෙසං අධිගච්ඡති, අයම්පි ඛො ලොහිච්ච සත්ථා යො ලොකෙ න චොදනාරහො. යො ච පනෙවරූපං සත්ථාරං චොදෙති, සා චොදනා අභූතා අතච්ඡා අධම්මිකා සාවජ්ජා

86. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙ-නිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො අනෙක-විහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං· එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්ච'පි ජාතියො දස'පි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි-අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ 'අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවං සුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො අමුත්‍ර උපපාදිං තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරො එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො. සො තතො චුතො ඉධූපපන්නො'ති ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති

87. සෙය්‍යථාපි ලොහිච්ච පුරිසො සකම්හා ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, තම්හා'පි ගාමා අඤ්ඤං ගාමං ගච්ඡෙය්‍ය, සො තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගච්ඡෙය්‍ය, තස්ස එවමස්ස 'අහං ඛො සකම්හා ගාමා අමුං ගාමං අගච්ඡිං. තත්‍ර එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං තම්හාපි ගාමා අමුං ගාමං අගච්ඡිං. තත්‍රාපි එවං අට්ඨාසිං එවං නිසීදිං එවං අභාසිං එවං තුණ්හී අහොසිං. සො'මහි තම්හා ගාමා සකඤ්ඤෙව ගාමං පච්චාගතො'ති. එවමෙව ඛො ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ පුබ්බෙනිවාසානුස්සතිඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති සෙය්‍යථීදං· එකම්පි ජාතිං ද්වෙ'පි ජාතියො තිස්සො'පි ජාතියො චතස්සො'පි ජාතියො පඤ්චපි ජාතියො දස'පි ජාතියො වීසම්පි ජාතියො තිංසම්පි ජාතියො චත්තාරීසම්පි ජාතියො පඤ්ඤාසම්පි ජාතියො ජාතිසතම්පි ජාතිසහස්සම්පි ජාතිසතසහස්සම්පි, අනෙකෙ'පි සංවට්ටකප්පෙ අනෙකෙ'පි විවට්ටකප්පෙ අනෙකෙ'පි සංවට්ටවිවට්ටකප්පෙ 'අමුත්‍රාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරෙ එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො අමුත්‍ර උපපාදිං තත්‍රාපාසිං එවංනාමො එවංගොත්තො එවංවණ්ණො එවමාහාරෙ එවංසුඛදුක්ඛපටිසංවෙදී එවමායුපරියන්තො සො තතො චුතො ඉධූපපන්නො'ති

85. ලොහිච්චය, යම් ශාස්තෘවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු මහත් ගුණ වෙසෙසක් ලබා නම්, ලොහිච්චය, මේ ද ලොවැ චොදනාහී නොවූ ශාස්තෘවරයෙකි යමෙක් මෙබඳු ශාස්තෘහට චොදනා කෙරේ නම්, ඒ චොදනාව අභූත ය, අතථ්‍ය ය, අධාර්මික ය, සාවද්‍ය ය

86. හෙ තෙමෙ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු වූ කල්හි, දීප්ත වූ කල්හි, කෙලෙස් නැති වූ කල්හි, උපක්ලෙශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්‍ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පත් කල්හි, පූර්වේ-නිවාසානුස්මෘති ඥානය (=පෙර වුසූ කඳ පිළිවෙල දක්නා නුවණ) ලබනු පිණිස සිත යොමු කෙරෙයි. හේ එක් ජාතියක් ද ජාති දෙකක් ද ජාති තුනක් ද ජාති සතරක් ද ජාති පසක් ද ජාති දසයක් ද ජාති විස්සක් ද ජාති තිසක් ද ජාති සතළිසක් ද ජාති පනසක් ද ජාති සියක් ද ජාති දහසක් ද ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද, බොහෝ විවර්ත කල්ප ද, බොහෝ සංවර්ත විවර්ත කල්ප ද, “අසෝ තන්හි මෙ නම් ඇතියෙම් වීම්. මෙ ගොත් ඇතියෙම් වීම් මෙබඳු පැහැ ඇතියෙම් වීම්. මෙබඳු ආහාර ඇතියෙම් වීම් මෙ බඳු සුව දුක් විඳින්නෙම් වීම් මෙ බඳු (මෙතෙක්) ආයු කෙලවර කොටැතියෙම් වීම් ඒ මම් එයින් සැවැ අසෝ තැන උපනිම් එහි ද මෙ නම් ඇතියෙම් වීම් මෙ ගොත් ඇතියෙම් වීම්, මෙ බඳු පැහැ සටහන් ඇතියෙම් වීම් මෙ බඳු ආහාර ඇතියෙම් වීම්. මෙබඳු සුවදුක් විඳින්නෙම් වීම් මෙතෙක් ආයු සීමාවක් ඇතියෙම් වීම්. ඒ මම් එයින් සැව මෙහි උපනිම්”යි මෙසේ අනෙකවිධ වූ නම් ගොත් විසින් උද්දෙශ සහිත වූ බහුවිධ වූ පූර්වේනිවාසය සිහි කෙරෙයි.

87. ලොහිච්චය, යම්සේ පුරුෂයෙක් සිය ගමින් අන් ගමකට යන්නේ ද, ඒ ගමිනුත් අන් ගමකට යන්නේ ද, (නැවත) හේ එගමින් සිය ගමට ම වටාලා එන්නේ ද, එසේ වූ ඔහුට “මම් වූ කලී සිය ගමින් අසෝ ගමට ගියෙමි එහි මෙසේ සිටියෙමි, මෙසේ හුන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි. ඒ ගමිනුත් අසෝ ගමට ගියෙමි. එහි ද මෙසේ සිටියෙමි, මෙසේ උන්නෙමි, මෙසේ කීමි, මෙසේ නිහඬ වීමි ඒ මම් ඒ ගමින් සිය ගමට ම පෙරලා ආයෙම් වෙම්”යි ඔහුට මෙ බඳු සිතෙක් වන්නේ ද – ලොහිච්චය, එපරිද්දෙන් ම මහණ තෙමෙ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු කල්හි, දීප්ත කල්හි, කෙලෙස් රහිත කල්හි, උපක්ලෙශ පහ වැ ගිය කල්හි, මෘදු වූ කල්හි, කර්මක්‍ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, පෙර වුසූ කඳ පිළිවෙල සිහි කරන නුවණ පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි. හේ එක් ජාතියක් ද, ජාති දෙකක් ද, ජාති තුනක් ද, ජාති සතරක් ද, ජාති පසක් ද, ජාති දසයක් ද, ජාති විස්සක් ද, ජාති තිසක් ද, ජාති සතළිසක් ද ජාති පනසක් ද, ජාති සියයක් ද, ජාති දහසක් ද, ජාති සුවහසක් ද, බොහෝ සංවර්ත කල්ප ද, බොහෝ විවර්ත කල්ප ද, බොහෝ සංවර්ත විවර්ත කල්පද, “අසෝ තන්හි මෙ නම් ඇතියෙම් වීම්, මෙ බඳු ගොත් ඇතියෙම් වීම්, මෙ බඳු පැහැ ඇතියෙම් වීම්, මෙ බඳු ආහාර ඇතියෙම් වීම්, මෙ බඳු සුවදුක් විඳුනෙම් වීම්, මෙ බඳු ආයු සීමා ඇතියෙම් වීම්, ඒ මම් එයින් සැව අසෝ තැන උපනිම් එහි ද මෙ නම් ඇතියෙම්, මෙ ගොත් ඇතියෙම්, මෙ බඳු පැහැසටහන් ඇතියෙම් මෙ බඳු ආහාර ඇතියෙම්, මෙ බඳු සුවදුක් විඳින්නෙම් වීම්, මෙතෙක් ආයු සීමා ඇතියෙම් වීම් ඒ මම් එයින් සැවැ මෙහි උපනිම්’යි–

ඉති සාකාරං සඋද්දෙසං අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති. යම්පි ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- අනෙකවිහිතං පුබ්බෙනිවාසං අනුස්සරති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤාය.

88. යස්මිං ඛො ලොහිච්ච සත්ථරි සාවකො එවරූපං උළාරං විසෙසං අධිගච්ඡති, අයම්පි ඛො ලොහිච්ච සත්ථා යො ලොකෙ න චොදනාරහො. යො ච පනෙවරූපං සත්ථාරං චොදෙති, සා චොදනා අභූතා අතච්ඡා අධම්මිකා සාවජ්ජා.

89. සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති· 'ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා. ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති.

90 සෙය්‍යථාපි ලොහිච්ච මජ්ඣෙ සිංඝාටකෙ පාසාදො තත්ථ චක්ඛුමා පුරිසො ඨිතො පස්සෙය්‍ය මනුස්සෙ ගෙහං පවිසන්තෙ'පි නික්ඛමන්තෙ'පි රථියා වීථිසඤ්චරන්තෙ'පි මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නෙ'පි. තස්ස එවමස්ස· එතෙ මනුස්සා ගෙහං පවිසන්ති එතෙ නික්ඛමන්ති එතෙ රථියා වීථිසඤ්චරන්ති එතෙ මජ්ඣෙ සිංඝාටකෙ නිසින්නා'ති එවමෙව ඛො ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ සත්තානං චුතූපපාතඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජමානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති· ඉමෙ වත භොන්තො සත්තා කායදුච්චරිතෙන සමන්නාගතා වචීදුච්චරිතෙන සමන්නාගතා මනොදුච්චරිතෙන සමන්නාගතා අරියානං උපවාදකා මිච්ඡාදිට්ඨිකා මිච්ඡාදිට්ඨිකම්මසමාදානා–

මෙ පරිද්දෙන් ආකාර සහිත වූ උද්දෙශ සහිත වූ පෙර වුසූ නන් වැදෑරුම් කඳපිළිවෙළ සිහි කෙරෙයි. ලෞහිච්චය, මහණ තෙම මෙසේ සිත සමාහිත වැ පිරිසිදු කල්හි අනෙකවිධ වූ පෙර වුසූ කඳපිළිවෙළ සිහි කෙරෙයි යන යමෙක් ඇද්ද, මෙ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි.

88 ලෞහිච්චය, යම් ශාස්තෘවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු මහත් ගුණ විශෙෂයක් ලබා නම්, ලෞහිච්චය, මේ ද ලොවැ චොදනාහී නො වූ ශාස්තෘවරයෙක් වේ යමෙක් මෙබඳු ශාස්තෘවරයකුට චොදනා කෙරේ නම් ඒ චොදනාව අභූත ය, අතථ්‍ය ය, අධාර්මික ය, සාවද්‍ය ය

89 හේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු කල්හි, දීප්ත කල්හි, කෙලෙස් නැති කල්හි, උපක්ලෙශ පහ වූ කල්හි, මෘදු වූ කල්හි, කර්මක්ෂම වූ කල්හි, ස්ථිත කල්හි, නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ පිණිස සිත යොමු කෙරෙයි, නැමුරු කෙරෙයි. හේ පිරිසිදු වූ, මිනිසුන්ගේ දර්ශනොපචාරය ඉක්මැ දක්කැ හැකි දිවැසින්, 'අහෝ! මේ භවත් සත්ත්වයෝ කායදුශ්චරිතයෙන් සමන්විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්විතයහ, ආර්‍යොපවාද කළහ, මිසදිටු වශයෙන් ගත් මිථ්‍යාව්‍රත ඇතියහ ඒ මොහු කරජකය බිදීමෙන් මරණින් මතු සැපයෙන් පහ වූ, දුෂ්ටකර්ම හෙතු-යෙන් හටගත් ගතිය වූ, (කර්මයට තමන් පරවශ බැවින්) තමනට අවශ වැ වැටෙන තැන වූ නිරයට වන්නාහ මේ භවත් සත්ත්වයෝ වූ කලී කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃ-සුචරිතයෙන් සමන්විතයහ, ආර්‍යයනට උපවාද නො කළහ, සම්දිටු ගත්තාහ, සම්දිටු වශයෙන් ගත් ශීලාදිය ඇත්තාහ ඒ මොහු කාබුන් මරණින් මතු ශොභන වූ ගති ඇති සගලොවට වන්නාහ' යි මරණා-සන්න වූ ද, එකෙණෙහි පිළිසිඳ ගන්නා වූ ද, හීන වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නොමනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියා වූ ද, දුගතියට පැමිණියා වූ ද, කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගියා වූ ද සත්ත්වයන් දකී මෙසේ හේ පිරිසිදු වූ, මානුෂක විෂය ඉක්මැ පැවැති දිවැසින් හීන ප්‍රණීත, සුවණී දුර්වණී, සුගත දුර්ගත සත්ත්වයන් දකී කර්මය වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකී

90 ලෞහිච්චය, යම්සේ සතර මං හන්දියෙක මහල් සහිත ගෙයෙක් වන්නේ ද, එහි උඩු මහලෙහි ඇස් ඇති පුරුෂයෙක් සිටියේ ගෙට පිවිසෙන-වුනුත් ගෙන් නික්මෙනවුනුත් වීථියෙහි ඇත මෑත යන එනවුනුත්, සිවුමංහන්දිය මැද හුන්නවුනුත් දක්නේ ද, ඒ දක්නා ඔහුට "මේ මිනිස්සු ගෙට පිවිසෙත් මේ මිනිස්සු ගෙන් නික්මෙත් මේ මිනිස්සු වීදියෙහි ඇත මෑත යෙත්, මොහු සිවුමංහන්දිය මැද හුන්නෝ වෙත් යැ" යි මෙසේ සිතෙක් වන්නේ ද, ලෞහිච්චය, එ පරිදි ම එ මහණ තෙමේ මෙසේ සිත සමාහිත වැ පිරිසිදු කල්හි දීප්තිමත් කල්හි කෙලෙස් නැති කල්හි උපක්ලෙශ පහ වූ කල්හි මෘදු කල්හි කර්මක්ෂම කල්හි ස්ථිත කල්හි නිශ්චල බවට පැමිණි කල්හි, සත්ත්වයන්ගේ ච්‍යුති උපපත්ති දක්නා නුවණ ලබනු පිණිස සිත යොමු කෙරෙයි, නැමුරු කෙරෙයි හේ මානුෂක විෂයය ඉක්මි පිරිසිදු වූ දිවැසින් "අහෝ, මේ භවත් සත්හු කායදුශ්චරිතයෙන් සමන්-විතයහ, වාග්දුශ්චරිතයෙන් සමන්විතයහ, මනොදුශ්චරිතයෙන් සමන්-විතයහ, ආර්‍යයනට උපවාද කළහ, මිසදිටුවහ, මිසදිටු වශයෙන් ගත් ව්‍රත ඇතියහ.-

තෙ කායස්ස භෙදා පරම්මරණා අපායං දුග්ගතිං විනිපාතං නිරයං උපපන්නා. ඉමෙ වා පන භොන්තො සත්තා කායසුචරිතෙන සමන්නාගතා වචීසුචරිතෙන සමන්නාගතා මනොසුචරිතෙන සමන්නාගතා අරියානං අනුපවාදකා සම්මාදිට්ඨිකා සම්මාදිට්ඨිකම්මසමාදානා තෙ කායස්ස භෙදා පරම්මරණා සුගතිං සග්ගං ලොකං උපපන්නා'ති ඉති දිබ්බෙන චක්ඛුනා විසුද්ධෙන අතික්කන්තමානුසකෙන සත්තෙ පස්සති චවමානෙ උපපජ්ජ-මානෙ හීනෙ පණීතෙ සුවණ්ණෙ දුබ්බණ්ණෙ සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති යම්පි ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ -පෙ- සුගතෙ දුග්ගතෙ යථාකම්මූපගෙ සත්තෙ පජානාති, ඉදම්පි'ස්ස හොති පඤ්ඤය.

91. යස්මිං ඛො ලොහිච්ච සත්ථරි සාවකො එවරූපං උළාරං විසෙසං අධිගච්ඡති, අයම්පි ඛො ලොහිච්ච සත්ථා යො ලොකෙ න චොදනාරහො. යො ච පනෙවරූපං සත්ථාරං චොදෙති, සා චොදනා අභූතා අතච්ඡා අධම්මිකා සාවජ්ජා

92 සො එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති. සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති. අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති. ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසව-සමුදයො'ති යථාභූතං පජානාති. අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති. තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවාපි චිත්තං විමුච්චති. භවාසවාපි චිත්තං විමුච්චති. අවිජ්ජාසවාපි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති පජානාති

ඒ මොහු කා බුත් මරණින් මතු, සැපයෙන් පහ වූ, දුෂ්ට කර්මයෙන් උපන් ගතිය වූ, තමනට තමන් අවශ්‍ය වැ වැටෙන තැන වූ නිරයට වන්හ එහෙත් මේ භවත් සත්ත්වයෝ වූ කලි කායසුචරිතයෙන් සමන්විතයහ, වාක්සුචරිතයෙන් සමන්විතයහ, මනඃසුචරිතයෙන් සමන්විතයහ, ආර්‍යයනට උපවාද නො කළහ, සම්දිට්ඨි ගත්හ, සම්දිට්ඨි විසින් ගත් ශීලාදිය ඇත්තාහ මොහු කා බුත් මරණින් මතු ශොභන ගති ඇති සගලොවට වන්නාහ''යි මෙසේ මරණාසන්න වූ ද, එකෙණෙහි පිළිසඳ ගත්තාවූ ද, පහත් වූ ද, උසස් වූ ද, මනා පැහැ සටහන් ඇති වූ ද, නො මනා පැහැ සටහන් ඇති වූ ද, සුගතියට පැමිණියා වූ ද, දුගතියට පැමිණියා වූ ද, කර්මය වූ පරිදි ඒ ඒ භවයට ගිය සත්ත්වයන් දකී මෙසේ පිරිසිදු වූ, මානුෂක විෂයය ඉක්මැ පැවැති දිවැසින් හීන ප්‍රණීත සුවර්ණ දුර්වර්ණ සුගත දුර්ගත සත්ත්වයන් දකී. කම් වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සත්ත්වයන් දකි ලොහිච්චය, මහණ තෙම මෙසේ සිත සමාහිත වැ පිරිසිදු කල්හි සුගත දුර්ගත වූ කම් වූ පරිදි ඒ ඒ භවය කරා එළැඹැ සිටි සතුන් දකී යන යමෙක් ඇද්ද, මේ ද ඔහුගේ ප්‍රඥාවෙක් වෙයි

91 ලොහිච්චය, යම් ශාස්තෲවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු මහත් ගුණ වෙසෙසක් ලබා නම්, ලොහිච්චය, මේ ද ලොවැ චොදනාහී නොවූ ශාස්තෲවරයෙකි. යමෙක් මෙබඳු ශාස්තෲහට චොදනා කෙරේ නම්, ඒ චොදනාව අභූත ය, අතථ්‍යය, අධාර්මික ය, සාවද්‍ය ය

92. හේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දීප්ත වැ නිකෙලෙස් වැ උපක්ලෙශ පහ වැ මෘදු වැ කර්මක්ෂම වැ ස්ථිත වැ නිශ්චල බවට පැමිණැ සිටි කල්හි, ආස්‍රවයන්ගේ ක්ෂයය (විනාශය) පිණිස සිත මොනොවට යොමු කෙරෙයි, මොනොවට නැඹුරු කෙරෙයි හෙ තෙමේ 'මේ දුකැ' යි ඇති සැටියෙන් දනී 'මේ දුක් ඉපැද්මට කාරණයැ' යි ඇති සැටියෙන් දනී. 'මේ දුක් වැනැස්මැ' යි (නිවනැ' යි) ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මට යන පිළිවෙතැ'යි ඇති සැටියෙන් දනී 'මොහු ආස්‍රවයෝ යැ'යි ඇති සැටියෙන් දනී. 'මේ ආස්‍රවයන් ඉපැද්මට කරුණැ'යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රවනිරොධයැ' යි ඇති සැටියෙන් දනී 'මේ ආස්‍රව නිරොධගාමිනී ප්‍රතිපත්ති යැ'යි ඇති සැටියෙන් දනී. මෙසේ දන්නා මෙසේ දක්නා ඔහු සිත කාමාස්‍රවය කෙරෙන් ද මිදේ. ඔහු සිත භවාස්‍රවය කෙරෙන් ද මිදේ ඔහු සිත අවිද්‍යාස්‍රවය කෙරෙන් ද මිදේ (එසේ සිත) මිදුණු කල්හි 'මා සිත ආස්‍රව කෙරෙන් මිදුණේ යැ' යි (ප්‍රත්‍යවෙක්ෂණ) ඥානය වේ 'භවොත්පත්තිය ක්ෂීණ විය (හෙවත් නැවැත භවයෙහි නොඋපදනා ස්වභාවයට පැමිණියෙමි) 'මඟබඹසර වැස නිමැවිණි. (සිවු සස්හි සතර මඟින්) කළ යුතු සොළොස් වැදෑරුම් කිස කොටැ නිමැවිණි මේ බව පිණිස (=මේ ක්ලෙශක්ෂයය පිණිස) යළි දු කටයුතු දෑයෙක් නැතැ'යි හේ දනී

93 සෙය්‍යථාපි ලොහිච්ච පබ්බතසඞ්ඛෙපෙ උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො තත්ථ චක්ඛුමා පුරිසො තීරෙ ඨිතො පස්සෙය්‍ය සිප්පිසම්බුකම්පි සක්ඛරකඨලම්පි මච්ඡගුම්බම්පි චරන්තම්පි තිට්ඨන්තම්පි තස්ස එවමස්ස අයං ඛො උදකරහදො අච්ඡො විප්පසන්නො අනාවිලො, තත්‍රිමෙ සිප්පිසම්බුකා'පි සක්ඛරකඨලා'පි චරන්ති'පි තිට්ඨන්ති'පීති.

94 එවමෙව ඛො ලොහිච්ච භික්ඛු එවං සමාහිතෙ චිත්තෙ පරිසුද්ධෙ පරියොදාතෙ අනඞ්ගණෙ විගතූපක්කිලෙසෙ මුදුභූතෙ කම්මනියෙ ඨිතෙ ආනෙඤ්ජප්පත්තෙ ආසවානං ඛයඤාණාය චිත්තං අභිනීහරති අභිනින්නාමෙති සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති අයං දුක්ඛසමුදයො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධො'ති යථාභූතං පජානාති අයං දුක්ඛනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති ඉමෙ ආසවා'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධො'ති යථාභූතං පජානාති අයං ආසවනිරොධගාමිනී පටිපදා'ති යථාභූතං පජානාති

95 තස්ස එවං ජානතො එවං පස්සතො කාමාසවා'පි චිත්තං විමුච්චති. භවාසවා'පි චිත්තං විමුච්චති අවිජ්ජාසවා'පි චිත්තං විමුච්චති විමුත්තස්මිං විමුත්තමිති ඤාණං හොති. ඛීණා ජාති, වුසිතං බ්‍රහ්මචරියං, කතං කරණීයං, නාපරං ඉත්ථත්තායාති පජානාති

96 යස්මිං ඛො ලොහිච්ච සත්ථරි සාවකො එවරූපං උළාරං විසෙසං අධිගච්ඡති, අයම්පි ඛො ලොහිච්ච සත්ථා යො ලොකෙ න චොදනාරහො. යො ච පනෙවරූපං සත්ථාරං චොදෙති, සා චොදනා අභූතා අතච්ඡා අධම්මිකා සාවජ්ජාති

97. එවං වුත්තෙ ලොහිච්චො බ්‍රාහ්මණො භගවන්තං එතදවොච: සෙය්‍යථාපි භො ගොතම පුරිසො පුරිසං නරකපපාතං පපතන්තං කෙසෙසු ගහෙත්වා උද්ධරිත්වා ථලෙ පතිට්ඨාපෙය්‍ය, එවමෙවාහං භොතා ගොතමෙන නරකපපාතං පපතන්තො උද්ධරිත්වා ථලෙ පතිට්ඨාපිතො. අභික්කන්තං භො ගොතම අභික්කන්තං භො ගොතම. සෙය්‍යථාපි භො ගොතම නික්කුජ්ජිතං වා උක්කුජ්ජෙය්‍ය පටිච්ඡන්නං වා විවරෙය්‍ය මූළ්හස්ස වා මග්ගං ආචික්ඛෙය්‍ය අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛුමන්තො රූපානි දක්ඛින්තීති, එවමෙව භොතා ගොතමෙන අනෙකපරියායෙන ධම්මො පකාසිතො. එසාහං භවන්තං ගොතමං සරණං ගච්ඡාමි ධම්මඤ්ච භික්ඛුසඞ්ඝඤ්ච උපාසකං මං භවං ගොතමො ධාරෙතු අජ්ජතග්ගෙ පාණුපෙතං සරණං ගතන්ති

ලොහිච්චසුත්තං නිට්ඨිතං ද්වාදසමං.

93 ලොහිච්චය, යම්සේ කඳු මුදුනෙහි වූ, පහන් වූ, වෙසෙසින් පහන් වූ, නොකැලැඹුණු (=බොර නො වූ) දිය විලෙක් වන්නේ ද, එහි ඉවුරෙහි ඇස් ඇති මිනිසෙක් සිටියේ, එහි තුළැ හැසිරෙන්නා වූත් සිටුනා වූත් සිප්පිබෙල්ලනුත් සක්බෙල්ලනුත් කැටකැබිලිතිත් මත්ස්‍ය-සමූහයාත් දක්නේ ද, (එසේ දක්නා) ඔහුට "මේ දියවිල පහන් ය වෙසෙසින් පහන් ය, නො කැලැඹුණේ ය මෙහි මේ සිප්පිහුත් සක්බෙල්ලෝත් කැට කැබලිතිත් මත්ස්‍ය සමූහයෝත් හැසිරෙන්නෝත් සිටින්නෝත් වෙති" සි මෙසේ සිතෙක් වන්නේ ද,

94 ලොහිච්චය, එපරිද්දෙන් ම මහණ තෙමේ මෙසේ සමාහිත සිත පිරිසිදු වැ දිප්තිමත් වැ, නිකෙලෙස් වැ උපක්ලෙශ පහ වැ, මෘදු වැ, කර්මණ්‍ය වැ, ස්ථිර වැ, නිශ්චලතාවට පැමිණි කල්හි, ආශ්‍රවක්ෂයඥානය පිණිස සිත යොමු කෙරෙයි, නැඹුරු කෙරෙයි හේ 'මේ දුකැ'සි ඇති සැටියෙන් දනී. 'මේ දුකට කරුණැ'සි ඇති සැටියෙන් දනී 'මේ දුක් වැනැස්මැ'සි ඇති සැටියෙන් දනී. 'මේ දුක් වැනැස්මට පමුණුවන පිළිවෙතැ'සි ඇති සැටියෙන් දනී 'මොහු ආශ්‍රවයහ'සි ඇති සැටියෙන් දනී මේ ආශ්‍රව-සමුදය යැ (ඉපැද්මට කරුණැ)'සි ඇති සැටියෙන් දනී 'මේ ආශ්‍රව-නිරොධයැ'සි ඇති සැටියෙන් දනී 'මේ ආශ්‍රවනිරොධයට පැමිණෙන පිළිවෙතැ'සි ඇති සැටියෙන් දනී

95 මෙසේ දන්නා, මෙසේ දක්නා, ඔහුගේ සිත කාමාශ්‍රවය කෙරෙන් ද මිදේ, භවාශ්‍රවය කෙරෙන් ද මිදේ, අවිද්‍යාශ්‍රවය කෙරෙන් ද මිදේ, මිදුණු කල්හි 'මිදුණේ යැ'සි දැනීම වේ භවොත්පත්තිය ක්ෂීණ විය මාර්ගබ්‍රහ්ම-චර්යය වැස නිමවන ලද්දේ ය (සිවු සස්හි සිවු මඟින්) කටයුතු (සොළොස් වැදෑරුම්) කෘත්‍යය කොටැ නිමැවිණ මෙබව පිණිස (=මේ ක්ලේශක්ෂයය පිණිස) කළ යුතු අන් කිසිත් නැතැ'සි හේ දනී

96 ලොහිච්චය, යම් ශාස්තෘවරයකු කෙරෙහි සවු තෙම මෙබඳු උදාර ගුණ විශෙෂයට පැමිණේ නම්, ලොහිච්චය, මේ ශාස්තෘ තෙමේ ද ලොවැ චොදනාහී නො වේ යමෙක් මෙබඳු ශාස්තෘහට චොදනා කෙරේ නම්, ඒ චොදනාව අභූත ය, අතථ්‍ය ය, නොදැහැමි ය, වරද සහිත ය

97 මෙසේ වදාළ කල්හි ලොහිච්ච බමුණු තෙම, "භවද් ගෞතමයන් වහන්ස, යම්සේ පුරුෂයෙක් නරාවලක වැටෙන පුරුෂයකු හිසකෙසින් ගෙන ඔසොවා ගොඩැ සිටුවන්නේ ද, එසේ ම නිරාවලැ වැටෙන මම භවද් ගෞතමයන් වහන්සේ විසින් ඔසොවා ගොඩැ පිහිටුවන ලදිමි භවද් ගෞතමයන් වහන්ස, අභික්‍රාන්ත යැ භවද් ගෞතමයන් වහන්ස, අභික්‍රාන්ත යැ. වහන්ස, යම්සේ යැටිකුරු කොට තබන ලද්දක් උඩුකුරු කරන්නේ හෝ වේ ද, වැසුණු දෙයක් විවෘත කරන්නේ හෝ වේ ද, මංමුළා වූවකුට මඟ කියන්නේ හෝ වේ ද, 'ඇස් ඇතියන් රූප දකිති' සි අඳුරෙහි තෙල්පහනක් දරන්නේ හෝ වේ ද, එපරිද්දෙන් ම භවද් ගෞතමයන් වහන්සේ විසින් නොයෙක් කරුණින් දහම් පැවැසිණ වහන්ස, ඒ මම භවද් ගෞතමයන් වහන්සේ ද ධර්මය ද භික්ෂුසඞ්ඝයා ද සරණ යෙමි වහන්ස, භවද් ගෞතමයන් වහන්සේ මා අද පටන් කොට දිවිහිමියෙන් සරණ ගිය උවසකු සේ සලකන සේක් වා" සි භාග්‍යවතුන් වහන්සේට සැළ කෙළේ ය

දොළොස්වන ලොහිච්ච සූත්‍රය නිමියේ ය.

# 13

# තෙවිජ්ජසුත්තං

1 එවමෙමං සුතං· එකං සමයං භගවා කොසලෙසු චාරිකං චරමානො මහතා භික්ඛුසඞ්ඝෙන සද්ධිං පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි යෙන මනසාකටං නාම කොසලානං බ්‍රාහ්මණගාමො තදවසරි. තත්‍ර සුදං භගවා මනසාකටෙ විහරති උත්තරෙන මනසාකටස්ස අචිරවතියා නදියා තීරෙ අම්බවනෙ

2 තෙන ඛො පන සමයෙන සම්බහුලා අභිඤ්ඤාතා අභිඤ්ඤාතා බ්‍රාහ්මණමහාසාලා මනසාකටෙ පටිවසන්ති. සෙය්‍යථිදං· චඞ්කී බ්‍රාහ්මණො තාරුක්ඛො බ්‍රාහ්මණො පොක්ඛරසාති බ්‍රාහ්මණො ජානුස්සොණි බ්‍රාහ්මණො තොදෙය්‍යො බ්‍රාහ්මණො, අඤ්ඤෙ ච අභිඤ්ඤාතා අභිඤ්ඤාතා බ්‍රාහ්මණමහාසාලා

3 අථ ඛො වාසෙට්ඨ-භාරද්වාජානං ජඞ්ඝාවිහාරං අනුචඞ්කමන්තානං අනුවිචරන්තානං මග්ගාමග්ගෙ කථා උදපාදි අථ ඛො වාසෙට්ඨො මාණවො එවමාහ. 'අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහබ්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන පොක්ඛරසාතිනා'ති

4. භාරද්වාජො මාණවො එවමාහ· අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහබ්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන තාරුක්ඛෙනා'ති. නෙව ඛොසක්ඛි[1] වාසෙට්ඨො මාණවො භාරද්වාජං මාණවං සඤ්ඤාපෙතුං, න පනාසක්ඛි භාරද්වාජො මාණවො වාසෙට්ඨං මාණවං සඤ්ඤාපෙතුං

5 අථ ඛො වාසෙට්ඨො මාණවො භාරද්වාජං මාණවං ආමන්තෙසි· අයං ඛො භාරද්වාජ, සමණො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො මනසාකටෙ විහරති උත්තරෙන මනසාකටස්ස අචිරවතියා නදියා තීරෙ අම්බවනෙ තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො: ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො විජ්ජාචරණසම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරො පුරිසදම්මසාරථි සත්ථා දෙවමනුස්සානං බුද්ධො භගවා'ති ආයාම භො භාරද්වාජ යෙන සමණො ගොතමො තෙනුපසඞ්කමිස්සාම. උපසඞ්කමිත්වා එතමත්ථං සමණං ගොතමං පුච්ඡිස්සාම. යථා නො සමණො ගොතමො බ්‍යාකරිස්සති තථා නං ධාරෙස්සාමාති 'එවං භො'ති ඛො භාරද්වාජො මාණවො වාසෙට්ඨස්ස මාණවස්ස පච්චස්සොසි

---

1 නෙව ඛො අසක්ඛි (කෙසුචි පොත්ථකෙසු, සීහලක්ඛරමුද්දිතට්ඨකථාය ච)

# 13

# තෙවිජ්ජ සූත්‍රය

1 මා විසින් මෙසේ අසන ලදි එක් සමයෙක්හි භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන් පන්සියක් පමණ වූ මහත් මහණමුළුවක් හා කොසොල් රටැ සැරි සරන සේක්, කොසොල්රටැ මනසාකට නම් බමුණුගම යම් තැනෙක ද, එහි වැඩි සේක භාග්‍යවතුන් වහන්සේ ඒ මනසාකටයට උතුරුදිගැ අචිරවතී නදිය තෙරැ අඹවෙනෙහි වසන සේක

2 එ සමයෙහි චඞ්කීබ්‍රාහමණ ය, තාරුක්ඛබ්‍රාහමණ ය, පොක්ඛරසාති බ්‍රාහමණය, ජානුසොණි බ්‍රාහමණය යන මොහු ද අන්‍යවූත් ඒ ඒ පෙදෙස්හි ප්‍රකට වූ බමුණු මහසල්හු ද යි අභිඥාත අභිඥාත වූ බොහෝ මහාසාරවංශික බ්‍රාහමණ කෙනෙක් මනසාකටයෙහි වෙසෙත්

3 එ කල්හි ජඞ්ඝාවිහරණයෙහි ඔබ මොබ සක්මන් කරන ඔබ මොබ හැසිරෙන වාසෙට්ඨ-භාරද්වාජ යන දෙදෙනා අතරැ මග නොමග ඇරැබැ කථාවෙක් උපන එ කලැ වාසෙට්ඨ මාණව තෙම “මේ යම් මගෙක් පොක්ඛරසාති බමුණාණන් විසින් කියන ලද ද, මෙය ම සෘජු මග ය මෙය ම ඉදුරා මග ය මෙය ම නෛර්‍යාණික වනුයේ එය පිළිපදනාහු ගේ බ්‍රහමසහභාවය පිණිස යේ” යැ හී මෙසේ කියයි

4 ‘මේ යම් මගෙක් තාරුක්ඛ බමුණාණන් විසින් කියන ලද ද, මෙය ම සෘජු මග ය මෙය ම ඉදුරා මග ය මෙය ම නෛර්‍යාණික වනුයේ එය පිළිපදනාහුගේ බ්‍රහමසහභාවය පිණිස යේ” යැ හි මෙසේ භාරද්වාජ මාණව කියයි වාසෙට්ඨ මාණව තෙම භාරද්වාජමාණවයාට හඟවනුවට (තමා බස පිළිගන්වනුවට) නො ම හැකි වී ය. භාරද්වාජ මාණව ද වාසෙට්ඨ මාණවයාට හඟවනුවට (තම බස පිළිගන්වනුවට) නො ම හැකි වී ය

5 එකල්හි වාසෙට්ඨ මාණව තෙම භාරද්වාජමාණවයා බණවා, ‘භාරද්වාජය, සැහැපුත් වූ, සැහැකුලයෙන් නික්මැ පැවැදි වූ, මේ මහණ-ගොයුම්හු මනසාකටයට නොදුරැ නොළං තන්හි මනසාකටයට උතුරු-දිගැ අචිරවතීනදිය තෙරැ අඹවෙනෙහි වැඩ වෙසෙති ඒ පින්වත් ගොයුමන් පිළිබඳ වැ ‘ඒ භගවත්හු රහත්හ, සම්මාසම්බුද්ධ හ, විද්‍යාචාරණසම්පන්න හ, සුගත හ, ලොකවිත් හ, නිරුත්තර පුරුෂදම්‍යසාරථි හ, දෙව්මිනිස්නට ශාස්තෘ හ, බුද්ධ හ, භාග්‍යවත්හ’යි මෙසේ කලණ කිත් හඬෙක් වෙසෙසින් උස් වැ නැංගේ වෙයි භවත් භාරවාජය, යමු එ මහණගොයුමන් කරා එළැඹෙන්නමු එළැඹ මේ කරුණ ඒ මහණගොයුමන් විචාරන්නමු අපට යම්සේ මහණගොයුම්හු එය විසඳන්නාහු ද, එසේ එය දරන්නමු” යි කී ය ‘එසේ ය, භවතැ’ යි කියා ම භාරද්වාජමාණව තෙම වාසෙට්ඨ මාණවයාට පිළිවදන් දුන

6 අථ ඛො වාසෙට්ඨභාරද්වාජා මාණවා යෙන භගවා තෙනුපසඞ්කමිංසු. උපසඞ්කමිත්වා භගවතා සද්ධිං සම්මොදිංසු. සම්මොදනීයං කථං සාරාණීයං වීතිසාරෙත්වා එකමන්තං නිසීදිංසු එකමන්තං නිසින්නො ඛො වාසෙට්ඨො මාණවො භගවන්තං එතදවොච "ඉධ භො ගොතම අම්හාකං ජඞ්ඝාවිහාරං අනුචඞ්කමන්තානං අනුවිචරන්තානං මග්ගාමග්ගෙ කථා උදපාදි අහං එවං වදාමි 'අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන පොක්ඛරසාතිනා'ති භාරද්වාජො මාණවො එවමාහ. 'අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන තාරුක්ඛෙනා'ති එත්ථ භො ගොතම අත්ථෙව විග්ගහො අත්ථි විවාදො අත්ථි නානාවාදො"ති

7. "ඉධ කිර වාසෙට්ඨ ත්වං එවං වදෙසි අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන පොක්ඛරසාතිනා'ති භාරද්වාජො මාණවො එවමාහ: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතාය ය්වායං අක්ඛාතො බ්‍රාහ්මණෙන තාරුක්ඛෙනාති. අථ කිස්මිං පන වො වාසෙට්ඨා විග්ගහො? කිස්මිං විවාදො? කිස්මිං නානාවාදො?" ති.

8 "මග්ගාමග්ගෙ භො ගොතම කිඤ්චාපි භො ගොතම බ්‍රාහ්මණා නානාමග්ගෙ පඤ්ඤපෙන්ති අද්ධරියා බ්‍රාහ්මණා, තිත්තිරියා බ්‍රාහ්මණා ඡන්දොකා බ්‍රාහ්මණා, බවහිරිවා[1] බ්‍රාහ්මණා, අථ ඛො සබ්බානි තානි නිය්‍යානිකානි නිය්‍යන්ති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතාය සෙය්‍යථාපි භො ගොතම ගාමස්ස වා නිගමස්ස වා අවිදූරෙ බහූනි චෙපි නානාමග්ගානි භවන්ති, අථ ඛො සබ්බානි තානි ගාමසමොසරණානි භවන්ති එවමෙව ඛො භො ගොතම කිඤ්චාපි බ්‍රාහ්මණා නානාමග්ගෙ පඤ්ඤපෙන්ති අද්ධරියා බ්‍රාහ්මණා, තිත්තිරියා බ්‍රාහ්මණා, ඡන්දොකා බ්‍රාහ්මණා, බවහිරිවා බ්‍රාහ්මණා, අථ ඛො සබ්බානි තානි නිය්‍යානිකානි නිය්‍යන්ති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතායා"ති

9. "නිය්‍යන්තීති වාසෙට්ඨ වදෙසි?"

"නිය්‍යන්තීති භො ගොතම වදාමි"

"නිය්‍යන්තීති වාසෙට්ඨ වදෙසි?"

"නිය්‍යන්තීති භො ගොතම වදාමි."

---

1 බවහරිජා, බවහරිජ්ඣා, භව්හාරිජ්ඣා, බවහරියා, සෙසුව බ්‍රහ්මචරියා PTS

6 ඉක්බිත්තෙන් වාසෙට්ඨ - භාරද්වාජ යන මාණවයෝ දෙදෙන භාග්‍යවතුන් වහන්සේ වෙත ගියහ ගොස් ඔබ හා සතුටු වූහ සතුටට කරුණු වූ, සිතැ රැඳැවියැ යුතු වූ කථා නිමවා, පසෙක හිඳ ගත්හ පසෙක හිඳැ ගත්තා වූ ම වාසෙට්ඨ මාණව තෙම "භවද් ගෞතමයිනි, ජඞ්ඝා විහරණයෙහි ඔබ මොබ හැසිරෙන අප අතරැ මඟ-නොමඟ ඇරැබැ, කථාවෙක් උපන "පොක්ඛරසාතී බමුණන් විසින් යම් මඟෙක් කියන ලද ද, එය පිළිපදනාහට බඹහු හා එක් වීමට 'මෙය ම නෛර්‍යාණික ඍජු මාවත ය, මෙය ම ඉඳුරා මඟ යැ'යි මම මෙසේ කියමි භාරද්වාජ මාණව තෙම 'තාරුක්ඛ බමුණන් විසින් යම් මඟෙක් කියන ලද ද, එය පිළිපදනාහට බඹහු හා එක් වීමට 'මෙය ම නෛර්‍යාණික ඍජු මාවත ය, මෙය ම ඉඳුරා මඟ යැ'යි කියයි භවද්ගෞතමයිනි, මෙහි අපගේ විග්‍රහ-යෙක් ඇත් ම ය විවාදයෙක් ඇත් ම ය නානාවාදයෙක් ඇත් ම ය "

7 [එවිට භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළ සේක:] "මෙසේ වාසෙට්ඨය, 'පොක්ඛරසාතී බමුණුහු විසින් යම් මඟෙක් කියන ලද නම්, එය පිළිපදනාහට බඹහු හා එක් වීමට මෙය ම නෛර්‍යාණික ඍජු මාවත ය, මෙය ම ඉඳුරා මඟ ය' යි තෝ කියෙහි ය තාරුක්ඛ බමුණුහු විසින් යම් මඟෙක් කියන ලද නම්, එය පිළිපදනාහට බඹහු හා එක් වීමට මෙය ම නෛර්‍යාණික ඍජු මාවත ය, මෙය ම ඉඳුරා මඟ යැ' යි භාරවාජ මාණව කියයි. මෙසේ කල්හි කවර කරුණෙකැ තොපගේ විග්‍රහයෙක් වේ ද? කවර කරුණෙකැ තොපගේ විවාදයෙක් වේද? කවර කරුණෙකැ තොපගේ නානාවාදයෙක් වේ ද?"

8 [වාසෙට්ඨ ] "භවද් ගෞතමයිනි, අපගේ විග්‍රහය, නානාවාදය මඟ නොමඟ දෙක්හි ය අධ්වර්‍ය්‍යුබ්‍රාහ්මණයන් ද, තෛත්තිරීය බ්‍රාහ්මණයන් ද, ඡාන්දෝගබ්‍රාහ්මණයන් ද, බහ්වෘචබ්‍රාහ්මණයන් ද නානාමාර්ගී පණවතත් ඒ සියල්ලෝ නෛර්‍යාණික හ ඒ සියල්ලෝ පිළිපදනනුට බඹහු හා එක්වනු පිණිස යෙත් භවද් ගෞතමයිනි, යම්සේ ගමකට හෝ නියම්ගමකට හෝ නොදුරෙහි නානාවිධ මාර්ගයෝ බොහෝ වෙත් ද, එතෙකුදු වුවත් ඒ සියල්ලෝ ගමට ම බස්නාහු ද, භවද් ගෞතමයිනි, එ පරිද්දෙන් ම අධ්වර්‍ය්‍යුබ්‍රාහ්මණයන් ද, තෛත්තිරීය බ්‍රාහ්මණයන් ද, ඡාන්දෝගබ්‍රාහ්මණයන් ද, බහ්වෘචබ්‍රාහ්මණයන් ද නානාමාර්ගී පණවත් නුමුදු වැලි ඒ සියල්ලෝ නෛර්‍යාණික හ ඒ සියල්ලෝ පිළිපදනුවහට බඹහු හා එක්වනු පිණිස යෙත්

9 [භාග්‍යවත්හු ] "වාසෙට්ඨය, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙති යි කියෙහි ද? "

[වාසෙට්ඨ.] "භවද් ගෞතමයිනි, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙයි යි කියමි"

[භාග්‍යවත්හු ] "වාසෙට්ඨය, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙති යි කියෙහි ද?"

[වාසෙට්ඨ ] "භවද්ගෞතමයිනි, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙති යි කියමි."

"නිය්‍යානිකන්ති වාසෙට්ඨ වදෙසි?"

"නිය්‍යානිකන්ති භො ගොතම වදාමි"

10. "කිං පන වාසෙට්ඨ අත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකබ්‍රාහ්මණො'පි යෙන බ්‍රහ්මා සක්ඛි දිට්ඨො?" ති

"නො හිදං භො ගොතම."

"කිං පන වාසෙට්ඨ අත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකාචරියො'පි යෙන බ්‍රහ්මා සක්ඛි දිට්ඨො?" ති.

"නො හිදං භො ගොතම."

"කිං පන වාසෙට්ඨ අත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකාචරියපාචරියො'පි යෙන බ්‍රහ්මා සක්ඛිදිට්ඨො?" ති.

"නොහිදං භො ගොතම"

"කිං පන වාසෙට්ඨ අත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං යාව සත්තමා ආචරියමහයුගා යෙන බ්‍රහ්මා සක්ඛි දිට්ඨො?" ති

"නො හිදං භො ගොතම"

"කිං පන වාසෙට්ඨ යෙ'පි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො යෙසමිදං එතරහි තෙවිජ්ජා බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමුහිතං තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති, සෙය්‍යථිදං: අට්ඨකො වාමකො වාමදෙවො වෙස්සාමිත්තො යමතග්ගි අඞ්ගීරසො භාරද්වාජො වාසෙට්ඨො කස්සපො භගු, තෙ'පි එවමාහංසු මයමෙතං ජානාම මයමෙතං පස්සාම යත්ථ වා බ්‍රහ්මා යෙන වා බ්‍රහ්මා යහිං වා බ්‍රහ්මා'ති ?"

"නො හිදං භො ගොතම"

11. "ඉති කිර වාසෙට්ඨ නත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකබ්‍රාහ්මණො'පි යෙන බ්‍රහ්මා සක්ඛි දිට්ඨො. නත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකාචරියො'පි යෙන බ්‍රහ්මා සක්ඛිදිට්ඨො නත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං එකාචරියපාචරියො'පි යෙන බ්‍රහ්මා සක්ඛිදිට්ඨො නත්ථි කොචි තෙවිජ්ජානං බ්‍රාහ්මණානං යාව සත්තමා ආචරියමහයුගා යෙන බ්‍රහ්මා සක්ඛි දිට්ඨො-

[භාග්‍යවත්හු] "වාසෙට්ඨය, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙති යි කියෙහි ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයිනි, ඔහු හැම බ්‍රහ්මසහභාවය පිණිස යෙති යි කියමි"

10. [භාග්‍යවත්හු] "වාසෙට්ඨය, යමක්හු විසින් බ්‍රහ්මයා සියැසින් දක්නා ලද්දේ නම් එබඳු එක් බමුණෙක් නමුත් තෙවිදු බමුණන් අතුරෙහි ඇද්ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයෙනි, මෙ බස්දෙක් නොමැත"

[භාග්‍යවත්හු] "වාසෙට්ඨය, යමක්හු විසින් බ්‍රහ්මයා සියැසින් දක්නා ලද නම්, එසේ වූ කිසි එක් ඇදුරෙකුත් තෙවිදු බමුණන් අතුරෙහි ඇත්ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයිනි, මෙ බස්දෙක් නැති ම ය"

[භාග්‍යවත්හු] "වාසෙට්ඨය, තෙවිදු බමුණන්ගේ එක් ආචාර්‍යප්‍රාචාර්‍යයකුත් සියැසින් බඹහු දුටුවා ඇද්ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයිනි, මෙබස්දෙක් නැත් ම ය"

[භාග්‍යවත්හු] "වාසෙට්ඨය, තෙවිදුබමුණන්ගේ සත්වන ඇදුරුමහ යුගය තෙක් වූ කිසිවකුත් සියැසින් බඹහු දුටුවා ඇද්ද?"

[වාසෙට්ඨ] 'මෙවැන්නක් නොමැත, භවද් ගෞතමයිනි"

[භාග්‍යවත්හු] "කිමෙක් ද? වාසෙට්ඨය, තෙවිදු බමුණන්ගේ පූර්වපුරුෂ වූ මන්ත්‍රකාරක වූ මන්ත්‍රප්‍රවර්තක වූ අට්ටක වාමක වාමදෙව වෙස්සාමිත්ත යමතග්ගි අඞ්ගිරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු යන යම් ඍෂි කෙනෙක් වූහු ද, මෙ කලැ තෙවිදු බමුණෝ ඒ යම් ඍෂි කෙනෙකුත් විසින් ගයන ලද කියන ලද රැස් කොට තබන ලද මේ පැරැණි මන්ත්‍රපද ඔවුන් අනුව ගයත් නම්, ඔවුන් අනුව කියත් නම්, ඔවුන් හදාළා අනුව හදරත් නම්, කියැවූවා අනුව කියවත් නම්, 'යම් තැනෙක හෝ යම් දෙසෙක හෝ යම් පෙදෙසෙක හෝ බ්‍රහ්මයා ඇතැ යි අපි මොහු දනිමු, අපි මොහු දකිමු 'යි මෙසේ ඒ ඍෂිහු වත් කීවාහු ද?"

[වාසෙට්ඨ] "මෙ බස්දෙක් නොමැත, භවද් ගෞතමයිනි"

11 [භාග්‍යවත්හු] "වාසෙට්ඨය, මෙසේ යමක්හු විසින් බඹා සියැසින් දක්නා ලද නම්, තෙවිදුබමුණන් අතුරෙහි එබඳු කිසි එක් බමුණෙක් ද නැත් ල. යමකු විසින් බඹා සියැසින් දක්නා ලද නම්, එසේ වූ කිසි එක් ඇදුරෙක් ද නැත් ල යමකු විසින් බඹා සියැසින් දක්නා ලද නම්, එසේ වූ කිසි එක් ආචාර්‍යයෙක් ප්‍රාචාර්‍යයෙක් ද නැත් ල යමකු විසින් සියැසින් බඹා දක්නා ලද නම්, තෙවිදු බමුණන්ගේ සත්වන ඇදුරුමහ යුගය තෙක් දු එබඳු කිසිවෙක් නැත් ල –

යෙ'පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො, යෙසමිදං එතරහි තෙවිජ්ජා බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමුහිතං තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති, සෙය්‍යථිදං අට්ටකො වාමකො වාමදෙවො වෙස්සාමිත්තො යමතග්ගි අඞ්ගීරසො භාරද්වාජො වාසෙට්ඨො කස්සපො භගු, තෙ'පි න එවමාහංසු: මයමෙතං ජානාම මයමෙතං පස්සාම යත්ථ වා බ්‍රහ්මා යහිං වා බ්‍රහ්මා'ති තෙ වත තෙවිජ්ජා බ්‍රාහ්මණා එවමාහංසු: යං මයං න ජානාම යං න පස්සාම, තස්ස සහබ්‍යතාය මග්ගං දෙසෙම: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහබ්‍යතායා'ති.

12 තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, නනු එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?'' ති.

''අද්ධා ඛො භො ගොතම, එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී'' ති

13. සාධු වාසෙට්ඨ. තෙ වත වාසෙට්ඨ තෙවිජ්ජා බ්‍රාහ්මණා යං න ජානන්ති යං න පස්සන්ති තස්ස සහබ්‍යතාය මග්ගං දෙසෙස්සන්ති. 'අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහ-බ්‍යතායා'ති නෙතං ඨානං විජ්ජති. සෙය්‍යථාපි වාසෙට්ඨ අන්ධවෙණිපරම්පරං සංසත්තා පුරිමො'පි න පස්සති මජ්ඣිමො'පි න පස්සති පච්ඡිමො'පි න පස්සති, එවමෙව ඛො වාසෙට්ඨ අන්ධවෙණූපමං මඤ්ඤෙ තෙවිජ්ජානං බ්‍රාහ්ම-ණානං භාසිතං. පුරිමො'පි න පස්සති මජ්ඣිමො' පි න පස්සති පච්ඡිමො'පි න පස්සති තෙසමිදං තෙවිජ්ජානං බ්‍රාහ්මණානං භාසිතං හස්සකඤ්ඤෙව සම්පජ්ජති, නාමකඤ්ඤෙව සම්පජ්ජති, රිත්තකඤ්ඤෙව සම්පජ්ජති, තුච්ඡකඤ්ඤෙව සම්පජ්ජති.

14 ''තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, පස්සන්ති තෙවිජ්ජා බ්‍රාහ්මණා චන්දිම-සූරියෙ අඤ්ඤෙ චාපි බහු ජනා, යතො ච චන්දිමසූරියා උග්ගච්ඡන්ති, යත්ථ ච ඔගච්ඡන්ති, ආයාචන්ති, ථොමයන්ති, පඤ්ජලිකා නමස්සමානා අනුපරිවත්තන්ති?''ති

''එවං භො ගොතම. පස්සන්ති තෙවිජ්ජා බ්‍රාහ්මණා චන්දිමසූරියෙ අඤ්ඤෙ චාපි බහුජනා, යතො ච චන්දිමසූරියා උග්ගච්ඡන්ති යත්ථ ච ඔගච්ඡන්ති, ආයාචන්ති, ථොමයන්ති, පඤ්ජලිකා නමස්සමානා අනුපරිවත්තන්ති''ති

තෙවිද්‍ය බමුණන්ගේ පූර්වපුරුෂ වූ මන්ත්‍රකාරක වූ මන්ත්‍රප්‍රවර්තක වූ අට්ටක වාමක වාමදෙව වෙස්සාමිත්ත යමතග්ගි අඞ්ගීරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු යන යම් ඍෂි කෙනෙක් වූහු ද, මෙ කලැ තෙවිද්‍ය බමුණෝ යම් ඒ ඍෂි කෙනෙකුන් විසින් ගයන ලද, කියන ලද, රැස් කොට තබන ලද, මෙ මන්ත්‍රපද ඔවුන් අනුව ගයත් නම්, ඔවුන් අනුව කියත් නම්, ඔවුන් හදාළා අනුව හදරත් නම්, ඔවුන් කියැවූවා අනුව කියවත් නම්, ඔව්හු ද බඹහු ඉඳුනා තැනක් හෝ දෙසක් හෝ පෙදෙසක් හෝ අපි දනිමු සි, අපි දකිමු සි, මෙසේ නො කිවෝ ල පුදුමයෙකි, එසේ වූ ඒ තෙවිද්‍ය බමුණෝ "යමකු අපි නො දන්මෝ නම්, යමකු අපි නො දක්මෝ නම්, ඔහු හා එක් වනුවට මඟ දෙසමු, (ඒ බඹහු හා එක් වනු පිණිස) එය පිළිපදිනුවාහට මෙය ම ඍජුමඟ ය, මෙය ම ඉඳුරාමඟ ය, මේ නෛර්යාණික මඟ ම බඹහු හා එක් වීම පිණිස යේ යැ 'යි මෙසේ කියත්

12 වාසෙට්ඨය, ඒ කිමැ යි සිතයි ද, මෙසේ ඇති කලැ තෙවිද්‍ය බමුණන්ගේ වචනය ප්‍රතිහරණ රහිතයක් (ප්‍රතිපක්ෂ කථා බැහැර නො කරන්නක්, විරුද්ධ කථාවන්ට දිය හැකි උත්තර නැතියක්) කරන ලද්දේ නො වේ ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයිනි, මෙසේ ඇති කලැ තෙවිද්‍ය බමුණන්ගේ වචන ප්‍රතිහරණ රහිත (ප්‍රතිවිරුද්ධයනට දිය හැකි උත්තර නැත්තේ) ම වෙයි"

13 [භාග්‍යවත්හු] මැනැව වාසෙට්ඨය. ඒ තෙවිද්‍ය බමුණෝ වාසෙට්ඨය, තුමූ යමකු නො දනිත් නම්, යමකු නො දකිත් නම්, ඔහු හා එක් වනු පිණිස 'මේ ම ඍජු මඟ ය, මේ ම ඉඳුරා මඟ ය, එය පිළිපදිනුවාහට මේ නෛර්යාණික මඟ ම බඹහු හා එක් වනුවට යේ' යැ යි මඟක් දෙසන්නාහ යන මේ කාරණය නැත්තේ ය (මේ නො කරුණෙකි, නො වියැ හැක්කෙකි) (පසු පසු වැ සිටියහු පළමු පළමු සිටියහු අත ගැන්මෙන්) උනුන් එකට බැඳුණු අන්ධවේණිය (අඳුන් වැල) යම්සේ ද, එහි යම්සේ පළමු ව යන්නේත් නො දක්නේ ද, මැද යන්නේත් නො දක්නේ ද, පසු වැ යන්නේත් නො දක්නේ ද, වාසෙට්ඨය, එසේ ම තෙවිද්‍ය බමුණන්ගේ වචනය අන්ධවේණිය බඳු යැ යි සිතමි ඔවුන්ගේ පළමු පුරුෂයා ද නො දකී මැදුම් තැනැත්තේ ද නො දකී පැසිම් තැනැත්තේ ද නො දකී ඒ තෙවිද්‍ය බමුණන්ගේ මේ වචනය හාස්‍යක ම (සිනහවට ලක් වූවක් ම) වෙයි. ලාමක ම වෙයි හිස් ම වෙයි තුච්ඡ ම වෙයි.

14 "වාසෙට්ඨය, ඒ කිමැ යි සිතයි ද, යම් වේලාවෙක සඳහිරු හු නැඟෙත් නම්, යම් වෙලාවෙක සඳහිරුහු බසිත් නම්, ඒ හැම කල්හි තෙවිද්‍ය බමුණෝත් අන් බොහෝ දෙනාත් සඳහිරුන් දකිත් ද? ඔවුන් යදිත් ද? ඔවුනට ස්තෝත්‍ර කෙරෙත් ද? දෙහොත් මුදුන් තබා ගත්තාහු වඳනාහු ඔබ මොබ පෙරළෙත් ද?"

[වාසෙට්ඨ:] "භවද් ගෞතමයිනි, එසේ ය, සඳහිරුන් උදා වන කල්හිත් බස්නා කල්හිත් තෙවිද්‍ය බමුණෝත් අන් බොහෝ දෙනාත් ඔවුන් යදිත් ඔවුනට ස්තෝත්‍ර කෙරෙත් දෙහොත් මුදුන් තබා වඳනාහු ඔබ මොබ පෙරළෙත්"

15 ''තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, යං පස්සන්ති තෙවිජ්ජා බ්‍රාහ්මණා චන්දිමසුරියෙ අඤ්ඤෙ චාපි බහුජනා, යතො ච චන්දිමසුරියා උග්ගච්ඡන්ති, යත්ථ ච ඔගච්ඡන්ති, ආයාචන්ති ථොමයන්ති පඤ්ජලිකා නමස්සමානා අනුපරිවත්තන්ති, පහොන්ති තෙවිජ්ජා බ්‍රාහ්මණා චන්දිමසුරියානං සහව්‍යතාය මග්ගං දෙසෙතුං: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස චන්දිමසුරියානං සහව්‍යතායා''?ති

''නො හිදං භො ගොතම''

16. ඉති කිර වාසෙට්ඨ යං පස්සන්ති තෙවිජ්ජා බ්‍රාහ්මණා චන්දිමසුරියෙ, අඤ්ඤෙ චාපි බහූ ජනා, යතො ච චන්දිමසුරියා උග්ගච්ඡන්ති, යත්ථ ච ඔගච්ඡන්ති, ආයාචන්ති ථොමයන්ති පඤ්ජලිකා නමස්සමානා අනුපරිවත්තන්ති, තෙ'පි නප්පහොන්ති චන්දිමසුරියානං සහව්‍යතාය මග්ගං දෙසෙතුං: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස චන්දිමසුරියානං සහව්‍යතායාති කිං පන, න කිර තෙවිජ්ජෙහි බ්‍රාහ්මණෙහි බ්‍රහ්මා සක්ඛි දිට්ඨො. න පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං ආචරියෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො න පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං ආචරියපාචරියෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො. න පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං යාව සත්තමා ආචරියමහයුගෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො 'යෙ'පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො, යෙසමිදං එතරහි තෙවිජ්ජා බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමූහිතං, තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති, සෙය්‍යථිදං: අට්ඨකො වාමකො වාමදෙවො වෙස්සාමිත්තො යමතග්ගි අඞ්ගීරසො භාරද්වාජො වාසෙට්ඨො කස්සපො භගු. තෙ'පි න එවමාහංසු: මයමෙතං ජානාම, මයමෙතං පස්සාම, යත්ථ වා බ්‍රහ්මා යෙන වා බ්‍රහ්මා යහිං වා බ්‍රහ්මා'ති තෙ වත තෙවිජ්ජා බ්‍රාහ්මණා එවමාහංසු: යං න ජානාම යං න පස්සාම, තස්ස සහව්‍යතාය මග්ගං දෙසෙම. අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතායා''ති

''තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, නනු එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?''ති

''අද්ධා ඛො භො ගොතම එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී'' ති

17 සාධු වාසෙට්ඨ තෙ වත වාසෙට්ඨ තෙවිජ්ජා බ්‍රාහ්මණා යං න ජානන්ති යං න පස්සන්ති තස්ස සහව්‍යතාය මග්ගං දෙසෙස්සන්ති: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතායාති නෙතං ඨානං විජ්ජති ති

15. [භාග්‍යවත්හු] ' වාසෙට්ඨය, ඒ කිමැයි සිතයි ද, යම් හෙයෙකින් සඳහිරුන් නැඟෙන බසින වේලාවන්හි තෙවිද්‍ය බමුණන් හා අන් බොහෝ දෙනාත් සඳහිරුන් දකිත් ද, දයදිත් ද, ඔවුනට සොත්‍ර කෙරෙත් ද, දෙහොත් මුදුනැ තබා වඳනාහු ඔබ මොබ පෙරළෙත් ද, එහෙයින් ඒ තෙවිද්‍ය බමුණෝ 'එය අනුව පිළිපදනාහට සඳහිරුන් හා එක් වනුවට මේ ම ඉදි මග යැ, මේ ම ඉදුරා මග යැ, ඔවුන් හා එක්වනුවට මේ නෛර්යාණික මාර්ගය ම වේ යැ' යි සඳහිරුන් හා එක් වනුවට මග දෙසන්නට හැකි වෙත් ද?''

[වාසෙට්ඨ] ''භවද් ගෞතමයිනි, මෙය නො ම වන්නෙකි.''

16 [භාග්‍යවත්හු] වාසෙට්ඨය, මෙසේ යම් හෙයෙකින් තෙවිද්‍ය බමුණෝ අන් බොහෝ දෙනාත් සඳහිරුන් නැගෙන කල්හිත් බස්නා කල්හිත් සඳ-හිරුන් දකිත් ද, අයදිත් ද, ඔවුනට සොත්‍ර කෙරෙත් ද, දෙහොත් මුදුනැ තබා වඳනාහු ඔබ මොබ පෙරළෙත් ද, ඔහු පවා 'එය පිළිපදනාහට සඳහිරුන් හා එක් වීමට මෙය ම ඉදි මග ය, මෙය ම ඉදුරා මග ය මෙය ම නෛර්යාණික වූයේ සඳහිරුන් හා එක් වීමට යේ' යැ යි සඳහිරුන් හා එක් වන බවට මග දෙසන්නට නො සමත්හ. තෙවිද්‍ය බමුණන් විසින් බඹා සියැසින් නො දක්නා ලද්දේ ල තෙවිද්‍ය බමුණනගේ ඇදුරන් විසින් බඹා සියැසින් නො දක්නා ලද්දේ ල තෙවිද්‍ය බමුණන්ගේ ආචාර්‍ය ප්‍රාචාර්‍යයන් විසිනුදු බඹා සියැසින් නො දක්නා ලද්දේ ල තෙවිද්‍ය බමුණන්ගේ සත්වන ඇදුරුමහ යුගය තෙක් ද කිසිවකු විසිනුත් බඹා සියැසින් නො දක්නා ලද්දේ ල තෙවිද්‍යබමුණෝ යම් කෙනෙකුන් විසින් ගයන ලද, කියන ලද, රැස් කරන ලද මේ මන්ත්‍රපද ඔවුන් අනුව ගයත් නම්, ඔවුන් අනුව කියත් නම්, ඔවුන් හදාළා අනුව හදරත් නම් ඔවුන් කියවූවා අනුව කියවත් නම්, තෙවිද්‍ය බමුණන්ගේ පූර්වපුරුෂ වූ, මන්ත්‍රකර්තෘ වූ, මන්ත්‍ර පැවැත්වූ ඒ අට්ඨක වාමක වාමදෙව විශ්වා-මිත්‍ර යමතග්ගි අඞ්ගිරස භාරද්වාජ වාසෙට්ඨ කශ්‍යප භගු යන ඍෂිහු ද බඹහු වසන දෙස බඹහු වසනා පෙදෙස අපි දනිමු යි අපි දකිමු යි මෙසේ නො කීහ එහෙත් ඒ තෙවිද්‍ය බමුණෝ 'යමකු නො දන්නෙමෝ නම්, යමකු නො දක්නෙමෝ නම්, ඔහු සමග එක් වන බව පිණිස මග දෙසමු' යි මෙය ම ඉදිමගය, මෙය ම ඉදුරා මග යැ' මෙය පිළිපදනානට නෛර්යාණික වූයේ බඹහු හා එක්වනුවට යේ යැ යි මෙසේ කියත්

''වාසෙට්ඨය, එය කිමැ යි සිතනි ද, මෙසේ ඇති කල්හි තෙවිද්‍ය බමුණන්ගේ වචනය ප්‍රතිහරණ රහිතයෙක් නො වේ ද?''

[වාසෙට්ඨ] ''භවද් ගෞතමයිනි, මෙසේ ඇති කල්හි තෙවිද්‍ය බමුණන්ගේ වචනය ඒකාන්තයෙන් ප්‍රතිහරණ රහිත වේ''

17 [භාග්‍යවත්හු] වාසෙට්ඨය, [illegible] ''[illegible] මග ය, මෙය ම ඉදුරා මග ය. මෙය ම නෛර්යාණික ය. [illegible] පිළි-පදින්නාහට බ්‍රහ්මයා හා එක් වන බවට [illegible] නමින් නොදන්නා නොදක්නා ඒ කෙනෙකුගේ සහභාවය පිණිස මග දේශනා කරන්නාහ යන මේ කාරණය නැත්තේ ය

18 සෙය්‍යථාපි වාසෙට්ඨ පුරිසො එවං වදෙය්‍ය: අහං ඛො යා ඉමස්මිං ජනපදෙ ජනපදකල්‍යාණී, තං ඉච්ඡාමි තං කාමෙමී'ති තමෙනං එවං වදෙය්‍යුං: අම්භො පුරිස, යං ත්වං ජනපදකල්‍යාණිං ඉච්ඡසි කාමෙසි, ජානාසි තං ජනපදකල්‍යාණිං ඛත්තියී[1] වා බ්‍රාහ්මණී[2] වා වෙස්සී[3] වා සුද්දී[4] වා?'ති ඉති පුට්ඨො 'නො'ති වදෙය්‍ය තමෙනං එවං වදෙය්‍යුං "අම්භො පුරිස යං ත්වං ජනපදකල්‍යාණිං න ජානාසි, න පස්සසි, එවංනාමා වා එවංගොත්තා වා, දීඝා වා රස්සා වා මජ්ඣිමා වා කාළී වා සාමා වා මඞ්ගුරච්ඡවී වා'ති, අමුකස්මිං ගාමෙ වා නිගමෙ වා නගරෙ වා" ති ඉති පුට්ඨො 'නො'ති වදෙය්‍ය තමෙනං එවං වදෙය්‍යුං: "අම්භො පුරිස යං ත්වං න ජානාසි, න පස්සසි, තං ත්වං ඉච්ඡසි කාමෙසී "ති ඉති පුට්ඨො 'ආමො'ති වදෙය්‍ය තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ නනු එවං සන්තෙ තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?" ති

"අද්ධා ඛො භො ගොතම තස්ස පුරිසස්ස අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී"ති.

19. එවමෙව ඛො වාසෙට්ඨ න කිර තෙවිජ්ජෙහි බ්‍රාහ්මණෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො. නපි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං ආචරියෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො. නපි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං ආචරියපාචරියෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො. නපි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං යාව සත්තමා ආචරියමහයුගෙහි බ්‍රහ්මා සක්ඛිදිට්ඨො යෙ'පි කිර තෙවිජ්ජානං බ්‍රාහ්මණානං පුබ්බකා ඉසයො මන්තානං කත්තාරො මන්තානං පවත්තාරො යෙසමිදං එතරහි තෙවිජ්ජා බ්‍රාහ්මණා පොරාණං මන්තපදං ගීතං පවුත්තං සමූහිතං තදනුගායන්ති තදනුභාසන්ති භාසිතමනුභාසන්ති වාචිතමනුවාචෙන්ති, සෙය්‍යථීදං අට්ඨකො වාමකො වාමදෙවො වෙස්සාමිත්තො යමතග්ගි අඞ්ගීරසො භාරද්වාජො වාසෙට්ඨො කස්සපො භගු, තෙ'පි න එවමාහංසු මයමෙතං ජානාම මයමෙතං පස්සාම යත්ථ වා බ්‍රහ්මා යෙන වා බ්‍රහ්මා යහිං වා බ්‍රහ්මා'ති තෙ වත තෙවිජ්ජා බ්‍රාහ්මණා එවමාහංසු: යං න ජානාම යං න පස්සාම, තස්ස සහව්‍යතාය මග්ගං දෙසෙම: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතායා' ති තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, නනු එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී?"ති.

"අද්ධා ඛො භො ගොතම එවං සන්තෙ තෙවිජ්ජානං බ්‍රාහ්මණානං අප්පාටිහීරකතං භාසිතං සම්පජ්ජතී" ති.

20. සාධු වාසෙට්ඨ තෙ වත වාසෙට්ඨ, තෙවිජ්ජා බ්‍රාහ්මණා යං න ජානන්ති, යං න පස්සන්ති, තස්ස සහව්‍යතාය මග්ගං දෙසෙස්සන්ති: අයමෙව උජුමග්ගො අයමඤ්ජසායනො නිය්‍යානිකො නිය්‍යාති තක්කරස්ස බ්‍රහ්මසහව්‍යතායා' ති නෙතං ඨානං විජ්ජති ති.

---

1 ඛත්තියිං, සයා
2 බ්‍රාහ්මණිං, සයා
3 වෙස්සිං, සයා
4 සුද්දිං, සයා

18 වාසෙට්ඨය, යම්සේ පුරුෂයෙක් 'මම වනාහි මේ දනව්වෙහි යම් දනවුකැලණියක් ඇත් ද, ඇය රිසියෙමි, ඇය කැමැත්තෙමි'යි මෙසේ කියන්නේ නම්, ඔහුට අන්‍යයෝ "එම්බා පුරුෂය, තෝ යම් දනවුකැලණිය රිසියෙහි නම්, කැමැත්තෙහි නම්, ඒ දනවුකැලණ ක්ෂත්‍රියකුල කතක් හෝ යි, බමුණු කුලකතක් හෝ යි, වෛශ්‍ය කුල කතක් හෝ යි, ශුද්‍රකුල කතක් හෝ යි දන්නෙහි ද?"යි මෙසේ කියන්නාහු ය. මෙසේ විචාරන ලද්දේ, 'නො දනිමි'යි හෙ තෙම කියන්නේ ද, ඔහුට අන්‍යයෝ "එම්බා පුරුෂය, තා රිසියෙන, තා කැමැති ඒ දනවුකැලණ මෙනම් ඇත්යි යැ යි හෝ මෙ ගොත් ඇත්තී යැ යි හෝ උස් යැ යි හෝ මිටි යැ යි හෝ මැදුම් යැ යි හෝ කළුපැහැ යි හෝ සම්වණ්‍ය යි හෝ මඟුරුපැහැ ඇත්තී යැ යි හෝ, අසෝ ගමැ හෝ නියම්ගමැ හෝ නුවරැ හෝ වේ යැ යි දන්නෙහි ද?"යි මෙසේ විචාරන ලද්දේ, 'නැතැ'යි කියන්නේ ද, ඔහුට අන්‍යයෝ මෙසේ කියන්නාහු ය. "එම්බා පුරුෂය, තෝ යමක නො දක්නෙහි නම්, නො දන්නෙහි නම්, ඇය තෝ රිසියෙහි ද කැමැත්තෙහි ද?"යි මෙසේ විචාරන ලද්දේ, 'එසේ යැ' යි කියන්නේ ද, වාසෙට්ඨය, මෙසේ ඇති කල්හි ඒ පුරුෂයාගේ වචනය ප්‍රතිහරණරහිතයක් කරන ලද්දේ නො වේ ද?

[වාසෙට්ඨ:] "භවද් ගෞතමයෙනි, මෙසේ ඇති කල්හි ඒ පුරුෂයාගේ වචනය ඒකාන්තයෙන් ප්‍රතිහරණරහිතයක් කරන ලද්දේ වෙයි"

19 [භාග්‍යවත්හු] වාසෙට්ඨයෙනි, එපරිද්දෙන් ම තෙවිදු බමුණන් විසින් බඹා සියැසින් දක්නා ලද්දේ නො වෙයි. තෙවිදු බමුණන්ගේ ඇදුරන් විසිනුදු බඹා සියැසින් දක්නා ලද්දේ නො වෙයි. තෙවිදු බමුණන්ගේ ආචාර්යප්‍රාචාර්යන් විසිනුදු බඹා සියැසින් දක්නා ලද්දේ නො වෙයි. තෙවිදු බමුණන්ගේ සත්වන ඇදුරුමහයුගය තෙක් වූවන් විසිනුදු බඹා සියැසින් දක්නා ලද්දේ නො වෙයි. අට්ටක වාමක වාමදෙව වෙස්සාමිත්ත යමතග්ගි අඞ්ගිරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු යන යම් කෙනෙකුන් විසින් ගයන ලද පවත්වන ලද රැස් කරන ලද මේ මන්ත්‍ර පද ඔවුන් අනුව ගයත් නම්, ඔවුන් අනුව කියත් නම්, ඔවුන් කීම අනුව කියත් නම්, කියැවීම අනුව කියවත් නම්, ඒ තෙවිදු බමුණන්ගේ පූර්ව-පුරුෂ වූ මන්ත්‍රකර්තෘවූ මන්ත්‍රප්‍රවර්තයිතෘ වූ යම් ඍෂි කෙනෙක් වූහු නම්, ඔහු ද බඹහු සිටිනා තැන හෝ දෙස හෝ පෙදෙස හෝ අපි දනිමු යි අපි දකිමු යි නො කිහ. එහෙත් ඒ තෙවිදු බමුණෝ "මෙය ම ඍජු මඟ ය, මෙය ම ඉදුරා මඟ ය, මෙය ම නෛර්යාණික වූයේ එය පිළිපදනහුට බඹහු හා එක් වනුවට යේ යැ' යි යමකු අපි නො දනුමෝ නම් යමකු නොදකුමෝ නම්, ඔහු හා සහභාවය පිණිස මඟ දක්වමු'යි මෙසේ කියත් වාසෙට්ඨයිනි, ඒ කිමැ යි සිතහි ද මෙසේ ඇති කල්හි තෙවිදු බමුණන්ගේ වචනය ප්‍රතිහරණ රහිත නො වේ ද?"

[වාසෙට්ඨ] "භවද් ගෞතමයිනි, මෙසේ ඇති කල්හි තෙවිදු බමුණන්ගේ වචනය ඒකාන්තයෙන් ප්‍රතිහරණරහිත වෙයි"

20 [භාග්‍යවත්හු] මැනැව, වාසෙට්ඨයිනි තෙවිදු බමුණෝ තුමූ යමකු නොදන්නාහු නම්, නො දක්නාහු නම්, ඒ බඹහු හා එක්වනුවට මෙය ම ඍජු මඟ ය, මෙය ම ඉදුරා මඟ ය, එය පරිදි පිළිපදනාහට බ්‍රහ්ම-සහභාවය පිණිස මේ මඟ ම නෛර්යාණික වන්නේ යැ' යි මඟ දෙසන්-නාහ යන මේ කාරණය අවිද්‍යමාන ය (නොවිය හැක්කේය).

"නො හිදං භො ගොතම"

25 එවමෙව ඛො වාසෙට්ඨ තෙවිජ්ජා බ්‍රාහ්මණා යෙ ධම්මා බ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ පහාය වත්තමානා, යෙ ධම්මා අබ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ සමාදාය වත්තමානා එවමාහංසු ඉන්දමව්හයාම, සොමමව්හයාම, වරුණමව්හයාම, ඊසානමව්හයාම, පජාපතිමව්හයාම, බ්‍රහ්මමව්හයාම, මහින්දමව්හයාම යාමමව්හයාමා'ති තෙ වත වාසෙට්ඨ තෙවිජ්ජා බ්‍රාහ්මණා යෙ ධම්මා බ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ පහාය වත්තමානා, යෙ ධම්මා අබ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ සමාදාය වත්තමානා, අව්හානහෙතු වා ආයාචනහෙතු වා පත්ථනාහෙතු වා අභිනන්දනහෙතු වා කායස්ස භෙදා පරම්මරණා බ්‍රහ්මුණො[1] සහව්‍යූපගා භවිස්සන්තීති නෙතං ඨානං විජ්ජති.

26 සෙය්‍යථාපි වාසෙට්ඨ අයං අචිරවතී නදී පූරා උදකස්ස සමතිත්තිකා කාකපෙය්‍යා, අථ පුරිසො ආගච්ඡෙය්‍ය පාරත්ථිකො පාරගවෙසී පාරගාමී පාරං තරිතුකාමො, සො ඔරිමෙ තීරෙ දළ්හාය අන්දුයා[2] පච්ඡාබාහං ගාළ්හබන්ධනං බද්ධො, තං කිම්මඤ්ඤසි වාසෙට්ඨ, අපි නු සො පුරිසො අචිරවතියා නදියා ඔරිමා තීරා පාරිමං තීරං ගච්ඡෙය්‍යා?'' ති

"නො හිදං භො ගොතම"

27 "එවමෙව ඛො වාසෙට්ඨ පඤ්චිමෙ කාමගුණා අරියස්ස විනයෙ අන්දූ'ති'පි වුච්චන්ති බන්ධනන්තිපි වුච්චන්ති කතමෙ පඤ්ච? චක්ඛුවිඤ්ඤෙය්‍යා රූපා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා සොතවිඤ්ඤෙය්‍යා සද්දා -පෙ- ඝාණවිඤ්ඤෙය්‍යා ගන්ධා -පෙ- ජිව්හාවිඤ්ඤෙය්‍යා රසා -පෙ- කායවිඤ්ඤෙය්‍යා ඵොට්ඨබ්බා ඉට්ඨා කන්තා මනාපා පියරූපා කාමූපසංහිතා රජනීයා ඉමෙ ඛො වාසෙට්ඨ පඤ්ච කාමගුණා අරියස්ස විනයෙ අන්දූති'පි වුච්චන්ති බන්ධනන්ති'පි වුච්චන්ති ඉමෙ ඛො වාසෙට්ඨ පඤ්චකාමගුණෙ තෙවිජ්ජා බ්‍රාහ්මණා ගථිතා මුච්ඡිතා අජ්ඣොපන්නා අනාදීනවදස්සාවිනො අනිස්සරණපඤ්ඤා පරිභුඤ්ජන්ති

28 තෙ වත වාසෙට්ඨ තෙවිජ්ජා බ්‍රාහ්මණා යෙ ධම්මා බ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ පහාය වත්තමානා, යෙ ධම්මා අබ්‍රාහ්මණකරණා තෙ ධම්මෙ සමාදාය වත්තමානා, පඤ්චකාමගුණෙ ගථිතා මුච්ඡිතා අජ්ඣොපන්නා අනාදීනවදස්සාවිනො අනිස්සරණපඤ්ඤා පරිභුඤ්ජන්තා කාමන්දුබන්ධනබද්ධා කායස්ස භෙදා පරම්මරණා බ්‍රහ්මුනො සහව්‍යූපගා භවිස්සන්තීති නෙතං ඨානං විජ්ජති

1 බ්‍රහ්මානං PTS    2 රජ්ජුයා, සකා

